# 1

එකෝමත් එක කාලෙක මරියා කියලා ගණිකාවක් හිටියා. පොඩ්ඩක් ඉන්න.!!! ''එකෝමත් එක කාලෙක '' කියලා පටන් ගන්නේ බොහොම ජනප්‍රිය ළමා කතන්දරවලනේ. ඒ වාගේම ''ගණිකාව'' කියන වචනේ වැඩිහිටි වචනයක් නෙ. මම කොහොමද එච්චර පහසුවෙන් ඒ වගේ පරස්පරතාවකින් මේ කථාව පටන් ගන්නේ? ඒත් අපේ ජීවිතේ ගතවන හැම මොහොතකදීම අපේ එක පියවරක් සුරංගනා කථාවකත් අනෙක් පියවර මහා ආගාධයකත් තමයි තියෙන්නේ. අපි මේ කථාව මෙහෙම ආරම්භ කරමු.

එකෝමත් එක කාලෙක මරියා කියල ගණිකාවක් හිටිය. අනිත් හැම ගණිකාවක් වගේම ඇයත් ඉපදුණේ අහිංසකව හා කන්‍යාවක් විදියටයි. වැඩිවියට පත්වෙච්ච කෙනෙක් හැටියට ඇයත් ඇගේ හීන කුමාරයෙක් ගැන (පොහොසත්, කඩවසම්, බුද්ධිමත් ) ලස්සන විවාහ මංගල්‍යයක් ගැන (විසිතුරු මංගල ඇඳුමකින් යුත්) දරුවො දෙන්නෙක් ගැන (ලොකු වුණාම හුඟක් ප්‍රසිද්ධ පුද්ගලයො වෙන) ලස්සන ගෙදරක ජීවත් වෙන්නත් (මුහුද අද්දර) සිහින මැව්වා. ඇගේ තාත්තා තැනින් තැන වෙළෙඳාමේ යන කෙනෙක්. අම්මා ඇඳුම් මහන්නියක්. බ්‍රසීලයේ හුඟාක් ඇතුළට වෙන්න පිහිටලා තිබුණු ඇගේ ගමේ තිබුණේ එක සිනමා ශාලාවකුත්, එකම එක සමාජ ශාලාවකුත්, බැංකුවකුත් විතරයි. ඒ හින්දා මරියා නිතරම හීන මැව්වා දවසක ඇගේ හීන කුමාරයා නොකියාම ඇවිල්ලා ඇයව ඔසවාගෙන යයි කියලා. එතකොට පුළුවන් ඔවුන්ට මුළු ලෝකෙම ජයගන්න.

ඇගේ හීන කුමාරයා එතකං ඇයට කරන්න පුළුවන් වුණේ හීන බලන එක විතරයි. ඇය පළමු වතාවට ආදරෙන් වෙළුණේ

ඇයට වයස එකොළහේදී. ඒ ගෙදර ඉඳන් පාසලට යන අතරතුරේදී. පාසල් වාරයේ පළවෙනි දවසේදීම ඇයට තේරුම් ගියා ඇය තනිවම පාසල් නොයන බවත්, ඇගේ කාලසටහනටම පාසලට යන අසල්වැසි පිරිමි ළමයකුත් ඒ පාරේම යනවා කියලත්. ඔවුන් කිසිදු වචනයක් හුවමාරු නොකරගත්තත් හිමින් හිමින් මරියා තේරුම් ගත්තා ඇයට නම් දවසේ හොඳම වෙලාව පාසලට යන අතරතුර කාලයයි කියලා. දූවිල්ලෙන් වැසී ගත්, පිපාසිත හා විඩාබර හිරු රශ්මිය දැඩිව වැටෙන මොහොතේ ඒ පිරිමි ළමයා ඉක්මනින් ඇවිදගෙන යන අතර ඈත් වෙහෙස නොබලා අඩිය ඉක්මන් කළා.

මේ සිදුවීම මාස ගණනාවක් තිස්සේ එක දිගට සිද්ධ වුණා. පාඩම් වැඩ අප්‍රිය කළ මරියාගේ ජීවිතයේ අනෙක් අවධානය යොමු වුණේ රූපවාහිනිය නැරඹීමටයි. දවස ඉක්මනින් ගතවේවායි ඇය නිතරම ප්‍රාර්ථනා කළා. ඇය ඉස්කෝලෙට යන ගමන එනකම් මහත් වුවමනාවෙන් බලන් හිටිය. ඇගේ වයසේ අනෙක් දැරියන්ට වගේ ඇයට නම් සති අන්තය ප්‍රබෝධමත් එකක් වුණේ නැහැ. වැඩිහිටියකුට වඩා කුඩා දරුවකුට දී තිබූ කාලය ගතවුණේ ඉතාමත් හෙමින්. දවස මෙතරම් දිගුවීම ගැන ඇය හුඟාක්ම දුක් වුණේ ඇගේ ආදරවන්තයා මුණගැහෙන්න කාලය අවසර දුන්නේ මිනිත්තු දහයක් වැනි සුළු කාලයකට විතරක් නිසයි. අනෙක් පැය දහස් ගණනක කාලය ඉඩ දුන්නේ ඔහු ගැන සිතමින් ඔවුන්ට කතා කරන්නට ඉඩ ලැබෙනවා නම් එය කොතරම් හොඳදැයි සිතීමටයි.

ඊට පස්සේ ඒකත් සිද්ධ වුණා.

එක් උදෑසනක ඉස්කෝලෙ යන අතරමඟ අර පිරිමි ළමයා ඇය ළඟට ඇවිල්ලා පැන්සලක් ඉල්ලුවා. මරියා උත්තර දුන්නේ නැහැ. ඒ වෙනුවට, මේ අනපේක්ෂිත ළංවීම ඇයව ඉතාම අපහසුතාවට පත් කළා. ඇය අඩිය ඉක්මන් කළා. ඔහු තමා වෙත එනවා දැකපු ඇය භයෙන් බිරාන්ත වුණා. ඇයට බය හිතුණා ඇගේ ආදරය ඔහුට දැනෙයිදෝ කියලා, ඔහු එනකං ඇය කොතරම් බලන් හිටියද කියලා. ඔහුගේ අතින් අල්ලාගෙන ඉස්කෝලෙ ගේට්ටුව පහු කරගෙන පාර ඉවර වෙනකං ගිහිං අර මිනිස්සු කතා වෙන සුපිරි සිනමා තරු, ලස්සන කාර්, සිනමා ශාලා සහ ඉමක්

නැති විනෝදාස්වාදය ඇති විශාල නගරයට ඇවිදන් යන්නට ඇය හීන මැව්වා.

මුළු දවස පුරාම අමුතු හැසිරීමකින් පීඩා වින්ද ඇයට පාඩම් වැඩට අවධානය යොමු කරන්න බැරි වුණා. නමුත් ඒත් එක්කම ඇයට සැනසීමට කාරණයක් ද තිබුණා. ඒ මොකද, ඇය දැනගෙන හිටියා ඒ පිරිමි ළමයත් ඇය ගැන සෙවිල්ලෙන් හිටිය බව, පැන්සල ඉල්ලපු එක ඇය එක්ක කථාවට වැටෙන්න යොදපු උපාය මාර්ගයක් විතරක් බව. මොකද ඔහු තමන් ළඟට එනකොටත් ඇය දැක්කා ඔහුගේ පොකට්ටුව ඇතුළෙ පෑනක් තියෙනවා කියලා. ඇය ඊළඟ වාරය එනකං හිටියා. එදා රාත්‍රියේත්, පසුව පැමිණි රාත්‍රීන්හීත් නිමක් නොවන කථාව ඔහුට කියන්නට හොඳ විදිහක් හොයා ගන්නකං නැවත නැවතත් ඒ ගැන ඇය කල්පනා කළා.

ඒත් නැවත වාරයක් පැමිණියේ නැහැ. කොහොම වුණත් ඔවුන් දිගටම එකට පාසල් ගියා. වරෙක මරියා ඔහුට පියවර කිහිපයක් ඉදිරියෙන් පැන්සලක් අතේ මිට මොලවාගෙනත්, තවත් සමහර වෙලාවකදි ඔහුට ටිකක් පිටුපසින් ඔහු දෙස නෙත් කොණින් බලමිනුත් ගමන් කළා. ඔහු නැවත කිසිදු වචනයක් පැවසුවේ නැහැ. ඇයට සිදුවුණා ආදරයත්, වේදනාවත් දරාගෙන පාසල් වාරය නිමාවන තෙක්ම නිහඬව ඉන්න.

වෙහෙසකර, නිමක් නැති පාසල් නිවාඩුව අතරතුර එක් උදෑසනක අවදි වූ ඇය දුටුවා ඇගේ කකුල් දෙකේ ලේ ගෑවිලා තියෙනවා. ඇයට හිතුණේ ඇය මැරෙන්න යනවා කියලයි. ඇය ඇගේ සදාකාලික ආදරය ඔහු බව  සඳහන් කරමින් ඔහුට ලියුමක් ලියන්න තීරණය කළා. ඊට පස්සේ ඝන කැලෑවට ගිහිල්ලා ගම්මු බිය වද්දන ඒ නපුරු සත්තු දෙන්නාගෙන් එක් කෙනකු අතින් නිසැකවම මැරෙන්න තීරණය කළා. ඒ ''වර්වුල්ෆ් '' (Werewolf) හෝ ''මුලා - සෙම් කැබෙසා '' (Mula-Sem-Cabeza) අතින්. (දැන් කොටලුවකු බවට පත්වෙලා රාත්‍රී කාලයේ සැරිසරන පූජකයාගේ හොර අඹුව) අතින්. ඒ ආකාරයට ඇගේ දෙමාපියන් ඇගේ මරණය ගැන දුක් නොවී හිටීවි. ඒ වුණත් නිරන්තරයෙන් මුහුණ දෙන්නට වන කරදර හිරිහැර හින්දා දුප්පතුන් හැම විටම බලාපොරොත්තු සහගතයි. ඒ නිසා ඔවුන් හිතන්නට පෙළඹෙනු ඇත්තේ කවුරු හරි දරුවන් නැති පොහොසත් පවුලක් ඇයව

පැහැරගෙන ගිහිං ඇතැයි කියලාත්, කවදා හෝ දිනක පොහොසත්, ප්‍රසිද්ධ කෙනෙක් වෙලා නැවත එතැයි කියලාත්. තම ආදරය ඇයට නොපැවසීම ගැන තමාවම පීඩාවට පත්කර ගනිමින් ඇගේ ආදරය (සදාතනික) ඇයව කවදාවත් අමතක නොකරනු ඇති.

ඇයට නම් ඒ ලියුම කවදාවත් ලියන්න ලැබුණේ නැහැ. මොකද , ඇගේ මව කාමරයට පැමිණියා. ලේ පැල්ලම් සහිත ඇඳ ඇතිරිල්ල දැක සිනාසී

''දැන් ඔයා තරුණ ගැනු ළමයෙක් ''කියලා කිව්වා.

මරියා පුදුම වුණා ඇගේ කකුල් අතර තිබූ ලේ පැල්ලමත් ඇය තරුණියක් වීමත් අතර සම්බන්ධය මොකක්ද කියලා. ඒත් ඇගේ මවට ඇය සෑහීමකට පත් විය හැකි තරමේ උත්තරයක් දෙන්න පුළුවන් වුණේ නැහැ. ඇය කිව්වේ ඒක සාමාන්‍ය සිදුවීමක් කියලයි. එදා ඉඳලා මාසෙට දවස් හතරක් පහක් කකුල් දෙක අතරේ කුඩා බෝනික්කකුගේ කොට්ටයක් වගේ දෙයක් රඳවාගෙන ඉන්න ඇයට සිද්ධ වුණා. පිරිමි ඔවුන්ගේ ලේ කලිසමේ හැමතැනම ගෑවෙන එක වළක්වා ගන්න බටයක් වගේ දෙයක් පාවිච්චි කරනවද කියලා මරියා අම්මගෙන් ඇහුවා. ඇයට ලැබුණු උත්තරේ වුණේ ඒක ගෑනුන්ට විතරක් සිද්ධවෙන දෙයක් කියලයි.

මරියා දෙවියන්ට පැමිණිලි කළා. නමුත් අවසානයේ දී ඇය මාස් ශුද්ධියට හුරුවුණා. කෙසේ වෙතත් පිරිමි ළමයා නොමැති වීමට නම් ඇයට හුරුවෙන්නට බැරි වුණා. තමාට ජීවිතයේ වඩාත්ම උවමනා කරන දෙයින් පලායාම ගැන ඇය ඇයටම දොස් පවරා ගත්තා. අලුත් පාසල් වාරය ආරම්භ වීමට කලින් දවසේ ඇය නගරයේ ඇති එකම පල්ලියට ගියා. එහිදී ඇය ශාන්ත අන්තෝනි මුනිඳු ඉදිරිපිට දිවුරමින් ප්‍රකාශ කළා, මුලින්ම ගිහින් ඔහුත් සමඟ කතා කරන්නට මුල පුරනවා කියලා.

පසු දින ඇගේ මව විසින් උත්සව අවස්ථාවන්ට විශේෂයෙන් මැසූ හොඳම ඇඳුමින් ඇය සැරසුණා. ඇය පාසල වෙත ගියේ නිවාඩු කාලය අවසන්වීම ගැන දෙවියන්ට ස්තූති කරමින්. ඒත් පිරිමි ළමයා පේන්න හිටියේ නැහැ. තවත් පීඩාකාරී සතියක් ගෙවී ගියා. ඇගේ පාසල් යහළුවන්ගෙන් ඔහු නගරය හැර ගිය බව ඇයට දැන ගන්නට ලැබුණා.

 

''එයා කොහෙද ඈත පළාතකට ගිහිං'' කව්දෝ කිව්වා.

ඒ මොහොතේ මරියාට හැඟුණා සමහර දේවල් හැමදාටම අහිමි වී යනවා කියලා. ඇය තේරුම් ගත්තා කොහේද ''ඈත ලෝකයක්'' කියලා තැනක් තියෙන බවත්, තමා ජීවත් වන නගරයට වඩා ලෝකය ඉතා විශාල එකක් බවත්, අවසානයේදී හැම විටම වඩා සුන්දර මිනිසුන් ඈත්වී යනවා කියලාත්. ඇයටත් මෙතනින් පිටවෙන්නට වුවමනා වුණත් ඇය තාමත් ලාබාල දැරියක්. කොහොම වුණත් ඇය ජීවත් වූ නගරයේ දූවිලි පිරි වීදි දෙස බලමින් තීරණය කළා තමාත් දවසක ඔහු ගමන් ගත් මාර්ගයේම ගමන් කරනවා කියලා. ඉන්පසු එළඹි නවවන සිකුරාදා දින ඇගේ ආගමේ සිරිතට අනුව සත්ප්‍රසාද මංගල්‍යයට සහභාගී වී මරියතුමියගෙන් ඉල්ලා සිටියා ඇයව කොහේ හෝ ඈතකට අරන් යන ලෙස.

ඇය දැඩි ශෝකයෙන් යුතුව කාලයක් ගත කළා. ඒ අතර ඈ ඔහු ගිය පෙදෙස ගැන සෙවීමට දැඩි උත්සාහයක් දැරුවා. ඒත් කිසිවකුත් දැන සිටියේ නැහැ ඔහුගේ දෙමාපියන් කොහේ ගියාද කියලා. මරියාට ලෝකෙ විශාල එකක් විදියට පේන්න පටන් ගත්තා. ආදරය කියන්නේ හරිම අනතුරුදායක දෙයක්. ඈත ස්වර්ගයේ ජීවත්වෙන මරියතුමියට පොඩි දරුවන්ගේ යාඥාවන්ට ඇහුම්කන් දෙන්න පුළුවන්කමක් නැහැ.

# 2

වසර තුනක් ගතවුණා. ඇය භූගෝලය, ගණිතය ඉගෙන ගත්තා. ඇය දිනපතා රූපවාහිනී නාට්‍ය බලන්න පටන් ගත්තා. පාසලේදී, ඇය පළමු ශෘංගාරාත්මක සඟරාව කියෙව්වා. ඇගේ ඒකාකාරී ජීවිතය ගැනත්, පන්තියේදී ඔවුන් කියාදෙන හිම, තලප්පා පැළඳගත් මිනිස්සු, මනබඳින ආබරණ පැළඳගත් ගැහැනු ගැන අත්විඳීමට ඇයට ඇති ආශාව විස්තර කරමින් ඇය දිනපොතක් ලියන්න පටන් ගත්තා. ඒත් කාටවත් බැහැ ඉටු නොවන හීන දකින්න. විශේෂයෙන් වෘත්තියෙන් ඇඳුම් මහන අම්මලා ඉන්න, කලාතුරකින් ගෙදර රැඳෙන තාත්තලා ඉන්න අයට. ඇය ඉක්මනින් තේරුම් ගත්තා මීට වඩා සැලකිල්ලෙන් යුක්තව අවට ලෝකය දෙස බැලිය යුතු බව. ඇය ජීවිතය සැපවත් කරගැනීම සඳහා අධ්‍යාපන කටයුතුවල නිරත වුණා. ඒ අතරම ඇයට ඇගේ ජීවිතයේ අත්දැකීම් සහ සිහින බෙදා ගැනීමට හැකි කෙනෙක් සෙව්වා. ඇය පහළොස්වෙනි වියට එළඹෙද්දී, ශුද්ධ වූ සතියේ පෙරහැරේදී හමුවූ පිරිමි ළමයෙකු සමඟ ආදරයෙන් වෙළුණා.

ඇය කුඩා කල සිදු කළ අත්වැරැද්ද නැවත කළේ නැහැ. ඔවුන් කතාබස් කළා, මිතුරු වුණා, එකට සිනමා ශාලාවට, සාදවලට ගියා. ඇය නිරීක්ෂණය කළා, හරියට පළවන පෙම්වතා සමඟ සිදුවුණා වගේ, ඒ අය ළඟ ඉන්න වෙලාවට වඩා ළඟ නැති වෙලාවට ඇය වඩා වැඩියෙන් ආදරය බෙදා ගන්නවා කියලා. ඇයට ඇගේ පෙම්වතා හැම වෙලාවෙම වගේ සිහිපත් වුණා. ඇය ඔහු හමුවූ විට කතාබහ කරන දෑ ගැන මෙනෙහි කළා. ඔවුන් එකට ගත කළ හැම තත්පරයක් ගැනම ආවර්ජනය කළා. ඇය කළ හරි දේ සහ වැරදි දේ ගැන අවබෝධ කරගන්නට මහන්සි ගත්තා.

ඇය තමා ගැන හිතන්න කැමති වුණේ තරුණ පළපුරුදු ගැහැනියක් විදියටයි. එනම්, වරක් ඇගෙන් ගිලිහී යන්නට ඉඩ දුන්, ඇය ජීවිතයේ දැඩිව අපේක්ෂා කළ දෙය අහිමි වීමෙන් ලද වේදනාව හොඳින් හඳුනාණ අයකු හැටියටයි. දැන් ඇය දැඩිව අධිෂ්ඨාන කළා තමාගේ සියලු ශක්තිය යොදා මේ පිරිමියා වෙනුවෙන් සටන් වැදී ඔහුව විවාහ කරගන්නවා කියලා. විවාහය, ළමයි, මුහුද ළඟ ගේ සඳහා ඔහු තමයි පිරිමියා කියලා ඇය තරයේ හිතා ගත්තා. ඇය ඇගේ මවට මේ ගැන කියන්න ගියා.

ඇගේ මව මහත් කරුණාවෙන් යුක්තව,

''ඒත් ඔයා තාම පොඩියිනේ, මගේ පැටියෝ ''

''ඔයා තාත්තව කසාද බැන්දෙ ඔයාට අවුරුදු දහසයෙදිනේ''

ඇගේ මව ඒ කතාව දුරදිග ගෙනියන්නට කැමති වුණේ නැහැ. මොකද, එහෙම වෙන්න හේතුව ඇගේ හදිසි ගැබ් ගැනීමයි. ඉතින් ඇය ''ඒ කාලේ මීට වැඩිය වෙනස් '' කියලා ඒ කතාව එතනින් හමාර කළා.

පසුදින මරියාත් ඇගේ පෙම්වතාත් ගම්බද ප්‍රදේශයේ ඇවිදින්න ගියා. ඒ ගොල්ලො ටිකක් කතාබහේ යෙදුණා. මරියා ඇහුවා ඔහු ඇවිදින්න කැමතිද කියලා. ඒත් එයට පිළිතුරක් දීම වෙනුවට ඔහු කළේ ඇගේ අතින් අල්ලාගෙන ඇයව සිප ගැනීමයි.

ඇගේ පළමු හාදුව. ඇය කොච්චර මේ ගැන හීන මැව්වද? අවට දසුනත් මනරම් එකක් වුණා. කොක්කු ඉගිලුණා, ඉර බැහැගෙන ගියා, ඒ අර්ධ ශුෂ්ක කලාපීය කැලෑබද සුන්දරත්වයට ඈතින් ඇහෙන සංගීතය මුසු වුණා. මරියා බොරුවට පස්සට ගියත් නැවත ඇය චිත්‍රපටවල, සඟරාවල, රූපවාහිනියේ හැමවිටම දැක තිබූ ආකාරයෙන් ඔහුව තදින් වැළඳ ගත්තා. ඇය ඇගේ දෙතොල් ඔහුගේ දෙතොල් මත මද උමතුවකින් හිස පැත්තෙන් පැත්තට හරවමින්, මඳ රිද්මයකින් දැඩිව තෙරපුවා. ඊළඟට ඇයට දැනුණා ඔහුගේ දිව ඇගේ දත් අතර ගැටෙනවා. ඇයට එහි මිහිරක් දැනුණා.

හදිසියේම ඔහු ඇයව සිපගැනීම නවත්වා මෙහෙම ඇහුවා.

''ඔයාට ඕනෙ නැද්ද?''

මොනවද ඇය කිවයුත්තේ? ඇයට ඕන වුණාද? පැහැදිලිවම! ඒත් ගැහැනියක් කවදාවත් එසේ අනෙකාට නිරාවරණය නොවිය

යුතුයි. විශේෂයෙන් තමා විවාහවීමට සිටින පිරිමියාට. නැත්තම් ඔහු හැම විටම ඇයව සැක කරන්නට පෙළඹෙන අතර ඇය ඕනෑම දෙයකට ලෙහෙසියෙන්ම කැමති කරවාගත හැකි ගැහැනියක් විදියට හිතන්න පුළුවන්. ඇය තීරණය කළා කිසිවක් නොකියා ඉන්න.

ඔහු ඇයව නැවතත් සිපගත්තා. ඒත් මේ පාර කලින් තරම් උද්යෝගයකින් නම් නොවේ. නැවතත් ඔහු නැවතුණා. ඔහුගේ මුහුණ රතුවෙලා තිබුණ. මේ පාර නම් මරියට තේරුණා මොකක් හරි ලොකු වැරැද්දක් වෙලා තියෙනවා කියලා. ඒත් ඒ ගැන ප්‍රශ්න කරන්න ඇය මැලි වුණා. ඇය ඔහුගේ අතින් අල්ලාගෙන වෙනත් දේ ගැන කතා කරමින්, හරියට කිසිවක් සිදු නොවූ විදියට නැවත නගරය දෙසට ගමන් කළා.

*　　*　　*

එදින රාත්‍රියේ - විශේෂ පද ගළපමින් ඇය විශ්වාස කළා තමන් දන් ලියන දේවල් කවදා හරි, කවුරු හරි කියවාවි කියලා. ඇයට තේරුම් ගියා කිසියම් වැදගත් දෙයක් සිදුවී ඇති බව. ඇය දිනපොතේ මෙහෙම ලිව්වා.

*අපිට කවුරු හරි මුණ ගැහිලා ආදරෙන් බැඳුණාම අපි හිතන්නේ මේ මුළු ලෝකෙම අපේ කියලයි. මම ඒක අද ඉර බැහැගෙන යන වෙලාවේ අත් වින්දා. ඒත් මොකක් හරි වැරැද්දක් සිද්ධ වුණාට පස්සේ සියල්ල මොහොතකින් නැතිවෙලා යනවා. කොක්කු පියාඹන්නෙවත්, දුරින් සංගීතය ඇහෙන්නෙවත් නැහැ. මිනිත්තු කිහිපයකට කලින් තිබුණ ඒ සුන්දරත්වය අතුරුදහන් වෙන්නේ කොහොමද?*

*ජීවිතය ඉතා ඉක්මනින් ගෙවෙනවා. ඒක අපව තත්පර කිහිපයක් ඇතුළත ස්වර්ගයේ ඉඳලා අපායට ඇදං යනවා.*

පසුදින ඇය ඇගේ මිතුරියන් එක්ක මේ කථාව කිව්වා. ඔවුන් හැම දෙනාම ඇය ''විවාහ ගිවිසගත් කෙනා '' සමඟ ඇවිදින්න යනවා දැකලා තියෙනවා. කොහොම වුණත්, කෙනකුගේ ජීවිතයට ආදරය පමණක් තිබූ පලියට වැඩක් නැහැ. ඔබ දැන සිටිය යුතුයි

අනෙක් අය ඔබ කොපමණ ආකර්ෂණීය පුද්ගලයකු ලෙස සිතා සිටිනවාද කියලා. ඔවුන් හැම දෙනාම නොඉවසිලිමත්ව ඇගෙන් තොරතුරු විමසුවා. මරියා, ඈ පිළිබඳ මහත් පිරිපුන් හැඟීමකින් යුතුව කිව්වා හොඳම අවස්ථාව වුණේ ඔහුගේ දිව ඇගේ දත් අතර ගැටුණු මොහොතයි කියලා. එක් යෙහෙළියක් හඬනඟා සිනාසුණා.

''ඇයි ඔයා කට ඇරියේ නැද්ද?''

මොහොතකින් ඇයට සියල්ල වැටහුණා. ඔහුගේ ප්‍රශ්නය, ඔහුගේ කනස්සල්ලට හේතුව.

''ඇයි ඒ මොකටද?''

''එයාගේ දිව ඔයාගේ කට ඇතුළට දාන්නනෙ''

''මොකක්ද ඒකෙන් ඇතිවන වෙනස?''

''ඒක තේරුම් කරලා දෙන්න පුළුවන් දෙයක් නෙමෙයි. එහෙම තමයි මිනිස්සු ඉඹින්නේ''

තමන්ට ආදරේ කරන්න පිරිමි ළමයකු නැති එක ගැන තරහෙනුත්, වෙච්ච දේ ගැන සතුටු වෙමිනුත් බොරු දුකක් මවා පාමිනුත් ඒ ගෑනු ළමයි උසුළු විසුළු කළා. මරියා කිසිවක් ගණන් නොගත්තා ආකාරයට ඔවුන් සමඟ සිනාසුණා. එත් ඇගේ හදවත හඬා වැටුණා. ඇය යටි සිතින් ඇය නැරඹූ චිත්‍රපටිවල දර්ශන වලට සාප කළා. ඒවා තුළින් තමයි ඇය ඉගෙන ගත්තේ ඇස් පියාගෙන පිරිමියාගේ ඔළුවට අත තියලා හිස එහාට මෙහාට පද්දමින් සිපගන්න. නමුත් අත්‍යවශ්‍යම දේ පෙන්නන්න ඒ චිත්‍රපටිවලට පුළුවන් වෙලා නැහැ. ඇය හිත හදාගන්න සුදුසු කාරණාවක් හදාගෙන (මම එකපාරටම ඒ වගේ දේකට ගියේ නැත්තේ මට ඒ ගැන එච්චර විශ්වාසයක් තිබුණේ නැති නිසයි. ඒත් මම දැන් දන්නවා ඔයා තමයි මගේ ජීවිතේ ආදරය කියලා.) ඊළඟ අවස්ථාව එනතෙක් බලන් හිටියා.

ඇය ඔහුව දවස් තුනක් පහුවෙනකං දැක්කේ නැහැ. නගරයේ සමාජ ශාලාවේ පැවති උත්සවයකදී ඔහු ඇගේ මිතුරියකගේ අතින් අල්ලාගෙන හිටියා. ඒ ඇගෙන් එදා සිපගැනීම ගැන විමසූ තරුණියයි. ඇය නැවතත් කිසි දෙයක් සිදුනොවූ ලෙසට හැසිරුණා. එදා හැන්දෑව ඉවර වෙනකං ඇය ඔරොත්තු දී සිටියේ ඇගේ මිතුරියන් සමඟ සිනමා තළු නිළියන් ගැනත් ගමේ පිරිමි ළමයි

ගැනත් කතා කරමින්. ඇය සිය මිතුරියන්ගේ අනුකම්පාසහගත බැලුම් මඟහරිමින් හිටියා. ගෙදර පැමිණී වහාම ඇගේ ලෝකය කරකැවෙන්නට වුණා. ඇය මුළු රාත්‍රියේම ඇඬුවා. ඊළඟ මාස අටක් පුරාවට ඒ ගැන තැවෙමින් ඇය තීරණය කළා, ආදරය ඇයට හිමි නොවන බවත්, ඇය ආදරය ලැබීමට සුදුසු අයකු නොවන බවත්. ඇය කල්පනා කළා කන්‍යා සොයුරියක් වෙන්නට, ඇගේ ප්‍රේමය කිසිදා හිත නොරිදන, කිසිදා වේදනාත්මක කැළලක් ඉතිරි නොකරන ප්‍රේමයක් වෙනුවෙන් පරිත්‍යාග කරන්නට. ජේසුස් වහන්සේට ප්‍රේම කරන්නට. පාසලේදී ඔවුන් ඉගෙන ගත්තා අප්‍රිකාවට ගිය මිෂනාරීවරුන් ගැන. ඇය කල්පනා කළා මේ වේදනාත්මක පැවැත්මෙන් ගැළවෙන්න මඟක්. ඇය කන්‍යාරාමයකට බැඳෙන්න සැලසුම් කළා. ඇය ප්‍රථමාධාර ඉගෙන ගත්තා. (සමහර ගුරුවරුන්ට අනුව අප්‍රිකාවේ බොහෝ මිනිස්සු ලෙඩ රෝගවලින් මැරෙනවා ) ඇය ඉතාමත් වෙහෙස මහන්සියෙන් ආගමික සිද්ධාන්ත ඉගෙන ගත්තා. මිනිස්සුන්ගේ ජීවිත බේරා ගනිමින් සිංහයන්, කොටියන් ගැවසෙන මහ කැලෑවේ සංචාරය කරන නූතන ශාන්තුවරියක් ලෙස ඇය තමා ගැනම සිතන්නට පටන් ගත්තා.

කොහොම වුණත්, ඇගේ අවුරුදු පහළොවක ජීවිතය ඇයට කියා දුන් පාඩම වුණේ හරියට කට ඇරලා සිප ගන්න හැටි විතරක් නොවෙයි. ඒ සියල්ලටම වඩා ආදරයෙන් වේදනාවක් හිමිවන බවයි. ඇය තුන්වැන්නකුත් හොයාගත්තා. ස්වයං වින්දනය. එය සිදුවුණේ හදිස්සියෙන්මයි. ඇය ඇගේ මව පැමිණෙන තෙක් ගෙදර සිටිය මොහොතක ඇගේ ලිංග ප්‍රදේශය පිරිමදින්න වුණා. ඇය එය කුඩා කළත් සිදු කළා. එම හැඟීමට ඇය බොහෝ ප්‍රිය කළා. එක් දිනක් ඇගේ පියා එය දැක ඇයට වැරෙන් පහරක් ගැසුවා. එයට හේතුව ඇය දැන සිටියේ නැහැ. ඇයට එම පහර කිසිදා අමතක වුණේ නැහැ. ඇය සිතුවේ ප්‍රසිද්ධියේ සිය සිරුර අතගෑම නොකළ යුතුයි කියලයි. ඉතින් ඇයට එය මහපාරේ කළ නොහැකි නිසාත්, ඇයටම වෙන්වූ කාමරයක් නිවසේ නොමැති නිසාත් එම තෘප්තිමත් හැඟීම ගැන ඇයට අමතක වුණා.

එදා හවස්වරුව වනතෙක්, සිපගත් දිනෙන් මාස හයකට පසු ඇගේ මව ප්‍රමාද වී නිවසට පැමිණෙන තෙක් ඇයට කිසිවක්

කිරීමට නොතිබුණු අතර ඇගේ පියාද තවත් මිතුරකු සමඟ නිවසින් පිටතට ගිහින් සිටියා. රූපවාහිනියේද කිසිදු රසවත් දෙයක් නොතිබුණු හින්දා ඇය ඇගේ සිරුර සෝදිසි කළේ අනවශ්‍ය රෝම කූපයන් තිබෙන්නේ නම් ඉක්මනින් ගලවා දමන්නට සිතමින්. ඇගේ පුදුමයට යෝනි මාර්ගයට උඩින් තිබූ කුඩා ග්‍රන්ථියක් ඇය නිරීක්ෂණය කළා. ඇය එය පිරිමදින්නට පටන් ගත් අතර එය නවත්වාගත නොහැකි බවත් ඇයට වැටහුණා. එම හැඟීම දැඩිව පොළඹවනසුලු මෙන්ම මහත් සතුටක් ඇයට ගෙන දුන්නා. ඒ වගේම ඇගේ මුළු සිරුරම විශේෂයෙන් ඇය පිරිමදින කොටස හිරි වැටෙමින් ගියා. මොහොතකින් ඇය කිසියම් පාරාදීසයකට වැනි තැනකට ඇතුළු වූ අතර තව දුරටත් ඇයට කිසිවක් ඇසුණේත්, පෙනුණේත් නැහැ. එම හැඟීම් වඩාත් තීව්‍ර වුණා. සියල්ල කහ පැහැති හැඟීමක් සමඟ මුසුවුණා. සියුම් කෙඳිරියක් නිකුත් කරමින් ඇය ඇගේ ප්‍රථම සුරතාන්තය අත්වින්දා. සුරතාන්තය!

ඒක හරියට ස්වර්ගයට පාවී ගිහින් නැවත සෙමින් පැරෂුටයකින් ගොඩ බැස්සා වගෙයි. ඇගේ මුළු සිරුරම දහඩියෙන් නැහැවී ගියත් ඇයට සියල්ල සම්පූර්ණ වූවාක් වැනි, පූර්ණ ජවයක් දැනෙන්නට වුණා. ඉතිං මෙය තමා ලිංගික සතුට! ඒක කොයිතරම් අපූරුද! වේදනාවෙන් මුහුණ හකුළුවා ගනිමින් එහෙත් විනෝදයෙන් කතා කරන ශෘංගාරාත්මක සඟරාවක වගේ එකක් නොවෙයි. එතෙන්ට පිරිමියෙක් ඕනෙ නෑ. ඒ අය ගෑනු සිරුරට කොච්චර ආස කළත් ඔවුන්ට ගෑනුන්ගේ හැඟීම් වටහාගන්න කාලයක් නැහැ. ඒක ඇයටම කරගන්න පුළුවන්! ඇය එය නැවත වරක් කළා. මේ මොහොතේදී ප්‍රසිද්ධ චිත්‍රපටි නළුවෙක් ඇයව ස්පර්ශ කරන ආකාරය සිතේ මවාගනිමින්. නැවතත් පාවෙමින් පාරාදීසයට ඇතුළු වී පැරෂුටයකින් ගොඩ බැස්සා. මෙවර පෙරටත් වඩා ජීවයෙන් පිරී ගියා. තුන්වෙනි වරටත් එය කිරීමට යනවිට ඇගේ මව නිවසට පැමිණියා.

මරියා ඇගේ මිතුරියන්ට ඇගේ මේ සොයාගැනීම ගැන විස්තර කිව්වා. හැබැයි මෙය සොයාගත්තේ පැය ගණනකට කලින් කියලා කිව්වේ නැහැ. දෙදෙනෙක් හැර අනෙක් සියල්ලෝම ඇය කථාකරන මාතෘකාව ගැන දැන සිටියා. ඒත් කිසිවකු ඒ මාතෘකාව කථා කිරීමට ඉදිරිපත් වුණේ නැහැ. විප්ලවීය චරිතයක් වීමටත්

කණ්ඩායමේ නායිකාව වීමටත් මරියා ලද අවස්ථාවයි ඒ. කිසියම් අමුතු ''රහස් පාපෝච්චාරණයක්'' වැනි ක්‍රීඩාවක යෙදෙන ආකාරයෙන් ඇය එතැන සිටි සියල්ලන්ගෙන්ම ඔවුන් ස්වයං වින්දනයේ යෙදෙන්න කැමති විදිය ගැන ඇහුවා. උණුසුම් කාලගුණයක් සහිත ග්‍රීෂ්ම ඍතුවේදී ඇඳ ඇතිරිල්ලක් ඇතුළට රිංගාගෙන (ඇගේ එක් මිතුරියක් කියූ පරිදි දහඩිය දැමීම එයට උදව් වෙනවා), පාත්ත පිහාටුවකින් එම ප්‍රදේශය පිරිමැදීමෙන් (ඇය තවමත් එම ප්‍රදේශය යනු කුමක්දැයි වටහා ගෙන නැත), පිරිමි ළමයෙකු ලවා එය සිදුකර ගැනීමෙන් (මරියා සිතුවේ මෙය අනවශ්‍ය දෙයක් හැටියටයි.), බිඩේටයෙන් එම ප්‍රදේශයට වතුර ඇල්ලීමෙන් (ඇගේ ගෙදර එවැන්නක් නොතිබුණත් ඇගේ පොහොසත් මිතුරියකගේ නිවසකට ගිය විටෙක ඇය ඉක්මනින්ම එය උත්සාහ කර බලාවි.) වගේ විවිධ ක්‍රම ගැන ඇය ඉගෙන ගත්තා.

කෙසේ හෝ වරක් ස්වයං වින්දනයේ යෙදුණු පසු ඇගේ මිතුරියන් පැවසූ අන්දමින් විවිධ ක්‍රියාමාර්ග අත්හදා බැලුවා. ඇය ආගමික ජීවිතයක් ගත කිරීමට තිබුණු අදහස සදහටම අත්හැරියා. ස්වයං වින්දනය ඇයට ඉමහත් සුවයක් ගෙන දුන්නා. පල්ලියේ අදහසට අනුව ලිංගිකත්වය විශාලම පාපයක්. ඇගේ මිතුරියන්ගෙන් ඇයට විවිධ කථා ස්වයං වින්දනය ගැන දැනගන්නට ලැබුණා. ස්වයං වින්දනය මගින් පැල්ලම් ඇතිවිය හැකියි, එය මිනිස්සු උමතු කරවන්නට හෝ අනවශ්‍ය ගැබ් ගැනීම් ඇති කරවීමට හැකියි. එහෙම වුණත් මේ අවදානම එලෙසම තිබියදී අඩුම ගාණේ සතියකට වතාවක්වත්, ඒ කියන්නේ හැම බදාදාවකම ඇගේ පියා යාළුවන් සමඟ කාඩ් ක්‍රීඩා කරන්න නිවසින් බැහැරවන වේලාවේදී ඇය මේ කටයුත්තේ යෙදුණා.

ඒ අතරම ඇගේ පිරිමි ඇසුරත් වඩා අනාරක්ෂිත වුණා. දිනෙන් දින ඇගේ ආස්ථානය වෙනස් වුණා. ඇය තුන්වෙනි, හතරවෙනි වතාවටත් ආදරය කරන්නට වුණා. ඇය දැන් දන්නවා හරියට සිප ගන්නේ කොහොමද කියලා. පිරිමි ළමුන් සමඟ තනිවූ විට ඔවුන්ව ස්පර්ශ කිරීමටත්, තමාව ස්පර්ශ කිරීමට ඔවුන්ටත් ඉඩ දුන්නා. නමුත් හැම විටම කිසියම් වැරැද්දක් සිදුවුණා. ඒ සමඟම සියලු සම්බන්ධතා බිඳ වැටුණේ ඒ හැම කෙනෙක්ම ඇගේ ජීවන සහකරුවා ලෙස ඇයට හැඟීගිය පසුයි. බොහෝ කාලයකට පස්සේ

ඇය එක් නිගමනයකට පැමිණියා. එනම් පිරිමි වේදනාව, අසහනය, පීඩා ගෙන එන්නන් පමණක් බව. එක් සවස් වරුවක අවුරුදු දෙකක කුඩා දරුවකු සමඟ සෙල්ලම් කරමින් සිටි මවක් දෙස බලමින් ඇයටද නැවත වාරයක් ස්වාමි පුරුෂයෙක්, දරුවන්, මුහුද අද්දර ගෙයක් ගැන තවමත් සිතිය හැකි බව සිතුණ මුත් තමා කිසි දින ආදරෙන් නොබැඳෙන බවට තීන්දු කළා. මක්නිසාදයත් ආදරය සියල්ල අවුල් කරපු නිසයි.

# 3

මේ ආකාරයට මරියාගේ නව යොවුන් විය ගතවී ගියා. ඇය දිනෙන් දින රූමත් වුණා. ඇගේ දුක්බර, ගුප්ත ස්වභාවය ඇයට බොහෝ පෙම්වතුන් ළඟා කර දුන්නා. ඇය වරෙක එක් අයකුත් තවත් වරෙක තවත් අයකුත් සමඟ පෙමින් වෙළුණා. හීන දැක්කා. නැවතත් වේදනාවට පත්වුණා. නැවත ආදරයෙන් නොවෙළෙන බවට ඇය ඇයටම පොරොන්දු වුණා. එවැනි එක් දවසක කාරයක පසුපස අසුනක ඇගේ කන්‍යාභාවය බිඳුණා. ඇයත් ඇගේ පෙම්වතාත් ඔවුනොවුන් වෙනදාට වඩා ඉතා දැඩි උද්යෝගයකින් එකිනෙකා ස්පර්ශ කරමින් සිටියා. පිරිමි ළමයා දැඩිව පිබිදී සිටියා. තම යෙහෙළියන් අතර තවමත් කන්‍යාවියක් වී සිටීමෙන් වෙහෙසට පත්වී සිටි ඇය ඔහුට තම සිරුර විනිවිද යාමට ඉඩ දුන්නා. එය ස්වයං වින්දනය මෙන් ඇව ස්වර්ගයට ගෙන ගියේ නැහැ. ඒ වෙනුවට මහත් වේදනාවකුත්, සෝදා හැරීමට අවුරුදු ගණනාවක් ගතවුණු ලේ පැල්ලම් කිහිපයකුත් ඇගේ සායේ තැවරුණා. එය ඇගේ ප්‍රථම සිපගැනීම වගේ අපූරු හැඟීමක් දනවූයේ නැහැ. කොක්කු පියාඹා යන, හිරුබැස යන, ඇතින් ඇසෙන සංගීතය........... ඒත් ඇය ඒ ගැන වැඩිය තැකීමක් කළේ නැහැ.

ඇය ඒ පිරිමි ළමයත් එක්කම තවත් කිහිප සැරයක්ම රමණයේ යෙදුණා. ඒ වුණත් ඇය ඔහුට අනතුරු හැඟෙව්වා එහෙම නොකළොත් ඔහු තමාව දූෂණය කළ බව ඇගේ පියාට කියනවා කියලා. ඇය ඔහුව විවිධ අන්දමින් පාවිච්චි කරමින් සහකරුවෙක් එක්ක ලිංගික සතුට විඳීමට හැකි විවිධ ක්‍රම අත්හදා බැලුවා.

ඇයට නම් ඒක වටහා ගන්න බැරි වුණා. ''ස්වයං වින්දනය'' නම් ගැටලු අඩු වඩා ප්‍රතිඵල සහගත එකක්. ඒත් හැම සඟරාවකම,

හැම ටෙලිවිෂන් වැඩ සටහනකම පොත්වල තියෙන විදියට, තමන්ගේ යෙහෙළියො කියන විදියට, ඇත්තටම හැම දෙයකින්ම කියන විදියට පිරිමියෙක් මේ වැඩේට අත්‍යවශ්‍යයි. මරියා හිතන්න පටන් ගත්තා, ඇයට කියන්න බැරි ලිංගික ප්‍රශ්නයක් තියෙනව කියලා. ඉතිං ඇය වඩා අවධානයෙන් ඇගේ අධ්‍යාපන කටයුතුවලට යොමු වුණා. මොහොතකට ඈ අමතක කෙරුවා ඒ පුදුමාකාර මරණීය දේ. එනම් ආදරය.

මරියාගේ දිනපොතෙන්, ඇය වයස දාහතේ දී :

මගේ පරමාර්ථය වුණේ ආදරය හඳුනා ගැනීමයි. ආදරය කරන කොට කොච්චර ජීවයෙන් පිරී යනවද කියලා මම දන්නවා. කොහොම වුණත් බොහෝ ප්‍රියජනක ලෙස පෙනෙන ගොඩක් දේවල් ගැන මම දූත් දන්නවා. ඒවා දූත් තවත් නං මාව පුදුමයට පත් කරන්නේ නෑ.

ඒත් ආදරය කියන්නේ මහා බිහිසුණු දෙයක් : මම දැකලා තියෙනවා මගේ යෙහෙළියන් ආදරය හින්දා වේදනාවට පත් වෙනවා. එත් මම ඒක මටත් සිද්ධ වෙනවාට කැමති නැහැ. ඒ ගොල්ලො ඉස්සර මටත්, මගේ අහිංසකකමටත් හිනාවුණා. ඒත් දූත් අහනවා මම කොහොමද එච්චර හොඳට පිරිමිත් එක්ක හැසිරෙන්නෙ කියලා. මම හිනාවෙනවා, මුකුත්ම කියන්නෙ නැහැ. මොකද මම දන්නවා ප්‍රතිකාරයට වඩා වේදනාව හොඳයි කියලා : මම සරලවම කියනවා නම් ආදරය කරන්නේ නැහැ. පහුවෙන දවසක් ගානේ මම ඉතාමත් පැහැදිලිවම දකිනවා පිරිමි කොච්චර දුබල අයද කියලා, කොච්චර චපලද කියලා. ආත්ම විශ්වාසයක් නැති පුදුම අය තමයි ඒ ගොල්ලෝ... මගේ යෙහෙළියන් කිහිප දෙනකුගේ තාත්තලා මට ඒ ගොල්ලොත් එක්ක නිදාගන්න යෝජනා කරලා තියෙනවා. නමුත් මම ඒවා හැම තිස්සේම ප්‍රතික්ෂේප කළා. මුලින්ම මම ඒ වගේ දේවල්වලින් බය වුණා. ඒත් දූත් මං හිතන්නේ පිරිමින්ගේ හැටි එහෙම තමයි කියලයි.

කොහොම වුණත් මගේ පරමාර්ථය වුණේ ආදරය අඳුරගන්න එකයි. මගේ හදවත දුන් අය ගැන සිතීම මට වේදනාවක්. මගේ හදවත ගත් අයට මගේ සිරුර පුබුදුවාලන්නට බැරිවුණා. මගේ සිරුර පුබුදුවාලූ අයට මගේ හදවත ගන්නට බැරිවුණා.

# 4

ඇය දහනවවෙනි වියට එළඹුණා. ද්විතීය අධ්‍යාපනය නිමා කළ ඇය රෙදි වෙළෙන්දකුගේ සාප්පුවක රැකියාවක් සොයා ගත්තා. එහිදී ඇගේ හාම්පුතා ඇය හා ඉක්මනින් ආදරයෙන් බැඳුණා. ඒ වනවිට, කොහොම වුණත් පිරිමියාගෙන් පාවිච්චි නොවී ඔහුව පාවිච්චි කරන්නට මරියා හොඳින් අවබෝධ කරගෙන හිටියා. ඇය කිසි දිනෙක ඔහුට තමාව ස්පර්ශ කිරීමට ඉඩ දුන්නේ නැහැ. නමුත් ඔහු සමඟ මුකුළු පෑමටද ඇය අමතක කළේ නැහැ. ඇගේ රූපයට කළ හැකි දේ ගැන ඇය මහත් අවබෝධයෙන් යුක්ත වුණා.

රූපයට ඇති බලය : එතකොට අවලස්සන ගෑනුන්ගේ ලෝකය? කවදාවත් සාදවලදී කාගේවත් ඇස් ගැටෙන්නේ නැති, පිරිමින් ප්‍රිය නොකරන විදියේ යෙහෙළියන් කිහිපදෙනකුම මරියට හිටියා. මේ ගැහැනු ළමයි ඔවුන්ට ලැබෙන සුළු ආදරයකට පවා විශාල වටිනාකමක් දුන්නා. ඔවුන් යම් අවස්ථාවක ප්‍රතික්ෂේප වුණාම නිහඬවම එය දරාගනිමින් තවත් අයෙක් වෙනුවෙන් හැඩ වැඩවීම නවත්තලා අනාගතය වෙනුවෙන් වෙනත් දේවල්වලට හිත යොමු කළා. ඒ අය වඩාත් ස්වාධීනයි. ඔවුන් ඔවුන් ගැනම හිතුවා. නමුත් මරියාගේ පරිකල්පනය තුළ තිබුණු ලෝකය නම් ඔවුන්ට දරාගන්න බැරි එකක්.

ඇය තමා සතු ආකර්ෂණය හොඳින් දැනගෙන හිටියා. ඇය කලාතුරකින් තමයි ඇගේ මවට ඇහුම්කන් දුන්නේ. ඇගේ මව කියූ එක් දෙයක් නම් ඇයට කවදාවත් අමතක වුණේ නැහැ. ''ලස්සන කියන දේ සදාකාලික නෑ පුතේ '' මේ කියමනත් සමඟ ඇය ඇගේ හාම්පුතාව අතේ දුරින් තියාගත්තා. ඒ වගේම ඇය

ඔහුව සම්පූර්ණයෙන්ම මගහැරියේත් නැහැ. මේ ක්‍රමය තුළින් ඇය සැලකිය යුතු වැටුපක්ද ලබාගත්තා. (ඇය දැනන් හිටියේ නැහැ මේ විදියට තව කොච්චර කාලයක් ඔහුව රවට්ටමින් ඉන්න පුළුවන්ද කියලා. කවදාහරි ඔහුත් සමඟ යහන් ගතවෙන්න වෙනවා කියලා ඇය දැනන් හිටියා. නමුත් අඩුම තරමේ මේ අතරතුර ඇය සැලකිය යුතු මුදලක් උපයමින් හිටියා.) ඔහු ඇයට වැඩිපුර වැඩ කරන කාලයට අතිකාල දීමනා ද දුන්නා. (ඇගේ හාම්පුතා ඇය ඔහු අසලින් ඉන්නවට කැමැත්තක් දක්කුවා. මොකද, ඇය රාත්‍රියේ එළියට ගියොත් ඇගේ උතුම් ආදරය ඇයට මුණගැසේවි යැයි බියවුණා) ඇය එහි පුරා අවුරුදු දෙකක් සේවය කළා. ඇගේ දෙමාපියන්ට හැම මාසෙකම වියදමට මුදල් දුන්නා. අවසානයේදී ඇගේ බලාපොරොත්තු ඉෂ්ට වුණා. ඇගේ සිහිනයක්ව තිබූ නගරයේ සතියක නිවාඩුවක් ගතකිරීමට යෑමට අවශ්‍ය තරමේ මුදලක් ඇය ඉතිරි කර ගත්තා. ඒ සුපිරි තරු ජීවත්වන නගරය ඇගේ රට කියලා පිංතූර කාඩ්පත්වල තියෙන නගරය : රියෝ ද ජනිරෝ!

ඇගේ හාම්පුතා ඔහුත් සමඟ යන්න ඇයට ආරාධනා කළා. ඔහු සියලු වියහියදම් දරන බවත් කිව්වා. නමුත් මරියා ඔහුට බොරුවක් කිව්වා. මේ වගේ අනතුරුදායක තැනකට යනකොට ඇගේ මව කොන්දේසියක් දාල තියෙනවා කියල. ඒ තමයි ඇය ඇගේ ජූඩෝ හොඳින් පුහුණු වෙච්ච ඥාති සොහොයුරාගේ ගෙදර නැවතිය යුතුයි කියන එක කියලා.

''ඒ ඇරුණාම සර්, ඔයාට මේ සාප්පුව මෙහෙම දාලා එන්න බැහැනේ කවුරු හරි විශ්වාසවන්ත කෙනෙක් බලාගන්න නොතියා''

''මට සර් කියලා කතා කරන්න එපා '' ඔහු කිව්වා. එවිට මරියා ඔහුගේ ඇස්වල යමක් දුටුවා : ආදරයේ ගිනිදැල්. එය ඈ පුදුමයට පත් කළා. මොකද, ඇය හැමවිටම හිතුවේ ඔහු ඇගෙන් බලාපොරොත්තු වුණේ ලිංගික සම්බන්ධයක් විතරක් කියලයි. ඒත් ඔහුගේ ඇස් ඊට සම්පූර්ණයෙන්ම ප්‍රතිවිරුද්ධ කතාවක් කියන්නට වුණා:

''මට පුළුවන් ඔයාට ගෙයක් දෙන්න. ඔයත් එක්ක එකතුවෙලා ළස්සන පවුලක් හදන්න, ඔයාගේ දෙමාපියන්ට සල්ලි ටිකක් දෙන්න'' අනාගතය ගැන සිතමින් ඇය ඒ ගිනි දළු ඇවිළෙන්නටම ඉඩ හැරියා.

ඇගේ රැකියාවත්, ඈ ඉතා කැමැත්තෙන් සේවයේ යෙදිලා ඉන්න පිරිසත්, හුඟක් මතක් වෙයි කියලා ඇය කිව්වා. (ඇය කිසිවෙක් ගැන විශේෂයෙන් සඳහන් කළේ නැහැ. ඒ රහස ඇය සුළඟේ පා කර හැරියා : සේවයෙ යෙදිලා ඉන්න අය කියලා අදහස් කළේ ඔහුවද ?) ඒ වගේම තමන්ගේ පසුම්බියත්, ගෞරවයත් ඉතා හොඳින් ආරක්ෂාකර ගන්නවා කියලා පොරොන්දු වුණා. ඒත් ඇත්ත මීට වඩා ගොඩක් වෙනස් එකක් වුණා.

ඇයට කිසිවෙක් - ඇත්තටම ඇගේ සම්පූර්ණ නිදහස් සතිය අවුල් කරන කිසිවෙක්ම ඕන වුණේ නැහැ. ඇයට සියලුම දේ කරන්නට ඕන වුණා. මුහුදේ නාන්න, ආගන්තුකයන් එක්ක කථාබහ කරන්න, කඩවල්වල වීදුරු ජනෙල්වලින් ඇතුළ බලන්න, ඒ වගේම ඇගේ සිහින කුමාරයගේ පැමිණීම වෙනුවෙන් ලැහැස්තිවෙලා ඉන්න.

''අනිත් අතට මොකක්ද සතියක කාලයක් කියන්නේ?'' ඇය වැරදි යැයි සිතමින් වුණත් වශීකරණසුලු සිනහවකින් යුක්තව පැවසුවා. ''ඒක නිකම්ම ගෙවිලා යයි. ඊට පස්සේ මම ඉක්මනට වැඩට එනවා '' දුකින් බරවුණු ඇගේ හාම්පුතා අවසානයේ දුක යටපත් කරගෙන ඇගේ තීරණයට කැමති වුණා. ඒ මොහොත වනවිටත් පැමිණි විගසින් තමා හා විවාහ වන ලෙස ඇයට ඇරයුම් කිරීමට ඔහු සැලසුමක් දියත් කරමින් සිටියා. කලබල වෙලා සියල්ල අවුල් නොකර ගැනීමට ඔහු ඉටා ගත්තා.

* * *

මරියා පුරා පැය හතළිස් අටක කාලයක් බසයෙන් ගමන් කළා. කොපකබානාහි මිල අඩු හෝටලයක් හොයාගත්තා. (කොපකබානා.. ඒ මුහුද, ඒ අහස...) ඇගේ බෑග් අස් කරන්නටත් පෙර ඇය නාන ඇඳුම අරගෙන ඇඳගත්තා. වලාකුළු බර අහස ද නොතකමින් මුහුදු වෙරළට පැමිණි ඇය අමාරුවෙන් වගේම නුහුරු ලෙසට දියේ ගිලුණා.

මෙය ඇගේ ප්‍රථම මුහුදු අත්දැකීම බව වෙරළේ සිටි කවරෙක්වත් නිරීක්ෂණය කළේ නැහැ. ඉයෙමංජා දෙවඟන සමඟ

මරියාගේ එකම වේදිකා අත්දැකීම වුණේ හැම ශුද්ධ වූ සතියකදීම එයාගේ ගමේ කවුන්සිලයෙන් කරන පාස්කු නාට්‍යයක්. එහිදීත් ඇය කළේ වතුර විකුණන්නියක් විදිහට එහාට මෙහාට ඇවිදින එක විතරයි. ඇය බස් රථයේදී අඩ නින්දකට වැටුණා. නමුත් ඇය මුහුද දැකීමෙන් ප්‍රබෝධමත් වුණා, සැන්ඩ්විච් කෑමෙන් හෝ කොහොම හරි ඇය මහන්සියට පත්වුණා. ඒ වගේම ඇය අවුල් සහගත තත්ත්වයකට පත්වුණා. මොකද , ඇය දන්න කවුරුවත් හිටියේ නැති නිසා. ඒ හින්දා කවුරු හරි මිතුරෙක්ගේ ඇසුරක් හොයාගන්න ඇයට ඕන වුණා. සෑම දෙයක් ගැනම පොරොන්දු වෙලා කිසිවක්ම නොදෙන පිරිමියා නිසා මීට පෙරත් ඇය මෙවැනි තත්ත්වයන්ට මුහුණ දීලා තිබුණා. ඉතිං ඇය දැනගෙන සිටියා මේ සියලු දේ තමා සතුටු කරන්නට කරපු මවාපෑමක් පමණක් බව.

කොහොම වුණත් කන්‍යාතුමිය ඇයට ලබා දුන් මෙම අවස්ථාව සමඟ ඇයට ඒත්තු ගියා ඇගේ මේ සතියක නිවාඩුවේ හැම තත්පරයක්ම උපරිම විනෝදයෙන් ගත කළ යුතු බවට. මොකද, සුපිරි අවන්හලකට යාම ඇය ආපසු ගෙදර ගියාට පස්සේ කථා කරන්නට යමක් සපයන හින්දයි. ඇය එම ආරාධනාව පිළිගත්තා. අනෙක් අතට පරිවර්තකයා එතැනට පැමිණෙන තෙක් එම ආගන්තුකයා සමඟින් සිනාසීමෙන් ඔහු කියන දේ වැටහෙනවා යැයි බොරුවට හැඟවීමෙන් වෙහෙසට පත්වී සිටියා.

මේ ප්‍රශ්නය තමයි බරපතළම ප්‍රශ්නය : මේ අවස්ථාව සඳහා ගැළපෙන ඇඳුමක් ඇයට තිබුණේ නැහැ.

''මම ඊසාන දිග පැත්තේ ඉඳලා ආවා විතරයි. මා ළඟ රාත්‍රී භෝජනයකට අඳින්න තරම් ඇඳුමක් නැහැනේ''

පරිවර්තකයා මඟින් ආගන්තුකයා ඇයට කරදර නොවන ලෙස දන්වා ඇය නැවතී සිටින හෝටලයේ ලිපිනය ඉල්ලා ගත්තා. එදා හැන්දෑවේ ඇයට ලැබුණු ඇඳුම ඇගේ මුළු ජීවිත කාලය පුරාවටම නොදුටු අන්දමේ එකක්. ඒ ඇඳුමත් එක්ක ලැබුණු සපත්තු දෙක ඇය අවුරුද්දක් පුරාවට උපයපු මුදලට සමාන එකක් වුණා.

ඇයට දැනුණා මේ ඇගේ ළමා වියත්, තරුණ වියත් ගත කළ සෙර්තා ඕවල , බ්‍රසීලියානු ඇතුළු ගම් පළාත්, සදා දැරීමට සිදුවන නියඟය, අනාගතයක් නැති කොලු පිරිස, දුප්පත් එහෙත් අවංක

නගරය, කම්මැලි ඒකාකාරී ජීවිතය තුළ ඇය ආශාවෙන් බලාපොරොත්තු වූ ගමන් මඟේ ආරම්භයය කියලා.

මේ විශ්වයේ කුමාරිකාවක් බවට පරිවර්තනය වෙන්නට ඇය සූදානම් වුණා. එක මනුස්සයෙක් ඇයට රස්සාවක්, ඩොලර් ඉතා මිල අධික සපත්තු දෙකකුත් හරියට සුරංගනා කථාවක තියෙනවා වගේ ඇඳුමකුත් දීල තිබුණා. ඇයට අඩුවකට තිබුණේ ආලේපන ටිකක් විතරයි. නමුත් ඈ නැවතී සිටි හෝටලයේ පිළිගැනීමේ නිලධාරිනිය ඈ ගැන දුක්වී ඇයට උදව් කළා. මුලින්ම ඇයට අනතුරු හැඟෙව්වා හැම විදේශිකයෙක්ම විශ්වාස කරන්න පුළුවන් අය නොවෙයි කියලා. ඒ වගේම රියෝවල ඉන්න හැම මිනිහෙක්ම මංකොල්ලකාරයෙක් කියලත් කිව්වා.

මරියා ඇගේ අවවාදය පිළිනොගත් අතර ස්වර්ගයෙන්ම ඇට ලැබුණු තෑගි ඇඟලා ගත්තා. පැය ගණනක් කණ්ණාඩිය ඉදිරිපිට හැඩවැඩ වුණු ඈ මේ අවස්ථාව පටිගත කරගන්නට කැමරාවක් ගෙන ඒමට නොහැකිවීම ගැන කනස්සල්ලට පත් වුණා. ඇය දැනටමත් හමුවීමට නියමිත වෙලාවට වඩා ප්‍රමාද වී සිටි නිසා හරියට සින්ඩරෙල්ලා වගේ ස්විස් ජාතික මහත්මයා සිටිය හෝටලයට දුව ගියා.

ඇගේ පුදුමයට වගේ, පරිවර්තකයා ඇයට කිව්වා තමා ඔවුන් එක්ක සම්බන්ධ නොවන බව. ''භාෂාව ගැන කරදර වෙන්න එපා. වැදගත් වෙන්නේ එයාට ඔයත් එක්ක සතුටින් ඉන්න පුළුවන් වෙනවද නැද්ද කියන එකයි.''

''ඒත් එයා එහෙම සතුටු වෙන්නේ කොහොමද මම කියනදේ තේරුම් ගන්න බැරි නං?''

''ඇත්තටම ඔයා කිසිම දෙයක් කියන්න අවශ්‍ය නැහැ. ඒක අවස්ථානුකූලව සිද්ධ වේවි.''

මරියා මේ අවස්ථානුකූලව කියන කාරණය ගැන දැනගෙන හිටියේ නැහැ. ඇය පැමිණි ප්‍රදේශයේ මිනිස්සු එකිනෙකාට වචන හුවමාරු කර ගත්තා, එකිනෙකාගෙන් ප්‍රශ්න, උත්තර හුවමාරු කරගත්තා ඒත් මේල්සන් - පරිවර්තකයා නැතිනම් ආරක්ෂක නිලධාරියා ඇයට කිව්වා රියෝ ද ජනිරෝවලත් ලෝකයේත් දේවල් ගොඩක් වෙනස් කියලා.

''ඔහුට කිසිවක් තේරුම් ගන්න ඕනේ නෑ. එයාට පහසු විදිහට හැසිරෙන්න. එයා බිරිඳ මැරිච්ච දරුවොත් නැති කෙනෙක්. එයාට අයිති සමාජ ශාලාවක් තියෙනවා. එයා හොයන්නෙ පිටරට වැඩ කරන්න කැමති බ්‍රසීල ගෑනු. මං කිව්වා ඔයා ඒ විදිහෙ කෙනෙක් නෙමෙයි කියලා. ඒත් එයා බලකරලා කිව්වා. එයා ඔයා වතුරෙන් ගොඩට එනව දැකපු හැටියේ ඔයාත් එක්ක ආදරෙන් වෙළුණාලු. ඔයාගේ නාන ඇඳුමත් හරි අපූරුයිලු.''

ඔහු මඳක් නැවතුණා.

''ඒත් අවංකවම ඔයාට මෙහෙදි ආදරවන්තයෙක් හොයා ගන්න ඕනෙ නං, මුලින්ම වෙන නාන ඇඳුමක් අරගන්න. මොකද අර ස්විස් මනුස්සයා ඇරුණහම කවුරුත් ඕක ලස්සනයි කියන්නේ නැහැ. ඒක හරිම පරණ විලාසිතාවක්නේ.''

මරියා ඇයට නෑසුණා වගේ හිටියා. මෙල්සන් දිගටම කථා කලා.

''මම හිතන්නේ නැහැ එයාට ඕනේ පොඩි ලිංගික ඇසුරක් ලබන්න විතරක් කියලා. එයා විශ්වාස කරනවා ඔයාට එයාගේ සමාජ ශාලවේ වඩාත්ම ආකර්ෂණීය කෙනා වෙන්න ඕන දේවල් තියෙනවා කියලා. ඇත්තටම, ඔයා සිංදු කියනවා හරි නටනවා හරි එයා දැකලා නැති වුණත් ඔයාට ඒවා ඉගෙන ගන්න පුළුවන්නෙ. අනිත් අතට ඔයා උපතින්ම ලස්සන කෙනෙක්නෙ. මේ යුරෝපෙ මිනිස්සු ඔක්කොම එකයි. ඒ ගොල්ලො මෙහෙ ආවම හිතන්නෙ බ්‍රසීල ගෑනු කාමුක වගේම සම්බ නටන්නත් හොඳින් දන්නව කියලයි. ඔයාට මේ වැඩේ ගැන වගකීමකින් කියනව නං මම ඔයාට කියන්නේ ගිවිසුමක් අත්සන් කරවගෙන අත්සන හරිද කියලා ස්විස් කාර්යාලයෙන් අහල බලන්න රටින් යන්න කලින්. ඔයාට මොනවහරි ගැන දැනගන්න ඕන නං මම හෙට හෝටලේ පිටිපස්සෙ මුහුදු වෙරළට එනවා ''

ස්විස් ජාතිකයා සිනාසෙන ගමන් ඇගේ අතින් අල්ලගෙන ඔවුන් එනතෙක් රැඳී සිටිය ටැක්සිය දිශාව පෙන්නුවා.

''එයාට මොනව හරි වෙන අදහසක් තියෙනවනං හරි, ඔයාටත් එහෙමනං හරි, එක රෑකට සාමාන්‍ය ගාණ ඩොලර් තුන්සීයයි. ඊට අඩුවෙන් කැමති වෙන්න එපා.''

ඇය කිසිවක් කියන්න කලින් ඇය අවන්හලට පැමිණියා. ආගන්තුකයා ඔහුට කියන්න අවශ්‍යදේ පුහුණුවෙමින් සිටියා. සංවාද ඉතාම පහසු දෙයක් වුණා.

''රස්සාවක්? ඩොලර්? බ්‍රසීල තරුවක්?''

මේ අතර මරියා අර පරිවර්තකයා නැත්නම් ආරක්ෂක නිලධාරියා කියූ දෙය ගැන සිතමින් හිටියා. ඩොලර් තුන්සීයක් එක රැයකට. ඒකනං වාසනාවක්!! ඇයට ආදරය ගැන පසුතැවිලි වෙන්න උවමනා වුණේ නැහැ. ඇයට තමාට අවශ්‍ය ආකාරයෙන් මේ පුද්ගලයා හසුරුවා ගන්න පුළුවන්, හරියට ඇයව කසාද බැඳලා, ළමයි හදලා, ඇගේ දෙමාපියන්ට සුවපහසු ජීවිතයක් දෙන්නට හිටිය සාප්පු අයිතිකාරයාට කළා වගේ. ඇයට අහිමිවෙන්න තිබුණේ මොනවද? ඔහු වයස නිසා වැඩිකල් යන්න කලින් මැරෙන්නත් පුළුවන්. එතකොට ඇයට පොහොසත් වෙන්න පුළුවන්. මේ ස්විස් ජාතිකයන්ට ගොඩක් සල්ලි තිබුණට ඒ රටේ ඕන තරම් ගෑනු හිටියේ නෑ.

ඒ ගොල්ලෝ කෑම ගන්න අතර පොඩ්ඩක් කතාබහ කළා. පුරුදු හිනාවෙන් සංග්‍රහ කර ගත්තා. මරියා ටිකෙන් ටික මේල්සන් ''අවස්ථානුකූලව '' කියන දෙයින් අදහස් කරපු දේ වටහා ගත්තා. ඒ ආගන්තුකයා ඇය නොදන්න අකුරු ලියූ ඡායාරූප සහිත ඇල්බමයක් පෙන්නුවා. ඒ අතර නාන ඇඳුම් හැඳගත් ගැහැනුන්ගේ පින්තූර (කිසිදු සැකයකින් තොරව ඇය ඇඳන් හිටිය ඇඳුමට වඩා බෙහෙවින් මනරම්) පත්තර තීරු, බ්‍රසීලය කියලා වැරදියට නම ලියපු වෛවර්ණ පත්‍රිකාත් ඒ අතර තිබුණා. (ඒ ගොල්ලො පාසලේදි බ්‍රසීලය කියලා ලියනකොට S අකුර පාවිච්චි කරලා ලියන්න එයාට කියලා දීලා නැද්ද?) ඔහු ඇට ඇරයුම් කරාවිද යන සැකයෙන් ඇය හුඟාක් බිව්වා. (අවසානයේ ඇය ජීවිතයේ කිසිම දවසක මේ වගේ දෙයක් සිදුකර නැති වුණත්, ඇයට විතරක් නෙමෙයි කාට වුණත් ඩොලර් තුන්සීයක් වෙනුවෙන් එවැනි දේකට යොමුවීම වළක්වන්න බෑ. ඒ වගේම ගොඩක් දේවල් රහමෙර ටිකක් ඇඟට වැටුණාට පස්සේ කරන්න ලේසියි. විශේෂයෙන් පිටස්තරයො එක්ක ඉන්නකොට) නමුත් ඒ ආගන්තුකයා ඉතාම මහත්මා ස්වරූපයකින් හැසිරුණා. ඇය ඉඳගන්න කොට, නැඟිටින කොට

පවා ඔහු ඇයට පුටුව සකස් කර දුන්නා. අන්තිමේදී ඇය කිව්වා ඇයට හුඟක් මහන්සියි කියලා. ඒ වගේම පහුවෙනිදා මුහුදු වෙරළෙදි ඔහුව මුණ ගැහෙන්නත් කථා කරගත්තා. (ඇගේ අත් ඔරලෝසුව ඇඟිල්ලෙන් පෙන්වමින් දෑත් වනමින් ''ආ-මා-න්හා'' ''හෙට'' - කියලා බොහොම හෙමින් කිව්වා.)

ඔහු එයට එකඟ වූ අයුරින් ඔහුගේ ඔරලෝසුව දෙස බලමින් (බොහෝවිට ස්විස්ටර්ලන්තයේ නිපදවූ) එයට එකඟ වුණා.

ඇය පැමිණි විගස නින්දට ගියේ නෑ. ඇය මේ සියල්ල හීනයක් කියලා හිතුවා. ඇය ඇඳෙන් නැගිටලා විපරම් කළාම දක්කා ඒක එහෙම නෙමෙයි කියලා. මොකද ඇගේ සාමාන්‍ය කාමරයේ පුටුවේ ඇඳුම වනලා තිබුණා. ලස්සන සපත්තුත් මුහුදු වෙරළේ හමුවීමත් නිසා ඒ බව ඇයට ඒත්තු ගියා.

**මරියාගේ දිනපොතෙන්..., ඇයට ස්විස් ජාතිකයා මුණගැහුණු දවසේ.**

*හැම දේකින්ම කියන්නේ මම වැරදි තීරණයක් ගන්න යනවා කියලයි. ඒත් වැරදි කරනවා කියන්නේ ජීවිතයේම තවත් කොටසක්. මොනවද මේ ලෝකය මගෙන් බලාපොරොත්තු වෙන්නේ? එයට අවශ්‍ය මම කිසිදු අවදානමක් නොගෙන සිටීමද? ජීවිතේට මුහුණ දෙන්න ආත්ම ශක්තියක් නැති නිසා නැවත මං ආපු තැනටම යන්නද?*

*මම මගේ ජීවිතේ පළමු අත්වැරැද්ද සිදුකළේ මට වයස අවුරුදු එකොළහේදි. පිරිමි ළමයෙක් මගෙන් පැන්සලක් ගන්න පුළුවන්ද කියලා අහපු දවසෙදි. එදා ඉඳන් මම තේරුම් ගත්තා සමහර වෙලාවට ජීවිතේ දෙවෙනි අවස්ථාවක් උදාවිය නොහැකි බව. ඒ නිසා හොඳම දේ ලෝකය බාරදෙන දේ ඔබ ලබාගන්න එකයි. ඇත්ත වශයෙන්ම එය අවදානම් සහගත විය හැකියි. ඒත් ඒ අවදානම මම මෙතෙන්ට කිසිදු අනතුරක් නැතුව පැය හතළිස් අටක් පුරා බසයෙන් පැමිණි ගමනට වැඩිය බලවත් එකක්ද? මට කෙනකුට හරි දෙයකට හරි අවංක වෙන්න කලින්ම මම මටම*

අවංක වෙන්න ඕන. මම සැබෑ ආදරයක් හොයනවා නම් මගේ මේ ක්‍රමය තුළින් සාමාන්‍ය ආදරයත් සොයාගත යුතුයි. ජීවිතේ මං ලැබූ කුඩා අත්දැකීම් මට ඉගැන්නුවේ කිසිවක් කිසිවකුට අයිති නැති බවයි. සියල්ල හුදු මායාවක්. ඒක ද්‍රව්‍යමය හෝ අධ්‍යාත්මික යන දෙකටම පොදුයි. කවුරු හරි හැමදාටම තමාගේ යැයි සිතූ දෙයක් අහිමි වූ විට (බොහෝවිට මට සිදුවුණු ආකාරයට) අවසානයේදී කිසිවක් ඔවුනට හිමි නැති බව වැටහෙනවා.

කිසිවක් මට හිමි නැතිනම්, ඉතින් එවැනි මගේ නොවන දෑ පසුපස යමින් කාලය නාස්ති කිරීම තේරුමක් නැති දෙයක්. හොඳම දේ අද දවස පළමු (හෝ අවසාන) දවස හැටියට සලකලා ජීවත් වීමයි.

# 5

ඊළඟ දවසේදී ඇය මේල්සන්ට එනම් ඇගේ පරිවර්තක නොහොත් ආරක්ෂක නිලධාරියා නැතිනම් දූත් ඔහුට අනුව ඇගේ ඒජන්තයා මඟින් කිව්වා ස්විස් කාර්යාලයෙන් ඇට එම ලිපි ලැබුණු වහාම ස්විස් ජාතිකයා දෙන අවස්ථාව පිළිගන්නා බව. ඒත් මේ වගේ ඉල්ලීම් ගැන බොහොම හුරුපුරුදු විදේශිකයා කිව්වා ඒක එයාටත් ඕන කරන දෙයක් කියලා. ඇය ඔහුගේ රටේ වැඩ කරනවා නම් ඇයට යෝජනා කරන රැකියාව කරන්න එහෙ කාටවත් බැහැ කියලා ඔප්පු කරන්න ලියකියවිලි ඇයට තියෙන්න ඕනෙ කියලත් කිව්වා. ඒ වගේම ඒක එච්චර අමාරු දෙයක් වුණේ නැහැ. මොකද ස්විස් ගෑනුන්ට සම්බා නටන්න විශේෂ දක්ෂකමක් තිබුණේ නෑ නේ. ඒ ගොල්ලෝ සියලුම දෙනාම එකට නගරයට ගියා. ආරක්ෂක නිලධාරියා නැතිනම් පරිවර්තකයා එහෙමත් නැත්නම් ඒජන්තයා ගිවිසුම අත්සන් කරපු වහාම අත්තිකාරම් මුදලක් ඉල්ලා හිටියා. ඇයට ලැබුණු ඩොලර් පන්සීයෙන් සීයට තිස්පහක්.

"මේක අත්තිකාරමක් විදිහට සතියක ගෙවීමක්, එක සතියක. ඔයාට තේරෙනවා නේද? ඔයා අද ඉඳලා සතියකට ඩොලර් පන්සීයක මුදලක් හම්බ කරනවා. කිසිම ගාණක් අඩු නොකර. මොකද මම ගන්නේ පළවෙනි ගෙවීමෙන් කොමිස් එකක් විතරයි."

ඒ වෙනකම්, සංචාරයත්, දුර ඈතට ඇවිදින් යන අදහසත්, හීනයක් වගෙයි. ඔබ සිහිනයන් බලෙන් ප්‍රායෝගිකත්වයට නොගෙනෙන තාක් සිහින දකින එක හරිම ප්‍රියජනක එකක්. ඒ විදිහට අපි සියලු අවදානම්කාරිත්වයන්, අපේක්ෂාභංගත්වයන්, කටුකත්වයන් මඟහරිනවා. ඒ වගේම අපි මහලු වියට එළැඹුණාම අපේ සිහින සැබෑ කරගන්න බැරිවීම නිසා හැම වෙලාවෙම අනිත්

මිනිස්සුන්ට විශේෂයෙන් බොහෝම කැමැත්තෙන්ම අපේ දෙමාපියන්ට, අඹු සැමියන්ට, එහෙමත් නැත්නම් අපේ දූදරුවන්ට දොස් පවරන්න පුළුවන්.

හදිස්සියේම ඇය මහත් උනන්දුවෙන් බලා සිටි, ඒත් ඇය කවදාවත් සිදුනොවේ යැයි බලාපොරොත්තු වුණු අවස්ථාව උදා වුණා. ඇය නොදන්න ජීවිතයක අභියෝග, අවදානම්වලට කෙසේ මුහුණ දෙන්නද? ඇය කෙසේ නම් පසුගිය පුරුදු දෑ අමතක කර දමා යන්නද? ඇයි මරියතුමී මෙච්චර දුරක් සැලසුම් කළේ?

ඕනෑම වෙලාවක තමන්ගේ අදහස වෙනස් කරගත හැකියි කියන අදහසත් එක්ක මරියා තමාවම සනසාගත්තා. ආපහු ගෙදර ගියාට පස්සේ ඇගේ යාලුවන්ට මොකක් හරි වෙනස් දෙයක් කියන්න.... කොහොම වුණත් මේ ඔක්කොම මහා විකාර ක්‍රීඩාවක් වුණා. ඒ ඔක්කොටම වඩා, ඇය හිටියේ ඇගේ ගෙදරට කිලෝමීටර් දාහකටත් වඩා ඈතින්. ඒ වගේම දැන් ඇගේ පසුම්බියේ ඩොලර් තුන්සිය පනහකුත් තිබුණා. ඉතිං හෙට ඇය ඇගේ ගමන් මලු අසුරාගෙන පැන ගියොත් ඔවුනට ඇයව කිසිම විදිහකින් නැවතත් අල්ලා ගන්න පුළුවන් වෙන එකක් නැහැ.

ස්විස් කාර්යාලයට යාමෙන් අනතුරුව සවස් කාලයේදී ඇය මුහුදු වෙරළේ තනියම ඇවිදින්නට තීරණය කළා. ඇය එහිදී කුඩා ළමයි, වොලිබෝල් ක්‍රීඩා කරන අය, හිඟන්නෝ, බේබද්දෝ, බ්‍රසීලියානු කලාත්මක භාණ්ඩ විකුණන්නෝ (චීනයේ නිෂ්පාදිත) දුටුවා. වයසට යාම වළක්වා ගැනීම පිණිස ඇවිදින, ව්‍යායාම කරන මිනිස්සු, විදේශික සංචාරකයෝ, තමන්ගේ ළමයි සමඟ ඉන්න අම්මලා, සක්මන් ප්‍රදේශයේ ඈත කොණේ වාඩිවෙලා කාඩ් සෙල්ලම් කරන විශ්‍රාමිකයෝ පිරිසකුත් ඇය දුටුවා. ඇය රියෝ ද ජනීරෝ වෙත පැමිණ සිටියා. තරුපහේ හෝටලයකටත්, කාර්යාලයකටත් ඇය ගිහින් තිබුණ. විදේශිකයෙක් හමුවෙලා තිබුණ. ඇයට ඒජන්තයෙක් හිටියා. ඇයට තෑගි විදිහට ගම් පළාතේ කාටවත්, නිසැකවම කාටවත් මිලදී ගත නොහැකි තරමේ ඇඳුමකුත්, සපත්තු ජෝඩුවකුත් ලැබිලා තිබුණා.

ඉතිං දැන් මොකක්ද?

ඇය මුහුද දෙසට නෙත් යොමු කළා. ඇගේ භූගෝල විද්‍යා දැනුම ඇයට කියා දුන්නා මෙතන ඉඳලා රේඛීයව ඉදිරියට ගියොත්

සිංහයෝ, ගෝරිල්ලෝ පිරිච්ච කැලෑ තියෙන අප්‍රිකාවට ළඟාවෙන්න පුළුවන් කියලා. කොහොම වුණත්, උතුරු දිශාවට පොඩ්ඩක් හැරිලා ගියොත් ඇය නවතින්නේ අයිෆල් කුලුන, යුරෝ - ඩිස්නිලන්තය, ඇලවෙච්ච පීසා කුලුන තියෙන සිත් මත්මත් කරවන රාජධානිය කියලා කියන යුරෝපයෙන්. ඇයට කුමක් අභිමුවන්නට තිබුණද? අනිත් හැම බ්‍රසීලියානු ගෑනු ළමයෙක් වගේ ඇයත් ''අම්මා'' කියලා කියන්නත් ඉස්සරවෙලා සම්බා නටන්න පුරුදුවෙලා හිටියා. ඇයට අකමැති ඕනෑම අවස්ථාවක නැවත ඒමේ හැකියාවක් තිබුණා. අනිත් එක ඇය දැනටමත් ඉගෙනගෙන තිබුණා අවස්ථාවන් කියන ඒවා හැදිලාම තියෙන්නේ ඒකෙ වාසිය ගන්නම තමයි කියලා.

ඇගේ ජීවිත කාලයෙන් වැඩි හරියක් ඇය ගෙවා දමා තිබුණේ ''ඔව් '' කියන්න කැමැත්තෙන් හිටපු ඒවාට ''බැහැ'' කියලා කියන්නයි. ඇයට පාලනය කර ගන්න පුළුවන් අවස්ථාවලදි විතරයි එහෙම තීරණයක ඇය හිටියේ. උදාහරණයක් විදියට පිරිමින් එක්ක තිබුණු සමහර ප්‍රේම සම්බන්ධකම්වලදී වගේ. දැන් ඇය මුහුණ දෙමින් හිටියේ නොදන්නා දෙයකටයි. හරියට ඇය ඉතිහාස පන්තියේදී ඉගෙන ගත්තා වගේ මේ නොදන්නා මහා සාගරය වරෙක තරණය කරපු යාත්‍රිකයෝ වගේ. ඇයට හැම තිස්සෙම ''බැහැ'' කියලා කියන්න පුළුවන්කම තිබුණා. ඒත් ඇය ඇගේ ඉතිරි ජීවිත කාලයම ඒ ගැන පසුතැවෙමින් ජීවත් වෙන්නද? හරියට එක පාරක් ඇගෙන් පැන්සලක් ඉල්ලලා ඊට පස්සේ අතුරුදන් වෙලා ගිය - ඇගේ පළමු ආදරය? - ළමයා පිළිබඳ මතකය ගැන පසුතැවෙනවා වගේ? ඇයට හැමතිස්සේම ''බැහැ'' කියලා කියන්න පුළුවන්කම තිබුණා. ඒත් ඇය මේ පාර ''ඔව්'' කියලා කියන්න උත්සාහ නොකරන්නේ?

මේකට පොඩි හේතුවක් තිබුණා. ඒ තමයි ඇය බ්‍රසීලයේ ඇතුළු ගමකින් ආපු, පාසල හැරුණට පස්සේ ජීවිතය ගැන කිසිදු අත්දැකීමක් නැති, රූපවාහිනී නාට්‍ය ගැන ගොඩක් දේවල් දන්න, රූමත් කියලා විශ්වාසයෙන් යුත් ගෑනු ළමයෙක් වීම. මේ දේවල් ලෝකෙට මූණදෙන්න තරම් ප්‍රමාණවත් එකක් වුණේ නැහැ. ඇය දුටුවා මුහුදට යාමට බයෙන් ඒ දෙස බලමින්, සිනාසෙමින් ඉන්න මිනිස්සු කණ්ඩායමක්. දවස් දෙකකට කලින් ඇයට දැනුණේත් මේ වගේ හැඟීමක් තමයි. ඒත් තව දුරටත් නම් ඇය බය වුණේ නැහැ.

ඇයට ඕනවුණු හැම වෙලාවේම ඇය දියට බැස්සා. හරියට ඇය ඒකෙ ඇතුළෙ ඉපදුණා වගේ. ඉතිං යුරෝපයත් මේ වගේම නොවී තියේවිද?

ඇය නිශ්ශබ්දව යාඥා කරමින් නැවතත් මරියතුමීගෙන් උපදෙස් ඉල්ලා සිටියා. තත්පර කිහිපයකට පසුව ඇගේ තීරණයත් සමඟ ඉදිරියට යාමේ ඉතාමත් පහසුවක් ඇයට දැනුණා. මොකද ඒ ඇයට සුරක්ෂිත හැඟීමක් දැනුණු නිසයි. ඇයට ඕනෑම වෙලාවක නැවත පැමිණෙන්න පුළුවන් වුණත් මේ වගේ සංචාරයක් කරන්න අවස්ථාවක් නැවත ලැබෙන එකක් නම් නැහැ. සිහින නොනැසී ඉතිරිවන පැය හතළිස් අටක වායුසමීකරණ රහිත බසයකින් ගෙදර බලා යන ගමනත්, ස්විස් ජාතිකයා තම අදහස වෙනස් නොකර සිටින තාක් මෙම අවදානම ගැනීම වඩා සුදුසු වුණා.

ඔහු නැවතත් රාත්‍රී ආහාර ගැනීම සඳහා ඇයට ඇරයුම් කරන විට ඇය ජීවයෙන් පිරී සිටියා. ඇය ඔහු පොළඹවනසුලු ආකාරයෙන් පෙනී සිටින්නට අවශ්‍යව ඔහුගේ අත ඇගේ අත්ලෙහි රඳවා ගත්තා. නමුත් ඔහු වහාම අත අහකට ගත්තා. ඒත් එක්කම මරියා තේරුම් ගත්තා - බියෙන් සහ සහනදායි හැඟීමක් මිශ්‍රිතව - එයා කියපු දේවල් වගකීමකින් කියලා තියෙනවා කියලා.

''සම්බා ස්ටාර් '' ඔහු කිව්වා. ''ලස්සන බ්‍රසීලියානු සම්බා තරුව ලබන සතියේ යනවා''!

සියල්ල ඉතා හොඳින් ඉටුවී තිබුණා. ඒත් ලබන සතියේ යන එක වෙනමම කාරණාවක්. පවුලේ අයගෙන් ඒ ගැන විමසන්නට පෙර තීරණයක් ගත නොහැකි බව ඇය පැහැදිලි කළා. ස්විස් ජාතිකයා කෝපයට පත්ව අත්සන් යෙදූ ගිවිසුමේ කොපියක් ඇයට පෙන්නුවා. ඒ මොහොතේ පළමු වතාවට ඇගේ සිතට බියක් දැනුණා.

''ගිවිසුම!'' ඔහු කිව්වා.

කොහොම වුණත් ඇය ගෙදර යන්නට අධිෂ්ඨාන කරගත්තා. මුලින්ම ඇගේ එජන්තයා වන මේල්සන් හමුවන්නට තීරණය කළා. ඔහුට ගෙවලා තිබුණේ ඇයට උපදෙස් දෙන්නටයි.

කොහොම උනත් මේල්සන් ඒ මොහොතේ හෝටලයට පැමිණ උඩුකය නිරුවත්ව වෙරළේ අව්ව තපිමින් හිටිය ජර්මානු

ස්ත්‍රියක් පොළඹවා ගන්නට උත්සාහ ගනිමින් හිටියා. ඔහු ඇයට ඒත්තු ගැන්නුවා බ්‍රසීලය ලෝකයේ තියෙන බොහොම නිදහස් රටක් කියලා. (ඇය පමණක් වෙරළේ පියයුරු නිරුවත් කරගෙන සිටින බවත් සියල්ලන්ම නොසන්සුන්ව ඇය දෙස ඇහැ ගහගෙන සිටින බවත් නොදකපු) ඉතින් ඇය කියන දේට ඔහුගේ අවධානය ගන්න බොහෝම අසීරු වුණා.

''නමුත් මම මගේ අදහස වෙනස්කර ගන්නවා නම්?'' මරියා තදින් කියා සිටියා.

''මම දන්නේ නෑ ගිවිසුමේ මොනවද තියෙන්නෙ කියලා. ඒත් මම හිතනවා එයා ඔයාව අත්අඩංගුවට ගනිවී කියලා.''

''එයාට කවදාවත් මාව හොයාගන්න පුළුවන් වෙන්නෙ නෑ''

''හරියට හරි. ඉතිං ඇයි කරදර වෙන්නේ?''

අනෙක් අතට ස්විස් ජාතිකයා ඩොලර් පන්සීයයක් වියදම් කරලා තිබුණා, සපත්තු ජෝඩුවකට ගෙවලා තිබුණා, ඇඳුමකටත්, රාත්‍රී භෝජන සංග්‍රහ දෙකකටත්, ලිපි ලේඛන කටයුතුවලටත් විවිධ ගෙවීම් කරපු ඔහු කනස්සල්ලට පත් වුණා. මරියා තදින්ම ගෙදර අය එක්ක කථා කරන්න ඕන කියලා කියපු නිසා ඔහු තීරණය කළා ගුවන් ටිකට්පත් දෙකක් අරගෙන ඇයත් සමඟ ඇය උපන් දිහාවට යන්නට. කෙසේ වූවත් පැය හතළිස් අටක් ඇතුළත සියල්ල හමාර කළ හැකි නිසා ඔවුන් කථා කරගත් විදිහට ඊළඟ සතියේ යුරෝපෙට යන්නට පුළුවන්කම තිබුණා. එකිනෙකා සමඟ සිනාපෑම් කරන අතරතුර ඇය අවබෝධ කරගන්නට පටන් ගත්තා ඇය අත්සන් කර තිබූ ලියකියවිලිවලට අනුව පොළඹවගැනීම්, හැඟීම් හා ගිවිසුම් දක්වා එය පැමිණි පසු කිසිවෙක් ඒ සමඟ සෙල්ලම් නොකළ යුතු බව. එම කුඩා නගරයට ඔවුන්ගේ ආදරණීය දියණිය මරියාත් ඇය සමඟ පැමිණි ඇයව යුරෝපයේ තාරකාවක් බවට පත් කරන්නට ඕන වුණු විදේශිකයාත් දැකීම පුදුමයට වගේම ආඩම්බරයටද කාරණාවක් වුණා.

සියලු අසල්වාසීන්ට මේ ආරංචිය කන වැකුණා. ඇගේ පැරණි පාසල් මිතුරියන් ඇහුවා : ''කොහොමද ඒක වුණේ?''

''මම වාසනාවන්තයි''

ඔවුන්ට දැනගන්න ඕන වුණේ මේ වගේ දේවල් රියෝ ද ජනීරෝ නගරයේ නිතරම සිද්ධ වෙනවද කියලා. මොකද ඔවුන් මේ වගේ සිදුවීම් රූපවාහිනී නාට්‍යවලින් දැකලා තිබුණා. මරියාට ඒ ගැන පැහැදිලි අදහසක් පළකරන්න උවමනා වුණේ නැහැ. මොකද ඇයට ඕන වුණා ඇගේ පෞද්ගලික අත්දැකීම්වලට විශාල වටිනාකමක් දෙන්න. ඇය ඇගේ යෙහෙළියන්ට හැඟෙව්වා ඇය සුවිශේෂී කෙනෙක් කියලා.

ඇය ඔහුත් සමඟ ඇගේ නිවස ඇතුළට ගිය අතර ඔහු බ්‍රසීලය කියලා ''Z' අකුර පාවිච්චි කරලා ලියපු රවුම් පත්‍රිකා බෙදා දුන්නා. ඒ වාගේම ගිවිසුමත් පෙන්නුවා. මේ අතර මරියා පැහැදිලි කළා ඇයට දැන් ඒජන්තයෙක් ඉන්නවා කියලාත්, ඒ වගේම ඇය නිළියක් විදිහට වෘත්තියක් අරඹන්නට අදහස් කරගෙන ඉන්නවා කියලාත්. විදේශිකයා පෙන්වූ ඉතාමත් කුඩා නාන ඇඳුම් හැඳ සිටි ගැහැනු ළමයි ඉන්න පින්තූර දැකපු ඇගේ මව කිසිදු ප්‍රශ්න කිරීමකින් තොරව ඉතා ඉක්මනින් ඒවා නැවත දුන්නා. සියල්ලටම වඩා වැදගත් වුණේ තම දියණිය පොහොසත්ව සතුටින් සිටීමයි. නැතිනම්, සතුටින් නැතත් අඩු තරමේ පොහොසත් අයකු වීමයි.

''මොකක්ද එයාගේ නම?''

''රොජර්''

''රොජෙරියෝ මටත් හිටියා රෙජෙරියෝ කියලා ඥාති සහෝදරයෙක් ''

ස්විස් ජාතිකයා සිනාසී අත්පුඩි ගැසුවත් ඔවුන්ට තේරුණා ඔහුට කිසිවක් වැටහුණේ නැති බව. මරියගේ පියා කිව්වා : ''එයා මගේම වයසේ වගේනේ''

ඇගේ මව ඒ ගොල්ලන්ගේ දියණියගේ සතුටට අකුල් නොහෙළන ලෙස ඔහුට කිව්වා. බොහෝ ඇඳුම් මහන්නියන් ගනුදෙනුකාරයෝ එක්ක ගොඩක් හැප්පිලා තියෙන හින්දා, විවාහය ගැන විශාල දැනුමක් ලබාගෙන තිබුණා. ඇගේ අවවාදය වුණේ මෙච්චරයි :

''මගේ දරුවො, පොහොසත් මිනිහෙක් එක්ක අසතුටින් ඉන්න එක දුප්පත් මිනිහෙක් එක්ක සතුටෙන් ජීවත් වෙන එකට

වඩා හොඳයි. ඒ විදිහට ඔයාට අසතුටෙන් ජීවත්වන පෝසත් ගෑනියෙක් වෙන්න තියෙන ඉඩකඩ වැඩියි. ඒ ඇරුණාම කිසිදෙයක් හරි නොගියොත් ඔයාට ඕනම වෙලාවක බස් එකට නැගිලා ගෙදර එන්න පුළුවන් ''

මරියා ගමකින් ආපු ගෑනු ළමයෙක් වුණත් ඇගේ මවටත්, අනාගත ස්වාමි පුරුෂයා හිතනවාටත් වඩා ඇය බුද්ධිමත් කෙනෙක්. ඉතිං ඇය ප්‍රකෝපකාරීව මෙහෙම කිව්වා.

''අම්මා, යුරෝපෙ ඉඳලා බ්‍රසීලෙට එන්න බස් එකක් නැහැ. ඒ ඇරුණහම මට ඕන නිළියක් වෙන්න මිසක් කසාද බඳින්න නෙමෙයි.''

ඇගේ මව බලාපොරොත්තු රහිත බැල්මක් හෙළුවා.

''ඔයාට එහෙ යන්න පුළුවන් වගේම, ඕන වෙලාවක ආපහු එන්නත් පුළුවන්. නිළියක්, නැටුම් ශිල්පිනියක් වෙන එක තරුණ ගෑනු ළමයකුට හොඳයි තමයි. ඒත් ඒක තියෙන්නේ පෙනුම තියෙනකම් විතරයි. වයස අවුරුදු තිහ වෙනකොට ඒක නැතිවෙන්න පටන් ගන්නවා. ඉතිං පුළුවන් තරම් දේවල් දැන්ම කරන්න. කවුරු හරි ඔයාට අවංකව ආදරය කරන කෙනෙක්ව හොයාගෙන එයාව කසාද බඳින්න. ආදරය එච්චරම වැඩක් ඇති එකක් නෙමෙයි. මම එක පාරටම ඔයාගෙ තාත්තට ආදරේ කළේ නැහැ. ඒත් සල්ලි හැමදේම වෙනස් කරනවා. අවංක ආදරය වුණත්. බලන්න ඔයාගේ තාත්තා, එයා අඩුම ගානේ පොහොසත් කෙනෙක්වත් නෙමෙයි!''

ඒ උපදෙස් යාළුවෙක්ගෙන් නම් නරක එකක්. ඒත් ඒක අම්ම කෙනෙක්ගෙන් ලැබුණු හොඳ උපදෙසක් උනා. පැය හතළිස් අටකට පස්සේ, මරියා නැවත රියෝ නගරයට ගියේ ඇය කලින් සේවය කෙරූ සාප්පුවට අස්වීමේ සහතිකය දෙන්නේවත් සාප්පු අයිතිකාරයා කියන දෙය නොඅසාවත් නොවෙයි.

''ඔව් මට ආරංචි වුණා ප්‍රංශ ප්‍රසංග සංවිධායකයෙක් ඔයාව පැරීසියට එක්කන් යන්න ඇවිල්ල තියෙනවා කියලා. ඔයාගේ සතුට හොයාගෙන යන ගමනට මට ඔයාට බාධා කරන්න බැහැ. ඒත් මට ඔයා යන්න කලින් කියන්න දෙයක් තියෙනවා. ''

ඔහු පදක්කමක් එල්ලපු මාලයක් සාක්කුවෙන් එළියට ගත්තා.

 

''මේක අපේ දෙවිතුමියගේ හාස්කම් තියෙන පදක්කමක්. ඇගේ පල්ලියක් ප්‍රංශයේ තියෙනවා. ඔයා එහේ ගිහින් ආරක්ෂාව ඉල්ලල ඇයට යාඥා කරන්න. බලන්න, මරියතුමී වටේ කැටයම් කරලා තියෙන අකුරු දිහා.''

මරියා ඒක කියෙව්වා. ''පාපයක් නොමැතිව පිළිසිඳගත් මරියතුමියනි. ඔබ වෙත පැමිණෙන අය වෙනුවෙන් යාඥා කරනු මැනවි. ආමේන් ''

''මේ වචන දවසකට එක සැරයක්වත් කියන්න අමතක කරන්න එපා. ඒ වගේම...''

ඔහු පැකිළුණා. නමුත් දැනටමත් ප්‍රමාදවෙමින් තිබුණා.

''ඔයා නැවත කවද හරි ආවොත්, මම ඔයා වෙනුවෙන් බලාගෙන ඉන්නවා. මට ඔයාට කියන්න තිබුණු පුංචිම දේ මඟහැරුණා : මම ඔයාට ආදරෙයි. ඒකට දැන් පරක්කු වැඩි ඇති. මට ඕන වුණේ ඒක ඔයා දැනගන්නයි. ''

අවස්ථාව මඟ හැරීම. ඒකෙ තේරුම ඇය හුඟාක් කලින්ම ඉගෙන ගෙන තිබුණා. ''මම ඔයාට ආදරෙයි '' කියන වචන තුන ඇගේ ජීවිතේ වසර විසි දෙකක් පුරාවට අහල තිබුණා. දැන් ඇයට ඒවා කිසිම තේරුමක් නැති වුණා. මොකද ඒවා කවදාවත් වගකීමක් සහිත ගැඹුරු දේවල් බවට පත් නොවුණු නිසා. ඒ වාගේම සදාකාලික සම්බන්ධතාවකට ඒවා පරිවර්තනය නොවුණු නිසා. ඇය ඔහුට ස්තුති කළා. ඒ වචන ඇය මතකයේ රඳවා ගත්තා. (කවුද දන්නේ ජීවිතය අපි වෙනුවෙන් මොනවද ඉතුරු කරලා තියෙන්නෙ කියලා. ඒ නිසා හදිස්සියකදී මොකක් ද කරන්නේ කියලා දැනගෙන ඉන්න එක හැම තිස්සෙම හොඳයි.) ඇය ඔහුට තිකම්ම හාදුවක් කම්මුලේ තබා නැවත හැරී නොබලාම පිටවුණා. ඔවුන් රියෝ වෙත පැමිණියා. දවසක් ඇතුළත ඇගේ ගමන් බලපත්‍රය ඇයට ලැබුණා. (බ්‍රසීලය ගොඩක් වෙනස්වෙලා කියලා පෘතුගීසි වචන කිහිපයකුත්, බොහෝ අංග චලනත් භාවිත කරලා රොජර් කියපු අදහස මරියා ''වැඩිපුර අවුරුදු ගාණක කාලයක් නොගෙන'' තේරුම් ගත්තා.'' මේල්සන්, ආරක්ෂක නිලධාරියා, පරිවර්තකයා, නැතිනම් ඒජන්තයාගේ උදව් ඇතිව අනෙකුත් කළමනාද ලැස්ති කරගත්තා. (ඇඳුම්, සපත්තු, රූපලාවන්‍ය බඩු, ගැහැනියකට අවශ්‍ය

යැයි කියලා කැමැත්තෙන් ඉන්න සියල්ල.) යුරෝපෙට යන්නට පෙර හැන්දෑවේ රාත්‍රී සමාජ ශාලාවකට ගියා. එහිදී ඇය නටනවා දැකපු රොජර් ඔහුගේ තෝරාගැනීම පිළිබඳව සංතෝෂ වුණා. ළා පැහැති ඇස් ඇති ග්‍රවුනාවකුගේ පියාපත් වැනි කළුවන් හිසකේ ඇති (දේශීය ලේඛකයන් කළු කොණ්ඩයට නිතරම උපමා කරන බ්‍රසීලියානු කුරුල්ලෙක්) මේ රූමත් දුඹුරු හමින් යුතු ගෑනු ළමයා, අනාගත සුපිරි කැබරේ තරුවක් වීමේ ලක්ෂණ ඔහු ඉදිරියේ පැහැදිලිවම පෙනෙන්නට තිබුණා. ස්විස් කාර්යාලයෙන් රැකියා බලපත්‍රය ද සූදානම් කර තිබුණා. ඔවුන් බඩු බාහිරාදිය අසුරාගෙන පසුදින පියාසර කළේ චොකලට්, ඔරලෝසු, චීස් සහිත දේශයකටයි. ඒ සමඟම ඇය රහසින් සැලසුම් කළා මේ පුද්ගලයාගේ ආදරය දිනාගන්නට. අන්තිමට බැලුවහම, එයා එච්චර නාකි, අවලස්සන දුප්පත් කෙනෙක් නෙමෙයි. තව මොනවද ඇයට උවමනා?

# 6

දූඩි වෙහෙසකින් යුතුව ඇය සේන්දු වූ අතර ගුවන් තොටුපොළ තුළ සිටියදීත් ඇගේ හදවත බියෙන් සලිත වී ගියා. ඇයට තේරුම් ගියා ඇය සමඟ පසෙකින් සිටින පුද්ගලයා මත සම්පූර්ණයෙන්ම පාහේ යැපෙන බවක් - ඒ රට ගැන, භාෂාව ගැන හෝ සීතල ගැන ඇය කිසිවක්ම දන සිටියේ නැහැ. රොජර්ගේ හැසිරීම් රටාවද ක්‍රම ක්‍රමයෙන් වෙනස් වන්නට පටන් ගත්තා. ඔහු තව දුරටත් ප්‍රියමනාප ලෙස ඉන්නට උත්සාහ ගත්තේ නැහැ වගේම කොයිම වෙලාවකවත් ඇය සිපගන්නටත් ඇගේ පියයුරු ආදරයෙන් සුරතල් කිරීමටත් උත්සාහ ගත්තේ නැහැ. ඔහුගේ දෑස්වල දුරස්තභාවය කෙමෙන් කෙමෙන් වැඩි වුණා. ඇයව වැඩ සඳහා පුරුදු කිරීම භාරව සිටිනවා යැයි සිතිය හැකි දුක්මුසු ප්‍රාණියකු වූ විවියන් ලෙස ආමන්ත්‍රණය කළ තවත් තරුණ බ්‍රසීලියානු කාන්තාවකට හඳුන්වා දෙමින් ඔහු ඇයව කුඩා හෝටලයක රැඳෙව්වා.

කිසිදා පිටරටකට පය නොතැබූ අයකු දෙස බලන අනුකම්පා සහගත භාවයකින් තොරව විවියන් ඇගේ හිසේ සිට දෙපතුළ දක්වා සැහැල්ලු බැල්මක් හෙළුවා. ඇයට කොහොමදැයි නොඅසාම කෙළින්ම කාරණාවට බැස්සා.

''ඔයාවම රවට්ට ගන්න එපා. එයාගේ නටන කෙනෙක් කසාද බැන්දහම එයා හැමදාම බ්‍රසීලෙට යනවා. ඒක බොහෝම නිතර දෙවේලේ සිද්ධ වෙන එකක්. එයා දන්නවා ඔයාට ඕන දේ. මම හිතනවා ඔයත් දන්නවා ඇතියි කියලා. ඔයා ගොඩක් වෙලාවට මේ කරුණු තුනෙන් එකක් වෙනුවෙනුයි මෙතන ඉන්නේ - නිර්භීතකම, සල්ලි, සැමියෙක්.''

ඇය කොහොමද දන්නේ? සියල්ලන්ම හොයමින් හිටියේ එකම දෙයක්ද? එහෙමත් නැත්නම් විවියන්ට අනුන්ගේ හිත් කියවන්න පුළුවන්ද ?

''මෙහෙ ඉන්න හැම ගෑනු ළමයෙක්ම ඔය කාරණා තුනෙන් එකක් තමයි හොයන්නේ.'' විවියන් කියා සිටියා. මරියාට ඇත්තටම හිතුණා ඇයට තමාගේ හිත කියවන්න පුළුවන් කියලා. ''මෙහෙ තියෙන සීතලත් එක්ක අවදානම් ගමන්වල යෙදෙන්න බැහැ. ඒ ඇරුණහම සංචාරය කරන්න තරම් මුදලක් උපය ගන්නත් අමාරුයි. ඒ සල්ලිවලින් කාමරේ කුලියයි කෑමට යන ගාණයි අඩුවෙනවා. ඔයාට අවුරුද්දක්වත් අඩුම ගානේ වැඩ කරන්න වෙනවා. ආපහු යන්න ටිකට් එක හදාගන්න.''

''ඒත්...''

''මම දන්නවා. ඒකට නෙමෙයි ඔයා පොරොන්දු වුණේ. ඒත් ඇත්ත ඒක තමයි. අනිත් හැමෝටම වගේ ඔයාටත් අහන්න අමතක වුණා. ඔයා මීට වඩා පරිස්සම් වුණා නම්, ඒ කියන්නේ ඔයා අත්සන් කරපු ගිවිසුම හොඳින් කියෙව්වා නම් හොඳින්ම දැනගන්න තිබුණා ඔයාට මොනවද ලැබෙන්නේ කියලා. මොකද ස්විස් ජාතිකයෝ බොරු කියන්නේ නැහැ. ඒ ගොල්ලෝ නිහඬතාවය වාසියට හරව ගන්නවා.''

මරියට පොළොව කැරකැවෙනවා වගේ දැනුණා.

''ඉතිං ස්වාමි පුරුෂයෙක් ලබාගන්න. ගෑනු ළමයෙක් කසාද බැන්ද ගමන් රොජර්ට ඒක ලොකු පාඩුවක් වෙනවා. ඉතින් අපිට ගනුදෙනුකාරයො එක්ක කථා කරන්න තහනම්. ඔයා ඒ මාර්ගයෙන් සල්ලි හොයන්න හිතාගෙන ඉන්නවනං ඔයාට ලොකු අවදානමකට මූණ දෙන්න වෙනවා. මේක ''රියූ ද බැර්න්'' වගේ ඇවිත් තෝරගෙන යන තැනක් නෙමෙයි.

''රියූ ද බැර්න්?''

''පිරිමි මෙහාට එන්නේ ඒ ගොල්ලන්ගේ නෝනලත් එක්ක. ඒ වගේම පවුල් පරිසරයෙන් පොඞ්ඩක් මිදුණු විදේශිකයෝ කිහිපදෙනෙක් වෙන කොහේ හරි ගෑනු හොයාගෙන යනවා. මං හිතනවා ඔයා නටන්න දන්නව කියලා. ඔයාට සිංදු කියන්නත් පුළුවන්නං ඔයාගේ පඩිය වැඩිවෙයි. හැබැයි ඉතිං අනිත් ගෑනු

ළමයි ඉරිසියා කරන්න පුළුවන්. ඉතින් මං ඔයාට යෝජනා කරන්නේ, ඔයා මුළු බ්‍රසීලෙම ඉන්න හොඳම ගායිකාව වුණත්, ඒ හැමදේම අමතක කරන්න. අඩුම තරමේ උත්සාහ කරන්නවත් එපා. ඒ ඔක්කෝටම වඩා ටෙලිෆෝන් එක පාවිච්චි කරන්න එපා. ඔයා හම්බ කරන හැම සතයක්ම ඒකට වියදම් වෙයි. ඒ වගේම ඔයාට ලොකු මුදලක් හම්බ කරන්න බැහැනේ.''

''එයා මට සතියකට ඩොලර් පන්සීයක් ගෙවන්න පොරොන්දු වුණා ''

''ආං... ඇත්තට''

මරියාගේ දිනපොතෙන්, ස්විස්ටර්ලන්තයේ ගෙවෙන දෙවන සතියේදී.

මම රාත්‍රී සමාජ ශාලාවට ගිහින් මොරොක්කෝ කියන පැත්තෙන් ආපු නැටුම් අධ්‍යක්ෂව මුණ ගැසුණා. එයා බ්‍රසීලයට කවදාවත් අඩියවත් නොතියපු - සම්බ කියලා හිතාගෙන ඉන්න හැම නැටුම් පියවරක්ම මට ඉගෙන ගන්න වුණා. මට අඩුම තරමේ දීර්ඝ ගුවන් ගමනට පස්සේ විවේක ගන්න කාලයක්වත් ලැබුණේ නැහැ. මට සිද්ධ වුණා පළමු රාත්‍රියේදීම නටන්නටත්, සිනහ වෙන්නටත්. මෙතන අපි හය දෙනෙක් ඉන්නවා. ඒ වගේම අපි එක්කෙනෙක්වත් සංතෝසෙන් නෙවෙයි ඉන්නෙ, අපි කවුරුත් දන්නෑ මෙතන මොනවද කරන්නෙ කියලා. මෙතෙන්ට එන අය බොමින් අත්පොළසන් දෙනවා. ඇතින් ඉඳලා හාදු එවනවා. සමහරු කාටවත් නොපෙනෙන්න අසභ්‍ය ඉඟි පානවා. එත් ඒ දුරදිග ගියොත් විතරයි.

මට ඊයේ මුදල් ලැබුණා. ඒ පොරොන්දු වුණ ගාණින් දහයෙන් පංගුවක් විතරයි. ගිවිසුමට අනුව ඉතිරි මුදල මගේ ගුවන් ටිකට් පතට හා නවාතැන් ගාස්තු සඳහායි. විවියන්ගේ ගණන් බැලීම්වලට අනුව මෙතනින් පලා යන්නට තව අවුරුද්දක්වත් ගතවේවි.

එක අතකට මෙතනින් පලායන එකේ තේරුම කුමක්ද? මම තවම ආවා විතරයි. තාම කිසිවක් දැකලත් නැහැ. සතියට

ඊ හතක් නටන්න මොකද්ද තියෙන අපහසුව? මම ඒක ඉස්සර කළේ විනෝදෙට. දැන් ඒක කරන්නෙ සල්ලිවලට, ජනප්‍රියත්වයට. මගේ කකුල් නම් රිදෙන්නෙ නෑ. ඒත් කරන්න අමාරු දේ තමයි සිනහව දිගටම මූණෙ රඳවගෙන ඉන්න එක.

මට තෝරාගන්න පුළුවන් ලෝකයාට අනුව වූදිතයෙක් වෙන්නත් වස්තුව හොයාගෙන අවදානම් ගමනක යන කෙනෙක් වෙන්නත්. ඒ සියල්ල මම ජීවිතය දිහා බලන ආකාරය පිළිබඳ ප්‍රශ්නයක් විතරයි.

# 7

මරියා වස්තුව හොයාගෙන අවදානම් ගමනක යන කෙනෙක් වෙන්න තීරණය කළා. ඈය ඈගේ හැඟීම් පැත්තකින් තැබුවා. සෑම රාත්‍රියකම හැඬීමත් පැරණි පුරුදු ජීවන විලාසයත් අමතක කරල දැම්මා. ඈය අවබෝධ කරගත්තා අලුත ඉපදුණු කෙනෙක් විදිහට ඉන්නටත් ඕනෑම කෙනෙක් මග නොහරින්නටත් තරම් ආත්ම ශක්තියක් ඈයට තිබෙන බවත්. හැඟීම් කාලයක් බලා සිටීවී. දැන් ඈයට ඕන වුණේ සල්ලි හම්බ කරන්නයි, රට තොට ගැන දැනගන්නයි, ජයග්‍රාහීව ගෙදර යන්නයි.

ඒ ඇරුණාම, ඈගේ වටා තිබුණු හැමදේම සාමාන්‍යයෙන් බ්‍රසීලයට සමාන වුණා. විශේෂයෙන් ඈගේ කුඩා නගරයට සමාන වුණා. ගෑනු පෘතුගීසි භාෂාවෙන් කථා කළා, පිරිමි ගැන පැමිණිලි කළා, උස් හඬින් කථා කළා, වැඩ කරන කාලය ගැන නහයෙන් ඇඬුවා, රාත්‍රියේදී සමාජ ශාලාවට ගොඩවැදිලා හාම්පුතාට විරුද්ධව මුරණ්ඩු ලෙස හැසිරුණා, ඒ ගොල්ලො මුළු ලෝකෙම ඉන්න ලස්සන ගෑනු කියලා හිතුවා, කවදත් ඒ ගොල්ලන්ට වඩා හැතැප්ම ගණනාවක් දුරින් ඉන්න එහෙමත් නැත්නම් කසාද බැඳපු , නැතිනම් සතයක්වත් නැති, ඒ වගේම ඒ ගොල්ලන්ව මතකයෙන් ඉවත් කරපු ඔවුන්ගේ සිහින කුමාරවරු ගැන කථාන්දර කිව්වා. රොජර් ගෙනාපු පත්‍රිකා දිහා බලලා හිතපු එකට වඩා මේ සමාජ ශාලාව විවියන් කියපු එක වගේ එකක් වුණා. එකෙ ඇතුළෙ පවුලක වටපිටාවක් තිබුණා. ගෑනු ළමයින්ට සේවා බලපත්‍රයේ විදිහට ''සම්බා නැටුම් ශිල්පිනියන්'' ගනුදෙනුකාරයන්ගේ ආරාධනා පිළිඅරගෙන ඒ අයත් එක්ක එළියට යන්න තහනම් වුණා. කාගේ හරි ටෙලිෆෝන් නොම්බරයක් ලියපු සටහනක් අහුවුණොත් පුරා

සති දෙකක කාලයකට වැඩ තහනම් වුණා. ජීවයෙන් පිරි ප්‍රබෝධමත් ජීවිතයක් බලාපොරොත්තු වුණු මරියා ටිකෙන් ටික කනගාටුවටත්, විඩාපත් භාවයටත් යට වුණා.

පළමු සති දෙක ඇතුළත ඇය නැවතිලා හිටපු ගෙදරින් එළියට ගියේ බොහෝම කලාතුරකින්. විශේෂයෙන් ඇය කථා කරන භාෂාව කවුරුවත් කථා නොකරන හින්දා ඇය ඉතාමත් හෙමින් හැමදේම කිව්වත් ඒ ගොල්ලන්ට නොතේරෙන හින්දා. ඒ වගේම ඇය පුදුම වුණා ඇය ජීවත්වන නගරයට වෙනස් නම් දෙකක් තියෙනවා කියලා දැනගත්තහම. ඒ නගරයේ ජීවත් වුණු අයට ඒක ජෙනේව්. බ්‍රසීලියානුවන්ට ඒක ජෙනෙබ්‍රා.

රූපවාහිනියක් නොමැති කුඩා කාමරයේ දිගු, වෙහෙසකාරී පැය ගණනක් ගත කළ ඇය අවසානයේදී නිගමනය කළා:

(a) ඇගේ සිතුවිලි ප්‍රකාශ කරගන්නට බැරි වුණොත් ඇය සොයන දේ කිසිදාක සොයා ගන්නට නොහැකි වේවි. ඒක එහෙම කරන්නට නම්, ඇයට දේශීය භාෂාව ඉගෙන ගන්නට සිදුවෙනවා.

(b) ඇගේ මිතුරියන් සියලුදෙනාම බලාපොරොත්තුවන්නේ එකම දේ බැවින් ඇය වෙනස් විය යුතු වුණා. මේ සුවිශේෂී ගැටලුව සඳහා ඇයට තවමත් විසඳුමක් හෝ ක්‍රමවේදයක් තිබුණේ නැහැ.

මරියාගේ දිනපොතෙන්, ජනෙව්/ජෙනෙබ්‍රාවලට පැමිණීමෙන් සති හතරකට පසු.

මම දැන් අනන්ත කාලයක් මෙහි ගෙවා දමා තිබෙනවා. තවමත් මම මේ භාෂාව කථා කරන්නේ නැහැ. මුළු දවසම මම ගත කරන්නේ රේඩියෝවේ සිංදු අහන්නත්, කාමරය පුරා නෙත් යොමු කරන්නත්, බ්‍රසීලය ගැන කල්පනා කරන්නත්, වැඩට යන්නට බලාපොරොත්තු වෙන්නත්, වැඩ කරන කොට ආපහු කාමරයට එන්නට බලාපොරොත්තු වෙන්නත්. වෙන විදිහකට කියනවා නම් මම ජීවත් වෙන්නේ වර්තමානයේ නොවෙයි, අනාගතයේ.

දුර අනාගතයේ දිනක මට නැවත ගෙදර යන්නට ගුවන් ටිකට් පතක් ලැබේවි. නැවත බ්‍රසීලිය බලා යන්නටත් ඒ වාගේම රෙදි සාප්පුවේ අයිතිකාරයා කසාද බඳින්නටත්, ජීවිතය ගැන අවධානමක් කවදාවත් ගන්නේ නැති, අනුන්ගේ අසාර්ථකවීම් පමණක් පෙනෙන යාළුවන්ගේ ද්වේෂ සහගත විවේචන අහන්නටත් පුළුවන් වේවි. නැහැ මට එහෙම නැවත යන්නට බැහැ. එහෙම යනවට වඩා ගුවන් යානය මුහුද තරණය කරන විට ඉන් පිටතට පැනීම හොඳයි.

ගුවන් යානයේ ජනේල අරින්න බැරි හින්දා (මම කවදාවත් ඒක බලාපොරොත්තු වුණේ නැහැ. පිරිසිදු වාතයෙන් හුස්ම පොදක් ගන්න බැරි එක කොච්චර ලැජ්ජාවක්ද?) මම මෙහේම මැරිල යයි. ඒත් මම මැරෙන්න කලින් ජීවිතය වෙනුවෙන් සටන් කරන්න ඕන. මට තනියම නැගිටින්න පුළුවන් නම්, ඕනෑම තැනකට මට යන්න පුළුවන්.

# 8

පසුදින ඇය උදේ වරුවේ පැවැත්වුණු ප්‍රංශ භාෂා පාඨමාලාවකට සහභාගී වුණා. එහිදී ඇයට විවිධ වයස් කාණ්ඩවල විශ්වාස, ඇදහිලි සහිත මිනිසුන් හමුවුණා. පිරිමි තද පාට ඇඳුම් ඇඳ සිටිය අතර රත්‍රන් අත්පටි පැළඳ හිටියා. ගැහැනුන් හැමවිටම ලේන්සුවක් ඔළුවේ බැඳන් හිටියා. වැඩිහිටියන්ට ගොඩක් අත්දැකීම් තිබුණත් ඉගෙන ගැනීම නම් වුණේ අනෙක් පැත්තටයි. කුඩා ළමයි වැඩිහිටියන්ට වඩා ඉක්මනින් ඉගෙන ගත්තා. ඇයට ආඩම්බරයක් දැනුණා ඇගේ රට හැමෝම දැනගෙන හිටි බව දැනගත්තහම. සැණකෙළි, සම්බා, පාපන්දු, ලෝකයේ වඩා ප්‍රසිද්ධම පුද්ගලයා, පේලේ. මුලදී ඇයට ඉතා කැමැත්තෙන්ම ඒ ගොල්ලන්ගේ වචන උච්චාරණ නිවැරදි කරන්න අවශ්‍ය වුණත් (ඒක පේලේ! පේලේ!) විදේශික නම් වෙනස් කරලා කියලා හැම තිස්සෙම ඒක හරි කියලා හිතන පිස්සු මිනිස්සු ඇගේ නම මරිආ කියලා අවධාරණයෙන්ම කිව්වටත් පස්සේ ඇය ඒක හිමිහිට අත ඇරලා දැම්මා.

හවස් කාලයේදී, භාෂාව පුරුදු වෙන්නට වගේම ඇය, නම් දෙකකින් හඳුන්වන නගරයේ සැරි සරන්නටත් පටන් ගත්තා. ඇය ප්‍රණීත චොකලට් වර්ග කිහිපයක් හඳුනාගත්තා. මීට පෙර කිසි දිනක ඇය රස නොවිඳි චීස් වර්ගත්, වැව හරි මැද තියෙන විශාල දිය උල්පතත් හොයා ගත්තා. හිම (ඇගේ ගමේ කවුරුවත් අල්ලලාවත් නැති) කොක්කු , ගිනි උදුන් සහිත අවන්හල් (කවදාවත් ඇය ඒවා ඇතුළට නොගියමුත් ගිනිදැල් නඟන දීප්තිමත් දැල්ල බැලීමෙන් ප්‍රසන්න, සුභදායී හැඟීමක් ඇයට ලැබුණා.) ඔරලෝසු දැන්වීම් පමණක් තියෙන කඩසාප්පු නැති බව දැක ඇය පුදුමයට පත් වුණා. එහි බැංකුත් තිබුණා. ඒ වගේම ඇයට තේරුම් ගන්න

බැරි වුණා මෙච්චර කුඩා පදිංචිකරුවන් පිරිසකට මෙච්චර විශාල කඩසාප්පු ප්‍රමාණයක් අවශ්‍ය වුණේ ඇයි කියලා. ඒ වගේම ඇය දුටුවා ඒවා ඇතුළට කෙනෙක් යන්නෙත් කලාතුරකින් කියලා. කොහොම වුණත් ඇය තීරණය කළා ඒ ගැන වැඩිපුර විමසීමක් නොකර ඉන්න. තමාව පාලනය කර ගනිමින් වැඩ කරපු ඇය මාස තුනකට පස්සේ ඇගේ බ්‍රසීලියානු ලේ - හැමෝම හිතන ආකාරයට සංවේදීත්වයේ, කාමුකත්වයේ - හඬ නැගුවා. ඈ ඇගේ ප්‍රංශ පන්තියේම සිටි අරාබි ජාතිකයකු සමඟ ආදරෙන් බැඳුණා. ඒ ආදර සම්බන්ධය සති තුනක් පුරාවට තිබුණා. එක දවසක් රාත්‍රියේ දී ඇය තීරණය කළා නිවාඩුවක් අරගෙන ජිනීවා නගරයට යාබදව තිබෙන කන්දක් නැරඹීමට. එය පසු දින ඇය රැකියාවට පැමිණි වහාම කෝපයට පත් රොජර්ගේ කාර්යාලයට කරන ලද කැඳවීමක් දක්වා දුරදිග ගියා.

ඇය කාර්යාලයේ දොර ඇරගෙන එන්නටත් කලින්ම අනෙක් ගෑනු ළමයින්ට වැරදි ආදර්ශයක් දීම නිසා ඇයව රැකියාවෙන් ඉවත් කර තිබුණා. හිස්ටරික රොජර් නැවතත් කිව්වා බ්‍රසීල ගෑනු විශ්වාස කරන්න බැහැ කියලත්, ඒ වගේම ඔවුන් තමන්ව අවුලට පත් කරනව කියලත්. (අහෝ... මේ මෝනියාව සියල්ල සාමාන්‍යකරණය කරන හැටි ) හදිසි දේශගුණික වෙනස්වීම් නිසා දැඩි උණෙන් පෙලුණු බව ඇය කියන්නට උත්සාහ කළත් ඔහු ඒ කිසිවක් විශ්වාස කළේ නැහැ. ඒ වාගේම ඔහු අවධාරණය කළා නැවතත් බ්‍රසීලයට ගොස් ඇය වෙනුවට කෙනෙක් හොයාගන්න ඕනෙ කියලා. ඒ එක්කම කිව්වා වඩාත්ම සුදුසු වෙන්නේ යුගෝස්ලාව් සංගීතයට නටන වඩා රූමත් වඩා විශ්වාසදායක යුගොස්ලාවියානු ගෑනු ළමයි ප්‍රසංගයට යොදාගන්න එකයි කියලා.

මරියා ළාබාල කෙනෙක් වුණත් මෝඩ කෙනෙක් වුණේ නැහැ. වරක් ඇගේ අරාබි පෙම්වතා කියපු විදියට ස්විස් කම්කරු නීතිය බොහෝම තද එකක්. විශේෂයෙන් ඇය වැඩ කරන රාත්‍රී සමාජ ශාලාව මඟින් ඇගේ වැටුපෙන් වැඩි කොටසක් තබා ගන්නා නිසා ඇයව වහල් සේවයේ යොදවනවා කියලා ඇයට ඉතාමත් පහසුවෙන් ඔප්පු කිරීමේ හැකියාව තිබුණා.

ඇය නැවතත් රොජර්ගේ කාර්යාලයට ගියා. මේ වතාවේ යම් ප්‍රමාණයකට ප්‍රංශ භාෂාවෙන් කථා කරමින් ''නීතිඥයා'' කියන

වචනයද ඒ අතරට යොදා ගත්තා. ඇය කාර්යාලයෙන් ආපසු ආවේ අපහාස කිහිපයකුත්, ඩොලර් පන්දාහකුත් වන්දි වශයෙන් අරගෙනයි. - ඇගේ පිස්සුම සිහිනයත් අභිභවන මුදලක් - මේ ඔක්කොම ''නීතිඥයා'' කියන ඉන්ද්‍රජාලික වචනය නිසා. දැන් ඇයට ඇගේ අරාබි පෙම්වතා සමඟ කාලය ගත කරන්න නිදහසත්, තෑගි කිහිපයක් මිලදී ගන්නටත්, හිම සහිත ඡායාරූප ටිකක් ගන්නටත්, ජයග්‍රාහී ලෙස ආපහු ගෙදර යන්නටත් පුළුවන්කම තිබුණා.

ඇය මුලින්ම කළේ අසල්වැසි නිවසකට කතා කරලා ඇය ඉතා සන්තෝසෙන් ඉන්නව කියලා අම්මට කියන එකයි. ඒ වගේම ඇයට ඉතාමත් විශිෂ්ට වෘත්තීය මට්ටමක් ඉදිරියේදී ලබාගන්න පුළුවන්කම තියෙන නිසා ගෙදර අයට ඈ ගැන කතගාටු වෙන්න දෙයක් නැහැ කියලාත් කිව්වා. ඊට පස්සේ ඇයට රොජර් සූදානම් කරලා දීපු නවාතැනින් යන්න සිදුවුණු හින්දා අරාබි පෙම්වතා හැරෙන්නට වෙනත් යන්න තැනක් ඇයට තිබුණේ නැහැ. ඇගේ නොමියෙන ආදරය ප්‍රකාශ කරලා, අමුතුම තාලේ හිසේ බඳින ලේන්සුව පැළඳීමට සිදුවුණත් ඔහුගේ ආගමට හැරිලා ඔහුව කසාද බැඳිය යුතුයැයි ඇය කල්පනා කළා. මේ ඔක්කොටම වඩා, හැමෝම දන්න විදියට අරාබිකාරයෝ සෑහෙන්න පොහොසත් අය. ඒ ඇති!.

කොහොම වුණත් ඒ අරාබිකාරයා ඒ වෙන කොටත් බොහෝම දුර ගිහිල්ලා තිබුණා. ගොඩක් වෙලාවට ඒ ඇය කවදාවත් අසා දැන නොසිටි අරාබියටම වෙන්න පුලුවන්. මරියා හද පත්ලෙන්ම මරියතුමීට ස්තුතිවන්ත වුණා. ඇගේ ආගම පාවා දෙන්නට සිදු නොවීම ගැන. දැන් ඇය යම් පමණකට ප්‍රංශ භාෂාව කතා කරන්න පුළුවන්කම ලබාගෙන තිබුණා. ආපහු ගෙදර යන්න ගුවන් ටිකට්පතක් ගන්න සෑහෙන සල්ලිත්, සම්බා නැටුම්කාරියක් විදියට තිබුණු රැකියා බලපත්‍රයත්, තවමත් කල් ඉකුත් නොවූ වීසා බලපත්‍රයත් නිසා ඇය දැනන් හිටියා ඕනෑම මොහොතක තමන්ගේ රටට ගිහින් ඇගේ පැරණි හාම්පුතාවත් කසාද බඳින්න පුළුවන් කියලා. ඉතිං ඇය තීරණය කළා තමන්ගේ රූපය පාවිච්චි කරලා තව ටිකක් මුදල් හම්බ කරන්න.

බ්‍රසීලයේදී ඇය ගොපල්ලෙක් නොයෙක් කරදරවලට මුහුණ පාමින් තමාගේ වස්තුව හොයාගෙන යන හැටිත්, ඒ කරදර තුළින්ම

තමන්ගේ අරමුණුවලට ළඟාවෙන හැටිත් ගැන ලියවුණු පොතක් කියවලා තිබුණා. ඇයත් හිටියේ හරියටම ඒ වගේ අඩියකයි. ඇය අවබෝධ කරගත්තා ඇයව රස්සාවෙන් ඉවත් කළ හේතුව විසින්ම ඇයට නිරූපිකාවක් වීමේ සත්‍ය දෛවයත් සොයාගත හැකි බවට.

ඇය කුඩා කාමරයක් කුලියට ගත්ත. (එහි රූපවාහිනී යන්ත්‍රයක් තිබුණේ නැහැ. තවත් ගොඩක් මුදල් හම්බ කරනකං ඉතා අරපිරිමැස්මෙන් ඇයට ඉන්න සිදුවුණා) පසුදින ඇය විවිධ නියෝජිත කාර්යාල කිහිපයකට ගිහින් විමසීම් කළා. ඔවුන් හැම කෙනෙක්ම පැවසුවා වෘත්තීය මට්ටමේ ඡායාරූප කිහිපයක් ඇය ලබාගත යුතුයි කියලා. කොහොම වුණත් අන්තිමේදී ඒක වෘත්තීය වෙනුවෙන් කරන ආයෝජනයක්නේ. හීන එහෙම ලාබෙට ඉටුකරගන්න බෑ. ඈ සතුවූ මුදලින් විශාල ප්‍රමාණයක් වැඩිය කථා නොකරපු, ඒත් සෑහෙන ඉල්ලුමක් තිබුණු ඉහළ මට්ටමේ ඡායාරූප ශිල්පියෙක් වෙත යෙදෙව්වා. ඔහුගේ චිත්‍රාගාරය ඇතුළෙ විවිධාකාරයේ ඇඳුම් රාශියක එකතුවක් තිබුණා. ඒ වගේම සාමාන්‍ය ඇඳුම්, විචිත්‍රවත් මිල අධික ඇඳුම්, ඒවාගේම නාන ඇඳුමක්ද ඇඳගෙන ඇය කැමරාව ඉදිරියේ පෙනී හිටියා. ඇය රියෝ ද ජනයිරෝවල හැඳින සිටි එකම පුද්ගලයා, ආරක්ෂක නිලධාරියා නැතිනම් පරිවර්තකයා, හෙවත් පැරණි නියෝජිතයා, මේල්සන් මෙය දුටුවා නම් ආඩම්බරයට පත්වේවි. අමතර ඡායාරූප කිහිපයක් ඉල්ලාගත් ඈ තමන් කොච්චර සන්තෝසෙන් ස්විස්ටර්ලන්තයේ ඉන්නවද කියලා ලියපු ලියුමක් සමඟ ගෙදරට තැපැල් කළා. ඒ ගොල්ලො හැම කෙනෙක්ම ඇය පොහොසත් කෙනෙක් විදිහට ඊර්ෂ්‍යා උපදවන අන්දමේ ඇඳුම් අල්මාරියක්ම තියෙන කෙනෙක් විදිහටත් හිතාවි. ඒක ඇගේ පුංචි ගමේ කීර්තිමත්ම දියණිය ලෙස ඇයව පත්කරාවි. මේ සියල්ල නියමාකාරයෙන් සිදුවුණොත් (ජයග්‍රහණය සහතික කරගන්නට ඇය අවශ්‍ය තරම් ධනාත්මක චින්තනය ගැන පොත්පත් කියවා තිබුණා) පෙරළා ගමට පැමිණෙන විට ඇයව බැන්ඩ් ගසා පිළිගනීවි. ඒ වගේම පසුව නගර චතුරස්‍රයට ඇගේ නම තැබීමට නගරාධිපතිට කියන්නට උත්සාහයක් ගන්නටත් පුළුවන් වේවි.

ඇයට ස්ථිර ලිපිනයක් නොතිබුණු නිසා කාඩ්පත් දැමිය හැකි ආකාරයේ ජංගම දුරකථනයක් මිලදී ගත් අතර ගතවන හැම

දිනයක් පුරාම රැකියා අවස්ථාවක් ලැබෙන තෙක් බලා හිටියා. චීන අවන්හල්වලින් ආහාර ගත්තා, (එය තමයි මිල අඩුම වර්ගය) කාලය ගතකිරීමට ඇය වියරුවෙන් කියවීමේ යෙදුණා.

කාලය ඇදී ගියමුත් දුරකථනය නාද වුණේ නැහැ. ඇගේ පුදුමයට වගේ වැව අසබඩ ඇවිදින්න ගිය විටදීත් එකම තැනම ලැගලා ඉන්න හොර මත්ද්‍රව්‍ය විකුණන්නෝ කිහිප දෙනෙක් හැරුණහම කිසිවෙක් ඇයට කරදර කළේ නැහැ. එක් පාලමක් යටින් වැටී තිබුණු මනරම් පැරණි පොදු උද්‍යානය නගරයේ අලුත් කොටසට සම්බන්ධ වී තිබුණා. දිනක් අහම්බෙන් ඇගේ පැරණි මිතුරියක් කෝපි හලකදී හමුවන තෙක්ම ඈ සිතූ ආකාරය ගැන අවිනිශ්චිතතාවෙන් පසු වුණා. ඇය කිව්වා ඒක ඇගේ වැරැද්දක් නොවන බවත්, විදේශිකයන් ගැන වගේම කිසි කෙනෙක් ගැන කරදර වෙන්න අකමැති, ''ලිංගික අපයෝජන'' ගැන විතරක් නීතියේ රැහැනට අසුවෙන්නට බය ස්විස් ජාතිකයන්ගෙත් වැරැද්දක් කියලාත්. (ඒ සංකල්පය ගෑනුන්ට හැම විටම තමන් ගැන වැරදි හැඟීම් ඇති කරන්නට ගොඩනගපු එකක්).

මරියාගේ දිනපොතෙන්, එළියට යාමට අධෛර්යමත්ව, කවදාවත්ම නොපැමිණි දුරකථන ඇමතුමක් වෙනුවෙන් ජීවත්වෙමින්, බලාපොරොත්තු වෙමින් සිටි රැයකදී

අද මම සැණකෙළියක් තියෙන තැනක පිටත ඉඳන් කාලය ගත කළා. තව දුරටත් මුදල් නාස්ති කළ නොහැකි නිසා මම හිතුවා අනෙක් අය දෙස බලාගෙන ඉන්නට. මම රෝලර් කෝස්ටරය ළඟ ගොඩාක් වෙලා බලාගෙන හිටියා. මම එතැනදී දැක්කා බොහෝමයක් පිරිස් ඒකට නගින්නේ තැතිගැන්මක් අත්විඳින්න උනන්දුවෙන්. ඒත් ඒක පටන් ගත්ත තැන ඉඳලා ඒ ගොල්ලො බියට පත්වෙනවා, රථය නවත්වන්න ඕන වෙනවා.

ඔවුන් බලාපොරොත්තු වෙන්නේ කුමක්ද? අවදානම් සහගත ක්‍රියාවක් තෝරාගත්තත් ඒක සම්පූර්ණයෙන්ම විඳගන්න ඔවුන් සූදානම් නැද්ද? එහෙමත් නැතිනම් ඒ ගොල්ලෝ හිතනවා ඇත්තේ බුද්ධිමත්ම දේ වෙන්නේ උඩට, පල්ලෙහාට යාම් මඟ හැරලා

මෙරිගෝ රවුමක් ඇතුළෙ වාඩිවෙලා එකම තැන කැරකි කැරකි ඒ ගොල්ලන්ගේ ජීවිත කාලේ ගත කරන එකද?

මේ මොහොතේ ආදරය ගැන සිතීමට මම හුදෙකලා වැඩියි. ඒත් එය සිදුවෙනු ඇතැයි, රැකියාවක් ලැබෙනු ඇතැයි මා විශ්වාස කළ යුතුයි. මොකද, මම මෙතනට පැමිණ සිටින්නේ මා තෝරාගත් දෛවයට අනුවයි. රෝලර් කෝස්ටරය කියන්නේ මගේ ජීවිතේ වගේ එකක්. ජීවිතය වේගවත්, සිත අවුල් කරන ක්‍රීඩාවක්. ජීවිතය කියන්නේ පැරෂුටයකින් පනිනවා වගේ එකක්, අවස්ථාවල් ගන්නා එකක්, වැටීමක් නැවත නැඟිටීමක්, ඒක හරියට කඳු නැඟීමක් ඒක මුදුනටම යන්නට අවශ්‍යතාවක් දනවන දෙයක්, ඒ වගේම ඒක හරියට පාලනය කරගන්න බැරිවුණු විට ඔබව කෝපයට වගේම නොසතුටට පත් කරන්නක්. මගේ පවුලෙනුත් මගේ සියලු හැඟීම් ප්‍රකාශ කළ හැකි මවු භාෂාවෙනුත් ඈත්වී සිටීම ඒ තරම් පහසු එකක් නොවේ. ඒත්, මේ මොහොතේ පටන් මට දුකක් දැනෙන හැම මොහොතකම මම මතක් කරගන්නේ ඒ සැණකෙළියයි. හදිස්සියේම නින්දට ගොස් රෝලර් කෝස්ටරයක් ඇතුළෙදී අවදි වුණොත් මට කුමක් දැනේවිද?

ඔව්, මට දැනේවි මම උගුලකට අහුවෙලා කියලා, දරුණු විදිහට අසනීපවෙලා කියලා. හැම වංගුවකදීම භීතියෙන් ඇළලී යාවි. එයින් පලා යන්නට උවමනා වේවි. ඒත් ඒ පීලි මගේ දෛවය වන්නේ නම්, දෙවියන් වහන්සේ ඒ යන්ත්‍රය මෙහෙය වනවා නම් මේ බියකරු සිහිනය ප්‍රමෝදයට පත් එකක් වේවි. හරියටම ඒක රෝලර් කෝස්ටරයක් වේවි. ආරක්ෂාකාරී, විශ්වාසදායී, සෙල්ලම් රෝලර් කෝස්ටරයක් වේවි. අවසානයේදී නැවතුණත්, එම ගමනේදී මම අවට ස්වභාවික දර්ශනයන් නැරඹිය යුතුයි, ප්‍රබෝධයෙන් කෑ ගැසිය යුතුයි.

# 9

ඇයට කෙතරම් බුද්ධිමත් අදහස් ලිවීමේ හැකියාවක් තිබුණත් ඇගේම උපදෙස් පිළිපැදීමට හැකියාවක් තිබුණේ නැහැ. ඇගේ කනස්සලු ස්වභාවය දිගින් දිගටම පැවති අතර දුරකථනය තවමත් නාදවීම ප්‍රතික්ෂේප කර තිබුණා. මේ ගතවෙන හිස් කාලය තුළ සිත අවුල් කර ගන්නවා වෙනුවට ප්‍රංශ භාෂාව ප්‍රගුණ කරන්නට ඇය සුප්‍රසිද්ධ පුද්ගලයන් ගැන ලියවෙච්ච සඟරා මිලදී ගන්නට පටන් ගත්තා. ඒත් ඇයට එක පාරටම වැටහුණා ඒ සඳහා ඇය බොහෝ මුදල් වියදම් කරලා තියෙනවා කියලා. ඒ නිසා ඇය ළඟපාත තිබෙන පුස්තකාලයක් හෙව්වා. ඒකේ වැඩ බලපු කාන්තාව ඇයට කිව්වා සඟරා කියවන්නට රැගෙන යන්න දෙන්න බැහැ, ඒත් ඇගේ ප්‍රංශ දැනුම වර්ධනය කරගන්නට පුළුවන් පොත් කිහිපයක් නම් ඇයට යෝජනා කළ හැකි බව.

''මට පොත් කියවන්න නම් කාලයක් නැහැ''

''ඔයාට කාලයක් නැහැ කියන එකේ තේරුම මොකක්ද? ඔයා මොනවද කරන්නේ ?''

''ගොඩක් දේවල් : ප්‍රංශ භාෂාව ඉගෙන ගන්නවා, දිනපොතක් ලියනවා, තව....''

''තව මොනවද?''

ඇය කියන්නට ගියේ ''දුරකථන ඇමතුමක් එනකං බලාගෙන ඉන්නව'' කියලයි. ඒත් කිසිවක් නොකියා ඉන්න එක හොඳයි කියලා ඇය හිතුවා.

''දරුවෝ, ඔයා තාම හුඟාක් තරුණයි. ඔයාට තව ජීවිත කාලයක්ම ඉතිරිවෙලා තියෙනවා. කියවන්න. පොත් ගැන ඔයාට කියලා තියෙන හැම දෙයක්ම අමතක කරලා කියවන්න.''

''මම ගොඩාක් පොත් කියවලා තියෙනවා''

හදිසියේම මරියට මතක් වුණා මෙල්සන් කියන ආරක්ෂක නිලධාරියා ඇයට ස්වභාවය ගැන තියපු දේශන. ඇය ඉදිරියේ සිටි පුස්තකාල පාලිකාව බැලූ බැල්මට බොහොම ප්‍රියමනාප, සංවේදී පුද්ගලයෙක් වුණා. සමහරවිට යම්කිසි අසීරු අවස්ථාවක ඇයට උදව් කරන ආකාරයේ අයෙක් වුණා. මරියට ඕන වුණා ඇගේ සිත දිනාගන්නට. ඇයට ඉවෙන් වගේ දැනුණා මේ ගැහැනිය ඇගේ යහළුවෙක් වෙයි කියලා. ඇය ඉක්මනින් හැසිරීම වෙනස් කරගත්තා.

''ඒත් මම ඉතාම කැමතියි තවත් පොත් කියවන්න. ඔයාට පුළුවන්ද මට පොත් තෝරගන්න උදව් කරන්න?''

ඒ කාන්තාව ඇයට ''ද ලිට්ල් ප්‍රින්ස් '' පොත ගෙනවිත් දුන්නා. ඇය එදා රාත්‍රියේම ඒ පොත කියවන්නට පටන් ගත්තා. පොතේ පළවෙනි පිටුවේ ඇඳලා තිබුණු පින්තූරේ තොප්පියක් වගේ පෙනුණට කතාව අනුව නම් ඒක පොඩි ළමයි ඉතාම ඉක්මනින් හඳුනාගන්නේ අලියෙක් ගිලපු නයෙක් විදිහටයි. ''මට නම් කවදාවත් ළමයෙක් වගේ හිතන්න බැරි වේවි '' ඇය කල්පනා කළා. ''මට නං ඒක පේන්නෙම තොප්පියක් වගේ '' නැරඹීමට රූපවාහිනියක්ද තිබුණෙ නැති නිසා ඇය කුමාරයත් එක්ක ඔහුගේ ගමනට එකතු වුණා. ''ආදරය'' කියන තහනම් වචනය දුටු හැම වෙලාවෙම ඇය දුකට පත් වුණා. සියදිවි නසා ගැනීමේ අදහසක් ගැන අවධානමක් ඇති නිසා ඒ මාතෘකාව ගැන කල්පනා කරන එක ඇය ඇයටම තහනම් කරගත්තා. කොහොම වුණත් කුමාරයාත්, රෝසමලත්, නරියාත් අතර වේදනාත්මක, රොමෑන්තික සිදුවීම් පේළිය හැරුණු කොට පොත ඉතා රසවත් එකක් වුණා. ඇය සෑම මිනිත්තු පහකට වරක් දුරකථනය පරීක්ෂා නොකළේ බැටරිය තවමත් හොඳින් ආරෝපිතව තිබුණු නිසයි. (ඇගේ නොසැලකිලිමත්කම හේතුවෙන් ඒ මහඟු අවස්ථාව මඟහැරී යාවි යැයි ඇය හැම විටම බිය වුණා.)

මරියා පුස්තකාලයට නිතර යන්නියක් බවට පත්වුණා. ඇය එහි සිටි ගැහැනිය සමඟ පිළිසඳරේ යෙදුණු අතර බැලූ බැල්මට ඇයත් මරියා වගේම හුදෙකලා වී සිටි අයෙක් වුණා. මරියා විවිධ පොත් හොයාදෙන ලෙස ඇගෙන් ඉල්ලා සිටි අතර ඒවායේ කර්තෘවරුන් ගැනත්, ජීවිතය ගැනත් ඇයත් සමඟ සාකච්ඡා කළා.

ඇගේ මුදල් සැහෙන ප්‍රමාණයක් ඉවර වෙනතුරු මේ දේවල් සිදුවුණා. තවත් දෙසතියක කාලයක් ගතවුණු අතර, මේ වනවිට ඇය ළඟ තිබූ මුදල් ඇයට පෙරළා තම රටට යාමට ගුවන් ටිකට් පතක් මිලදී ගැනීමටවත් ප්‍රමාණවත් වුණේ නැහැ.

නමුත් ජීවිතය සිය උත්කර්ෂයට පැමිණීමට ප්‍රථම එය යම් කිසි අභාග්‍ය සම්පන්න මොහොතක් පසු කරනකං බලාගෙන ඉන්නවා. අවසානයේ දී දුරකථනය නාද වුණා.

''නීතිඥයා'' කියන වචනය හොයාගෙන මාස තුනක කාලයකුත්, ඇයට ලැබුණු වන්දියෙන් ජීවත්වුණු මාස දෙකක කාලයකිනුත් පසු කවුදෝ මෝස්තර නිරූපණ ආයතනයක පුද්ගලයෙක් කථා කර සිංඤෝරා මරියා තවමත් මේ නොම්මරයේ ඉන්නවාදැයි ඇහුවා. උත්තරය වැඩි උනන්දුවක් නොපෙන්වන්නට ගොඩාක් කාලයක් ප්‍රගුණ කරපු, තිවුණු ''ඔව්''!! විලාසිතා ක්ෂේත්‍රයේ වැඩ කරපු අරාබි මහත්තයෙක් ඇගේ පින්තූර දැකලා මෝස්තර නිරූපණ සංදර්ශනයකට සහභාගි වන ලෙස ආරාධනා කළා. මරියාට සිහිපත් වුණා ඇයට මෑත කාලයේදී සිදුවෙච්ච කලකිරුණු සිදුවීම්. ඒත් එක්කම ඇයට සිහිපත් වුණා මේ මොහොතේ ඇයට ඉතාමත් අත්‍යවශ්‍ය වුණු මුදල්.

ඔවුන් හමුවීමට යොදාගත්තේ ඉතා විසිතුරු අවන්හලක්. එහිදී ඇයට මුණගැසුණේ රොජර්ට වඩා වයසින් වැඩි, ඔහුට වඩා මන බඳින, ආකර්ෂණීය පුද්ගලයෙක්. ඔහු ඇගෙන් ඇහුවා :

''ඔයා දන්නවද කවුද අර අතන තියෙන චිත්‍රය ඇඳලා තියෙන්නේ කියලා? ඒ මීරෝ. ඔයා අහල තියෙනවද ජෝන් මීරෝ ගැන?''

හැමදාමත් කාලා තිබුණු චීන කෑමවලට වඩා වෙනස් කෑම ගැන වැඩිපුර අවධානයක් යොමු කරපු ඇය මුකුත්ම කීවේ නැහැ. ඒත් ඒ අතරම ඇය මතකයේ සටහනක් තබා ගත්තා ඊළඟ දවසේ පුස්තකාලයට ගියාට පස්සේ මීරෝ ගැන ලියවිලා තියෙන පොත් ගැන විමසා බලන්නට.

නමුත් අරාබිකාරයා නැවතත් මෙහෙම කිව්වා,

''මේක තමයි ෆෙලිනි හැමදාම වාඩිවුණු මේසය, ඔයා දන්නවද ෆෙලිනිගේ චිත්‍රපටි ගැන?''

ඇය කිව්වා ඒ චිත්‍රපට ඈ ඉතා අගේ කරනා බව. අරාබිකාරයා තව තවත් සියුම් ප්‍රශ්න ඒ ගැන විමසන්නට වුණා. මරියා තේරුම් ගත්තා ඇය මේ පරීක්ෂණයෙන් අසමත් වන බව. ඉතිං ඇය තීරණය කළා ඔහුත් සමඟ කෙළින්ම මාතෘකාවට බහින්න.

''මේ හැන්දෑව තවත් මේ වගේ බොරු මවාපෑම්වලින් ගත කරන්න මම සූදානම් නැහැ. මට පැහැදිලිව කියන්න පුළුවන් කෝකාකෝලා සහ පෙප්සි අතර වෙනස විතරයි. නමුත් ඒක එහෙම තමයි. මම හිතුවේ අපි මෙතනට ආවේ ෆැෂන් ෂෝ එකක් ගැන කථා කරන්න කියලයි. ''

පෙනුණු විදියට ඔහු ඇගේ අවංකභාවය පිළිබඳ අගේ කළා.

''අපි ඒ ගැන කථා කරමු. රෑ කෑමට පස්සේ මොනවහරි බොන ගමන්''

ඊළඟට තිබුණේ විරාමයක්. ඔවුන් එකිනෙකා දෙස බලන ගමන් සිතින් මවා ගන්න උත්සාහ කළා අනෙකා සිතන දේ ගැන.

''ඔයා ඉතාම ලස්සනයි'' ඔහු කිව්වා. ''ඔයා මාත් එක්ක මොනව හරි බොන්න මගේ කාමරේට එනවනං මම ඔයාට ෆ්‍රෑන්ක් දාහක් දෙන්නං''

මරියාට සැණෙින් වැටහුණා. ඒක මොඩ්ල් ඒජන්සියේ වරදද? ඇගේ වරදද? අරයට මීට වඩා මේ හමුවීමේ ස්වභාවය වටහා ගැනීමට නොතිබුණාද? ඒක ඒජන්සියේ වරදවත්, ඇගේ වරදවත්, ඔහුගේ වරදවත් නෙමෙයි. සියල්ල ඉතා සරලවම සිද්ධවෙන්නෙ මෙහෙමයි. මොහොතකින් ඇයට ඇගේ ගමත්, බ්‍රසීලයත්, මවගේ ආදරයත් සිහිපත් වුණා. ඇයට මතක් වුණා මේල්සන් මුහුදු වෙරළේදී ඩොලර් තුන්සීයේ කථාව කියපු වෙලාව. ඒ මොහොතේ ඇය හිතුවේ ඒක විහිළුවක් කියලයි. ඒත් දැන් මිනිහෙක් එක්ක එක රැයක් ගත කිරීමෙන් හිතුවටත් වඩා වැඩි ගාණක්! කොහොම වුණත් ඒ මොහොතේ ඇයට වැටහුණා ඇයට කිසිවෙක් නැහැ කියලා, ඇත්තටම මේ ලෝකය ඇතුළෙ ඇයට සවන් දෙන්න කවුරුත් නැති බව, ඇය නුහුරු නගරයක තනිවී ඇති බව. සාපේක්ෂ අත්දැකීම් ඇති විසි දෙහැවිරිදි තරුණියක් වුණත් ඇගේ ඒ අත්දැකීම් ඇයට ඊට වඩා හොඳ උත්තරයක් සැපයීමට කිසිසේත්ම උදව්වුණේ නැහැ.

''කරුණාකරලා මට තව වයින් ටිකක් වත්කරන්න පුළුවන්ද?''

අරාබිකාරයා ඇගේ වීදුරුව පිරෙව්වා. ඇගේ සිතුවිලි ''පුංචි කුමාරයා'' (Little Prince) ග්‍රහලෝකයකින් තවත් ග්‍රහලෝකයකට ගමන් කෙරුවට වැඩිය වේගයකින් ගමන් කළා. ඇය මෙහි පැමිණිලා හිටියේ ත්‍රාසය, මුදල්, සමහරවිට ස්වාමි පුරුෂයෙකු හොයා ගන්නටයි. ඇය දැනගෙන හිටියා අවසානයේ මේ වගේ යෝජනා ඇයට එන බව. මොකද ඇය බොහෝම අහිංසක කෙනෙක් වුණේ නැහැ. ඒ වගේම ඇය දැනගෙන හිටියා පිරිමින්ගේ විදිහත්. ඇය තවමත් මොඩ්ල් ඒජන්සිය, තරුවක් වීම, පොහොසත් මහත්මයෙක්, පවුලක්, දරුවෝ, මුණුපුරෝ, ලස්සන ඇඳුම්, සිය උපන් ගමට ජයග්‍රාහී ලෙස පෙරළා යාමත් ගැන විශ්වාස කළා. මේ සියලු බාධක ඇගේම බුද්ධියත්, ආකර්ෂණීයත්වයත්, ආත්ම ශක්තියත්, යොදා ගනිමින් මැඩ පවත්වාගන්න සිහින මැව්වා.

නමුත් යථාර්ථය ඈ ඉදිරිපිට නැඟී සිටියා. අරාබිකාරයා විශ්මයට පත්කරවමින් ඇය හඬන්නට වුණා. නොහොබිනා තත්ත්වයක් ඇති කිරීම නිසා පැන නැගුණු බියත්, ඇයව ආරක්ෂා කරගැනීමට ඉබේටම ඇතිවූ ආශාවත් අතර මැදිවූ ඔහුට කුමක් කළ යුතුදැයි හිතාගන්නට බැරි වුණා. ඔහු බිල්පත ඉල්ලා ගැනීමට වේටර්වරයා කැඳෙව්වා. ඒත් මරියා ඔහුව වැළකුවා.

''එපා ඒක කරන්න එපා. මට තව වයින් ටිකක් වක්කරන්න. මට ටිකක් අඬන්න දෙන්න.''

මරියා අර පැන්සල ඉල්ලපු පුංචි කොලුවා ගැන, ඇයව සිපගත්තු තරුණයා ගැන, ඒ වගේම ඒ මොහොතෙදි මුව වසාගෙන හිටපු හැටි ගැන, පළමු වතාවට රියෝ නගරය දැකීමේදී ඇති වුණු ප්‍රබෝධය ගැන, ඇයව පාවිච්චි කරලා නැවත් පෙරළා කිසිවක් නොදුන් පිරිමින් ගැන, ඒ තුළ අහිමි වුණු ආදරය හා ආශාවන් ගැන කල්පනා කළා. ඈ සතුව අසීමිත නිදහසක් තිබියදීත් ඇගේ ජීවිතය සෑදී තිබුණේ කිසියම් ඓශ්චර්යමත් දෙයක් සිදුවෙනකං, පරම ආදරය හමුවෙනකං, එහෙමත් නැත්නම් ඈ කියවූ පොත්වලත් නැරඹූ චිත්‍රපටිවලත් තිබුණු රොමෑන්තික අවසානයක් ලැබෙන කං නිමක් නැති පැය ගණන් ගතකිරීමටයි. වරෙක එක්තරා

ලේඛකයෙක් කියලා තිබුණා මිනිසකු වෙනස් කළ හැක්කේ කාලයට හෝ දැනුමට නොව ආදරයටයි කියලා. මොන විකාරද! මේක කියපු මනුස්සයා පැහැදිලිවම දන්නේ කාසියේ එක පැත්තක් විතරයි.

ආදරය කියන්නේ කිසිම සැකයකින් තොරවම එක මොහොතකින් මුළු ජීවිතයම වෙනස් කරන්න පුළුවන් දෙයක්. ඒත් කාසියේ අනෙක් පැත්තත් තියෙනවා. ඒක ඔහු හෝ ඇය සැලසුම් කරගෙන හිටපු විදිහ සම්පූර්ණයෙන්ම වෙනස් කරන්න පුළුවන් එකක්. ඒකට කියන්නේ අපේක්ෂා භංගත්වය කියලා. ඔව්, ආදරය කෙනෙක් සම්පූර්ණයෙන්ම වෙනස් කරන්න පුළුවන්. ඒත් අපේක්ෂා භංගත්වය ඊට වඩා ඉක්මනින් ඒක සිදුකරනවා. ඇය කුමක් කළ යුතුද? වහාම බ්‍රසීලයට ගිහින් ප්‍රංශ ගුරුවරියක් වෙලා පැරණි හාම්පුතු විවාහ කරගත යුතුද? ඇය කිසිවෙක් නොදන්නා සහ කිසිවකුත් ඇයව නොදන්නා නගරයක එකම එක රාත්‍රියක් ගත කරන්නට කුඩා පියවරක් ඉදිරියට තැබිය යුතුද? මේ එකම එක රාත්‍රිය, මුදල්, නියතවම ආපසු හැරෙන්නට නොහැකි මාවතකට ඇයව අවතීර්ණ කරාවිද? මොකක්ද මේ සිදුවෙමින් තිබුණේ? මහඟු අවස්ථාවක්ද? නැතිනම් මරියතුමී ඇය ගැන කරණ පරීක්ෂාවක්ද?

අරාබිකාරයා ජෝන් මීරෝගේ චිත්‍ර දිහාත්, ෆෙලිනි ආහාර ගත්තු මේසය දිහාත් සිය කබාය රැගෙන පිටතට යන තරුණියක් හා අවන්හලට පැමිණෙන හා පිටවන මිනිසුන් දිහාත් බලමින් සිටියා.

''ඔයාට තේරුණේ නැද්ද?''

''කරුණාකරලා තව වයින් ටිකක් දාන්න'' කඳුළු පිරි දෑසින් මරියා කිව්වා.

ඇය ප්‍රාර්ථනා කළා මෙතන සිදුවන්නේ කුමක්ද කියලා වේටර්වරයාටත් නොදැනේවා කියලා. ඒත් එක්කම වේටර් තැන මේ සියල්ල ඈත ඉඳන් ඇහැ කොණින් බලාගෙන හිටියා. ඔහු ප්‍රාර්ථනා කළා ඒ මනුස්සයයි ගෑනු ළමයයි ඉක්මනින් බිල ගෙවලා මෙතනින් පිටවෙයි කියලා. මොකද ඒ වන විට අවන්හල සෙනඟින් පිරී ගිහින් පිරිස් වාඩිවෙන්නට තැන් හොයමින් හිටියා.

අන්තිමේදී අනන්තයකට පසුව ඇය කථා කළා.

''ඔයා කිව්වේ එක බීමකට ෆ්‍රෑන්ක් දාහක් කියලා නේද?'' මරියා ඇගේම කටහඬේ ස්වරය ගැන පුදුම වුණා.

''ඔව්'' කලින්ම යෝජනාව ඉදිරිපත් කිරීම ගැන කනගාටු වෙමින් ඔහු කිව්වා. ''

''ඒත් මට ඇත්තටම ඕන වුණේ නැහැ...''

''අපි බිල ගෙවලා ඔයා ඉන්න හෝටලේට ගිහින් ඒ බීම එක බොමු ''

නැවතත් ඇය ඇයටම හඳුනාගත නොහැකි තැනැත්තියක් බවට පත්වී හිටියා. ඒ වන තෙක් ඇය ඉතා පියකරු ප්‍රීතිමත් යුවතියක් ලෙස දිවි ගෙව්වා. අමුත්තකු ඉදිරිපිට මෙවැනි දෙයක් ඇය කවදාවත් කියලා තිබුණේත් නැහැ. ඇයට හැඟුණු විදියට ඒ ගෑනු ළමයා එක් බීමක් සඳහා ෆ්‍රෑන්ක් දාහක්, ජාත්‍යන්තර මුදලකින් කියනව නම් ඩොලර් හයසීයක් වැනි මුදලක් තුළ සඳහටම මියගොස් හිටියා.

සියල්ල බලාපොරොත්තු වූ ලෙසටම සිදුවුණාඃ ඇය අරාබිකාරයා හිටපු හෝටලයට ගියා. ෂැම්පේන් බිව්වා. සම්පූර්ණයෙන්ම බීමත්වීමෙන් පසු ඇය දෙපා විවර කළ අතර ඔහු සුරතාන්තයට පත්වන තෙක් බලා සිටියා. (ඇයටත් එවැනි දෙයක් වෙනවා කියලා මවාපාන්නවත් අවශ්‍ය වුණේ නැහැ.) මාබල් ඇල්ලූ නාන කාමරයක ඇඟ සෝදාගත් ඇය මුදල් ද රැගෙන සුඛෝපභෝගී ටැක්සියකින් ගෙදර ගියා.

ඇඳට වැටුණු ඈ මුළු රාත්‍රියේම සිහිනවලින් තොර නින්දකට වැටුණා.

මරියාගේ දින පොතෙන්, පසුදින

*ඒ තීරණාත්මක මොහොත හැරුණුකොට මට අනෙක් සියල්ල හොඳින් මතකයි. මට කිසිදු වැරදිකාරී හැඟීමක් දැනෙන්නේ නැහැ. මම හිතාගෙන හිටියේ ගෑනු ළමයි මිනිස්සුත් එක්ක මුදල්වලට ඇඳට ගියේ වෙන කරන්න දෙයක් නැති හින්දා කියලයි. ඒත් මම දැන් හිතන්නේ එක එහෙම නෙමෙයි කියලයි. මට තිබුණා ඒක*

පිළිගන්න, බැරි නම් ප්‍රතික්ෂේප කරන්න. කවුරුත් මට කිසිවක් කරන්න බල කළේ නැහැ.

මම පාරේ ඇවිදගෙන යනකොට මිනිස්සු දිහා උනන්දුවෙන් බලනවා. ඔවුන් ඔවුන්ගේ ජීවිත තෝරාගෙන තියෙනවාද කියලා. මට කුතුහලයක් තියෙනවා නැතිනම් ඔවුන් මං වගේම දෛවයට ඔවුන්ගේ ජීවිතය තෝරා ගන්නට ඉඩ හැර තිබෙනවාද? හරියට නිරූපිකාවක් වෙන්න සිහින දැකපු ගෘහිණියක් වගේ, පොතපත ලියන්න, සාහිත්‍ය වෙනුවෙන් ජීවිත කාලයම කැප කරන්න හිතපු දන්ත වෛද්‍යවරයකු වගේ, සංගීතඥයෙක් වෙන්න සිහින දැකපු බැංකු නිලධාරියෙක් වගේ. එහෙමත් නැත්නම් හරියට ප්‍රසිද්ධ රූපවාහිනී තරුවක් වෙන්න හීන මවාගෙන ඉන්න ගැහැනු ළමයෙක් වෙළෙඳ සැලක සේවිකාවක් විදිහට වැඩ කරනවා වගේ.

මම පොඩ්ඩක්වත් මං ගැන දුක්වෙන්නේ නහැ. මම තාමත් ඒකෙ ගොදුරක් නෙමෙයි. මොකද මගේ ගෞරවයට කිසිදු හානියක් නොකරගෙන, පසුම්බිය හිස්ව මට ඒ අවන්හලින් එළියට යන්න තිබුණා. මට පුළුවන්කම තිබුණා මගේ ඉස්සරහින් වාඩිවෙලා හිටපු මනුස්සයාට සදාචාරය ගැන පාඩමක් උගන්නන්න. එහෙමත් නැත්නම් මට පුළුවන්කම තිබුණා එයාට පෙන්වන්න එයාගේ ඉස්සරහින් වාඩිවෙලා ඉන්නේ ඔහු විසින් ආදරය යැදිය යුතු කුමාරිකාවක් මිසක් මිලදී ගන්න පුළුවන් ගැහැනියක් නොවන බව. මේ ඕනෑම විදිහකට මට ප්‍රතිචාර දක්වන්න පුළුවන්කම තිබුණා. ඒත් -- අනෙක් බොහෝ පුද්ගලයෝ වගේ -- මගේ මාර්ගය තෝරා දෙන්නට මම දෛවයට ඉඩ දුන්නා. දෛවය විසින් මා නීතියෙන්, සමාජයෙන් එළියට දැමුවත් එසේවූ එකම තැනැත්තා මම පමණක් නොවේ. සතුට හොයාගෙන යන ගමනේදී අපි හැමෝම සමානයි. දන්ත වෛද්‍යවරයා/ලේඛකයා, වෙළඳ සේවිකාව/රංගන ශිල්පිනිය, හෝ ගෘහිණිය/ නිරූපිකා ශිල්පිනිය : අපි කවුරුත් සංතෝෂෙන් නොවෙයි ඉන්නේ...

 

# 10

ඉතින් ඔය විදිහට තමයි එතරම් පහසු විදියට ඒක සිද්ධ වුණේ. ඇය හිටියේ කාත් කවුරුවත් නොදන්න නගරයකයි. ඒයේ ඇය විඳි මානසික වේදනාව ඇයට අද පුදුමාකාර නිදහසක හැඟීමක් ජනිත කළා. මොකද, කාටවත් තමාව තේරුම් කරලා දෙන්න ඇයට අවශ්‍ය වුණේ නැහැ.

වසර ගණනාවකට පස්සේ පළමු වතාවට ඇය තීරණය කළා මුළු දවසම ඇය ගැනම කල්පනා කරන්නට කැප කරන්න. මීට පෙර ඇය හැම තිස්සෙම හිතුවේ අනෙක් අය තමා ගැන සිතන දේවල් ගැනයි. ඇගේ අම්මා, පාසල් මිතුරියන්, ඇගේ තාත්තා, මොඩ්ල් ඒජන්ට්, ප්‍රංශ ගුරුවරයා, වේටර්වරයා, පුස්තකාල පාලිකාව, මඟතොටදී දකින ඈ සම්පූර්ණයෙන්ම නොහඳුනන අය ගැනයි. ඇත්ත වශයෙන්ම කවුරුත් කිසිවක් ගැන හිතුවේ නැහැ. විශේෂයෙන් ඇය ගැන සිතුවේ නැහැ. දුප්පත් විදේශීය තරුණිය. ඇය හෙට අතුරුදන් වුණත් පොලීසියවත් ඒ ගැන කරදර වෙන එකක් නැහැ.!

හොඳයි. ඇය උදෑසන ආහාරය සඳහා සාමාන්‍යයෙන් යන සුපුරුදු අවන්හලටම උදෑසනින්ම ගොඩ වැදුණා. කෑමෙන් පස්සේ වැව අයිනේ ඇවිදින්නට ගිය ඈ අසළ උද්ඝෝෂණයක නිරතවෙන සරණාගතයන් කණ්ඩායමක් දුටුවා. කුඩා බලු පැටවෙක් එක්කගෙන ඇවිද ගිය ගැහැනියක් නම් කිව්වේ ඔවුන් කුර්දි ජාතිකයෝ බවයි. මිනිස්සු හිතනවාට වඩා ඇය හොඳට හැඳුණු, බුද්ධිමත් කෙනෙක් කියලා පෙන්නන්න උත්තරය දන්නවා කියලා බොරුවට හඟවනවා වෙනුවට ඇය මෙහෙම ඇහුවා.

''කුර්දි ජාතිකයෝ කොහේ ඉඳලද එන්නේ?''

ඇගේ පුදුමයට මෙන් ඒ ගැහැනිය පිළිතුරු දැනගෙන හිටියේ නැහැ. මෙහෙම තමයි ලෝකේ හැටි : මිනිස්සු කථා කරන්නේ ඒ ගොල්ලෝ හැමදේම දන්නවා වගෙයි. ඒත් ඔබ ප්‍රශ්නයක් අහන්න ඉදිරිපත් වුණොත් ඒ ගොල්ලො කිසිම දෙයක් දන්නෙ නැති අය කියලා ඔබට වැටහේවි. ඇය අන්තර්ජාලයෙන් හොයාගත්තා කුර්දි ජාතිකයෝ එන්නේ දැන් තුර්කිය සහ ඉරාකය විදිහට දෙකට බෙදිලා තියෙන තව දුරටත් නොපවතින රටක් වෙන කුර්දිස්ථානයේ ඉඳලා කියලා. ඇය පෙරළා එම ගැහැනියත් බලු පැටවාත් සොයා ගිය අතර ඒ වනවිටත් ඔවුන් පිටත්ව ගොස් සිටියා. මොකද බොහෝ වෙලාවට පැය භාගයක් පමණ බැනර් උස්සාගෙන ඔළුවේ ලේන්සු බැඳගත්තු, අමුතු විදිහට හඬ නගමින්, සංගීත වාදනය කරමින් හිටපු මිනිස්සු දිහා බලාගෙන ඉඳලා බලුපැටියා බොහෝ වෙහෙසට පත්වෙන්න ඇති.

ඇත්තටම මමත් ඒ ගැහැනිය වගේමයි. එහෙම නැත්නම් එහෙම ඉන්නයි පුරුදුවෙලා හිටියේ. කෙනෙක් තමන් දන්නා බව හඟවන්න පුළුවන්. අර අරාබිකාරයා මුණ ගැහෙනකං මමත් ජීවත් වුණේ මගේම නිශ්ශබ්දතාව තුළ හිරවෙලයි. අවසානයේ මට ධෛර්යය ලැබුණා කියන්න මම දන්නේ කොකා කෝලා සහ පෙප්සි අතර වෙනස විතරයි කියලා. එයා ඒකෙන් තැති ගත්තද? මම ගැන හිතපු දේ එයා වෙනස් කළාද? කොහෙත්ම නැහැ. එයා මගේ අවංකභාවය ගැන පුදුම වෙන්න ඇති. මම බුද්ධිමත් කෙනෙක් විදිහට හැසිරෙන්න උත්සාහ කරන හැම වෙලාවකම මට වැරදෙනවා. ඉතිං... දැන් නං හොඳටම ඇති!

ඇය මෝස්තර නිරූපණ ඒජන්සිය ගැන හිතුවා. ඔවුන් හරියටම දැනගෙන හිටියාද අරාබිකාරයාට ඕනවුණු දේ ගැන? - නැතිනම් තවත් වරක් මේ සිදුවුණේ ඇයව මෝඩයකු කිරීමක්ද?- එහෙමත් නැත්නම් ඔවුන් අවංකවම සිතා සිටියේ ඔහු ඇයට ඔහුගේ රටේ රැකියාවක් සොයාදීමට ඉදිරිපත්වූ බවද?

ප්‍රශ්නයට උත්තරය කුමක් වුවත්, උෂ්ණත්වය අංශක බිංදුව ආසන්නයට පැමිණි, කුර්දි ජාතිකයන් උද්ඝෝෂණය කරන, ට්‍රෑම් රථ වේලාවට එක් එක් නැවතුම් පළවලට පැමිණි, සාප්පු ඉදිරිපස ආබරණ නැවතත් දිස්වන්නට පටන් ගත්, බැංකු විවෘත වන,

හිඟන්නන් තවමත් නිදා සිටින ස්විස් ජාතිකයන් රැකියා සඳහා පිටත් වන අළු පැහැති උදයේ මරියාට එතරම් තනිකමක් දැනුණේ නැහැ. ඇයට අඩුවෙන් තනිකම දැනුණේ ඇයත් සමඟ තවත් ගැහැනියක් සිටි නිසයි. සමහරවිට එම ගැහැනියව එතැනින් ගමන් කරන්නන් දුටුවේ නැහැ. මරියාත් ඇගේ පැමිණීම කිසි විටෙකත් බලාපොරොත්තු වුණේ නැහැ. නමුත් ඇය පැමිණ සිටියා.

ඇය මරියා කන්‍යාතුමිය නැතිනම් යේසුස් වහන්සේගේ මවට සමාන වුණ ඇගේ අසළින් සිටි ඒ නොපෙනෙන ගැහැනිය සමඟ සිනාසුණා. එම ගැහැනිය ඇය සමඟ පෙරළා සිනාසී ඇයට පරිස්සම් වන ලෙසත්, දේවල් ඇය සිතා සිටින තරම් පහසු නොවන බවත් කිව්වා. මරියා ඒ උපදෙස් ප්‍රතික්ෂේප කරමින් කිව්වා, ඇය දැන් වැඩිහිටියකු බවත්, තමන් ගන්නා තීරණ ගැන වගකීමේ හැකියාවක් ඇය සතු බවත්, තමාට එරෙහි විශ්වීය කුමන්ත්‍රණයක් දියත්ව ඇති බවක් ඈ විශ්වාස නොකරන බව. ඇය දැනගත්තා එක රාත්‍රියකට, පැය භාගයක කාලයක් සඳහා ඇගේ කකුල් දෙක අතර රැඳී සිටීමේ ගාස්තුව විදිහට ස්විස් ෆ්‍රෑන්ක් දාහක් ගෙවන්න ලැහැස්ති මිනිස්සු ඉන්නවා කියලා. ඉතිං ඊළඟ දින කිහිපය තුළ ඇයට තීරණය කරන්න තිබුණේ ෆ්‍රෑන්ක් දහස රැගෙන ගුවන් ටිකට් පතක් මිලදී ගෙන ඇය පැමිණි දිහාවටම යනවාද? එහෙමත් නැතිනම් තවත් ටිකක් කල් මෙහිම රැඳී සිටිමින් දෙමාපියන්ට නිවසක් මිලදී ගෙන දෙන්නටත්, තමාට ලස්සන ඇඳුම් ආයිත්තම් ටිකක් මිලදී ගන්නටත්, දිනෙක නැරඹීමට යන්නට ඈ සිහින දැකපු තැන්වලට යන්නට ගුවන් ටිකට් පත් මිලදී ගන්නටත් සෑහෙන මුදලක් සොයා ගන්නවාද යන්නයි.

එම නොපෙනෙන ගැහැනිය නැවතත් පැවසුවේ දේවල් ඇය සිතන තරම් සරල ඒවා නොවන බවයි. ඒ නමුත් මරියා මේ අනපේක්ෂිත ඇසුර පිළිබඳ සතුටට පත්වුණා. ඒ වාගේම ඇය ඉල්ලා සිටියා ඉදිරි දින කිහිපය තුළ ඉතා වැදගත් තීරණ කිහිපයක් ගැනීමට තිබුණු නිසා ඇගේ සිතුවිලිවලට බාධා නොකරන ලෙසට.

ඇය මෙවර ඉතා පරිස්සමින් සිතා බැලුවා බ්‍රසීලයට යාමට හැකියාවක් ඇත්ද යන වග. කිසිදිනක ඉපදුණු ප්‍රදේශයෙන් එළියට නොගිය ඇගේ පාසල් මිතුරියන් ඇය රැකියාවෙන් එළියට දැම්මා යැයි කියාවි, ඇයට සුපිරි තරුවක් වීමේ දක්ෂතාවක් කවදාවත්

නොතිබූ බවත් කියාවි. ඇගේ මව මාස්පතා එවනවා යැයි පොරොන්දු වුණු මුදල (ඒ මුදල් නිසැකවම තැපැල් කාර්යාලයේදී සොරකම් කරන්නට ඇතැයි මරියා සිය ලියුම්වල ලියා යැව්වත්) කිසිදිනෙක නොලැබීමෙන් දුකට පත්වේවි. ඇගේ පියා එයින් පසු ඇය දෙස ''මම ඔයාට කිව්වා නේද?'' යන බැල්මෙන් යුක්තව බලාවි. ගුවන් යානයකින් ගමන් කරපු, ස්විස් චීස් කෑ, ප්‍රංශ උගත්, හිම මත ඇවිදපු ඇයට නැවතත් ඇය වැඩ කරපු සාප්පුවට ගිහින්, රෙදි විකුණන්නටත් සාප්පුවේ හාම්පුතාව විවාහ කරගන්නටත් සිද්ධ වේවි.

අනෙක් අතට එක් බීමකට ෆ්‍රැන්ක් දාහක් ඉපැයිය හැකි අවස්ථාවක් තිබුණා. කොහොම වුණත් ඒක හැමදාම කරන්න පුළුවන් දෙයක් නෙමෙයි - අනික රූපය වෙනස් වෙන්නේ හුළඟ වගේ බොහෝම වේගයෙන් - ඒත් අවුරුද්දකින් දෙපයින් නැගී සිට ලෝකයට මුහුණ දෙන්නට අවශ්‍ය තරම් මුදලක් හොයාගන්න පුළුවන්, මේ පාර තමන්ටම ඕන විදිහට, තමන්ගේම සිතැඟිවලට අනුව... ඒත් ඇයට තිබුණු එකම ගැටලුව වුණේ, ඇය දන සිටියේ නැහැ කුමක් කළ යුතුද ඒ වගේම කොතනින් පටන් ගන්න ඕනෙද කියලා. ඇයට මතක් වුණා ඇය පළමුවෙන් වැඩ කළ සමාජ ශාලාවේ ගෑනු ළමයෙකු කියූ ''රියූ ද බර්න් '' - ඒ ගෑනු ළමයා ඈ හමුවූ විගසම කියූ වචනය, ඇගේ සූට්කේසය තැබිය යුත්තේ කොතනින්ද කියා පෙන්නන්නටත් කලින් කියූ වචනය ''රියූ ද බර්න්.''

සංචාරකයන් අතරමං වෙනවා බලාගෙන ඉන්න බැරි බොහෝම මිත්‍රශීලී ජිනීවා නගරයේ තිබුණු විශාල පුවරුවක් වෙත ඇය ගියා. මේ හේතුවට හදපු ඒ පුවරුවේ පැත්තක වෙළෙඳ දැන්වීම් වාගේම අනෙක් පැත්තේ නගරයේ සිතියම් දක්වා තිබුණා.

එක් පුද්ගලයකු එම පුවරුව අසල රැඳී සිටි අතර ඇය ඔහුගෙන් විමසුවා රියූ ද බර්න් තියෙන දිශාව ගැන. කුතුහලයෙන් යුතුව ඈ දෙස බැලූ ඔහු ඇයට යාමට උවමනා රියූ ද බර්න් පාරට ද නැතිනම් බර්න් - ස්විට්සර්ලන්තයේ අගනුවරට යන පාරටද කියා විමසුවා. නෑ, මරියා කිව්වා. මට ඕනේ ජිනීවාවල තියෙන රියූ ද බර්න්වලට යන්නයි. ඔහු ඇගේ හිස සිට දෙපතුළ දක්වා බැල්මක් හෙළා වචනයක්වත් නොකියා එතැනින් යන්නට ගියේ

හරියට මෙවැනි ප්‍රශ්න අසා මිනිසුන් රවටා විනෝදය සපයන රූපවාහිනී වැඩසටහනක් සඳහා තමාව රූපගත කිරීමකට ලක්වුණා යැයි එත්තු ගියා වගෙයි. සිතියම විනාඩි පහළොවක කාලයක් අධ්‍යයනය කිරීමෙන් පසු, මරියා එම කුඩා නගරයේ ඇති තමන් සොයමින් සිටි ස්ථානය හොයා ගත්තා.

ඇය සිතියම අධ්‍යයනය කරන තෙක් ඇගේ නොපෙනෙන මිතුරිය නිහඬව බලා සිටියා. අනතුරුව ඇය මරියාත් සමඟ තර්ක කළා. එය සදාචාරය පිළිබඳ ප්‍රශ්නයක් නොවන බවත් එය නැවත හැරීමක් නොමැති මාර්ගයකට අවතීර්ණ වීමක් බවත් ඇය විසින් මරියාට පැහැදිලි කර දුන්නා.

ඇයට ගෙදර යනවිට සෑහෙන මුදලක් ඉපයිය හැකි නම් සෑහෙන කරදරවලින් මිදීමට එය උපකාරවන බව මරියා කිව්වා. ඒ ඇරුණහම, ඇය පසුකරගෙන යන මිනිසුන් කවරෙක්වත් තමන්ට අවශ්‍යදේ හරියටම තෝරා ගෙන නැහැ. ඒක අප පිළිගත යුත්තක්.

''අපි ජීවත්වෙලා ඉන්නේ කඳුළු මිටියාවතකයි.'' ඇය ඇගේ නොපෙනෙන මිතුරියට කිව්වා. ''අපිට පුළුවන් අපි කැමති හීන දකින්න. ඒත් ජීවිතය කටුකයි, අනුකම්පා විරහිතයි. දුකයි. ඔයා මට මොනවද කියන්න හදන්නේ? මාව අර මිනිස්සු පහත් කරලා සලකයි කියලද? කවුරුවත් කවදාවත් දැනගන්නේ නැහැ. මේක මගේ ජීවිතේ එක් අවධියක් විතරයි.''

දුක්මුසු එහෙත් මිහිරි සිනාවක් සමඟින් නොපෙනෙන මිතුරිය අතුරුදන් වුණා.

මරියා සැණකෙළියට ගිහිං ''රෝලර් කෝස්ටරයේ'' යාම සඳහා ටිකට් පතක් මිලදී ගත්තා. කිසිදු භයානක අනතුරක් නොමැති බවත් මෙය හුදු ක්‍රීඩාවක් බවත් දැන දැනම අනෙක් සෑම කෙනෙක් සමඟම ඇයත් මහ හඬින් කෑගැසුවා. ඇය ජපන් අවන්හලකින් ආහාර ගත්තා. ඒත් ඇය කමින් සිටියේ කුමක්ද යන්න දැන සිටියේ නැහැ. දැන සිටියේ ඒවා ඉතා මිල අධික බවත් සුඛෝපභෝගීත්වය විඳීමේ ආශාව සපුරා ගැනීමේ හැඟීමත් පමණයි. තව දුරටත් දුරකථන ඇමතුමක් එනතෙක් බලා සිටීමට හෝ ගෙවූ කාලයෙන් දශමයක කාලයක් හෝ බලා සිටීමට ඇයට අවශ්‍ය වුණේ නැහැ. ඇය සතුටු වුණා.

එදිනම සවස් භාගයේ ඇය මෝස්තර නිරූපණ ඒජන්සියට ස්තුතිකර පණිවිඩයක් තබමින් කියා සිටියා, එම හමුවීම සාර්ථක වූ බව. ඒ ගොල්ලො අවංක අය නම් එහිදී ගත්තු ඡායාරූප ඇගෙන් ඉල්ලාවි. ඔවුන් ගැහැනුන් ගණිකා වෘත්තියේ යොදවන්නන් නම් ඔවුන් තවත් පිරිමින් මුණගස්සාවි.

ඇය පාලම හරහා ගොස් ඇගේ පුංචි කාමරයට පැමිණ තීරණය කළා කොතරම් මුදල් තිබුණත් අනාගතය ගැන කොතරම් බලාපොරොත්තු තිබුණත් රූපවාහිනී යන්ත්‍රයක් නම් අනිවාර්යයෙන්ම නොගන්න බවට. ඇයට අවශ්‍ය වුණා කල්පනා කරන්නට, ඇගේ මුළු කාලයම හිතන්නට පාවිච්චි කරන්නට.

මරියාගේ දිනපොතෙන් : එදින රාත්‍රියේ (කෙළවර ''විශ්වාසයක් නැත'' යනුවෙන් කුඩා සටහනක් තබමින්)

*මම තේරුම් ගත්තා ඇයි පිරිමියෙක් ගැහැනියක් වෙනුවෙන් ගෙවන්නේ කියලා : ඔහුට ඕන සතුටු වෙන්න.*

*ඔහු ෆ්‍රෑන්ක් දාහක් ගෙවන්නෙ සුරතාන්තයට පත්වීමට පමණක් නොවේ. ඔහුට අවශ්‍යයි සතුටු වෙන්න. මටත් එහෙමයි. හැමෝටම එහෙමයි. ඒත් කවුරුත් ඒක තාම ලබාගෙන නැහැ. මට මොනවද නැතිවෙන්නේ, මම මොහොතකට තීරණය කළොත් ... ඒක හිතන්නවත්, ලියන්නවත් අමාරු වචනයක්... ඒත් අපි කෙළින්ම කියමු. මට මොනවද නැතිවෙන්නේ මම ගණිකාවක් වෙනව කියලා මොහොතකට හිතුවොත්?*

*ගෞරවය, නම්බුව, ආත්ම අභිමානය. ඒත් ඒ ගැන හිතුවත් මට කවදාවත් ඒවා ලැබුණේ නැහැ. මම මට අවශ්‍ය නිසා ඉපදුණේ නැහැ. මට ආදරය කළ හැකි කවරෙක් කිසිදා මට ලැබුණේත් නැහැ. මම හැමවිටම ගත්තේ වැරදි තීරණයි. දැන් මම ජීවිතයට මා වෙනුවෙන් තීරණ ගැනීමට ඉඩ හරිනවා.*

# 11

පසුදින මෝස්තර නිරූපණ ඒජන්සිය ඇය අමතා ඡායාරූප පිළිබඳවත් විලාසිතා සංදර්ශනය පැවැත්වුණු දින පිළිබඳවත් විමසුවා. මොකද සෑම ගනුදෙනුවකින්ම ඔවුන් යම් ප්‍රතිශතයක් ලබාගත්තා. සිද්ධවුණු කිසිවක් ඔවුන් නොදන්නා බව අවබෝධ කරගත් ඇය කිව්වා අරාබි ජාතිකයා ඉදිරියේදී ඔවුන් සමඟ සම්බන්ධවෙයි කියලා.

ඇය පුස්තකාලය වෙත ගොස් ලිංගිකත්වය සම්බන්ධයෙන් ලියැවී ඇති පොත් ගැන විමසුවා. ඇය මෙහි අවුරුද්දක් පමණ වැඩකරන්නට බැරෑරුම් ලෙස සිතනවා නම් ඇයට කිසිදු වැටහීමක් නැති ක්ෂේත්‍රයක් පිළිබඳව දැනගත යුතුයි. ඉතින් ඇයට මුලින්ම කරන්න ඕන වුණේ කොහොමද හැසිරෙන්නේ කියලා දැනගන්නයි. ඒ කියන්නේ සතුට දීලා පෙරළා ඒ වෙනුවෙන් සල්ලි ගන්නේ කොහොමද කියන එකයි.

පුස්තකාලය රාජ්‍ය අනුග්‍රහය යටතේ වන ආයතනයක් නිසා එහි ඇත්තේ තාක්ෂණික පොත්පත් කිහිපයක් පමණක් බව පුස්තකාල පාලිකාව කී විට ඇය සෑහෙන්න කලකිරුණා. මරියා ඉන් එක් පොතක පටුන කියවා බලා වහාම පොත ආපසු දුන්නා. එහි සතුට සම්බන්ධයෙන් කිසිවක් තිබුණේ නැහැ. ඒවායේ තිබුණේ ලිංගික පිබිදීම, සංසර්ගය, ලිංගික බෙලහීනතාවය හා උපත් පාලනය වැනි ඉතාම නීරස මාතෘකායි... ඇය මොහොතක් එක් පොතක් ගැන අවධානය යොමු කළා. ඒ ''ගැහැනියගේ ලිංගික උදාසීනභාවය පිළිබඳ මනෝ විද්‍යාව'' නම් පොතයි. ඇගේ ලිංගික ජීවිතයේදී ඇය ඉතාමත් කැමති වුණේ පිරිමියකුගේ මාර්ගයෙන් සංසර්ගයේදී තෘප්තිමත් වීමටයි. එහෙත් ඇය සුරතාන්තයට පත්වූයේ හැම විටම ස්වයං වින්දනයෙන් පමණයි.

ඇය මෙහි පැමිණ සිටියේ ලිංගික සතුට හොයාගෙන නොව රැකියාවක් සඳහායි. ඇය පුස්තකාල පාලිකාවට ස්තූති කරලා එතැනින් පිටවුණා. ඇය කෙළින්ම ගියේ ක්ෂිතිජය තුළ වියමින් ඇති ඇගේ අලුත් රැකියාවට අවශ්‍ය වන පිරිමින් වසඟ කරවන ඇඳුම් කිහිපයක් මිලදී ගැනීම සඳහායි. ඊට පස්සේ ඇය සිතියමේ සඳහන්ව තිබූ ස්ථානයට කෙළින්ම ගියා. ''රියූ ද බර්න්'' ඒ පාරේ මුලින්ම පල්ලියක් පිහිටා තිබුණා. (ඉතා අහඹු ලෙස එය ඈ කලින් දින රාත්‍රියේ ආහාර ගත් ජපන් අවන්හල ආසන්නයේම පිහිටා තිබුණා.) ඊළඟට තිබුණේ බාල වර්ගයේ අත් ඔරලෝසුත්, බිත්ති ඔරලෝසුත් විකුණන තැනක්. පාර කෙළවරේ ඇය අසා තිබුණු සමාජ ශාලාවන් පිහිටා තිබුණු අතර ඒ සියල්ල දවසේ ඒ මොහොත වන විට වසා දමා තිබුණා. ඇය නැවතත් වැව වටේ ඇවිදින්නට ගියා. බිඳකුදු ලැජ්ජාවකින් තොරව ඇය විසින් කළ යුතුව තිබෙන දේවල් අධ්‍යයනය කිරීම සඳහා අසභ්‍ය සඟරා පහක් මිලදී ගත්තා. අඳුර ගලන තුරු රැඳී සිට ''රියූ ද බර්න්'' වෙත ගමන් කළා. ඇය අහඹු ලෙස ''කොපකබානා'' යන ආකර්ෂණීය බ්‍රසීලියානු නමකින් යුත් තැබෑරුමක් තෝරා ගත්තා.

ඇය කිසිවක් තීරණය කරලා නැහැ. ඒක අත්හදා බැලීමක් විතරයි කියලා ඇය ඇයටම කියා ගත්තා. ස්විට්සර්ලන්තයේ ගත කළ මුළු කාලය පුරාවටම ඇයට මෙතරම් නිදහස් හෝ ප්‍රීතිමත් හැඟීමක් ඇතිව තිබුණේ නැහැ.

''මම රස්සාවක් හොයනවා'' කවුන්ටරයට පිටුපසින් හිඳ වීදුරු සෝදමින් සිටි තැබෑරුමේ අයිතිකාරයාට ඇය කිව්වා. ඒ තැන මේස පේළියකින්, බිත්ති වටේට තැබූ සෝපා කිහිපයකින් සහ කෙළවරේ නැටුම් ශාලාවක් වැනි එකකිනුත් සමන්විත වෙලා තිබුණා. ''කරන්න දෙයක් නැහැ. ඔයාට මෙහේ නීත්‍යානුකූලව වැඩ කරන්න නම් රැකියා බලපත්‍රයක් ඕන.''

මරියා ඇගේ රැකියා බලපත්‍රය පෙන්නුවට පස්සේ ඒ පුද්ගලයාගේ මුහුණ හොඳ අතට හැරුණා.

''වැඩ කරලා පුරුද්දක් තියෙනවද?''

දියයුතු පිළිතුර කුමක් විය යුතුද යන්න ඇය දන සිටියේ නැහැ. ''ඔව්'' කිව්වොත් ඇය කලින් වැඩ කළේ කොහේද කියලා

ඔහු අසාවි. ඇය ''නැහැ'' කියලා කිව්වොත් ඔහු ඇය පහතට හෙළාවි.

''මම පොතක් ලියනවා''

ඒ අදහස හරියට අදෘෂ්‍යමාන තැනකින් ඇගේ උදව්වට පැමිණි කටහඬක් වගේ කොහේදෝ සිට පැමිණියා. ඇය බොරුවක් කියනවා කියලා ඔහු දැනගත් වග ඇය දැක්කා. ඒත් ඔහු එය පිළිගත් බව හැඟෙව්වා.

''තීරණයක් ගන්න කලින් මෙතන ඉන්න අනිත් ගෑනු ළමයි එක්කත් කථා කරන්න. අපි අඩු ගාණේ එක රැයකට බ්‍රසීලියානු ගෑනු හයදෙනෙක්වත් ගේනවා. ඔයාට තේරුම් ගන්න පුළුවන් ඒ විදිහට මොනවද මෙතනින් බලාපොරොත්තු වෙන්න පුළුවන් කියලා''

මරියා කියන්න හැදුවේ ඇයට කාගෙවත් උපදෙසක් අවශ්‍ය නොවන බව. මොකද ඇය මේ දැන් නොවෙයි තීරණයකට ඇවිත් තිබුණේ. නමුත් ඒ වනවිටත් තැබෑරුම් අයිතිකරු ඇයට තීරණයක් ගැනීමට ඉඩ හරිමින් වතුර වීදුරුවක්වත් නොදීම තැබෑරුමේ අනෙක් පැත්තට ගොස් සිටියා.

එතැන් පටන් තැබෑරුම වෙත ගැහැනු පැමිණෙන්නට වුණා. බ්‍රසීලියානු ගැහැනුන් කීපදෙනකු කැඳවූ අයිතිකරු අලුතෙන් පැමිණි තරුණිය හඳුනා ගන්නා ලෙස පැවසුවා. ඔවුන්ගෙන් කවරෙක්වත් ඒ ගැන ඒ හැටි උනන්දුවක් දැක්වූයේ නැහැ. ඒ මෙතන තියෙන තරගකාරිත්වයට බයෙන් වෙන්නැති. මරියා අනුමාන කළා. ශබ්දවාහිනියෙන් බ්‍රසීලියානු ගීත කිහිපයක් වාදනය වුණා. (කොහොමටත් තැබෑරුමේ නම ''කොපකබානා'') ඊළඟට ආසියානු මුහුණුවරින් යුතු ගැහැනුන් පැමිණියා. ඔවුන් සමඟ පැමිණි අනෙක් අය ජිනීවා අවට හිම සහිත සුන්දර කඳුයායවල්වලින් කෙළින්ම ආපු අය වගේ පෙනුණා. සිගරැට් කිහිපයක් හැර බීමට කිසිවක්ම නොමැතිව ඇය පුරා පැය දෙකකට ආසන්න කාලයක් නිසැකවම තමා වැරදි තීරණයක් ගත්තා යැයි වැඩෙන සිතුවිල්ලෙන් යුක්තව එතැන හිටගෙන සිටියා. - ''මම මෙතන මොනවද කරන්නේ?'' - යන වචන ඇගේ මනසේ රැව් පිළිරැව් දුන්නා. ඒ වගේම ඇය තැබෑරුමේ අයිතිකරුගේත් අනෙක් ගැහැනුන්ගේත් හැසිරීම්

ස්වභාවය නිසා සම්පූර්ණයෙන්ම එතැන ගැන තිබූ ආශාව අඩුවී යාමත් සමඟ ඇගේ නොසන්සුන්භාවය තවත් වැඩිවුණා. අන්තිමේදී බ්‍රසීලියානු තරුණියක් ඇය වෙත පැමිණියා.

''ඇයි ඔයා මේ තැන තෝරගත්තේ?''

මරියාට අර පොත ලියනවා කියන කථාව උපක්‍රමශීලීව කියන්න පුළුවන්කම තිබුණා. එහෙමත් නැත්නම් ඇය කුර්දීන් සමඟ, මීරෝ සමඟ, ෆෙලිනි සමඟ වගේ සරලවම ඇත්තම කියන්නටත් පුළුවන්කම තිබුණා.

''අවංකවම කියනවානම් මම දන්නේ නැහැ කොහෙන් පටන් ගන්නද කියලා. ඇත්තටම මට පටන් ගන්න ඕනෙද කියලාවත් ''

ඒ ගැහැනිය එවැනි අවංක, ඍජු පිළිතුරකින් පුදුමයට පත්වුණා. ඇය විස්කි ලෙස පෙනෙන්නට තිබුණු බීමෙන් උගුරක් පානය කර වාදනය වෙමින් තිබුණු බ්‍රසීලියානු සංගීතයට ඇහුම්කන් දෙමින් ඇගේ ගෙදර ගැන සිහිපත් කළා. ඊළඟට ජිනීවා ආසන්නයේ පැවැත්වීමට නියමිතව තිබූ ජාත්‍යන්තර සම්මේලනයක් අවලංගු වෙලා තියෙන හින්දා ඒ රාත්‍රියේ එතරම් ගනුදෙනුකරුවන් පිරිසක් නොපැමිණෙන බව කිව්වා. අවසානයේ, මරියා තවමත් එතැනින් පිටත් වී නොගිය බව දුටු ඇය මෙහෙම කිව්වා :

''බලන්න ඒක හරිම ලේසියි. ඔයාට තියෙන්නේ මූලික නීති තුනක් පිළිපදින්න විතරයි. එක : කවදාවත් ඔයා වැඩ කරන තැන කෙනෙක් එක්ක හරි ලිංගිකව එකතුවෙන කෙනෙක් එක්ක හරි ආදර සම්බන්ධයක් ඇතිකර ගන්න එපා. දෙක : පොරොන්දුවලට රැවටෙන්න එපා. ඒ වගේම හැම තිස්සේම මුලින්ම සල්ලි ඉල්ල ගන්න. තුන : මත්ද්‍රව්‍ය පාවිච්චි කරන්න එපා.

මඳ නිශ්ශබ්දතාවක් ඇතිවුණා.

''ඒ වගේම දැන්ම පටන් ගන්න. ඔයාගේ පළවෙනි ගනුදෙනුකරයා හොයාගන්නෙ නැතුව අද රෑ ගෙදර ගියොත් ඔයා ආපහු එන එක ගැන දෙවරක් හිතාවි. ඔයාට ආපහු එන්න ශක්තියක් නැතිවෙයි.''

මරියා තව දුරටත් කරුණු විමසුවේ ඇයට තාවකාලිකව හෝ වෙනත් රැකියාවක් සොයාගැනීම පිළිබඳ යම් ප්‍රතිචාරයක් හෝ ලැබෙතැයි සිතමිනි. නමුත් හැමවිටම මිනිසුන් ඉක්මන් තීරණ

ගැනීමට තල්ලු කරන හැඟීමක් ඉදිරිපිට ඇය සිටියා - බලාපොරොත්තු සුන්වීම.

"හොඳයි මම අද රෑම පටන් ගන්නම්"

ඇත්ත වශයෙන්ම ඇය පැවසුවේ නැහැ මෙය ඈ ඊයේ පටන් ගත් බව. ඒ තරුණිය මිලාන් කියලා හඳුන්වපු අයිතිකාරයා ළඟට ගියා. ඒ වගේම ඔහු කථා කරන්නට මරියා ළඟට ආවා.

"ඔයා හොඳ යට ඇඳුමක් ඇඳගෙන ඉන්නවද?"

ඇගේ පෙම්වතුන්, අරාබිකාරයා, ඇගේ මිතුරියන් හෝ ඇය එතරම් නොදන සිටි කෙනෙක්, නැතිනම් කවුරුත්ම ඒ ප්‍රශ්නය කවදාවත් අහලා තිබුණේ නැහැ. ඒත් මේ වගේ තැනක ජීවිතය මේ වගේ තමයි : කෙළින්ම ප්‍රශ්නයට.

"මම ඇඳලා ඉන්නේ අඳුරු ලානිල්පාට යට කලිසමක්. බ්‍රෙසියරයක් ඇඳලා නෑ" ඇය පොළඹවනසුලු විදියට කිව්වා. ඒත් ඇයට ලැබුණේ තරවටුවක්.

"හෙට කළුපාට යට කලිසමකුයි, බ්‍රෙසියරයකුයි, ස්ටොකින්සුයි අඳින්න ඕනෙ. ඇඳුම් ගලවන එක මේ වැඩේම කොටසක්. "

තවත් කරදර කිරීමකින් තොරවම සහ මේ මොහොතේ පටන් වැඩ කරන්නට පටන් ගන්නෙකුට කථා කරන විදිහට මිලාන් ඇයට අනෙකුත් අනුගමනය කළයුතු සිරිත් විරිත් පැහැදිලි කළා : කොපකබානා කියන්නේ සතුටු සාමීචියේ යෙදෙමින් කාලය ගතකරන තැනක් මිසක් ගණිකා නිවාසයක් නෙමෙයි. බාර් එකට එන පිරිමින්ට ඕනෙ මෙතන ඉන්න ගෑනු විසින්ම ඔවුන්ව තෝරා ගන්නවා කියලා විශ්වාස කරන්නයි. කවුරු හරි කෙනෙක් ඒ ගෑනු ළමයෙක්ගේ මේසයක් ළඟට එනකොට, අතරමගදී බාධාවුණේ නැත්තම් (මොකද සමහර සේවාදායකයො මෙතන ඉන්න ගෑනු ළමයි තෝරගෙනයි තියෙන්නේ) එයා ගොඩක් වෙලාවට,

"ඔයා මොනව හරි බොන්න කැමතිද?" කියලා අහයි.

ඒකට මරියට ඔව් කියන්නත් නැහැ කියන්නත් පුළුවන්. ඇයට තමන් කැමති ඇසුරක් තෝරා ගන්න පුළුවන්කම තිබුණා. ඒ වුණත් දවසකට එක වරකට වඩා නැහැ කියලා කියන්න උපදෙස් දීලා තිබුණේ නැහැ. ඇය ආරාධනාව පිළිගත්තා ආකාරයෙන්

කථා කළා නම් ඔහුගෙන් පළතුරු කොක්ටේල් එකක් විමසිය යුතු වුණා. ඒක තමයි බීම ලැයිස්තුවේ තියෙන මිල අධිකම බීම වර්ගය. මත්පැන් හරි සේවාදායකයාට ඕනි දෙයක් තීරණය කරන්න හරි දෙන එක සම්පූර්ණයෙන් තහනම්.

ඒ වගේම ඇය නටන්නට කරන ඕනෑම ආරාධනයක් පිළිගත යුතුයි. මිලාන් වැඩිදුර විස්තර නොකරපු ''විශේෂ සේවාදායකයෝ'' හැරෙන්න අනෙක් අය බොහෝම හුරුපුරුදු අය. ඒ වගේම ඒ ගොල්ලන්ගෙන් කිසිදු කරදරයක් නැහැ. පොලීසියත්, සෞඛ්‍ය දෙපාර්තමේන්තුවත් ගෑනු ළමයින්ගේ ලිංගාශ්‍රිත රෝග පරීක්ෂා කරන්න මාසයක් ගාණෙ ලේ සාම්පල් පරීක්ෂා කරනවා. කොන්ඩමයක් භාවිත කිරීම අනිවාර්යය වුණත් ඒක හරියට වෙනවද නැද්ද යන එක හොයන්න ක්‍රමයක් තිබුණේ නැහැ. ඇය කිසිදු ආකාරයකින් මොනයම් හෝ අපකීර්තියක් නොකළ යුතුයි - මොකද මිලාන් කියන්නේ කසාද බැඳපු එයාගේ කීර්තිය ගැනත් සමාජ ශාලාවේ හොඳ නම ගැනත් බොහෝම සැලකිලිමත් වැදගත් මනුස්සයෙක්.

ඔහු තව දුරටත් පිළිපැදිය යුතු කරුණු පැහැදිලි කළා : නැටුම්වලින් පස්සේ නැවතත් මේසෙට යන්න ඕන. සේවාදායකයා හරියට නැවුම් දෙයක් කියනවා වගේ ඇයට ඔහුගේ හෝටලේට ආරාධනා කරාවි. සාමාන්‍ය ගාණ ෆ්‍රෑන්ක් තුන්සිය පනහයි. එයින් පනහක් මිලාන්ට ගෙවන්න ඕනෙ. ඒ ඔහුගේ මේසය පාවිච්චි කරපු එකේ කුලිය. (එය ලිංගික කටයුතු සඳහා මුදලට ගැහැනුන් යෙදවීම නිසා ඉදිරියේදී ඇතිවිය හැකි නීතිමය ගැටලු වළක්වා ගැනීමේ උපායක්.)

මරියා මෙහෙම කියන්න හැදුවා :

''ඒත් මම ෆ්‍රෑන්ක් දාහක් හම්බ කළානේ එක...''

අයිතිකරු එතනින් යන්නට වගේ සැරසුණා. ඒත් ඒ කථාබහ අහගෙන හිටපු අනෙක් බ්‍රසීලියානු ගෑනු ළමයා, ''එයා විහිළුවට කියන්නේ '' කියලා කිව්වා.

ඊට පස්සේ මරියා දෙසට හැරුණු ඇය පැහැදිලි, උස් හඬින් පෘතුගීසි භාෂාවෙන් කථා කළා.

''මේක තමයි ජිනීවාවල ගණන් වැඩිම තැන. ඒ වගේ දෙයක් ආපහු කියන්න එපා. එයා දන්නවා මොකක්ද දැන් තියෙන ගාණ කියලා. ඒ වගේම ''විශේෂ කෙනෙක්'' හැරුණහම ඇඳට යන්න කවුරුත් ෆ්‍රෑන්ක් දාහක් ගෙවන්නෙ නැහැ කියලත් එයා දන්නවා. ඒත් ඒක එහෙම වෙනව නම් වෙන්නෙත් ඔයා වාසනාවන්ත නම් හරි ඔයාට ඒකට හරියන සුදුසුකම් තියෙනවා නම් හරි විතරයි.''

මිලාන්ගේ දෑසේ කිසිදු සැකයක් තිබුණේ නැහැ - මරියා පසුව දැනගත් පරිදි ඔහු අවුරුදු විස්සක පටන් මෙහි ජීවත් වන යුගොස්ලාවියානුවෙක්.

''ගාණ ෆ්‍රෑන්ක් තුන්සිය පනහයි.''

''හොඳයි'' යටහත් පහත් මරියා කිව්වා.

මුලදී ඔහු ඇගේ යට ඇඳුම් ගැන විමසුවා. දැන් ඔහු ඇගේ සිරුරේ වටිනාකමත් තීරණය කරනවා.

නමුත් ඇයට සිතීමට කාලයක් තිබුණේ නැහැ. ඒ මනුස්සයා නැවතත් උපදෙස් මාලාවක්ම දෙන්නට වුණා : ඇය කිසිවිටෙකත් කෙනකුගේ නිවෙසකටත්, තරු පහේ නොවන හෝටලයකටත් කරන ආරාධනයන් නොපිළිගත යුතුයි. සේවාදායකයාට ඇයව ගෙනියන්නට තැනක් නොතිබුණොත් ඇය යායුතු වූයේ මෙතැන් සිට ගොඩනැගිලි පහක් එහායින් තිබූ හෝටලයකටයි. ඒ වාගේම ඇය රියූ ද බර්න්වල අනෙක් සමාජ ශාලාවල වැඩකරන ගෑනු ළමයි ඇගේ මුහුණ හඳුනා ගැනීමෙන් වැළකීමට හැමවිටම ටැක්සියකින් ගමන් කළයුතු වුණා. මරියා මේ අන්තිම කාරණාව විශ්වාස කළේ නැහැ. ඇය කල්පනා කළා ඒ නම් ඇත්තටම ඇය මීට වඩා පහසුකම් තියෙන තැනක රැකියාවක් හොයාගන්න එක මඟහරවන්න තමයි කියලා. ඒ සිතුවිලි ඇය ඈ තුළම තබා ගත්තා. කොහොම වුණත් ගාණ ගැන වාද කරපු එක මදෑ.

''මම ඔයාට ආපහු කියන්නේ හරියට චිත්‍රපටිවල ඉන්න පොලිස්කාරයො වගේ වැඩ කරන වෙලාවට බොන්න එපා. මම දැන් යනවා. තව ටිකකින් මෙතන බොහෝම කලබල තැනක් වෙනවා.''

''ස්තුතියි කියලා කියන්න'' අනෙක් බ්‍රසීලියානු තරුණිය පෘතුගීසි භාෂාවෙන් කිව්වා.

මරියා ඔහුට ස්තුති කළා. ඒ මනුස්සයා හිනාවුණා. නමුත් ඔහු තවමත් උපදෙස් මාලාව හමාර කර තිබුණේ නැහැ.

"මට දෙයක් කියන්න අමතක වුණා. බීම එකක් ගන්නයි ක්ලබ් එකෙන් යන්නයි මොනම හේතුවක් නිසාවත් විනාඩි හතළිස්පහකට වඩා වැඩිවෙන්න බැහැ. යුගොස්ලාවියානුවොත්, බ්‍රසීලියානුවොත් වෙලාවට වැඩ කරන්න ඉගෙන ගන්න ඕනෙ. ස්විට්සර්ලන්තේ හැමතැනම ඔරලෝසු තියෙනවා. එකක් මතක තියාගන්න, මම මගේ දරුවෝ ජීවත් කරවන්නේ ඔයාලා දෙන කොමිස් එකෙන්."

ඇය එය මතක තබා ගනීවි.

ඔහු ඇයට වීදුරුවකට ලෙමන් පෙත්තක් දමාපු දිලිසෙන වතුර ටිකක් දමා දී ටිකක් ඉන්න කියලා කිව්වා. - ඉතා ලෙහෙසියෙන්ම ජින් සමඟ ටොනික් දීමට පුළුවන්කම තිබියදී - සමාජ ශාලාව ටිකෙන් ටික පිරෙන්නට වුණා. මිනිස්සු ඇතුළට ආවා, වටපිට බැලුවා, ඒ ගොල්ලන්ගේ තැන්වලින් වාඩිවුණා. එක් එක් තරුණියන් ඔවුන් සිටි තැන්වලට ගිහින් අවුරුදු ගණනාවක් ඉඳලම එකිනෙකා හඳුනනවා වගේ හැසිරෙන්න වුණා. ඒක හරියට විඩාබර දවසක අවසානයේ විවේකයක් ලබමින් පොඩි සතුටක් ලබාගන්නවා වගේ තැනක් වුණා. හැම මොහොතකම පිරිමියෙක් සහකාරියෙක් හොයාගත්තා. මරියා සැහැල්ලු හුස්මක් පිට කළා. ඒ කොහොම වුණත් ඇයට දැන් වඩා සැහැල්ලු බවක් දැනුණා. සමහරවිට ඒ ස්විට්සර්ලන්තය හින්දා වෙන්න ඇති. සමහරවිට ඒ ප්‍රමාදවෙලා හරි ඇය හැමදාම සිහින දැකපු නිර්භීත ක්‍රියා, මුදල්, ස්වාමියෙක් හමුවුණු නිසා වෙන්න ඇති. සමහරවිට හදිස්සියේම මතක් වුණු විදිහට ඒ සති ගණනකට පස්සේ රාත්‍රියක එළියට ආපු නිසා, සංගීතය ඇසෙන තැනක හිටපු නිසා ඒ වගේම කවුරු හරි කෙනෙක් පෘතුගීසි භාෂාව කථා කරනවා ඇහුණු නිසා වෙන්න ඇති. ඇය වටේ සිටි අනෙක් ගෑනු ළමයි සමඟ සිනාසෙමින්, පළතුරු කොක්ටේල් බොමින් ප්‍රීතියෙන් කථාකරමින් විනෝද වුණා.

කිසිවෙක් ඇයට අචාර කරන්නටත් ඇගේ අලුත් රැකියාවට සුභ පතන්නටත් පැමිණියේ නැහැ. ඒත් ඒක සාමාන්‍ය එකක් වුණා. මොකද ඒ සියල්ලටම වඩා අන්තිමේදී ඇයත් එකම කුසලානයකට තරග වදින ප්‍රතිවාදියෙක්, තරගකාරියක්. දුකෙන්

නැවෙනවා වෙනුවට ඇයට ආඩම්බරයක් දැනුණා. ඇය ඈ සඳහාම සටන් වැදුණා. තව දුරටත් ඇය අසරණ කෙනෙක් වුණේ නැහැ. අවශ්‍ය වුණා නම් දොර ඇරගෙන මෙතනින් යන්නට ඇයට පුළුවන්කම තිබුණා. නමුත් ඇගේ ජීවිතය තුළ මෙතරම් දුරක් එන්නටත් කවදාවත්ම හිතන්නට පවා එඩිතර නොවුණු දේවල් ගැන සාකච්ඡා කරන්නටත්, එකඟතාවකට එන්නටත් තරම් ධෛර්යයක් ඈ සතුව තිබුණු බව හැම තිස්සෙම ඇය දැනගෙන හිටියා. ඇය දෛවයේ ගොදුරක් වුණේ නැහැ. ඇය ඇයටම කියා ගත්තා. ඇය හැමවිටම අභියෝගවලට මුහුණ දුන්නා, ඇගේ සීමාවන් අතික්‍රමණය කළා. - අමුතු දෙයක් විදියට පෙනුණත් ඒ අත්දැකීම් වෙහෙසකර මහලු අවධියේදී ඇය ඇගේ හදවතෙහි නිශ්ශබ්දතාව තුළ අතීතය ආස්වාදනය කරමින් කම්පා වේවි.

කිසිවෙක් ඇයට සමීප නොවන බව ඇය හොඳාකාරවම දැන සිටියා. හෙට දිනයේදී එය නැවත කවදාවත්ම දකින්නට ධෛර්යයක් නොමැති උමතු සිහිනයක් වේවි. ඇයට නිකම්ම වැටහුණා එක රාත්‍රියකට ෆ්‍රෑන්ක් දාහක් ලැබෙන්නේ එකම එක පාරකට විතරක් බව. සමහරවිට ඇය ගුවන් ටිකට් පතක් අරගෙන නැවත බ්‍රසීලයට යන එක වඩා හොඳ වේවි. කාලය ඉක්මනින් ගත කරලා දාන්නට ඇය අනෙක් තරුණියන් උපයන මුදල පිළිබඳව ගණන් හදන්න පටන් ගත්තා : ඒ ගොල්ලෝ එක රෑකට තුන් පාරක් කවුරු හරි එක්ක එළියට ගියොත් හැම පැය හතරකටම පාරක් ඒ ගොල්ලො ඇය සාප්පුවේ මාස දෙකක කාලයක් වැඩ කළොත් ලැබෙන මුදලට සමාන මුදලක් හම්බකළා.

ඒක ලොකු ගාණක්ද? ඇය එක රාත්‍රියකට ෆ්‍රෑන්ක් දාහක් උපයලා තියෙනවා. ඒත් ඒ සමහරවිට මුලින්ම ලැබුණු වාසනාවක් වෙන්න ඇති. මොනම ගාණකට හරි ගණිකා වෘත්තියේ ඉන්න සාමාන්‍ය තරුණියකට ඇය බ්‍රසීලයට ගිහින් ප්‍රංශ භාෂාව උගන්නලා හම්බ කරනවාට වඩා වැඩි මුදලක් හම්බ කරන්න පුළුවන්කම තිබුණා. ඒ අයට කරන්න තිබුණේ සමාජ ශාලාව ඇතුළෙ ටික වෙලාවක් කල් ගෙවලා, නටලා, ඒ ගොල්ලන්ගේ කකුල් දෙක පළල් කරන්න විතරයි. එහෙම කරන්න විතරමයි. ඒ අයට අඩුම ගාණෙ කථා කරන්නවත් අවශ්‍ය වුණේ නැහැ.

සල්ලි කියන්නේ මෙතන එක අභිප්‍රායයක්. ඇය කල්පනා කළා. ඒත් එච්චරද? මෙතනට පැමිණෙන ගනුදෙනුකාරයොත්, ඉන්න ගෑනුත් කිසියම් විදියකට සතුටු වෙන්නේ නැද්ද? ලෝකේ, ඇය පාසලේදී ඉගෙන ගත්තු විදියට වඩා ගොඩක් වෙනස් එකක්ද? ආරක්ෂිත කොපුවක් පැළඳුවොත් කිසිදු අවදානමක් නැහැ. ඒ වගේම ඇයව කවුරු හරි හඳුනාගන්න එක ගැනත් අවදානමක් තිබුණේ නැහැ. ප්‍රංශ පත්තියේදී ඇය දැනගත්ත විදිහට ජිනීවා වලට එන්නේ බැංකුවලට යන්න කැමති මිනිස්සු විතරයි. කොහොම වුණත් බ්‍රසීලියානුවන්ගෙන් බොහොම දෙනෙක් විනෝද වෙන්නේ පැරීසියේත්, මයාමිවලත් සාප්පු සවාරි යන එකෙන්...

ස්විස් ෆ්‍රෑන්ක් තුන්සීය ගාණේ සතියට දවස් පහක්. ඒක වාසනාවක්නේ. ඇයි මේ ගෑනු ළමයි මාසයක් ඇතුළත හොඳට හම්බුකරලා ගෙදර ගිහින් අම්මලාටත් අලුත් ගෙයක් දොරක් අරන් දෙන්නේ නැතුව දිගටම මෙහෙ ඉඳගෙන වැඩකරන්නේ ? එහෙමත් නැත්නම් ඒ ගොල්ලො තාම මෙහෙ වැඩකරන්න පටන් අරගෙන පොඩි කාලයයිද? එහෙමත් නැත්නම්, ඇගේ ප්‍රශ්නයෙන්ම ඇයට බය හිතුණා. ඒ ගොල්ලෝ ඒකෙන් සතුටක් ලබනවාද?

නැවතත් ඇයට වඩා හොඳ බීමක් ලැබුණා නම් හොඳයි කියලා හිතුණා - ඊයේ රෑත් ඇයට ෂැම්පේන් හුඟාක් උදව් වුණා.

''ඔයා මොනව හරි බොන්න කැමතිද?''

ඇය ඉදිරිපිට වයස අවුරුදු තිස් ගාණක ගුවන්යානා සමාගමක නිල ඇඳුමක් ඇඳගත්තු මනුස්සයෙක් පෙනී හිටියා.

ලෝකය මන්දගාමීව චලනය වන්නට වුණා. මරියාට හිතුණා ඇගේ ශරීරයෙන් වෙන්ව පිටතින් සිට බලා හිඳින්නට. ඉතාම ලැජ්ජාවට පත්වූ ඇය එය සඟවා ගන්නට යත්න දරමින් හිස සළා සිනාසුණා. ඒ මොහොතේ පටන් ඇගේ ජීවිතය සදාකාලිකවම වෙනස්වන බව ඇය දැන සිටියා.

පලතුරු යුෂ කොක්ටේලයක්, පුංචි කථාබහක්, ඔයා මොනවද මෙහෙ කරන්නේ, හරිම සීතලයි නේද? මම කැමතියි මේ සංගීතයට ආහ්, මම කැමතියි ඇබා සංගීතයට, ස්විස් ජාතිකයෝ සීතලට ගොඩාක් සංවේදියි, ඔයා බ්‍රසීලයෙන්ද? ඔයාගේ රට ගැන මොනවාහරි කියන්න. එහෙ ගොඩක් සැණකෙළි තියෙනව නේද? ඔයා දන්නවද බ්‍රසීල රටේ ගෑනු හරිම ලස්සනයි.

ඇය හිනාවෙලා ඒ ප්‍රශංසාව පිළිගත්තේ පොඩි ලැජ්ජාවකින්ද යුක්තවයි. ඇය නැටුම් ශාලාවට පැමිණියා. ඒත් හැම වෙලාවෙම ඇය සමහර වෙලාවට ඔළුව කසමින් සිය අත්ඔර්ලෝසුවට සෙමින් තට්ටු කරන මිලාන් දෙස නෙත් යොමු කළා. මේ මනුස්සයාගේ විලවුන් සුවඳින් ඇය ඉක්මනින් අවබෝධ කරගත්තා මේ සියලු වර්ගවල සුවඳවල්වලට ඇයට හුරුවෙන්නට වෙයි කියලා. මේක අඩුම ගාණේ විලවුන් සුවඳක්. ඔවුන් බොහෝම සමීපව නැටුවා. තවත් පලතුරු යුෂ කොක්ටේල් පානයක්, වෙලාව ගතවෙමින් තිබුණා. මිලාන් කිව්වා නේද උපරිම විනාඩි හතළිස්පහයි කියලා? ඇය ඇගේ ඔරලෝසුව දෙස බැලුවා. ඔහු ඇය කවුරු හරි කෙනෙක් බලාපොරොත්තුවෙන් ඉන්නවද කියලා ඇහුවා. තව පැයකින් විතර ඇගේ මිතුරන් කිහිප දෙනෙක් පැමිණෙනවා කියලා ඇය කිව්වා. ඔහු ඇයට ඔහු නැවතී සිටින හෝටලයට ආරාධනා කළා. ෆ්‍රෑන්ක් තුන්සිය පනහක්, ලිංගික කටයුත්තෙන් පසු ඇඟ සෝදා ගැනීමක්. (විශ්මිත වූ ඒ මනුස්සයා කිව්වා කවදාවත් එයාට මේ වගේ දෙයක් කවුරුත් කරලා නැහැ කියලා.) ඒ මරියා නොවෙයි. හැඟීම්වලින් තොර යාන්ත්‍රිකව ඒ පිළිවෙතට අවශ්‍ය චලනය සිදුකරන ඇගේ සිරුර තුළ සිටින වෙනත් කෙනෙක්. ඇය නිළියක්. මිලාන් ඇයට සියලු දේ උගන්වා තිබුණා. සේවාදායකයාට සමුදෙන අන්දම පවා ඇයට කියාදී තිබුණා. ඇය ඔහුට ස්තුති කළා. ඔහුටත් අවුල් සහගත භාවයකුත් නිදිමත ගතියකුත් දැනුණා.

ඇයට නැවත ක්ලබ් එකට යන්නට අවශ්‍ය වුණේ නැහැ. ඇයට ඕනවුණේ ගෙදර යන්නයි. නමුත් ඒ ෆ්‍රෑන්ක් පනහ දෙන්නට ඇයට එහි යන්නට සිදුවුණා. ඉතින් ඊළඟට තවත් කෙනෙක්, තවත් කොක්ටේල් එකක්, බ්‍රසීලය ගැන තවත් ප්‍රශ්න, හෝටලයක්, තවත් ඇඟ සෝදාගැනීමක් (මෙවර කිසිදු ප්‍රකාශයකින් තොරවම) නැවතත් තැබෑරුමට, එතැනදී අයිතිකාරයා එයාගේ කොමිස් මුදල අරගෙන අද රෑ ගොඩක් ගනුදෙනුකාරයෝ නැති හින්දා ඇයට ගෙදර යන්න පුළුවන් කිව්වා. ඇය ටැක්සියක් ගත්තේ නැහැ. රියු ද බර්න් දිගේ ඇති අනෙක් සමාජශාලා දෙස බලමින්, අත් ඔරලෝසු සහ බිත්ති ඔරලෝසුවලින් පිරී සාප්පු ජනේල දෙසත් කෙළවරේ තිබෙන පල්ලිය දෙසත් (වසා තිබුණ, හැමදාම වසා තිබුණා) බලමින්

පයින්ම ගමන් කළා. හැමදාමත් වගේ කවුරුවත් ඈ දෙස බැලුවේ නැහැ.

ඇය සීතල අතරින් ඇවිද ගියා. ඇයට ගල් ගැසෙන සීතල ගැනවත් අවබෝධ වුණේ නැහැ, ඇය හැඬුවේත් නැහැ, ඇය ඉපයූ මුදල් ගැනවත් හිතුවේ නැහැ. ඇය මෝහනය වෙලා වගේ හිටියා. සමහර මිනිස්සු ඉපදිලා තියෙන්නේ තනියම ජීවිතයට මුහුණ දෙන්නටයි. ඒ වගේම මේක හොඳ හරි නරක හරි දෙයක් නෙමෙයි. මේකට තමයි සරලවම ජීවිතය කියලා කියන්නේ. මරියා කියන්නේ එවැනි මිනිස්සුන්ගෙන් කෙනෙක්.

ඇය සිදුවුණේ මොකක්ද කියලා සිතන්නට උත්සාහ ගත්තා : ඇය අද වැඩ ආරම්භ කෙරුවා වුණත් ඇය ඇයව වෘත්තිකයකු හැටියට සැලකුවා. හරියට ඇය ඒක වසර ගාණකට ඉස්සර ඉඳන් කරපු දෙයක් විදිහට, හරියට ඇය ඒක ඇගේ ජීවිත කාලය පුරාවටම කරපු දෙයක් විදිහට සැලකුවා. ඇයට අමුතු ආඩම්බරයක් දැනුණා. මෙයින් පලා නොයාම පිළිබඳව ඇය සතුටු වුණා. දැන් ඇයට තියෙන්නේ මෙය දිගටම සිදුකරනවාද නැද්ද යන්න තීරණය කරන එක විතරයි.

මරියාගේ දිනපොතෙන් : සතියකට පසු

*මම ආත්මයක් ඇති සිරුරක් නෙමෙයි. මම ඇසට පෙනෙන සිරුරකින් යුත් ආත්මයක්. මේ සතිය පුරාම කෙනෙක් බලාපොරොත්තු වෙන දේට වෙනස්ව, කවදාටත් වඩා මගේ ආත්මයේ පිළිබිඹුව ගැන මම සවිඥානික වෙමින් සිටියා. එය මට කිසිවක් කීවේ නැහැ. එය මා විවේචනය කළේවත් මා පිළිබඳව දුක් වූවේවත් නැහැ. එය ඔහේ මා දෙස බලා සිටියා.*

*අද මට වැටහුණා ඇයි මෙහෙම සිද්ධවෙන්නේ කියලා. මම ආදරය ගැන හරි, ආදරය කියලා කියන දෙයක් ගැන හරි හිතලා ගොඩක් කල් ගෙවිලා ඉවරයි. ඒක හරියට මට තව දුරටත් වැදගත් නැති මා නොපිළිගන්නා දෙයක් වගේ මාවෙතින් පලායමින් තියෙනවා. ඒත් මම ආදරය ගැන හිතන්නේ නැතිනම්, මම තව දුරටත් කිසිවෙක් නොවෙයි.*

කොපකබානාවලට ගිය දෙවෙනි දවසේ රාත්‍රියේදී මට වඩා වැඩි ගෞරවනීය සැලකිලි ලැබුණා. පැහැදිලිවම බොහෝම ගෑනු ළමයි පළමු රාත්‍රියේදී එහෙම කළත් ඒක දිගටම කරන එක දරාගන්න බැරිවෙනවා. නමුත් කවුරු හරි ඒක දරාගන්නවා නම් එයා මිතුරු පාක්ෂිකයෙක් වෘත්තීය සගයෙක් වෙනවා. ඒ මොකද ඇයට තේරුම් ගන්න පුළුවන් මේකෙ තේරුමත්, අමාරුකමත්, එහෙමත් නැත්නම් මේවගේ ජීවිතයක් තෝරාගන්න එකේ තේරුමක් නැතිකමත්.

ඔවුන් හැම කෙනෙක්ම කවුරුත් හෝ පැමිණ ඔවුන් තුළ සිටින සැබෑ ගැහැනිය - හිතවතිය, ආදරවන්තිය, මිතුරිය - දකින එක ගැන සිහින මවනවා. නමුත් සෑම අලුත් හමුවීමකම පළමු මොහොතේදීම ඔවුන් හැම කෙනෙක්ම දන්නවා මෙය හුදෙක් සිදු නොවන දෙයක් බව.

මට ආදරය ගැන ලියන්න අවශ්‍යයි. මට ආදරය ගැන නැවත නැවතත් සිතමින් නැවත නැවතත් ලියන්න අවශ්‍යයි. එහෙම නැත්නම් මගේ ආත්මය නොරැකේවි.

# 12

**කො**හොම වුණත් ආදරය කොච්චර වැදගත්ද කියලා මරියා හිතුවා. ඈ පළමු දින රාත්‍රියේ ඇයට දුන් අවවාදය අමතක නොකළ අතර ආදරය ඇගේ දිනපොතේ පිටුවලට රඳවා තබන්නට ඇය උපරිමව උත්සාහ කළා. ඒ හැරුණහම ඇය පුළුවන් තරම් කෙටි කාලයකින් විශාල මුදලක් හම්බු කරගන්නත්, සාර්ථක වෙන්නත්, අඩුවෙන් හිතන්නටත් තමා කරමින් සිටි කටයුත්ත සඳහා හොඳ හේතුවක් හොයන්නත් අසාර්ථක උත්සාහයක යෙදුණා.

ඒක තමයි අමාරුම කොටස : මොකක්ද ඇත්තටම හේතුව? ඇය ඒක කළේ ඇයට එහෙම කරන්න අවශ්‍ය වුණු හින්දයි. ඒත් ඒක එච්චරම ඇත්තක් නෙමෙයි. හැමෝටම සල්ලි අවශ්‍යයි. ඒත් කවුරුත් සමාජයේ කොන්වෙලා ජීවත්වෙන්න තෝරාගන්නේ නැහැ. නමුත් ඇය ඒක කරන්නේ ඇයට අලුත් දෙයක් විඳින්න වුවමනා වුණු හින්දයි. නැහැ. ඒකත් ඇත්ත නෙමෙයි. ලෝකය අලුත් අත්දැකීම්වලින් පිරුණු එකක් - උදාහරණයක් විදිහට හිම මත ලිස්සන එක, ජිනීවා වැවේ යාත්‍රා කරන එක - නමුත් ඇය කවදාවත් ඒවාට උනන්දුවක් දැක්වූවේ නැහැ. ඇය මෙය සිදුකළේ ඇයට අහිමි වෙන්න කිසිම දෙයක් නොතිබුණු නිසයි, ඇගේ ජීවිතය දිනෙන් දින අසහනකාරීත්වයෙන් පිරෙන වෙනසක් නැති එකක් වුණු නිසයි.

නැහැ. මේ කිසිම උත්තරයක් ඇත්ත වුණේ නැහැ. ඉතින් හොඳම දේ වුණේ මේ හැමදේම අමතක කරලා ඇගේ මේ මාර්ගය ඉදිරිපිට තියෙන දේවල් සමඟ සරලවම ගනුදෙනු කරන එකයි. ඇයට අනෙක් ගණිකාවන් සමඟ මෙන්ම ඈ ජීවිත කාලය පුරාවට දැන සිටි ගැහැනුන් සමඟ බොහෝම සමානකම් තිබුණා. ඒ

ගොල්ලන්ගේ ලොකුම හීනය වුණේ කසාද බැඳලා ආරක්ෂිත ජීවිතයක් ගත කරන්නයි. මේ විදිහට නොහිතපු අයටත් ස්වාමි පුරුෂයෙක් හිටියා. (ඇයගේ සගයන්ගෙන් තුනෙන් පංගුවක්ම කසාද බැඳලා හිටියා) එහෙමත් නැත්නම් ළඟදී දික්කසාද වෙලා තිබුණා. ඒ නිසා ඇය ගැනත් තේරුම් ගන්නටත් එක්කම ඇය - හැකි තරම් නුවණක්කාරීව - තේරුම් ගන්න උත්සාහ කළා, ඇයි ඇගේ සගයන් මේ වෘත්තිය තෝරාගත්තේ කියලා.

ඇයට අලුත් යමක් ඇහුණේ නැහැ. ඒත් ඇය ඔවුන්ගේ උත්තර ලැයිස්තුවක් හැදුවා. ඒ අය කිව්වා එයාලගේ සැමියන්ට උදව් කරන්න වෙලා තියෙනවා කියලා, (ඒ ගොල්ලන්ගේ සැමියන්ට ඊර්ෂ්‍යා හිතෙන්නේ නැද්ද? දවසක ඒ අයගේ සැමියෙක්ගෙ යාළුවෙක් ක්ලබ් එකට ආවොත්? ඒත් මරියා මේ ප්‍රශ්න අහන්න තරම් ධෛර්යමත් වුණේ නැහැ.) සමහරු කිව්වා ඒ අයගේ දෙමාපියන්ට ගෙයක් මිලදී ගන්න ඕන කියලා. (ඇයගේ නිදහසට කාරණයමයි. උතුම් වගේම ඉතාම සුලබම හේතුව) තවත් අයට ආපහු ගෙදර යන්න අවශ්‍ය මුදල් හොයාගන්නයි කියලා කිව්වා. (කොළොම්බියානු, තායි, පේරු මෙන්ම බ්‍රසීලියානු ගැහැනුන් හැමෝම මේ හේතුවට කැමති වුණා. ඔවුන් කිහිපවරක්ම අවශ්‍ය පමණට මුදල් හම්බ කළත් සිහිනය සැබෑ වෙනවට බියෙන්ම ඒවා ඉක්මනින්ම ඉවර කරගත්තා.) සමහරු විනෝදය සඳහා කියලා කිව්වා. (මේක නම් මෙතැන වටාපිටාවත් එක්ක ගැළපුණේ නැහැ. හැම තිස්සෙම ඒක නම් වැරදුණා) තවත් අයට වෙනත් රැකියාවක් හොයාගන්න අමාරු හින්දා කියලා කිව්වා. (මේකත් හොඳ හේතුවක් නෙමෙයි. පිරිසිදු කරන්නන්ට, රියදුරන්ට, කෝකියන්ට ස්විට්සර්ලන්තයේ ඇබෑර්තු පිරිලා තිබුණා)

කිසිම කෙනෙක් වලංගු හේතුවක් ඉදිරිපත් කළේ නැහැ. ඉතින් ඇය ඇගේ විශ්වය තේරුම් කරගන්න කරන උත්සාහය නැවැත්තුවා.

ඇය තේරුම් ගත්තා මිලාන්, මෙහි අයිතිකරු කියපු දේ හරියි කියලා. කිසිම කෙනෙක් ඊට පස්සේ ඇයත් එක්ක පැය කිහිපයක් ගත කරන වරප්‍රසාදයට ෆ්‍රෑන්ක් දාහක් ගෙව්වේ නැහැ. අනික් අතට කවුරුවත් ඇය ෆ්‍රෑන්ක් තුන්සිය පනහක මුදලක් ඉල්ලනකොට ඒ ගැන පැමිණිලි කළේත් නැහැ. හරියට ඒ ගොල්ලො

ඒ ගැන දැනගෙන හිටියා වගෙයි. ඒ ගැන මොනව හරි ඇහුවා නම් ඇහුවේ ඇයව ලැජ්ජාවට පත්කරන්නයි. නැත්නම් මොනවා හරි අප්‍රියජනක අවස්ථාවන් මගහරින්නටයි.

එක ගැනු ළමයෙක් මෙහෙම කිව්වා.

''ගණිකා වෘත්තිය අනික් ව්‍යාපාර වගේ නෙමෙයි. ආධුනිකයෝ හුගාක් හම්බ කරනවා. පළපුරුදු අය හම්බකරන්නේ අඩුවෙන්. හැම තිස්සෙම ඔයා ආධුනිකයෙක් කියලා පෙන්නන්න.''

මරියා තවමත් දැනගෙන හිටියේ නැහැ කවුද මේ ''විශේෂ ගනුදෙනුකාරයෝ'' කියලා. ඒ ගොල්ලො ගැන කථාවුණේ පළවෙනි දවසෙ රාත්‍රියෙදි විතරයි. ඊට පස්සේ කවදාවත් ඒ ගොල්ලො ගැන කවුරුවත් කථා කළේ නැහැ. ක්‍රමයෙන් ඇය මේ රැකියාවේ ඇති වැදගත් ක්‍රමයන් අල්ලා ගත්තා. ඒ කියන්නේ පෞද්ගලික ප්‍රශ්න නොඅසන්න, ගොඩක් හිනාවෙලා අඩුවෙන් කථා කරන්න, ක්ලබ් එකෙන් පිටත කිසිවකුත් මුණ නොගැසෙන්න වගේ දේවල්. ඉතාම වැදගත් උපදේශය ආවේ පිලිපීන ගැහැනියක් වුණු ''නියා'' ගෙන්.

''ඔයාගේ ගනුදෙනුකාරයට යන්න ළං වෙනකොට ඔයත් තෘප්තිමත් වෙනව වගේ කෙඳිරි ගාන්න. ඒක එයාට පක්ෂපාතීත්වය පෙන්නන්න හොඳ විදිහක්.''

''ඒත් ඇයි? ඒ අය සල්ලි ගෙවන්නේ ඒ අයගෙම තෘප්තියටනේ''

''නැහැ. එතැනදි තමයි ඔයාට වැරදුණේ. කෙළින් වෙච්ච පලියට මනුස්සයෙක්ට එයා පිරිමියෙක් කියලා ඔප්පු වෙන්නේ නැහැ. එයා හරියටම පිරිමියෙක් වෙන්නේ ගෑනියෙක් සතුටු කරන්න පුළුවන් නම් විතරයි. එතකොට එයාට ගණිකාවක් සතුටු කරන්න පුළුවන් නම් එයා හිතාවි එයා තමයි මේ පැත්තේ ඉන්න හොඳම ආදරවන්තයා කියලා.''

# 13

ඉතින් මාස හයක කාලයක් ගෙවිලා ගියා. මරියා අවශ්‍ය සියලු පාඩම් ඉගෙන ගත්තා. උදාහරණයක් විදිහට ''කොපකබානා'' වැඩ කරන හැටි... රියු ද බර්න්වල තිබුණු මිල අධිකම තැන කොපකබානා නිසා ගනුදෙනුකාර පිරිස අතර හිටියේ විධායක ශ්‍රේණියේ අයයි. ඒ ගොල්ලන්ට ප්‍රමාද වෙලා ගෙදර පැමිණෙන්න අවසර තිබුණා. මොකද ඒ අය ''සේවාදායකයොත් එක්ක රෑ කෑමට එළියට යන'' හින්දා. ඒත් මේ ''රෑ කෑම'' රාත්‍රී එකොළහ වෙනකං කවදාවත් තිබුණේ නැහැ. එතැන වැඩකරපු ගොඩක් ගණිකාවෝ වයස දහඅටත් විසි දෙකත් අතර අය. ඒ ගොල්ලො සාමාන්‍යයෙන් අලුත් තරුණියන් වැඩට ගන්න කං අවුරුදු දෙකක් විතර නැවතිලා හිටියා. ඊට පස්සේ ඒ ගොල්ලො ''නියොන්''වලටත් පස්සේ ''ක්සෙනියම්''වලටත් මාරුවුණා. ඔවුන්ගේ වයස වැඩිවෙනවත් එක්කම උපයපු මුදලත් අඩුවුණා. වැඩ කරන පැය ගණනත් එන්න එන්නම අඩුවුණා. අන්තිමට ඒ ගොල්ලො නවතින්නේ අවුරුදු තිහකට වැඩි අය බඳවා ගන්න ''ට්‍රොපිකල් එක්ස්ටඩ්'' එකෙන්. ඒත් එහෙදි ඒ ගොල්ලන්ට කරන්න පුළුවන් වෙන්නේ දවල් කෑම වේලත් ගෙවල් කුලී මුදලටත් සෑහෙන්න ගණනක් ශිෂ්‍යයෙක් දෙන්නෙක් එක්ක ගිහින් උපයා ගන්න විතරයි. (එක් ගනුදෙනුකාරයෙක්ගෙන් ලබා ගන්න මුදලින් යන්තමින් ලාබ වයින් බෝතලයක් විතරයි ගන්න පුළුවන් වුණේ)

ඇය ගොඩක් පිරිමින් එක්ක ඇඳට ගියා. ඇය ඔවුන් කොච්චර වයසද කියලවත්, හැඳ පැළඳගෙන හිටිය විදිහ ගැනවත් සැලකිල්ලක් දැක්වූයේ නැහැ. නමුත් ඇගේ කැමැත්ත හරි අකමැත්ත හරි තීරණය වුණේ ඒගොල්ලන්ගෙන් ආපු සුවඳ මතයි. ඇය සිගරට් ගඳ පිළිබඳ

තැකුවේ නැති වුණත් රැවුළ බෑමෙන් පසු ගල්වන ලාබ දියර වර්ග, ඇඟපත නොසෝදපු අය, සමහර අයගේ ඇඳුම්වලින් නිකුත් වෙන මත්පැන් ගඳත් අප්‍රිය කළා. කොපකබානා බොහෝම නිහඬ තැනක් වුණා. නිවාස බලපත්‍රයත්, රැකියා බලපත්‍රයත් ඒ වගේම සමාජ ආරක්ෂණ ගාස්තු ගෙවලා සියලු ලියකියවිලි තියෙනවා නම් ස්විට්සර්ලන්තය කියන්නේ ගණිකාවක් විදිහට වැඩ කරන්න පුළුවන් ලෝකෙ තියෙන හොඳම රට. මිලාන් හැම තිස්සෙම කියපු දේ තමයි, එයාගේ දරුවෝ එයාගෙ නම ටැබ්ලොයිඩ් පත්තරවල යනවා දකින්න කැමති නැහැ කියන එක. ඉතින් එයා පොලිස්කාරයෙක් වගේ බොහෝම ඍජුව එයාගේ සේවිකාවො ගැන ඇහැ ගහගෙන හිටියා.

පළමුවන හෝ දෙවන රාත්‍රියේ බාධක පසුකර ගතහොත් මෙයත් අනෙක් වෘත්තියක් වගේම මහන්සිවෙලා වැඩ කරන, තරගකාරීත්වය වෙනුවෙන් සටන් වදින, රැකියාවේ තත්ත්වය පවත්වාගෙන යන, අවශ්‍ය පැය ගණනක් වැඩ කරන, රැකියාවෙන් වෙහෙසට පත්වෙන, වැඩ ප්‍රමාණය ගැන පැමිණිලි කරන, ඉරිදා දිනවල විවේක ගන්න එකක් වුණා. බොහෝ ගණිකාවන්ට කුමන විදිහක හරි ආගමික විශ්වාසයක් තිබුණා. ඉතිං ඒ අය ගරු කටයුතු පල්ලිවලට වගේම පූජාවන්ටත් සහභාගී වුණා, යාඥා කළා, ඒ අයගේ දෙවියන් හමුවුණා.

කොහොම වුණත් මරියා ඇගේ ආත්මය රැකගැනීමට ඇගේ දිනපොතේ පිටු අතර පොර බදමින් හිටියා. ඇගේ පුදුමයට වගේ ඇය සොයාගත්තා හැම සේවාදායකයන් පස්දෙනෙකුගෙන් එක් අයකුට ඇය සමඟ ටිකක් කථා කරන්නට මිසක් ඇයව ලිංගික කටයුත්ත සඳහා අවශ්‍ය නොවන බව. සමාජ ශාලාවේත්, හෝටල් කාමරේත් ගාණ ගෙවලා දෙන්නම ඇඳුම් ගලවන වෙලාව ආපුවහම ඒ අය කියනවා "එපා, ඒක එච්චර අවශ්‍ය වෙන්නේ නෑ." ඒ අයට අවශ්‍ය වුණේ වැඩපොළේදී ඇතිවෙන මානසික පීඩනය ගැන කථා කරන්න, ඒ අයගේ චපල බිරිඳ ගැන, ඒ ගොල්ලො කොච්චර තනිවෙලා ඉන්නවද කියන එක ගැන, ඒ අයට කථාකරන්න කවුරුත් නැති එක ගැන කථා කරන්නයි. (මේ සියල්ල ඇය බොහෝම හොඳින් දැන සිටියා.)

මුලින්ම මරියාට මෙය දැනුණේ අමුතු දෙයක් හැටියටයි. ඉතින් දිනක් ඇය අහංකාර ප්‍රංශ ජාතික විධායක ශ්‍රේණියේ රැකියාවලට පුද්ගලයන් සොයා දෙන්නෙක් සමඟ හෝටලයකට ගියා. (ඔහු එය පැවසුවේ හරියට මේ ලෝකයේ ඇති පුදුමාකාරම කථාව එය බව හඟවමිනුයි.) ඔහු කිව්වේ මෙන්න මේකයි.

''ඔයා දන්නවද මේ ලෝකෙ වැඩියෙන්ම තනිවෙලා ඉන්න පුද්ගලයා කව්ද කියලා? ඒ බොහෝම සාර්ථක වෘත්තීය ජීවිතයක් තියෙන, බොහෝම විශාල වැටුපක් හම්බුකරන, එයාට ඉහළින් සහ පහළින් ඉන්න හැම කෙනෙක්ගෙම විශ්වාසය තියෙන, පවුලේ අයත් එක්ක නිවාඩු ගතකරන්න යන, දරුවන්ට පාඩම් කියල දෙන විධායක ශ්‍රේණියේ පුද්ගලයායි. ඉතින් මං වගේ කෙනෙක් එයා ළඟට කිට්ටුවෙලා මෙන්න මේ වගේ ප්‍රශ්නයක් ඇහුවොත්,

''ඔයා කොයි විදියටද රස්සාව වෙනස් කරන්න කැමති. ඒ වගේම දැන් උපයනවට වඩා දෙගුණයක් හම්බු කරගන්න කැමති? කියලා''

''සංතෝෂයෙන් ඉන්න ඕනතරම් හේතු තිබුණු සහ තමාව අනෙක් අයට ඕනෙ කියන හැඟීමෙන් හිටිය ඒ විධායකයා මේ ලෝකෙ ඉන්න අසරණම ප්‍රාණියා වෙනවා. ඇයි? එයාට කථා කරන්න කවුරුත්ම නැති හින්දා. එයා මගේ යෝජනාව පිළිගන්න පෙළඹුණත් එයාගේ වෘත්තිය සගයො එක්ක මේ ගැන කතාකරන්න බැහැ. මොකද ඒ ගොල්ලො එයාව නවත්තන්න පුළුවන් හැමදේම කරන හින්දා. එයාගේ සාර්ථකත්වයේ හිණිපෙත්තට නඟින්න උදව් කරපු, සුරක්ෂිතභාවය මිසක් අවදානමක් ගන්න එක ගැන නොතේරෙන එයාගේ සහකාරිය එහෙම නැත්නං එයාගේ බිරිඳ එක්කවත් එයාට මේ ගැන කතා කරන්න බැහැ. එයාට මේ ගැන කාත් එක්කවත් කථා කරන්න බැහැ. ඒ වගේම එයාට ජීවිතයේ ලොකුම තීරණයකට මුහුණ දෙන්න වෙනවා. ඔයාට හිතාගන්න පුළුවන්ද එයාට කොහොම හැඟීමක් ඇතිවෙයිද කියලා?''

නැහැ. මුළු ලෝකෙම තනිවෙලා ඉන්න මනුස්සයා එයා නෙමෙයි. මරියා දැනගෙන හිටියා මේ මිහිපිට වඩාත්ම තනිවෙලා ඉන්න මනුස්සයා එයා බව. කොහොම වුණත් ලොකු ටිප් එකක් බලාපොරොත්තුවෙන් ඇය ගනුදෙනුකාරයා එක්ක එකඟ වුණා.

නමුත් ඔහුගේ වචන ඇට තේරුම් කර දුන්නා ඇගේ සේවාදායකයෝ යටවෙලා ඉන්න මානසික පීඩනයෙන් ඒ ගොල්ලො මුදවා ගන්නට මොකක් හරි ක්‍රියා මාර්ගයක් ගන්න ඕනෙ කියලා. ඒක ඇගේ සේවයේ තත්ත්වය වැඩි දියුණු කරගන්නත් වැඩිපුර මුදලක් හම්බ කරගන්නත් අවස්ථාවක්.

අධ්‍යාත්මයේ ආතතිය සැහැල්ලු කිරීම ශරීරයේ ආතතිය සැහැල්ලු කිරීම තරම් ලාභදායී කියලා ඇය තේරුම් ගත්තා. එසේ ලාභදායී නොවන විට ඇය නැවතත් පුස්තකාලයට යන්න පටන් ගත්තා. ඇය අඹු - සැමි අර්බුද, මනෝවිද්‍යාව, දේශපාලනය ගැන පොත් ඉල්ලන්ට වුණා. ඇය ප්‍රිය කළ මේ තරුණිය දැන් ලිංගිකත්වය ගැන හිතන එක නවතා වඩා වැදගත් කරුණු ගැන උනන්දු වෙන එක ගැන පුස්තකාල පාලිකාව බොහෝම සතුටු වුණා. මරියා දිනපතා පුවත්පත් කියවන්නියක් බවට පත්වුණා. විශේෂයෙන් වෙළෙඳ පිටු කියවන්නියක් බවට පත්වුණා. ඒ මොකද, ඇගේ සේවාදායකයන්ගේ වැඩි දෙනෙක්ම වෙළෙඳ අංශයේ විධායකවරු වුණු හින්දා. ඇය මාර්ගෝපදේශන පොත් පිරික්සුවා. මොකද ඇගේ සේවාදායකයෝ ගොඩාක් දෙනෙක්ම වගේ ඇගෙන් උපදෙස් ඉල්ලා හිටියා. ඇය මිනිස් හැඟීම් ගැන කරපු අධ්‍යයන කියෙව්වා. මොකද, ඇගේ සේවාදායකයො කුමන හෝ අන්දමේ මානසික පීඩාවක් වින්දා. මරියා ගෞරවනීය, ඊටත් වඩා අමුතුම ගණිකාවක් වුණා. මාස හයකට පස්සේ ඇයට විශාල, විශ්වාසවන්ත, තෝරාගත් ගනුදෙනුකාරයෝ පිරිසක් ලබාගන්නට පුළුවන් වුණා. එය ඇගේ සගයන්ගේ ඊර්ෂ්‍යාව අවුස්සන්නක් වගේම අගය කරන්නක්ද වුණා.

ලිංගිකත්වය කියන එක ඇගේ ජීවිතයට කිසිවක් එකතු කළේ නැහැ. ඒක කකුල් දෙක පළල් කරන, ඔවුන්ට කොන්ඩමයක් පළඳින්න කියන, හොඳ ටිප් එකක් බලාපොරොත්තුවෙන් ටිකක් කෙඳිරි ගාන, (පිලිපීන ගැහැනිය නියාට පින්සිද්දුවෙන්න කෙඳිරි ගාන එකෙන් තවත් ෆ්‍රෑන්ක් පනහක් ඇය හම්බ කළා.) ඇගේ ආත්මය සෝදා පිරිසිදුවේ යැයි සිතමින් අනතුරුව ඇඟ සෝදා ගන්න එකත් විතරයි. සාමාන්‍ය දෙයක් හැරෙන්න කිසිදු සිප ගැනීමක්වත් සිදුවුණේ නැහැ. ගණිකාවකට සිප ගැනීම ශුද්ධ වූ දෙයක්. ඇගේ හාදු සිය ආදරවන්තයා වෙනුවෙන් තියාගන්න කියලා නියා ඇයට උගන්වා තිබුණා. හරියට නිදි කුමරියගේ කථාවේ

වගේ ඒ හාදුව ඈ සිටින නින්දෙන් ඇහැරවා සුරංගනා ලෝකයකට රැගෙන යාවි. ඒත් ආපහු සැරයක් ස්විට්සර්ලන්තය, චොකලට්, ගවයෝ, ඔරලෝසු තියෙන රටක් පමණක් වුණා.

සුරතාන්තයවත්, සතුටක්වත්, තිගැස්මක්වත් නැහැ. වෘත්තිය තුළ විශිෂ්ටත්වයට පත්වෙන්න යම් යම් දේවල් ටිකක් අල්ලා ගන්න මරියා නිල් චිත්‍රපටි කිහිපයක් නැරඹුවා. ඇය බොහෝ රසවත් දේ දුක්කා. ඒත් ඇය ඒවා ගනුදෙනුකාරයොත් එක්ක අත්හදා බලන්න නොගියේ ඒ සඳහා ගොඩාක් වෙලා ඕනවුණු නිසයි. ඒ වගේම ගෑනු ළමයි සාමාන්‍යයෙන් එක රැකට පිරිමි තුන්දෙනෙක් එක්ක විතර හිටියහම මිලාන් වඩාත් සතුටට පත් වුණා.

මාස හයක් ගතවුණාට පස්සේ මරියගේ බැංකු ගිණුමේ ස්විස් ෆ්‍රෑන්ක් හැටදාහක් තිබුණා. ඇය වඩා හොඳ අවන්හල්වලින් කෑම ගත්තා. රූපවාහිනි යන්ත්‍රයක් මිලදී ගත්තා. (ඇය එය කවදාවත් නැරඹුවේ නැති වුණත් ඒක ළඟ තබා ගන්නට කැමති වුණා.) ඒ වාගේම වඩා හොඳ තැනක පදිංචියට යන එක ගැනත් අවධානය යොමු කළා. ඇයට පහසුවෙන් පොත්පත් සඳහා වියදම් කරන්නට පුළුවන් වුණත් ස්ථිර සහ කල් පවතින සැබෑ ලෝකය හා ඇය සම්බන්ධ කළ පුස්තකාලයට යන එක දිගටම කළා. මරියාට පෙම්වතෙක් සහ රැකියාවක් ලැබී ඇතැයි සිතා සතුටට පත් පුස්තකාල පාලිකාව සමඟ අල්ලාප සල්ලාපයේ යෙදීමට ඇය ප්‍රිය කළා. එහෙත් ඇය ඒ ගැන කවදාවත් ඇහුවේ නැහැ. ස්විස් ජාතිකයෝ ස්වභාවයෙන්ම විචක්ෂණ ඒත් ලැජ්ජාශීලි අය. (ඒක සම්පූර්ණයෙන්ම වැරදි මතයක්. මොකද කොපකබානාවලදීත්, ඇදේදීත් ඔවුන් අනෙක් ජාතීන් වගේම පාලනයක් නැති, විනෝදකාමී, අසාමාන්‍ය විදිහට සංවේදී අය.)

## මරියාගේ දිනපොතෙන්, එක් උණුසුම් ඉරිදා උදෑසනක

*හැම මනුස්සයෙක්ම, උස වුණත් මිටි වුණත්, අහංකාර හෝ නිරහංකාර වුණත්, මිත්‍රශීලී හෝ එසේ නොවුණත් ඒ ගොල්ලන්ගේ එක පොදු ලක්ෂණයක් තියෙනවා. ඒ අය සමාජ ශාලාවට ආවට පස්සෙ බියට පත්වෙනවා. ඒ අයගෙන් වඩාත් අත්දැකීම් ඇති අය*

ඒ ගොල්ලන්ගේ බය වහගන්න ඉතා උස් හඬින් කථා කරනවා. වඩා වැඩියෙන් බයවෙන පිරිසට ඒ ගොල්ලන්ගේ ඒ හැඟීම් පාලනය කරගන්න බැරිවෙනවා. ඉතින් ඒ අය බය නැති කරගන්න බොන්න පටන් ගන්නවා. නමුත් මට ඒත්තු ගියා කලාතුරකින් වන දේවල් කිහිපයක් හැරුණහම - මිලාන් විසින් තවමත් මට හඳුන්වා නොදුන් ''විශේෂ ගනුදෙනුකාරයෝ'' - ඒ හැම කෙනෙක්ම බොහෝම බයයි කියලා.

බයවෙන්නෙ මොනවටද? මම තමයි හරි නම් බයෙන් ගැහෙන්න ඕනේ. මම තමයි ක්ලබ් එකෙන් පිටවෙලා නොදන්න හෝටලයකට යන්නේ. මට කිසිම ශරීර ශක්තියක්වත් ආයුධයක්වත් නැහැ. පිරිමි බොහෝම අමුතුයි. මම මේ සඳහන් කරන්නේ කොපකබානාවලට ආපු අය විතරක් නෙමෙයි. මට හැමදාමත් හමුවුණු පිරිමින් ගැනයි. ඒ ගොල්ලන්ට පුළුවන් තඩිබාන්න, බනින්න, තර්ජනය කරන්න, ඒත් ඒ අය ඇත්තටම ගෑනුන්ට බයෙන් මැරෙනවා. සමහරවිට ඒ, ඒ ගොල්ලො කසාද බැඳපු ගැහැනියට නෙමෙයි. නමුත් හැමතිස්සෙම ඒ ගොල්ලන්ව බියට පත් කරන, ඇගේ අභිමතයට අනුව හැඩගැසීමට බලකරන එක් ගැහැනියක් ඉන්නවා. ඒ ඒ ගොල්ලන්ගේ අම්මා වෙන්නත් පුළුවන්.

# 14

ඇය ජිනීවාවලට ආවට පස්සේ මුණ ගැහුණු හැම පිරිමියෙක්ම හැම විටම ඒ ගොල්ලන්ට දැඩි ආත්ම විශ්වාසයක් තියෙන බව පෙන්වන්නට කළ හැකි හැම දේම කළා. හරියට ලෝකේ ඇතුළෙත්, ජීවිතේ ඇතුළෙත් ඒ ගොල්ලෝ බොහෝම හොඳට පාලනය වුණා වගේ. කොහොම වුණත් මරියා ඒ අයගේ ඇස්වලින් දැක්කා ඒ ගොල්ලන්ගේ බිරින්දෑවරුන්ට ඒ අය කොච්චර බයද කියලා. ලිංගික පිබිදීමක් සිදුවෙන එකක් නැහැ කියලා තිබුණු හදිසි කලබල ගතිය, ඒ වගේම තමන්ගේ සේවයට මුදල් ගෙවල ගත්තු සාමාන්‍ය ගණිකාවට පවා තමන්ගේ පුරුෂ ශක්තිය පෙන්නන්න බැරිවුණොත් නැවත ඒ සමාජ ශාලාවට යන්න ලැජ්ජා වේවි. මොකද ඒ අය කල්පනා කරනවා අනෙක් ගෑනු ළමයිත් මේ ගැන දන්නවා කියලා.

''හරි නම් මමයි ලැජ්ජා වෙන්න ඕනෙ ඒ ගොල්ලන්ට ලිංගික සතුටක් දෙන්න බැරිවීම ගැන. ඒත්, නැහැ, ඒ වෙනුවට ඒ අය හිතන්නේ වැරැද්ද ඒ ගොල්ලන්ගේ කියලා.''

මේ වගේ අපහසුතාවලින් වළකින්න මරියා හැමවිටම ඒ අයව සැහැල්ලුවෙන් තැබුවා. කෙනෙක් බොහෝ බීමත්ව හරි සාමාන්‍ය විදියට වඩා දුබලව හරි හිටිය නම් ඇය සම්පූර්ණ සංසර්ගයක් වෙනුවට පිරිමැදීම්වලින් ඒ ගොල්ලන්ට කාටවත් ඕනෙ නැතුව බොහෝම හොඳින් කරගන්න පුළුවන් ස්වයං වින්දනයේ යෙදීමට ඉඩ සැලැස්සුවා. විකාරයක් විදිහට පෙනුණත් ඒක හැම විටම ඒ අයට බොහෝම ලොකු සතුටක් ගෙනාවා.

ඔවුන් ලැජ්ජාවට පත් නොකරන්නට ඇය වග බලා ගත්තා. මේ මිනිස්සු වැඩපොළේදී බොහෝම බලසම්පන්න ඒ වගේම උද්ධච්ච අය. නිතරම වැඩ කරන අය, සේවාදායකයෝ,

සැපයුම්කාරයෝ එක්ක පූර්ව විනිශ්චයකින් : රහස්, තත්ත්වය, වංකකම, බය වගේම පීඩනයකිනුයි ඒ උදවිය වැඩ කළේ. ඊළඟට ඒ අය දවස හමාර කළේ රාත්‍රී සමාජ ශාලාවකින්. ඉතින් ඒ ගොල්ලො එක රැකට ඔවුන් නොවී ඉන්නට ෆ්‍රෑන්ක් තුන්සිය පනහක් ගෙවන එක ගැන එච්චර හිතුවේ නැහැ.

''එක රැකට? ඕහ්... අයියෝ මරියා, ඔයා අතිශයෝක්තියෙන් කථා කරන්නේ. ඒක ඇත්තටම මිනිත්තු හතළිස් පහක් විතරයි නේ. ඔයා ඇඳුම් ගලවන වෙලාවත්, ආදරය පෙන්නන්න කරන ව්‍යාජ ඉරියව්වලටත්, වැදගැම්මකට නැති පොඩි කථාබහකටත්, ආපහු ඇඳුම් ඇඳගන්න යන වෙලාවත් ඇරුණහම ලිංගික කටයුත්තට ඇත්තටම ගතවෙන්නේ මිනිත්තු එකොළහක් විතරයි.''

මිනිත්තු එකොළහයි. හරියට ලෝකෙ වටයක් කැරකෙන්න ගිය වෙලාව මිනිත්තු එකොළහක් වගේ.

මේ පැය විසිහතරෙන් මිනිත්තු එකොළහක් නිසා (හැමදාම ඒ උදවියගේ භාර්යාවන් සමඟ රමණයේ යෙදෙනවා කියලා අහංකාරව කල්පනා කළත් ඒක පැහැදිලිවම විකාරයක්, ඒ වගේම සම්පූර්ණ බොරුවක්) ඒ අය කසාද බැන්දා, පවුලේ දියුණුවට වැඩ කළා, දරුවන්ගේ කෑ ගැසීම් ඉවසාගෙන සිටියා, ගෙදර ඒමට ප්‍රමාදවීම ගැන අභූත හේතු ඉදිරිපත් කළා. සිය ගණන් ගැහැනු එක්ක ජිනීවා වැව වටේ ඇවිදින්න කැමති වෙච්ච ඒ අය, ඔවුන් වෙත දුසිම් ගණන් කාමුක බැලුම් හෙළුවා. ඒ ගොල්ලො ඉතා මිල අධික ඇඳුම් මිලදී ගත්තා. ඊටත් වඩා මිල අධික ඒවා බිරින්දෑවරුන්ට මිලදී ගත්තා. ඒ ගොල්ලො අහිමි වුණු දේ ලබාගන්න ගණිකාවන්ට වියදම් කළා. ඒ වගේම ඒ ගොල්ලන්ගේ නඩත්තුවට ආලේපන වර්ග, අඩු කැලරි ආහාර, ව්‍යායාම, කාම උද්දීපනය කරන දෑ, බලය යනාදිය එකතු කර ගත්තා. ඒත් ඒ උදවිය අනෙක් පිරිමින් එක්ක එකතු වුණාම ඒ ජනප්‍රිය මතයට විරුද්ධ වෙනවා. ඒ අය කවදාවත් ගැහැනු ගැන කථා කළේ නැහැ. කථා කළේ රස්සාව, සල්ලි, ක්‍රීඩා ගැනයි.

ශිෂ්ටාචාරයේ මොකක් හරි අවුලක් වෙලා තියෙනවා. ඒක පුවත්පත් කියන විදිහේ ඇමේසන් වනාන්තරය විනාශ කරන එකවත්, ඕසෝන් ස්ථරය විනාශ කරන එකවත්, පැන්ඩලාගේ

මරණ, සිගරට්, පිළිකා සෑදිය හැකි කෑම වර්ග, හිරගෙවල්වල තත්ත්වය නම් නෙමෙයි.

හරියට කිව්වොත් ඒකත් එක්ක තමයි ඇය වැඩ කළේ : ලිංගිකත්වය.

ඒත් මරියා මෙතන හිටියේ ඇගේ බැංකු ගිණුම ලොකු කර ගන්න, තවත් තනිකම පිරුණු මාස හයක් ගත කරලා තවත් මාස හයක කාලයක් ඇය තෝරාගත් මාර්ගයේම යන්න, මාස්පතා මුදලක් ඇගේ මවට යවන්න (කලින් මුදල් නොලැබීමට හේතුව ස්විස් තැපැල් සේවයේ ප්‍රශ්නයක් නිසා බවත්, එය බ්‍රසීලියානු තැපැල් සේවයට වඩා අකාර්යක්ෂම යැයි සිතා සංතෝෂවුණු මවට) ඒවාගේම ඇයට කිසිදා නොලැබුණු එහෙත් හැමදාම හීන මවපු, සියලු දේවල් මිලදී ගන්නට මිසක් මනුෂ්‍ය සංහතිය බේරාගන්න නෙමෙයි. ඇය උදුනක් සහිත (ඒ වන විට ග්‍රීෂ්ම ඍතුව පැමිණිලා තිබුණත් ) ජනේලයෙන් ඇයට පල්ලියක්, ජපන් අවන්හලක්, සුපිරි වෙළෙඳ සැලක් සහ බොහෝම අපූරු කෝපිහලක් දිස්වුණු වඩා හොඳ මහල් නිවාසයකට පදිංචියට ගියා. ඇය ඒ ජනේලය ළඟ ඉඳගෙන තමයි පුවත්පත් කියෙව්වේ. නමුත් ඒ සියල්ල ඇයට තේරුම් ගිය විදියට කොපකබානාවලට යන එක, බීමක් බීලා නටන එක, ඔයා මොකද බ්‍රසීලය ගැන හිතන්නේ, ඔහුගේ හෝටලයට යන එක, මුලින්ම මුදල් ගන්න එක, හරියට සංවේදී තැනට කතා කරන එක - සිරුරෙන් සහ ආත්මයෙන්, ඒත් මූලිකවම ආත්මයෙන් - පෞද්ගලික ජීවිතේ ප්‍රශ්නවලට පුංචි උපදෙස් ටිකක් දෙන එක, ඔහුගේ මිතුරියක් වෙලා ඉන්න පැය භාගයෙන් මිනිත්තු එකොළහක් කකුල් දෙක පළල් කරන එක, කකුල් තද කරමින් රාගික කෙඳිරිල්ලක් නඟන එක, බොහොම ස්තූතියි, ඊළඟ සතියේ මුණ ගැහෙමු, ඔයා නියම පිරිමියෙක්, කියන්න, අපි ඊළඟ පාර මුණ ගැහුණම මොනවද කරන්නේ? ආහ්.. ඔයා හරිම ත්‍යාගශීලීයි, ඒත් ඒක ඇත්තටම අවශ්‍ය නැහැ, ඔයා එක්ක කාලය ගත කිරීම ගැන හරිම සතුටුයි, කියන පැරණි පුරුදු ජීවිතය ඉවසීමක්ම වගේ වුණා.

ඒ වගේම, හැම දේටම වඩා වැදගත් දේ, කවදාවත් ආදරෙන් බැඳෙන්න එපා. ඒක තමයි අනික් බ්‍රසීලියානු තරුණිය ඇය අතුරුදන් වෙන්න ඉස්සෙල්ලා ඇයට දුන් වඩාත්ම වැදගත් හා ප්‍රායෝගිකම

දැනමුතුකම. සමහරවිට ඇය කවුරු හරි එක්ක ප්‍රේමයෙන් බැඳෙන්න ඇති... බැලූ බැල්මට විශ්වාස කරන්න අමාරු වුණත් ඇය වැඩ කරපු මාස දෙක ඇතුළත මරියාට විවාහ යෝජනා කිහිපයක්ම ආවා. ඒවායෙන් තුනක්වත් අඩුම ගානේ අවංක ඒවා : ගණකාධිකාරී ආයතනයක අධ්‍යක්ෂවරයෙක්, ඇගේ ප්‍රථම දිනයේදී මුණ ගැහුණු ගුවන් නියමුවා, පිහි කර්මාන්තශාලාවක අයිතිකාරයෙක් ඒ අතර වුණා. මේ තුන් දෙනාම පොරොන්දු වුණා ''ඇයව මේ ජීවිතෙන් මුදා ගන්නවා'' කියලා. ඇයට සුන්දර නිවසක්, ලස්සන අනාගතයක්, ඕනෙ නම් දරුවො, මුණුපුරෝත් ලබාදෙනවා කියලා පොරොන්දු වුණා.

මේ ඔක්කොම මිනිත්තු එකොළහක් හින්දද? ඒක වෙන්න බැහැ. ඇගේ කොපකබානාවලින් ලබපු අත්දැකීම්වලින් පස්සේ ඇය තේරුම් ගත්තා මේ ලෝකෙ තනිවෙලා ඉන්නෙ ඇය පමණක් නෙමෙයි කියලා. මිනිස්සුන්ට වතුර නැතුව සතියක්, කෑම නැතුව සති දෙකක්, ඉන්න තැනක් නැතුව අවුරුදු ගාණක් වුණත් ඉන්න පුළුවන්. ඒත් හුදකලාව නම් විඳගන්න බැහැ. ඒක තමයි සියලුම වධ හිංසාවලින් නරකම වධහිංසාව. සියලුම පීඩාවලින් නරකම පීඩාව. ඇය වගේම මේ මිනිස්සුත් ඇගේ ඇසුර සොයන අනෙක් අයත්, මේ විනාශකාරී හැඟීමෙන් යුක්තව ලෝකයේ ඒ අය ගැන සොයා බලන්නට කවුරුත්ම නැතැයි සිතමින් කායිකවත්, මානසිකවත් පීඩා වින්දා.

ආදරය කිරීමට පෙළඹීමෙන් මිදීමට ඇය ඇගේ හදවත දින පොතේ රැඳෙව්වා. ඇය කොපකබානාවලට ගියේ ඇගේ සිරුරත්, මේ වනවිට තියුණු මෙන්ම වඩාත් සවිඥානිකවූත් සිය බුද්ධියත් රැගෙන පමණයි. ඇය සැමවිටම ඇයටම ඒත්තු ගන්වන්නට උත්සාහ කළා ජිනීවාවලට පැමිණීමත්, අවසානයේ ''රියූ ද බර්න්''වල නතරවීමත් අතර කුමන හෝ වැදගත් හේතුවක් තිබුණු බවට. ඒ වාගේම ඇය පුස්තකාලයෙන් පොතක් ගත්ත හැමවිටම ඇයගේ අදහසට අනුව තහවුරු කරගත්තා කවුරුත්ම හරියට දවසේ වැදගත්ම මිනිත්තු එකොළහ ගැන ලියලා නැහැ කියලා. ඒක කොතරම් අසීරු මොහොතක් වුණත් ඇගේ කථාව, ඇගේ අවදානම්කාරී ක්‍රියාව පිළිබඳ පොතක් ලිවීමට හිතුවා. සමහරවිට ඒක ඇගේ ඉරණම වෙන්න ඇති.

හරියට හරි. ඇගේ අවදානම්කාරී වික්‍රමය! තහනම් කරපු ඒ වගේම කවුරුවත් කතා කරන්න ධෛර්යක් නොගත්තා වචනයක් වුණත් මිනිස්සු හැම දෙනෙක්ම වගේ රූපවාහිනියෙන්, චිත්‍රපටිවලින් දිවා රාත්‍රියේ යළි යළිත් නරඹන්නට කැමති වුණු ඒ දේ තමයි ඇය සොයමින් හිටියේ. ඒක කාන්තාරයක් වගේ, නොදන්නා පෙදෙස්වල සංචාරය කරනවා වගේ ගුප්ත මිනිසුන් සමඟ ගඟක් මැද තිබෙන බෝට්ටුවක ඉඳගෙන වැදගැම්මකට නැති දේවල් කතා කරනවා වගේ, ගුවන් ගමන්, චිත්‍රාගාර, ඉන්දියානු ගෝත්‍රිකයෝ, ග්ලැසියර, අප්‍රිකාව වගේ හැඟීමක් මතුකරන වචනයක් වුණා.

ඇය පොත පිළිබඳ අදහසට කැමති වුණා. ඒ වගේම ඇය එයට යොදන නමක් ගැන පවා කල්පනා කළා : මිනිත්තු එකොළහක්

ඇය ගනුදෙනුකරුවන් කොටස් තුනකට වෙන් කළා : මුලිනුපුටා දමන්නෝ (Exterminators) (ඇය බොහෝසෙයින් රස විඳපු චිත්‍රපටයකට පින්සිදු වෙන්න ගත් නමක්) ඒ ගොල්ලො ආවේ මත්පැන් ගඳ ගහගෙන කවුරුත් දිහා බලන්නේ නෑ කියලා බොරුවට පෙන්නගෙන. ඒත් ඒ අය ඒත්තු ගන්වන්න හැදුවා හැමෝම ඒ ගොල්ලො දිහා බලනවා කියලා. යන්තමින් නටලා කෙළින්ම ආපු කාරණාවට බහිනවා. සුන්දර ගැහැනිය විදිහෙ අය (Pretty woman type) (ඒකත් චිත්‍රපටියක නමක්) ඒ ගොල්ලො බොහොම සුකුමාල, මහත්මා ගති ඇති, ආදරබර බැලුම් හෙළන අය, හරියට අක්ෂය වටේ කැරකිලා ලෝකය පවතින්නේ ඒ කාරුණික බව මත කියලා වගේ පෙනී ඉන්නට උත්සාහ කළා. හරියට ඒ ගොල්ලො පාරේ ඇවිදගෙන යනකොට අහම්බෙන් ඇවිල්ලා වගෙයි. ඒ අය මුලින්ම බොහෝම ප්‍රසන්න, සෞම්‍ය අය. ඒ වගේම ඒ ගොල්ලො හෝටලයට ගියාට පස්සේ ගොඩක්ම වෙනස්වෙනසුලුයි. ඒ නිසා ඒ ගොල්ලො අර Exterminators ලාට (මුලිනුපුටා දමන්නන්) වඩා ගොඩක් දේවල් ඉල්ලා හිටියා. අන්තිමට හිටියේ God father කණ්ඩායම. (ඒකත් තව චිත්‍රපටියක නමක්) ඒ ගොල්ලො ගෑනුන්ගේ ශරීරයට සැලකුවෙ හරියට ඒක වෙළෙඳ භාණ්ඩයක් හැටියටයි. ඒ ගොල්ලො බොහොම සැබෑ මිනිස්සු. ඒ අය නැටුවා, කතාබහ කළා, කවදාවත් ටිප් එකක් ගෙව්වේ නැහැ. ඒ අය දැනගෙන හිටියා ඒ ගොල්ලො මොනවද මිලදී ගත්තෙ

කියලාත්, ඒ වගේම කොච්චර ඒක වටිනවද කියලත්. ඒ වගේම තමන් තෝරගත්තු ගැහැනියට අවශ්‍ය දේ කරන්න ඒ ගොල්ලො කවදාවත් ඉඩ දුන්නේ නැහැ. ඒ ගොල්ලො තමයි ''අවදානම් ක්‍රියා'' කියන වචනේ බොහොම සියුම් විදිහට තේරුම් ගත්ත එකම පිරිස.

මරියාගේ දිනපොතෙන් : ඔසප්වීම හේතුවෙන් ඊකියාවට යාමට නොහැකි වූ දිනයක දී.

අද මට මගේ ජීවිතය ගැන කෙනෙකුට කියන්න වුණොත්, ඒක ඒ ගොල්ලොන්ට මාව නිර්භීත, ප්‍රීතිමත්, ස්වාධීන ගැහැනියක් කියලා හිතෙන විදිහට කියන්න පුළුවන් වේවි. විකාර : මට අඩුම තරමේ මිනිත්තු එකොළහට වඩා බොහෝම වැදගත් එකම වචනේවත් සඳහන් කරන්න ඉඩක් නැහැ - ආදරය

ජීවිතය පුරාවටම මම ආදරය ගැන හිතුවේ ඒක යම් විදියක ස්වේච්ඡා වහල්කමක් කියලයි. ඒත් ඒක බොරුවක් : නිදහස පවතින්නේ ආදරය එතැන ඇත්නම් විතරයි. කෙනෙක් තමාව ඔහුට හෝ ඇයට සම්පූර්ණයෙන්ම කැප කරනවා නම් ඒ පුද්ගලයාට තමයි මුළුමනින්ම නිදහස් බව දැනෙන්නේ. අන්න එයා තමයි මුළු හදවතින්ම ආදරය කරන්නේ.

මුළු හදවතින්ම ආදරය කරන කෙනා නිදහස විඳිනවා.

ඒ නිසා තමයි මම අත්දකින, කරන, ඉගෙනගන්න කිසිම දෙයක් කිසිම තේරුමක් නැත්තේ. මේ කාලය ඉක්මනින් ගතවේවි කියලා මං බලාපොරොත්තු වෙනවා. එතකොට මට පුළුවන් මං ගැන හොයන එක නැවත පටන් ගන්න - මාව තේරුම් ගන්න පුළුවන් ඒ වගේම මාව වේදනාවට පත් නොකරන මනුස්සයෙක් හොයා ගන්න විදිහේ ගෙවීමක් කරන්නට.

ඒත් මම මේ මොනවද කියන්නේ? ආදරේදී කිසිම කෙනකුට බැහැ තව කෙනකුට හානියක් කරන්න. අපි සියලු දෙනාම එකිනෙකාගේ හැඟීම්වලට වගකියන්න ඕනේ. ඒ වගේම අපිට බැහැ අපේ හැඟීම්වලට තවත් අයට දොස් පවරන්න.

මම ආදරෙන් බැඳුණු විවිධාකාර පිරිමින්ගෙන් එක් එක් අය මට අහිමි වෙද්දි ඒක මට විශාල වේදනාවක් වුණා. ඒත් එහෙම වුණත් දැන් මම තේරුම් අරන් තියෙනවා කාටවත් කවුරුවත් අහිමි වෙන්නේ නැහැ කියලා. මොකද, ඒ කාටවත් කවුරුවත් අයිති නැති හින්දා.

ඒක තමයි හැබෑම නිදහස විඳීම : ලෝකෙ තියෙන වැදගත්ම දේ අයිති කරගන්නේ නැතුව ලබාගන්න එක.

# 15

තවත් මාස තුනක් ගතවුණා. එළඹුණේ සරත් කාලයයි. කැලැන්ඩරයේ සඳහන් වුණු විදියට නැවත ඇගේ ගෙදර යන්නට තව දවස් අනූවක් ඉතිරිව තිබුණා. හැම දෙයක්ම බොහෝම ඉක්මනින් වගේම හිමිනුත් සිදුවුණා කියලා ඇය හිතුවා. කාලය එකිනෙකට වෙනස් මානයන් දෙකක පැවතුණා. ඒක කෙනකුගේ මානසිකත්වයේ ස්වභාවය මත රඳා පැවතුණා. ඒ අනුව මේ කාලවර්ග දෙකටම අනුව ඇගේ වික්‍රමාන්විතය අවසානය කරා ඇදී එමින් තිබුණා. ඇයට නිසැකවම මේ දේවල් දිගටම කරගෙන යන්නට පුළුවන්කම තිබුණා. ඒත් සියල්ල එතරම් පහසු දේවල් නෙමෙයි කියලා කියමින් ඇය සමඟ වැව රවුමේ ඇවිදගෙන ගිය ඒ අදෘෂ්‍යමාන කාන්තාවගේ දුක්බර සිනහව නම් ඇයට අමතක කරන්න බැරිවුණා. මේ දේවල් දිගටම කරගෙන යන්නට ඇය කෙතරම් පෙළඹුණත්, තමා ඉදිරිපිට ඇති අභියෝගවලට මුහුණ දීමට ඇය කෙතරම් සූදානම් වුණත්, තනිවම ගත කළ මාස ගණනාව ඕනෑම දෙයක් නවත්වා දමන්නට සුදුසු මොහොතක් තිබෙන බව ඇයට උගන්වා තිබුණා. දින අනූවක කාලයකදී ඇය ආපහු බ්‍රසීලයේ හුඟක් ඈත තියෙන ගමට යාවි. එහිදී ඇය කුඩා ගොවිපොළක්, (ඇය හිතු ප්‍රමාණයටත් වඩා වැඩි මුදලක් උපයාගෙන තිබුණා) එළදෙනුන් කිහිප දෙනෙක් මිලදී ගනීවි. ඇගේ මවටත්, පියාටත්, ඇය සමඟ ජීවත් වෙන්නට එන්න කියලා ආරාධනා කරාවි. වැඩට කිහිප දෙනෙක් අරගෙන ව්‍යාපාරය ආරම්භ කරාවි.

කොහොම වුණත් ආදරය කියන්නේ නිදහසේ එකම, සැබෑම අත්විඳීමයි කියලා ඇය විශ්වාස කළා. ඒ වගේම කාටවත් කවුරුවත් අයිති කරගන්න පුළුවන්කමක් නැහැ  කියන එකත් ඇය විශ්වාස

කළා. ඇය නොරිස්සුම් සහගත පළිගැනීමේ රහස් ආශාවක් තවමත් සිතේ රඳවාගෙන හිටියා. එය ඇගේ නැවතත් බ්‍රසීලය බලා යන ජයග්‍රාහී ගමනේ එක් කොටසක් වුණා. ගොවිපොළ දැම්මට පස්සේ නැවත ඇගේ ගම් පළාතට ගිහින් ඇගේ හොඳම මිතුරියක් එක්ක ඇයට වංචා කරපු පිරිමි ළමයා වැඩ කරමින් හිටපු බැංකුවේ විශාල මුදලක් ස්විස් ෆ්‍රැන්ක්වලින් තැන්පත් කරාවි. ''හලෝ කොහොමද? ඔයාට මාව මතක නැද්ද?'' ඔහු අසාවි. ඇය මතක් කරගන්නට අසීරු බවක් පෙන්නා අවසානයේ නැහැ කියලා කියාවි. ඇය යු-රෝපයේ (ඇය මේක ඔහුගේ අනෙක් යහළුවන්ටත් ඇහෙන්න ඇදලා පැදලා කියාවි) අවුරුද්දක් ඉඳලා ආවා විතරයි කියලා කියාවි. එහෙම නැත්තන් වඩා හොඳයි ලෝකෙ හොඳම බැංකු තියෙන ස්විට්-සර්-ලන්තය කියන එක. (ඒක ප්‍රංශයට වඩා විචිත්‍ර ඒ වගේම බොහෝම නිර්භීත තත්වයක් මවාවි.)

ඔහු කව්ද? ඔහු ඒ.ගොල්ලන්ගේ පාසල් කාලය මතක් කරාවි. ''ආහ්, ඔව්, මම හිතන්නේ මට මතකයි'' ඇය කියාවි. ඒත් ඇගේ මුහුණ ඇය ඔහු නොදන්න බව හොඳටම පෙන්වාවි. පළිගැනීම දැන් ඇගේය. ඉතින් ඊට පස්සේ මහන්සිවෙලා වැඩ කරන එක තමයි තියෙන්නේ. ඒ වගේම ඇය බලාපොරොත්තු වෙච්ච විදියට ගොවිපළේ වැඩ හරියාකාරව සිදුවෙනකොට ඇයට ඇගේ ජීවිතයේ වැදගත්ම දේ වෙනුවෙන් කැපවෙන්නට හැකිවේවි: ඇගේ ජීවිතයේ සැබෑ ආදරය හොයාගන්න, ඇය වෙනුවෙන් බොහෝ කාලයක් තිස්සේ බලා සිටියත් මෙතෙක් ඇයට හමු නොවුණු පිරිමියා මුණ ගැහෙන්න.

මරියා මිනිත්තු එකොළහක් කියලා නම් කරපු පොත ලියන එක අමතක කරන්න තීරණය කළා. දැන් ඇයට අවශ්‍ය වුණා ගොවිපොළ ගැන අවධානය යොමුකරන්නත්, ඇගේ අනාගතය ගැන අවධානය යොමුකරන්නත්. එහෙම නැති වුණොත් ඇය අවසානයේ ඇගේ ගමන කල් දමාවි. ඒක බොහෝම බරපතළ අවදානමක්.

ඒ හවස් වරුවේ ඇය ඇගේ හොඳම - වගේම එකම - මිතුරිය වන පුස්තකාල පාලිකාව මුණ ගැහීමට ගියා. ඇය ගවයන් බෝ කිරීම හා ගොවිපොළ පරිපාලනය ගැන ලියවුණු පොතක් ඇගෙන් ඉල්លුවා. පුස්තකාල පාලිකාව මෙහෙම කිව්වා :

''ඔයා දන්නවද මාස කීපයකට කලින් ඔයා ලිංගිකත්වය ගැන ලියැවුණු පොත් හොයාගෙන ආවහම මම ඔයා ගැන හරියට බය වුණා. හුඟක් ලස්සන තරුණ ගෑනු ළමයි ලෙහෙසියෙන් සල්ලි හොයන්න හිතාගෙන නොමඟට පෙළඹෙනවා. ඒක අමතක කරමුකෝ, දවසක ඒ ගොල්ලන්ට වයස ගියාම තමන්ගේ ජීවිතේට හැබෑ ආදරේ මුණ නොගැහුණු එක ගැන පසුතැවෙන්න වෙනවා.''

''ඔයා කියන්නේ ගණිකා වෘත්තිය ගැනද?''

''ඒක හරි සැර වචනයක් නේ?''

''මම ඔයාට කියපු විදියට මම වැඩ කරන්නේ ආනයන අපනයන කරන ආයතනයක. ඒත් මට ගණිකා වෘත්තියට යන්න වුණොත්, මම හරිම මොහොතේදී ඒක නැවැත්තුවොත්, ඔයා කියන්නේ මට ලැබෙන ප්‍රතිඵල බරපතළ වෙයිද? අනෙක් අතට, තරුණ කාලේ වැරදීම් සිද්ධවෙන එක වළක්වන්න පුළුවන් දෙයක් නෙමෙයි.''

''ඕක තමයි මත්ද්‍රව්‍යවලට ඇබ්බැහි වෙච්ච හැමෝමත් කියන කතාව. ඒ ගොල්ලො දන්නවා මේක නවත්තන්න ඕනෙ කියලා. ඒත් කවුරුත් ඒක නවත්තන්නෙ නෑ.''

''ඔයා තරුණ කාලෙදි ගොඩාක් ලස්සනට ඉන්න ඇති. ඒ වගේම ඔයා හැදිලා තියෙන්නේ ජීවත්වෙන වැසියන්ට ගෞරව කරන්න දන්න රටක. ඒකම මදිද ඔයාට සතුටු වෙන්න?''

''මම සතුටු වෙනවා මගේ ජීවිතේට ආපු හැම බාධාවකටම මම මුහුණ දීපු හැටි ගැන.''

ඇය තවත් කථා කළ යුතුද කියලා පුස්තකාල පාලිකාව කල්පනා කළා. මොකද නැත්තේ, මේ ගෑනු ළමය ජීවිතේ ගැන පොඩ්ඩක් ඉගෙන ගන්න වුවමනායි.

''මට හුඟක් ප්‍රීතිමත් ළමා කාලයක් තිබුණා. මම ඉගෙන ගත්තේ බර්න්වල තියෙන හොඳම ඉස්කෝලෙක. ඊට පස්සෙ මම ජිනීවාවලට ආවා වැඩට. එහෙදි තමයි මම ආදරය කරපු කෙනාව මුණගැහිලා අපි කසාද බැන්දෙ. මම එයා වෙනුවෙන් හැම දෙයක්ම කළා. ඒ වගේම එයාත් මම වෙනුවෙන් හැම දෙයක්ම කළා. කාලය ගෙවිලා ගියා. එයා විශ්‍රාම ගත්තා. හරියටම එයාගේ කාලයෙන් එයාට ඕන දේ කරන්න නිදහස තියෙනකොට එයාගේ

ඇස් දුකින් බරවුණා. මොකද එයා ඇත්තටම එයාගේ ජීවිතේටම එයා ගැන කල්පනා කරලා තිබුණෙ නැහැ. අපි අතර කවදාවත් බරපතළ බහින්බස් වීමක්වත්, ප්‍රබෝධයක්වත් තිබුණේ නැහැ. එයා කවදාවත් මගේ විශ්වාසය කඩ කළේ නැහැ. ඒ වගේම කවදාවත් මිනිස්සු ඉස්සරහ මට නපුරු විදිහට කථා කළේ නැහැ. අපි ගතකළේ බොහෝම සාමාන්‍ය ජීවිතයක්. ඔන්න ඔහොම තමයි අපි හිටියේ. කරන්න දෙයක් නැති වුණාට පස්සේ එයාට එයාව නිකමෙක් වැදගැම්මකට නැති කෙනෙක් විදියට දැනුණා. අවුරුද්දකට පස්සේ එයා පිළිකාවකින් මැරුණා.''

ඇය කියමින් හිටියේ ඇත්තය. ඒත් ඒකෙන් ඇය ඉදිරිපිට හිටගෙන ඉන්න ගෑනු ළමයාට නරක බලපෑමක් වෙයි කියලා ඇයට හිතුණා.

''මම තාමත් හිතන්නේ ජීවිතය ගත කරන්න ඕනෙ මහා ලොකු පුදුමාකාර දේවල් බලාපොරොත්තුවෙන් නෙමෙයි.'' ඇය කථාව හමාර කළා. ''එහෙම නැතිවුණා නම්, මගේ මහත්තයා මීට හුඟාක් කලින් මැරෙන්න තිබුණා. කවුද දන්නේ.''

ගොවිපොළ පාලනය ගැන හැමදේම ඉගෙන ගැනීමේ අධිෂ්ඨානයෙන් ඇය එතැනින් පිටවුණා. හවස් වරුවේ නිදහස්ව තිබුණු නිසා ඇය ඔහේ ඇවිදගෙන යන්න තීරණය කළා. නගරයේ ඉහළ කොටසේදී ඇයට ඉරක රූපයක් වගේම සැන්තියාගෝවලට යන පාර කියලා කොටපු කහපාට ඵලකයක් මුණ ගැහුණා. ''සන්තියාගෝවලට යන පාර'' මොකක්ද ඒකෙ තේරුම? පාරෙන් එහා පැත්තට වෙන්න තැබෑරුමක් තිබුණා. නොතේරුණු ඕනෑම දෙයක් අසා දැනගන්නට ඇය දැන් පුරුදුවෙලා හිටිය හින්දා ඇය අධිෂ්ඨාන කරගත්තා තැබෑරුම ඇතුළට ගිහින් ඒ ගැන අහන්නට.

''මං නං දන්නේ නැහැ.'' බීම විකුණන කවුන්ටරයට පිටිපස්සේ හිටපු වැඩ කරන ගෑනු ළමයා කිව්වා. එතන ඉතාම මිල අධික තැනක්. කෝපි කෝප්පයක් සාමාන්‍ය මුදලට වඩා තුන් ගුණයක් වැඩි වුණා. ඇයට සල්ලි තිබුණු නිසාත්, එතනට ආපු නිසාත් ඇය කෝපි එකක් ඇණවුම් කළා. ඒ වගේම ඉදිරි පැයක කාලයක් පමණ එතැන ඉඳගෙන ගොවිපොළ පරිපාලනය ගැන සියලු දේ හදාරන්නට තීරණය කළා. ඇය ඉතා උනන්දුවෙන් පොත

පෙරළා බැලුවා. නමුත් ඒ ගැන අවධානය යොමු කරන්නට දුෂ්කර බව ඇයට තේරුණා - ඒක හරිම නීරස එකක්. ඇගේ ගනුදෙනුකාරයෙක් එක්ක මේ ගැන කථා කරන එක මීට වඩා රසවත් වෙයි කියලා ඇය කල්පනා කළා. ඒ ගොල්ලෝ බොහෝම හොඳින් දැනගෙන හිටියා මුදල් පාලනය ගැන. කෝපි කෝප්පයට බිල ගෙවා දැමූ ඇය එතැනින් නැඟිටලා ඇයට කෝපි ගෙනත් දුන් ගැහැනු ළමයාට ස්තුති කොට විශාල ටිප් මුදලක් එතැන තැබුවා. (ඇයට මිත්‍යා විශ්වාසයක් තිබුණා තමා දීපු තරමට තමාට ලැබෙනවා කියලා) ඇය දොර දෙසට ගියේ ඒ මොහොතේ තිබුණු වැදගත්කම පිළිබඳ නොදැනයි. ඇගේ ජීවිතේ සැලසුම්, අනාගතය, ඇගේ ගොවිපොළ, සතුට ගැන ඇයට තිබුණු අදහස, ඇගේ ලෝකය තුළ ඇගේ ස්ථානය, සදාකාලිකවම වෙනස් කරන වචන කිහිපය ඇයට ඇසුණා.

''පොඩ්ඩක් ඉන්න''

පුදුමයෙන් ඇය එක් කොණකට දෑස් යොමු කළා. මේක කොපකබානාව නෙමෙයි. මිනිස්සුන්ට ඒ වගේ දේවල් කියන්න අයිතියක් තියෙන, එහෙම කිව්වත් ''නැහැ, මම යනවා. ඔයාට බැහැ මාව නවත්තන්න'' කියලා ගෑනියෙක්ට ඕන මොහොතක ප්‍රතිචාර දක්වන්න පුළුවන් වෙච්ච ගෞරවනීය තැනක්.

ඇය එය සැලකිල්ලට නොගන්නයි හැදුවේ. ඒත් ඇගේ කුතුහලය ඇයට වඩා ඉහළට නැඟී හිටියා. ඇය ඒ හඬ ආපු දිහාවට හැරුණා. ඇය ඉතා අමුතු දෙයක් දැක්කා : බිම දණ ඔබාගත්තු ඒ වටේ විවිධ වර්ගයේ පින්සල් විසිරී තිබුණු දිගු කොණ්ඩයක් වවාගත් අවුරුදු තිහක පමණ තරුණයෙක්. (එහෙමත් නැත්නම් ඇය කියන්න ඕනෙ වයස අවුරුදු තිහක විතර කොල්ලෙක් කියලද? ඇගේ ලෝකයේ වයස ඉතාමත් ඉක්මනින් ගතවුණා.) එයා ඇනිසෙට් වීදුරුවක් එහා පැත්තෙන් තියාගෙන පුටුවක වාඩිවෙලා හිටිය මනුස්සයකුගේ පින්තූරයක් අඳිමින් හිටියා. ඇය ඇතුළට පැමිණෙන වෙලාවේ මේ අයව දැක්කේ නැහැ.

''යන්න එපා. මම මේ චිත්‍රය ඉවර කරන්න ළඟයි. මම කැමතියි ඔයාවත් අඳින්න. ''

මරියා පිළිතුරු දුන්නා - විශ්වයේ අඩුව පුරවමින් ඇය මෙහෙම කිව්වා,

''නැහැ. මම එච්චර කැමති නැහැ.''

''ඔයා ළඟ විශේෂ එළියක් තියෙනවා. අඩුම තරමේ මට කටු සටහනක්වත් අඳින්න ඉඩ දෙන්න. ''

මොකක්ද ''කටු සටහනක්'' කියන්නේ? මොකක්ද එයා ''විශේෂ එළියක්'' කියලා අදහස් කළේ? ඊට අමතරව ඇයට ඇගේ රූපය බොහෝම බැරෑරුම් චිත්‍ර ශිල්පියකු ලවා ඇඳගැනීමට තරම් අහංකාර වුවමනාවකුත් තිබුණා. ඇගේ සිතුවිලි ඉගිලුණා. එයා ඇත්තටම ප්‍රසිද්ධ චිත්‍ර ශිල්පියෙක් නම්? එහෙම වුණොත් ඇයට පැරීසියේ එහෙමත් නැත්නම් සැල්වදෝර් ද බහියා වල සදා අමරණීය චිත්‍රයක් ඇතුළෙ ප්‍රදර්ශනය වෙන්න පුළුවන්! ඇය බොහෝ කීර්තියට පත්වේවි!

අනෙක් අතට මොකක්ද මේ මනුස්සයා ලට්ට ලොට්ට ගොඩක් වට කරගෙන මිල අධික බොහෝ වෙලාවට සෙනඟ පිරුණ අවන්හලක කරන්නේ ?

ඇගේ සිතුවිලි අනුමාන කරමින් සේවිකාව හිමින් පිළිතුරු දුන්නා.

''එයා ඉතාම ප්‍රසිද්ධ චිත්‍ර ශිල්පියෙක්.''

ඇගේ සහජ ඥානය හරියටම හරි ගියා. මරියා ඇගේ සිතුවිලි නොපෙන්වා නිහඬව ඉන්නට උත්සාහ කළා.

''එයා මෙහෙ හැම තිස්සෙම වගේ එනවා. එයා එනකොට නිතරම වැදගත් සේවාදායකයෙක්වත් අරගෙනයි එන්නේ. එයා කියනවා එයා මේ වටාපිටාවට කැමතියි කියලා. ඒක එයාව නිර්මාණාත්මක කාර්යයට පොළඹවනවයි කියලයි එයා කියන්නේ. එයා නගරයේ ඉන්න විවිධ මිනිස්සුන්ගේ චිත්‍ර අඳිනවා. මේක එයාට නගර සභාවෙන් පවරලා තියෙන වැඩක්.''

මරියා චිත්‍රය දිහා බැලුවා. නැවතත් සේවිකාව ඇගේ සිතුවිලි කියෙව්වා.

''එයා රසායනඥයෙක්. ලොකු විප්ලවීය සොයා ගැනීමක් කරලා තියෙන්නේ. එයාට නොබෙල් තෑග්ගත් හම්බු වුණා. ''

''යන්න එපා'', චිත්‍ර ශිල්පියා නැවතත් කිව්වා. ''මම තව විනාඩි පහකින් ඇඳලා ඉවරයි. ඔයා කැමති දෙයක් අරගෙන ඒක මගේ බිලට දාන්න. ''

ඇය මෝහනයට පත්වෙලා වගේ කවුන්ටරය ඉදිරිපිට වාඩිවෙලා ඇනිසෙට් එකක් ඇණවුම් කළා. (ඇය ඊට පෙර එය පානය කර නොතිබුණත් ඒක ඇණවුම් කරන්න හේතුවුණු එකම දේ වුණේ නොබෙල් ත්‍යාගලාභියා ඒ පානය බීමයි.) ඒ වගේම ඒ මනුස්සයා වැඩ කරන හැටි බලන් හිටියා. ''මම මේ නගරයේ කෙනෙක් නෙමෙයි. එහෙම නම් එයා වෙන මොනව හරි දෙයකට කැමති ඇති. ඒත් එයා ඇත්තටම මගේ විදියේ කෙනෙක් නං නෙමෙයි.'' ඇය කොපකබානාවල වැඩට ආපු දවසෙ ඉඳන් ඇයටම පවසාගත් විදිහටම ඇයට ඉබේටම කල්පනා වුණා. එය ඇගේ ගැළවීම වුණා. එය හදවත විසින් අටවන උගුල් ස්වේච්ඡාවෙන් වලකාලන්නක් වුණා. ඒක හරියට නිරවුල් කරගත්තට පස්සේ ඇය තව ටික වෙලාවක් එතන ඉන්න එක ගැටලුවක් කරගත්තේ නැහැ - සමහර විට සේවිකාව කිව්ව දේ හරි වෙන්න පුළුවන්. සමහර විට මේ මිනිසාට ඇය කිසිදා නොදුන සිටි ලෝකයකට දොරටු විවර කරදීමට පුළුවන් වේවි.

ඇය ඔහු කෙතරම් ඉක්මනින් හා දක්ෂ විදිහට ඔහුගේ චිත්‍රය අවසන් කරනවාදැයි බලා සිටියා. ඒක පැහැදිලිවම ගොඩාක් ලොකු කැන්වසයක්. නමුත් ඒක හකුලලායි තිබුණේ. ඒ හින්දා ඇයට ඔහු ඇඳපු අනෙක් මුහුණු පෙනුණේ නැහැ. මේක හොඳ අවස්ථාවක් වුණොත්? (ඇය තීරණය කළා එයා 'මිනිහෙක්' මිසක් 'කොල්ලෙක්' නොවන බව. මොකද එහෙම නැත්නං ඇයත් ඇගේ වයසට වඩා නාකිවෙලා කියලා හිතෙයි.) පේන විදිහට ඒ මනුස්සයා ඒ වගේ දෙයක් කිව්වේ ඇයත් එක්ක රාත්‍රියක් ගතකරන්න නෙමෙයි. මිනිත්තු පහකට පස්සේ පොරොන්දු වෙච්ච විදිහටම ඔහු චිත්‍රයේ වැඩ අවසන් කළා. ඒ අතර මරියා දැඩි අවධානයකින් කල්පනා කළා බ්‍රසීලය ගැනත්, එහි ඇගේ දීප්තිමත් අනාගතයක්, ඇගේ සැලසුම් අනතුරට ඇද දැමිය හැකි අලුත් මිනිසුන් හමුවීමට ඈ තුළ තිබූ සම්පූර්ණ අකමැත්තත් ගැන.

''ස්තුතියි, ඔයාට දැන් නැඟිටින්න පුළුවන්'' සිහිනෙන් අවදිවූවකු විදිහට රසායනඥයාට චිත්‍ර ශිල්පියා කිව්වා.

මරියා දෙසට හැරුණු ඔහු සරලවම මෙසේ ද කිව්වා :

''අතන අයිනේ වාඩිවෙලා පහසුවෙන් ඉන්න. ඒ එළිය හරිම අපූරුයි.''

හරියට සියල්ල දෛවය විසින් නියම කර තිබූ ආකාරයෙන් හරියට ඒක ලෝකයේ ඇති ස්වාභාවිකම දේ වගේ, හරියටම ඇය මේ පුද්ගලයා මුළු ජීවිත කාලයේම දනගෙන හිටියා වගේ, නැත්තං ඇය මේ මොහොත හීනයක් ඇතුළෙ ජීවත් වෙලා දැන් යථාර්ථය ඇතුළෙ කළ යුතු දේ දැන හිටියා වගේ මරියා ඇතිසෙට් වීදුරුවත්, බෑගයත්, ගොවිපොල පාලනය ගැන ලියපු පොත් ද රැගෙන ඒ මනුස්සයා පෙන්නපු තැනට ගියා. - ඒක ජනේලය ළඟ තිබුණු මේසයක්. ඔහු පින්සල්ද, විශාල කැන්වසයද, විවිධ වර්ගයේ වර්ණයෙන් යුත් වීදුරු බෝතල් පෙළක්ද, සිගරට් පැකට්ටුවද රැගෙන ඇගේ කකුල් දෙක අසළ දණ ගැසුවා.

''දැන් හෙළවෙන්නේ නැතුව ඉන්න.''

''ඒක මාර කතාවක්නේ : මගේ ජීවිතේ හැම තිස්සෙම හෙළවෙන එකක්.''

මරියට හිතුණේ ඇය දරුණු විහිලුවකට ලක්වුණා කියලයි. ඒත් ඒ මනුස්සයා ඇගේ ඒ බැල්ම ගණන් ගත්තේ නැහැ. ඇය සාමාන්‍ය ආකාරයෙන් පෙනී ඉන්න හැදුවා. මොකද ඇයට තේරුණා ඔහුගේ බැල්ම ඇයව ව්‍යාකූලත්වයට පත් කරන බව. ඇය පාරෙන් එහා පැත්තේ තිබුණු ඵලකය දිහාවට ඇඟිල්ල දික්කළා.

''සැන්තියාගෝවලට යන පාර කියන්නේ මොකක්ද ?''

''ඒක වන්දනාවේ යන පාරක්. වැඩිහිටි වයසට ආවට පස්සේ යුරෝපෙ පුරාම ඉන්න මිනිස්සු ස්පාඤ්ඤයේ නගරයක් වන සැන්තියාගෝ ද කොම්පොස්තෙලාවලට මේ පාර දිගේ යන්න එනවා.''

ඔහු කැන්වසයේ එක් පැත්තක් දිග හැරලා පින්සල් ටික සූදානම් කරගත්තා. මරියා තවමත් දැන සිටියේ නැහැ හරියටම කළ යුත්තේ මොකක්ද කියලා.

''ඔයා කියන්නේ මම මේ පාර දිගේ ගියොත් අන්තිමට මට ස්පාඤ්ඤයට යන්න පුළුවන් කියලද ?''

''ඔව්. මාස දෙකකින් තුනකින් විතර. ඒත් මම ඔයාගෙන් එක උදව්වක් ඉල්ලන්නද ? කථා කරන්න එපා. මේකට යන්නේ තව විනාඩි දහයක් විතරයි. අර පාර්සලයත් මේසෙන් අයින් කරන්න.''

''ඒවා පොත්'' ඔහුගේ ආධිපත්‍යයික ස්වරයෙන් මඳ නොරිස්සුම් සහගත තත්වයකට පත්වුණු ඇය කිව්වා. ඇයට අවශ්‍ය වුණා ඔහුට දනවන්න ඔහු දණ ගහගෙන ඉන්නේ කඩ සාප්පුවල නොව පුස්තකාලවල කාලය ගත කරන හොඳට හැදිච්ච ගැහැනියක් ඉදිරිපිට බව. නමුත් ඔහු කිසිදු ගරුසරුවක් නැතිවමම පාර්සලය ගෙන බිමින් තැබුවා.

ඇයට ඔහුගේ හිතේ බලවත් හැඟීමක් ඇති කරන්න බැරි වුණා. ඇත්ත වශයෙන්ම නැහැ. ඇය ඔහු තුළ බලවත් හැඟීමක් ඇතිකරන්න තිබුණු උවමනාවෙන් දුරස් වුණා. ඇය මේ වෙලාවේ රාජකාරියෙන් බැහැරවයි හිටියේ. ඇගේ පොළඹවනසුලු බලය ඇගේ මහන්සිය වෙනුවෙන් ආකර්ෂණීය ගෙවීම් කරන පිරිමින් වෙනුවෙන් පසුවට ඉතිරිකර ගත්තා. ඇයි නිකරුණේ ඇයට කෝපි කෝප්පයක්වත් අරන් දෙන්න සල්ලි නැති චිත්‍රකාරයෙක් එක්ක සම්බන්ධකමක් පටන් ගන්න කරදර වෙන්නේ? අවුරුදු තිහක මනුස්සයෙක් මේ වගේ කොණ්ඩෙ වවන්න නරකයි. ඒක හරිම විකාරයක්. ඇයි ඇය ඔහුට සල්ලි නැහැ කියලා හිතන්නේ? අර සේවිකාව කිව්වේ ඔහු බොහෝම ප්‍රසිද්ධ කෙනෙක් කියලයි. එහෙම නැත්තං ඒ ප්‍රසිද්ධයි කියලා කිව්වේ රසායනඥයා ගැනද? ඇය ඔහුගේ ඇඳුම් පැළඳුම් පිරික්සුවා. ඒත් ඒක ඇයට උදව් වුණේ නැහැ. තමාගේ පෙනුම ගැන අඩු සැලකිල්ලක් දක්වන පිරිමි - හරියට මේ චිත්‍ර ශිල්පියා වගේ බොහෝ වෙලාවට ටයි, සූට් අඳින අයට වඩා පොහොසත් කියලා ජීවිතය ඇයට කියාදීලා තිබුණා.

''මම මොනවද මේ මනුස්සයා ගැන හිතමින් කරන්නේ? චිත්‍ර ගැන මට මොන කැමැත්තක්ද?''

ඇගේ කාලයෙන් විනාඩි දහයක් චිත්‍රයක අමරණීයත්වයට පත්වෙන්න වැයකරණ එක ඒ තරම් දෙයක් නෙමෙයි. ඇය දැක්කා ඔහු ඇයව අඳින වෙලාවේ සම්මානනීය රසායනඥයා ඒ අසල ඉන්නවා. ඒ වගේම එක් මොහොතකදී ඇයට බියක් දැනුණා ඔහුට යම් කිසි ගෙවීමක් කරන්නට වෙයි ද කියලාත්.

''ජනේලෙ පැත්තට හැරෙන්න.''

නැවතත් ඇය කොච්චර අකමැති වුණත් ප්‍රශ්න ඇසීමකින් තොරවම ඔහුගේ අණට කීකරු වුණා. ඇය අර පාරේ නම ලියා

ඇති පුවරුව පහුකරගෙන යන මිනිස්සු දිහා වාඩිවෙලා බලාගෙන හිටියා. ශතවර්ෂ ගණනාවක් තිස්සේ ලෝකයේත් මිනිසාගේත් ඇතිවුණු දියුණුව හා විපර්යාසයන්ට මුහුණ දෙමින් මේ පාර කොහොම පැවතුණාදැයි හිතන්නට වුණා. සමහරවිට ඒක සුබ පෙර නිමිත්තක් වෙන්න පුලුවන්. මේ චිත්‍රයටත් ඒ ඉරණමම අත්වෙන්න පුළුවන්. අවුරුදු පන්සීයකට පස්සේත් නගරයේ කෞතුකාගාරයක ඒක ප්‍රදර්ශණය කරාවි...

ඒ මනුස්සයා චිත්‍රය අඳින්න පටන් ගත්තා. ඒ කාර්යය කෙරෙමින් යන අතරතුරේදී මුලින් ඇතිවෙච්ච තැතිගැනීම පහවෙලා ගියා. ඒ වෙනුවට ඇයට දැඩි නොවැදගත් හැඟීමක් හිතේ හටගත්තා. ඇය කෝපිහලට ගිය මොහොතේ ඇය හිටියේ ආත්ම ශක්තියකින් යුත් ගැහැනියක් විදිහටයි. අතිශය බැරෑරුම් තීරණ ගැනීමේ හැකියාවක් ඇයට ඒ මොහොතේ තිබුණා. විශාල මුදලක් ලැබෙන රැකියාවෙන් ඉවත් වීමටත් තව දුරටත් අසීරු අභියෝගයන්ට මුහුණ දීමටත් - ඒ කියන්නේ ඇගේ රටට ගිහින් ගොවිපොළක් ආරම්භ කරන්නට ඇය තීරණය කර තිබුණා. එහෙත් දැන්, සුපිරි මට්ටමේ ගණිකාවක් තුළ ඇතිවීමට ඉඩදිය නොහැකි ලෝකය ගැන ඇයට තිබුණු අනාරක්ෂිත හැඟීම නැවතත් මතුපිටට පැමිණියා.

අවසානයේදී ඇයට අවබෝධ වුණා ඇයි ඇය මේතරම් අපහසුතාවට පත්වුණේ කියලා: මාස ගණනකට පස්සේ පළමු වතාවට කිසිවෙක් ඈ දෙස, යම් වස්තුවක් හෝ ගැහැනියක් දෙස හෝ බලන විදියට වඩා වෙනස් විදියට බලාගෙන හිටියා. නමුත් ඒක ඇයට පවා අවබෝධ කරගන්නට නොහැකි වුණා. ඒක ඇයට ආසන්න විදියට වචනවලට පෙරළන්න හැකිවුණේ, ''ඔහු '' මගේ ආත්මය දකිනවා, මගේ බය, මගේ දුර්වලකම, මම බොහෝම හොඳින් දන්නවා කියලා බොරුවට හඟවනවා වුණත් ලෝකය එක්ක මට ගනුදෙනු කරන්න බැරිවීම, වගේම මම මුකුත්ම නොදන්නවා කියන එක දකිනවා.'' විදිහටයි.

විකාර, සම්පූර්ණ ෆැන්ටසියක්.

''මම කැමතියි...''

''අනේ කරුණාකරලා කථා කරන්න එපා.'' ඒ මනුස්සයා කිව්වා.'' මට දැන් ඔයාගේ එළිය පේනවා.''

කවුරුත් කවදාවත් ඇයට ඒ වගේ දෙයක් කියලා තිබුණේ නැහැ. ''මට පේනවා ඔයාගේ දෑඩි පියයුරු'', ''මට පේනවා ඔයාගේ පිරුණු කලවා'', ''මට පේනවා නිවර්තන කලාපීය අසාමාන්‍ය සුන්දරත්වය ඔයාගෙන් '' එහෙමත් නැත්තම් උච්ඡතම අවස්ථාවේ, ''මම හිතන්නේ ඔයාට මේ ජීවිතය අත්ඇරලා දාන්නයි ඕනේ - මම ඔයාට තට්ටු නිවසක් අරන් දෙන්නම්'' ඇයට අහන්න ලැබුණේ මේ වගේ දේවල් තමයි. නමුත් ඇගේ එළිය? ඔහු කියන්නේ හැන්දෑවේ එළිය ගැනද?

''ඔයාගේ ඇතුළාන්තයෙන් එන එළිය'' ඔහු කියපු දේ ඇය නොදත් බව අවබෝධ කරගත් ඔහු කිව්වා.

ඇගේ ඇතුළාන්තයෙන් එන එළිය. අහෝ, ඔහු කොතරම් වැරදිද? මේ අහිංසක චිත්‍ර ශිල්පියා එයාගේ අවුරුදු තිහක අපූරු ජීවිතය තුළ වැඩි යමක් ඉගෙන ගෙන නැහැ. හැමෝම දන්න විදිහට ගැහැනු පිරිමින්ට වඩා ඉක්මනින් මෝරනවා. ඒ කොහොම වුණත් මරියා ඇගේ දාර්ශනික ගැටලු ගැන කල්පනා කරමින් නිදි නැති රාත්‍රීන් ගත කළේ නැති වුණත් ඇය එක දෙයක් දැන හිටියා. ඒ ඇයට ඒ චිත්‍ර ශිල්පියා කියපු ''ආලෝකයක්'' නොතිබුණත් ඇය පුරුද්දට වගේ අදහස් කරපු ''විශේෂ දීප්තියක්'' තිබුණා කියලයි. ඇයත් අනික් අය වගේම තනිකම නිහඬවම විඳ දරා ගනිමින් ඇය කළ කී දෑ සාධාරණීකරණය කරන්නට උත්සාහ කළා. දුර්වල අවස්ථාවලදී ශක්තිමත් කියලා බොරුවට පෙන්වන්නත්, ශක්තිමත් අවස්ථාවලදී දුර්වලයි කියලා බොරුවට පෙන්නන්නත් වුණා. ආදරය අතහැර දමා ඒ වෙනුවට අවදානම්කාරී වෘත්තියක් තෝරා ගත්තා. ඒත් දැන් ඒ කාර්යය අවසානයකට එළඹෙන විට ඇය අනාගතය පිළිබඳ සැලසුම් කළා, අතීතය ගැන කනගාටු වුණා. ඒ වගේ කෙනෙක් ළඟ ''විශේෂ දීප්තියක්'' දකින්න විදිහක් නැහැ. ඒක ඔහු ඇයව නිශ්ශබ්ද කර සතුටින් තබාගන්න රවට්ටන්නට කරපු උපායක් වෙන්න පුළුවන්.

ඇතුළාන්තයේ එළිය. ඇත්තටම ඔහුට තිබුණේ වෙන දෙයක් කියන්න. හරියට ''ඔයා පැත්තට හරි ලස්සනයි.'' වගේ දෙයක්.

කොහොමද ආලෝකය ඇරපු ජනේලෙකින් ගෙයක් ඇතුළට එන්නේ? ආදරයේ ඇරුණු දොරකින් කොහොමද ආලෝකය

මනුෂ්‍යයෙක් ඇතුළට එන්නේ? ඇගේ ඒ දොර නම් අනිවාර්යයෙන්ම වහලා තිබුණේ. එයා නම් පුදුම චිත්‍ර ශිල්පියෙක් වෙන්න ඕනෙ. එයාට කිසිම දෙයක් වැටහෙන්නේ නැහැ.

''මම ඉවරයි'' එසේ කියපු ඔහු විසිරුණු බඩු බාහිරාදිය එකතු කරන්නට වුණා.

මරියා හෙළවුණේවත් නැහැ. ඇයට අවශ්‍ය වුණා චිත්‍රය බලන්න පුළුවන්ද කියලා අහන්න. ඒත් එහෙම කළොත් ඔහු හරියට ඒ වැඩේ කරාද කියන එක ගැන ඇයට විශ්වාසයක් නැහැයි කියලා ඔහුට හිතේවි. ඒක අවිනීතයි. කෙසේ වෙතත් කුතුහලය ඇය අභිබවා නැඟී හිටියා. ඇය විමසුවා, ඔහු පෙන්නුවා. ඔහු ඇඳලා තිබුණේ ඇගේ මුහුණ විතරයි. ඒක ඇය වගේමයි. චිත්‍රයේ ඉන්න නිරූපිකාව කවුද කියලා නොදන කවදාහරි ඇය මේ චිත්‍රය දැක්කා නම් ඇය බොහෝම ශක්තිමත්, කැඩපතකින් ඇය නොදුටු පිරුණු ''ආලෝකයක් '' සහිත කෙනෙක් කියලා කියාවි.

''මගේ නම රැල්ෆ් හාර්ට්. ඔයා කැමති නං මට ඔයාට තව බීම එකක් අරන් දෙන්න පුළුවන්.''

''එපා, බොහෝම ස්තුතියි''

මේ අහඹු හමුවීම දැන් අනාගතයේ සිදුවිය හැකි දුක්ඛදායී දෙයක් බවට හැරෙමින් තිබුණා : පිරිමියා ගැහැනිය පොළඹවා ගන්නට උත්සාහ කරනවා.

''කරුණාකරලා තව ඇනිසෙට් දෙකක් ගේන්න.'' මරියාගේ පිළිතුර නොසලකමින් ඔහු කිව්වා.

තවත් මොනවද ඇයට කරන්න තියෙන්නේ? ගොවිපොළ කළමනාකරණය ගැන ලියවෙච්ච පොතක් කියවන්න, මීට කලින් සිය වතාවක් විතර ඇවිද්ද වගේ වැව වටේ ඇවිදින්න, එහෙමත් නැත්තං තමන් කිසිවක් නොදන්නා ඇගේ ආලෝකය දැකපු කෙනෙක් එක්ක කථා කරන්නද? මේ දිනය ඇගේ ''අත්දැකීම්'' සමුදායේ අවසානයේ ආරම්භය කැලැන්ඩරයේ ලකුණු කළා.

''ඔයා මොනවද කරන්නේ ?''

ඒක ඇයට අහන්න අවශ්‍ය වුණු ප්‍රශ්නය නම් නෙමෙයි. මේ වගේ ප්‍රශ්න අහන අනෙක් හමුවීම්වලින් ඇය වැළකී හිටියා.

හේතුවකට හෝ අහේතුවකට කෙනෙක් ඇයට ළංවුණා. (ස්විස් ජාතිකයන්ගේ ස්වභාවික විචක්ෂණතාව ගත්තහම මේක කලාතුරකින් සිදුවන එකක්) මොන වගේ උත්තරයක් ඇයට දෙන්න පුළුවන් වුණාද?

''මම රාත්‍රී සමාජ ශාලාවක වැඩ කරනවා.''

හරි. විශාල බරක් ඇගේ කරෙන් බිමට වැටුණා. ඒ වගේම ස්විට්සර්ලන්තයට පැමිණි දවසේ ඉඳන් ඇය ඉගෙන ගත්ත හැමදේම ගැන ඇය සතුටු වුණා. ඒ කියන්නේ අනෙක් මිනිස්සු මොනවද හිතන්නේ කියලා කරදර වෙන්නේ නැතුව ප්‍රශ්න අහන්න. (කවුද කුර්දීන් කියන්නේ?, සැන්තියාගෝවලට යන පාර කියන්නේ මොකක්ද?) උත්තර දෙන්න. (මම රාත්‍රී සමාජ ශාලාවක වැඩ කරනවා.)

''මට හිතෙනවා මම ඔයාව කොහෙදි හරි දැකලා තියෙනවා කියලා''

මරියාට දැනුණා ඔහුට කථාව දුරදිග ගෙනියන්න අවශ්‍ය බව. ඉතිං ඇය ඇගේ පුංචි ජයග්‍රහණය ආස්වාදනය කරා. මිනිත්තු ගණනකට ඉස්සර ඇයට නියෝග කරමින් තමන් කරන වැඩේ ගැන සම්පූර්ණ විශ්වාසයකින් හිටපු චිත්‍ර ශිල්පියා දැන් අනෙක් හැම පිරිමියෙක් වගේම තමන් නොහඳුනන ගැහියෙක් ඉස්සරහ සම්පූර්ණ අවිශ්වාස සහගත තත්වයකට පත්වෙලා තිබුණා.

''මොනවද මේ පොත්?''

ඇය ඒවා ඔහුට පෙන්නුවා. ගොවිපොළ පාලනය. ඒ පිරිමියා තව දුරටත් අවිශ්වාස සහගත තත්ත්වයට පත්වෙලා තිබුණා.

''ඔයා ගණිකාවක්ද ?''

ඔහු ඔහුගේ ඇතුළාන්තය පෙන්නුවා. ඇය ඇඳලා හිටියේ ගණිකාවක් වගේද? කොහොම වුණත් ඇයට ටිකක් කාලය ගන්න ඕන වුණා. ඇය ඇය දෙස බලමින් හිටියා. නිසැකවම ඇයට කිසිවක් අහිමි නොකරන විනෝදජනක ක්‍රීඩාවක ඇරඹුම සනිටුහන් වුනා.

''පිරිමින්ට හිතන්න පුළුවන් ඒක ගැන විතරමද?'' ඔහු පොත් නැවත බෑගය තුළට දැම්මා.

''ලිංගිකත්වයයි, ගොවිපොළ පාලනයයි කොච්චර කම්මැලිද?''

මොකක්. එය හදිස්සියේම ඇයට බලවත් වේදනාවක් ගෙන දුන්නා. ඔහු කොහොමද ඇගේ වෘත්තිය ගැන වැරදි විදිහට කථා කරන්නේ ? ඔහු තාමත් ඇය කරන දේ ගැන හරියටම දන්නේ නෑ. එහෙම වුණත් ඔහු එය අනුමාන කරන්නට උත්සාහ දරමින් හිටියා. නමුත් ඇය ඔහුට පිළිතුරු දිය යුතු වුණා.

''මට නං චිත්‍ර අඳිනවා වගේ කම්මැලි දෙයක් තවත් නැහැ. ඒක කාලය ඇතුළෙ ගල් ගැහිච්ච නිශ්චල එකක්, මුල් එකට වඩා ගොඩක් වෙනස්, විශ්වාසයක් නැති පින්තූරයක්. බොහෝම වැදගත්, හැදිච්ච උදවිය කියලා හිතන. ඒත්, අවට ලෝකයත් එක්ක කිසිම සම්බන්ධයක් නැති චිත්‍රකාරයන්ට ඇරෙන්න ඒක කාටවත් තව දුරටත් ආසාවක් ඇති නොකරන මැරුණු දෙයක්. ඔයා ජෝන් මීරෝ ගැන අහල තියෙනවද ? ඔව්. මමත් අරාබිකාරයෙක් අවන්හලක මුණ ගැහිලා ඒ නම කියනකං අහලා තිබුණේ නැහැ. ඒත් ඒ නම දැනගත්තා කියලා, ඒකෙන් මගේ ජීවිතේ කිසිම දෙයක් වෙනස් වුණේ නැහැ. ''

ඇයට හිතුණා ඇය දුරදිග ගියා වැඩියි දෝයි ද කියලත්. ඒත් ඒ වෙලාවෙම එතැනට බීම වීදුරු දෙක ඇවිල්ලා කථාව අතර මඟ බාධා වුණා. මරියා හිතුවා මේ පිටවෙලා යන්න හොඳම වෙලාව කියලා. සමහරවිට රැල්ෆ් හාට්වුත් එහෙම හිතන්න ඇති. ඒත් අර අප්‍රියජනක බීම පිරිච්ච වීදුරු දෙක ඔවුන් ඉදිරිපිට හිටගෙන හිටියා. ඒක තව දුරටත් එකට වාඩිවෙලා ඉන්නට ඔවුන්ට හේතුවක් වුණා.

''ඇයි මේ ගොවිපොළ පාලනය ගැන පොතක් තියෙන්නේ?''

''ඔයා මොකක්ද කියන්න අදහස් කරන්නේ ?''

''මම රියු ද බර්න්වලට ගිහිං තියෙනවා. ඔයා සමාජශාලාවක වැඩ කරනවා කිව්වහම මට මතක් වුණා මම ඔයාව ඒ මිල අධික තැනේදි දැකලා තියෙනවා කියලා. මම චිත්‍රය අඳින වෙලාවේ ඒ ගැන හිතුවේ නැහැ. ඒ කොහොම වුණත් ඔයාගේ ''එළිය'' හරි බලවත් ''

මරියාට ඇයව පොළොව ඇතුළට කිඳා බහිනවා වගේ කියලා දැනුණා. පළමු වතාවට කිසිදු හේතුවකින් තොරවම ඇයට තමා කරපු දේ ගැන ලැජ්ජාවක් ඇති වුණා. ඇය වැඩකළේ තමාවත් තම පවුලත් ජීවත් කරවන්නයි. හරි නම් ඔහු තමයි රියූ ද බර්න් වලට ගිය එක ගැන ලැජ්ජාවෙන්න ඕනේ. එම හමුවීම තුළ තිබිය හැකිවූ සුන්දරත්වය සැණෙකින් අතුරුදන් වුණා.

''මේ අහන්න හාට් මහත්තයා, මම බ්‍රසීලියානුවෙක් වෙන්න පුළුවන්. ඒත් මම ස්විට්සර්ලන්තයේ මේ වෙනකොට මාස නමයක් ජීවත් වෙලා තියෙනවා. මම දන්නවා ඇයි ස්විස් ජාතිකයෝ මේ තරම් දේවල් දන්නේ කියලා. මොකද ඒ අය ජීවත්වෙන්නේ පුංචි රටක. ඒ රටේ හැමෝම හැම කෙනෙක්වම අඳුනනවා. හරියට අපි මේ දැන් දැනගත්තා වගේ. ඒකයි කවුරුත් කාගෙන්වත් කවදාවත් අහන්නේ නැත්තේ අනෙක් අය කරන දේ ගැන. ඔයාගේ කථාව පොඩ්ඩක්වත් ඔබින්නේ නැහැ වගේම හරි නපුරු එකක්. ඔයා උත්සාහ කරන්නේ මාව ලැජ්ජාවට පත්කරලා සතුටු වෙන්න නම් මම හිතන්නේ ඔයා ඔයාගේ කාලය නාස්ති කරනවා. ඇනිසෙට් වලට ස්තුතියි. ඒක හරිම අප්පිරියයි. ඒ වුණත් ඒක මම අන්තිම බිංදුවට වෙනකං බොනවා. ඊට පස්සේ සිගරට් එකක් බීලා මෙතනින් පිටවෙලා යනවා. ඒත් ඔයාට ඕන නම් දැන් වුණත් මෙතනින් යන්න පුළුවන්. ප්‍රසිද්ධ චිත්‍ර ශිල්පියෙක්ව ගණිකාවක් එක්ක එකම මේසෙ වාඩිකරලා තියන්න බැහැනේ. මොකද ජේනවනෙ මම ඒ විදිහෙ කෙනෙක්. ගණිකාවක්. මම ඔළුවෙ ඉඳන් කකුල් දෙකට වෙනකං ගණිකාවක්. මට වැඩක් නැහැ ඒක කවුරු දැනගත්තත්. ඒක තමයි මගේ ලොකුම ගුණය. මට ඔයාවවත් මාවවත් රවට්ටන්න වුවමනා නැහැ. මොකද ඒක ඒතරම් වටින්නෙ නැහැ. බොරුවක් කියන්නවත් ඔයාව වටින්නේ නැහැ. හිතන්න, අර අතන ඉන්න ප්‍රසිද්ධ රසායනඥයා මම කවුද කියලා හොයන්න උත්සාහ කරනවා නං...''

ඇය තවත් උස් හඬින් කථා කළා.

''ඔව්, මම ගණිකාවක්. ඔයා දන්නවද? ඒක මට හරිම නිදහසක්. මම දන්නවා මේ ජරා තැනින් හරියටම තවත් දවස් අනූවකින් යන්නේ සල්ලි ගොඩකුයි, හුඟාක් හොඳ අධ්‍යාපනයකුයි, හොඳ වයින් එකක් තෝරගන්නේ කොහොමද කියලා ඉගෙන

ගෙනයි, හැන්ඩ් බෑග් එකේ හිම තියෙන පින්තූර ටිකක් පුරෝගෙනයි, පිරිමි ගැන දැනගන්න ඕනෙ හැමදේම දැනගෙනයි.''

අවන්හල් සේවිකාව බය බිරාන්ත වෙලා අහගෙන හිටියා. රසායනඥයා ඇහුණේ නැහැ වගේ හිටියා. සමහරවිට ඒ කථා කරන්න ඇත්තේ මත්පැන් විය හැකියි. එක්කෝ ඇය බ්‍රසීලයේ ඇතුළු ගමකින් ආපු ගැහැනියක් නිසා වෙන්නත් ඇති. එහෙමත් නැත්නම් ඇය කරපු දේවල් කිව්වට පස්සේ ඇතිවෙන කම්පනය දිහා බලල හිනා වෙන්නත්, මුහුණුවල ඇඳෙන විවේචනාත්මක වගේම හිත් රිදවන බැලුම් දිහා බලලා සතුටක් ලබන්නත් වෙන්න පුළුවන්.

''ඔයාට තේරුණාද හාට් මහත්තයා? මම ඔළුවෙ ඉඳන් කකුල් දෙකට වෙනකං ගණිකාවක්. ඒක තමයි මගේ තියෙන ලොකුම දේ. මගේ ගුණය.''

ඔහු කිසිවක් කිව්වේ නැහැ. සෙලවුණේවත් නැහැ. මරියාට දැනුණා ඇගේ විශ්වාසය නැවත පැමිණෙනවා කියලා.

''ඒත් ඔයා මහත්තයෝ, ඔයා අඳින අය ගැන කිසිම දෙයක් නොතේරෙන චිත්‍රකාරයෙක්. සමහරවිට අර අතන වාඩිවෙලා ඉන්න රසායනඥයා, අර තිදිකිරා වැටි වැටී ඉන්නේ, ඇත්තටම එයා දුම්රිය සේවකයෙක් වෙන්න පුළුවන්. සමහරවිට ඔයාගේ චිත්‍රවල ඉන්න අනෙක් අය එයාලා පේන විදිහෙ අය නෙමෙයි වෙන්නැති. මට තේරෙන්නේ නෑ ඔයා චිත්‍රය අඳිනකොට දැකපු ''සුවිශේෂී ආලෝකය'' තිබුණු ඒ ගෑනිට තිකම්ම තිකං වේ - සි - යෙ - ක් කියලා කිව්වේ කොහොමද කියලා!

මේ අන්තිම වචන ටික ඇය කිව්වේ වේගය ගොඩාක් අඩු කරලා වුණත්, මහ හඬින්. රසායනඥයා අවදි වුණු අතර සේවිකාව බිල රැගෙන ආවා.

''මෙතන ගණිකාවක් ගැන කථාවක් නෙමෙයි ගෑනියෙක් ගැන කතාවකුයි තියෙන්නේ.'' රැල්ෆ් පිළිගන්වපු බිල නොසලකා හරිමින් සමාන්තර මන්දගාමීත්වයකින්, නමුත් හිමින් කිව්වා. ''ඔයා ළඟ දිස්නයක් තියෙනවා. ඒක එන්නේ ඔයාගේ ආත්ම ධෛර්ය තුළින්. ඒක කවුරු හරි කෙනෙක් එයාට වැදගත් කියලා හිතෙන

දෙයක් වෙනුවෙන් කරන කැපකිරීම් තුළින් එන ආලෝකයක්. ඒක ඔයාගේ ඇස් දෙකේ තියෙනවා.''

මරියා නිරුත්තර වුණා. ඔහු ඇගේ අභියෝගය භාරගෙන තිබුණේ නැහැ. ඇයට වුවමනා වුණේ ඔහු ඇයව අල්ලාගන්න හදනවා කියන එක විශ්වාස කරන්නයි. ඇයට හිතාගන්නවත් බැරිවුණා. - අඩුම ගාණේ ඊළඟ දවස් අනූවටවත් - මේ වගේ අපූරු මිනිස්සු ලෝකයේ මතුපිට ජීවත්වෙනවා කියලා.

''ඔයාට පේනවනේ ඔයා ඉස්සරහින් තියෙන ඇනිසෙට් පුරවපු වීදුරුව?'' ඔහු කියාගෙන ගියා. ''දැන් ඔයා දකින්නේ ඇනිසෙට් වීදුරුව විතරයි. මම, අනෙක් අතට මම කරන හැමදේකම ඇතුළට කිඳාබහින්න ඕනේ. මට පේනවා ඇනිසෙට් හදපු පැළය. ඒ පැළය දරාගෙන හිටපු මහා කුණාටු, ඒ ධාන්‍ය නෙළා ගත්තු දෑත්, වෙනත් රටක ඉඳන් නැවෙන් ආපු ගමන. ඒක මද්‍යසාර වෙන්න ඉස්සෙල්ලා ඒ පැළය පුබුදුවන්න ඉඩ හැරපු සුවඳ, පාට. මට ඒ දේ අඳින්න වුණා නම්, මම ඒ හැම දෙයක්ම ඒ චිත්‍රයේ අඳිනවා. ඒ වුණත් ඔයා ඒ චිත්‍රය දැක්කහම ඔයා හිතන්නේ ඔයා බලන් ඉන්නේ සාමාන්‍ය ඇනිසෙට් පිරිච්ච වීදුරුවක් දිහා විතරයි කියලයි.''

''අන්න ඒ විදිහටම, ඔයා අර වීදිය දිහා ඕනෑකමින් බලාගෙන - මොකද මම දන්නවා ඔයා එහෙම කළා කියලා - සැන්තියාගෝවලට යන පාර ගැන කල්පනා කරන කොට මම ඔයාගේ පුංචි කාලේ, ඔයාගේ තරුණ කාලේ, ඔයාගේ අභිමිවීම, ඔයාගේ බිඳුණු හීන, ඔයාගේ අනාගතය ගැන තියෙන හීන, ඒ වගේම ඔයාගේ අධිෂ්ඨානය ඇන්දා. - ඒක තමයි මාව හුඟක්ම විස්මයට පත්කළේ. ඔයා චිත්‍රය දකින කොට...''

මරියා කඩුව කොපුවේ දමාගත්තා. ඇය තේරුම් ගත්තා පසුව එය පහතට දමන්න අසීරු බව.

''...මම දැක්කා ඒ ආලෝකය.......... කොහොම වුණත්, මගේ ඉදිරිපිට හිටියේ ඔයා වගේම ගැහැනියක් ''

නැවතත් බලකර සිටින නිහඬතාවක්. මරියා ඇගේ ඔරලෝසුව දිහා බැලුවා.

''මම තව පොඩ්ඩකින් යන්න ඕන. ඇයි ඔයා ලිංගිකව හැසිරෙන එක කම්මැලි දෙයක් කියලා කිව්වේ ?''

''ඔයා ඒක මට වැඩිය හොඳට දැනගන්න ඕනේ.''

''මම දන්නවා, මොකද ඒක මගෙ රස්සාව හින්දා. මම එකම දේ හැමදාම කරනවා. ඒත් ඔයා අවුරුදු තිහක විතර තරුණ...''

''විසි නමයයි.''

''... තරුණ, ආකර්ෂණීය, ප්‍රසිද්ධ, ඒ වගේම දේවල්වලට ගොඩක් කැමති කෙනෙක්ට රියු ද බර්න්වලට ගිහින් කාගෙ හරි ආශ්‍රයක් හොයන්න ඕන වෙන්නේ නැහැනේ.''

''ඒත් මම ඒක කළා. ඔයා එක්ක වැඩ කරන ගෑනු කීපදෙනෙක් එක්කම නිදා ගත්තා. ඒත් ඒ මට ගෑනු ඇසුරක් හොයාගන්න බැරි හින්දා නං නෙමෙයි. ඒක මගෙ ඇතුළෙ තියෙන ප්‍රශ්නයක්. ''

මරියාට හදිස්සියේ ඊර්ෂ්‍යාවක වේදනාවක් දැනුණා. ඒවාගේම බය වුණා. ඈය දැන් ඇත්තටම යායුතුමයි.

''ඒක මගේ අන්තිම උත්සාහය. දැන් මම ඒක අත් හැරියා.'' එහෙම කියපු රැල්ෆ් බිම විසිරී තිබුණු සායම් බඩු ටික එකතු කරගත්තා.

''ඔයාට කායික ප්‍රශ්නයක් තියෙනවද?''

''නැහැ, මට උනන්දුවක් නැහැ.''

ඒක නං වෙන්න බැරි දෙයක්.

''බිල ගෙවලා අපි යමු ටිකක් ඇවිදින්න. මම හිතන්නේ ගොඩක් මිනිස්සුන්ට එහෙම හිතෙනවා ඇති. ඒත් කවුරුත් ඒක කියන්නේ නැහැ. මේ වගේ අවංක කෙනෙක් එක්ක කථා කරන්න ලැබීම සතුටක්.''

ඔවුන් සැන්තියාගෝ පාර දෙසට ගමන් කළා. මුලින් කන්දක් සහිතව තිබූ පාර පසුව ගඟ පල්ලෙහාට බෑවුම් වෙලා තිබුණා. ඊළඟට වැවට, ඊට පස්සේ කඳු උඩට, අවසානය ස්පාඤ්ඤයේ කොහේ හරි ඈත තැනකට. ඔවුන් දිවා ආහාරයෙන් පස්සේ නැවත සිය රැකියාවට යන මිනිසුන්, ළදරු කරත්ත තල්ලු කරගෙන යන අම්මලා, වැව මැද්දේ තියෙන සිත්කළු දිය මලේ පින්තූර ගන්න විදේශීය සංචාරකයන්, පර්දා පැළඳ ගත්තු මුස්ලිම් ගැහැනුන්, ව්‍යායාම සඳහා ඇවිදින පිරිමි ගැහැනු ළමුන් පසුකළා. ඔවුන් සියල්ලන්ම සැන්තියාගෝ ද කොම්පොස්තෙලා කියන එහෙම ඇත්තටම නොපවතින ඒත් ජනප්‍රවාදයේ එන ඒ නගරය සොයමින්

වන්දනා කළා. සමහරවිට ඒක ඔවුන්ගේ ජීවිතවලට අරුතක් ලබා ගන්නට විශ්වාසය තබාගෙන ඉන්න පුරාවෘත්තයක් වෙන්න පුළුවන්. මේ පාර දිගේ බොහෝමයක් මිනිස්සු බොහෝ කාලයක් තිස්සේ ගමන් කරලා තියෙනවා. අර කොණ්ඩය දිගට වවාගත්තු විශාල බරකින් යුක්ත පින්සල්, තීන්ත, කැන්වස් සහ පැන්සල්වලින් පිරුණු බෑගයක් කරේ එල්ලාගත්තු මිනිසා සමඟ ගමන් කරපු ඒ ගැහැනිය, යන්තමින් තරුණ වියට එළැඹි, තම හෑන්ඩ් බෑගයේ ගොවිපොළ කළමනාකරණය ගැන ලියැවුණු පොත් පුරවාගත් කෙනෙක්. ඔවුන් දෙදෙනාගෙන් එක් අයකුටවත් ඔවුන් මේ වන්දනාව එක්ව යන්නේ ඇයිදැයි විමසන්නට අමතක වුණා, ඒක තමයි ලෝකෙ තියෙන ස්වභාවිකම දේ : ඔහු සියල්ල ඇය පිළිබඳව දැන සිටි නමුත් ඇය ඔහු පිළිබඳව කිසිවක්ම දැන හිටියේ නැහැ.

ඒකයි ඇය තීරණය කළේ ඒ ගැන අහන්න. - දැන් ඇගේ ප්‍රතිපත්තිය වුණේ හැම තිස්සෙම ප්‍රශ්න අහන එකයි. මුලින්ම ඔහු ලැජ්ජාශීලීව ප්‍රතිචාර දක්වූවා. ඒත් ඇය දැන සිටියා චාටු කථාවෙන් පිරිමින්ගෙන් තොරතුරු ලබාගන්නට. අන්තිමේදී ඔහු තමා දෙවරක් විවාහ වී සිටි බවත්, (අවුරුදු විසිනවයක කෙනෙක්ගේ වාර්තාවක්) ඒ වගේම ඔහු බොහෝ තැන්වල සංචාරය කරලා තියෙන බවත්, රජවරු, රැජිණියන්, ප්‍රසිද්ධ නළුවන් හමුවෙලා තියෙන බවත්, අමතක කළ නොහැකි උත්සවවලට සහභාගී වී ඇති බවත් කිව්වා. ඔහු ඉපදිලා තිබුණේ ජිනීවාවල වුණත් මැඩ්රිඩ්, ඇම්ස්ටර්ඩෑම්, නිව්යෝර්ක් වාගේම දකුණු ප්‍රංශයේ පිහිටි තාබ්ස් කියන නගරයේත් ජීවත් වෙලා තිබුණා. ඒ නගරය සාමාන්‍ය සංචාරක ප්‍රදේශයක් නොවුණත් ඔහු එහි වාසය කරන්නට බොහෝම කැමැත්තක් දක්වලා තිබුණේ නගරය කඳු පන්තිවලට ගොඩක් ළඟින් පිහිටලා තිබුණු නිසාත් එහි ජීවත් වුණු අය උණුසුම් හදවත් ඇත්තන් වූත් නිසායි. ඔහුව චිත්‍ර ශිල්පියකු විදියට හඳුනාගෙන තියෙන්නේ ඔහුට වයස අවුරුදු විස්සෙදි, වැදගත් චිත්‍ර ගනුදෙනුකාරයෙක් ජිනීවාවල ඔහුගේ චිත්‍රවලින් සරසලා තිබුණු ජපන් අවන්හලකදී ඒවා දැක්කාට පස්සේයි. ඔහු බොහෝ මුදල් උපයා තිබුණා. ඔහු තරුණ නිරෝගී කෙනෙක්. එයාට ඕන දෙයක් කරන්න පුළුවන්කම තිබුණා. ඕනෑම තැනකට යාමට පුළුවන්කම තිබුණා. ඔහුට අවශ්‍ය ඕනෑම කෙනෙක් මුණගැහෙන්න පුළුවන්කම තිබුණා. ඕනෑම පිරිමියෙකුට විඳිය හැකි

සියලුම ආකාරයේ සතුට භුක්ති විඳීමට ඔහු දැන සිටියා. ඔහු තමා වැඩිපුර සතුටට පත්වන දේ කළා. ඒත්, ප්‍රසිද්ධිය, සල්ලි, ගැහැනු, සංචාර තිබියදීත් ඔහු අසතුටට පත්වෙලා තිබුණා. ඔහුගේ ජීවිතේ එක් දෙයක් ගැන පමණක් සතුටුවුණා. ඒ ඔහුගේ ශිල්පයයි.

''ඔයා ගැහැනියෙක් හින්දා හුඟක් දුක්වෙලා තියෙනවද? කොයිතරම් මෝඩ ප්‍රශ්නයක්දැයි එක්වරම වටහා ගනිමින්ම ඇය ඔහුගෙන් ඇහුවා. ඒක Everything women should know if they want to get their man කියන නම තියෙන අත්පොතෙන් කෙළින්ම ගත්තු ප්‍රශ්නයක්.

''නැහැ ඒ ගොල්ලො කවදාවත් මට රිද්දුවේ නැහැ. මම මගේ කලින් කසාද දෙකේදිම හුඟාක් සතුටින් හිටියා. හරියට තවත් සාමාන්‍ය දෙන්නෙක් වගේම මමත් ඒ ගොල්ලන්ගේ විශ්වාසය කඩකරලා තියෙනවා. ඒ ගොල්ලොත් එහෙමයි. ඉතින් ටික කාලෙකට පස්සේ මට ලිංගිකව එකතුවෙන එක එපා වුණා. ඒ වුණත් ආදරය දැනුණා. කෙනෙක්ගෙ ඇසුරක් ඕන වුණා. ඒත් ලිංගිකව එකතුවෙන එක.... ඒත් ඇයි අපි ලිංගිකත්වය ගැනම කතා කරන්නේ?

''මොකද ඔයා කියපු විදියට මම ගණිකාවක් ''

''මගේ ජීවිතය එච්චර රසවත් නැහැ. මම ඉතාම තරුණ කාලෙදි සාර්ථකත්වයට පත්වෙච්ච චිත්‍ර ශිල්පියෙක්. ඒක හරිම කලාතුරකින් සිද්ධ වෙන එකක්. ඊටත් වඩා කලාතුරකින් තමයි ඒක චිත්‍ර ලෝකෙ ඇතුළෙ සිද්ධ වෙන්නෙ. මට දැන් ඕනෑම දෙයක් අඳින්න පුළුවන්. ඒ වගේම මම අඳින දේට විශාල වටිනාකමකුත් ලැබෙනවා. ඒත් අනිවාර්යයෙන්ම ඒක විචාරකයන්ව හුඟාක් තරහ ගස්සනවා. මොකද, ඒ ගොල්ලො හිතන්නේ ''චිත්‍ර'' ගැන දන්නේ ඒ අය විතරයි කියලයි. අනිත් අය හිතන්නේ මං ගාව ඔක්කොම උත්තර තියෙනවා කියලයි. ඉතිං මම හුඟක් අඩුවෙන් කථා කරන තරමට ඒ අය හිතනවා මම හුඟක් බුද්ධිමත් කියලා.''

ඔහු දිගටම ඔහුගේ ජීවිතය ගැන කථා කරමින් ගියා. හැම සතියකම ලෝකෙ කොහේ හරි තැනක කුමන හෝ උත්සවයකට ඔහුට අනිවාර්යයෙන්ම ආරාධනා ලැබෙන හැටි ගැන කිව්වා. ඔහුට බාර්සිලෝනාවල ජීවත් වන නියෝජිතයෙක් හිටියා - ඇය ඒ කොහෙද කියලා දැනගෙන හිටියාද? ඔව්, මරියා දැනගෙන හිටියා

ඒක තියෙන්නේ ස්පාඤ්ඤයේ කියලා. මේ නියෝජිතයා මුදල්, ආරාධනා, ප්‍රදර්ශන වගේ හැමදේ එක්කම ගනුදෙනු කළා. ඒත් ඔහු අකමැති දේ කරන්න කවදාවත් ඔහුට බලකළේ නැහැ. වසර ගණනාවකට පස්සේ ඔහුගේ චිත්‍රවලට ස්ථාවර ඉල්ලුමක් ලැබී තිබුණා.

''ඔයා මගේ කථාවට කැමතිද ? ඔහු ඇසුවා. ඔහුගේ කට හඬේ කිසියම් අවිනිශ්චිත ස්වරයක් ගැබ්වුණා.

''ඒක හරිම අමුතු විදියේ එකක්. හුඟක් මිනිස්සු ඔයා ඉන්න තත්ත්වෙට පත්වෙන්න කැමති ඇති.''

රැල්ෆ්ට මරියා ගැන දැනගන්නට අවශ්‍ය වුණා.

''මගේ ස්වරූපයන් තුනක් තියෙනවා. ඒක හරියටම තීරණය වෙන්නේ මම කා එක්කද ඉන්නෙ කියන එක උඩ. එක්කෙනෙක් හරිම අහිංසක ගෑනු ළමයෙක්. එයා පිරිමි දිහා හුඟක් ගෞරවයෙන් බලනවා. පිරිමින්ගේ බලය, කීර්තිය පිරුණු කතාවලට වහ වැටුණා වගේ බොරුවට අඟවනවා. දෙවෙනි කෙනා එඩිතර ගැහැනියක්. එයා වැඩියෙන්ම අනාරක්ෂිත තැනට පහර දීලා එතැන පාලනය සම්පූර්ණයෙන්ම අතට අරගෙන පිරිමින්ව වගකීමෙන් නිදහස් කරවනවා. මොකද එතකොට ඒ අයට කරදර වෙන්න දෙයක් ඉතුරු වෙන්නේ නැහැ. අන්තිමයා අවබෝධයෙන් ඉන්න අම්මා කෙනෙක්. එයා උපදෙස් අවශ්‍ය අයව රැකබලා ගනිමින් ඉතාම අවබෝධයෙන් ඒ අයගේ කථා එක් කනකින් අහලා අනික් කනින් පිට කරන කෙනෙක්. ඔයා කැමති මේ තුන්දෙනාගෙන් කාව අඳුන ගන්නද?''

''ඔයාව''

මරියා ඔහුට හැම දෙයක්ම කිව්වා. මොකද ඇයට එහෙම ඕන වුණා. - මේ තමයි ඇය බ්‍රසීලයේ ඉඳන් පැමිණි පසු මෙවැනි දෙයක් කළ පළමු වතාව. ඇගේ අසම්මත රැකියාව නොසැලකුවොත් රියෝවල ගත කරපු සතියත්, ස්විට්සර්ලන්තයට පැමිණි පසු ගතවූ පළමු මාසයත් ඇරුණහම වෙනත් කිසිවක්ම ඇයට ප්‍රබෝධයක් ගෙන ආවේ නැහැ කියලා ඇයට අවබෝධ වුණා. ගෙදරත්, රැකියාවත්, ගෙදරත්, රැකියාවත් ඇරෙන්නට කිසිවක්ම තිබුණේ නැහැ.

ඇය කථාව හමාර කරන මොහොත වනවිට ඔවුන් ඉඳගෙන හිටියේ වෙනත් තැබෑරුමකයි. මෙවර නගරයේ අනෙක් පැත්තට වෙන්නත්, සැන්තියාගෝවලට යන පාරෙන් බොහෝ ඈතට වෙන්නත් තමයි ඒක පිහිටලා තිබුණේ. දෙදෙනාම කල්පනා කරමින් හිටියේ අනෙකාගේ දෛවය ගැනයි.

''මට මුකුත් මඟ ඇරුණද?'' ඇය ඇහුවා.

''කොහොමද ''සමුගන්නේ'' කියලා.''

ඔව්. ඒක අනෙක් හැන්දෑවන් වගේ එකක් වුණේ නැහැ. ඇයට දැඩි ව්‍යාකූල හා චංචල භාවයක් දැනුණා. ඇය ඇර දැමූ දොර වසා දමන්නට ඇය දැන සිටියේ නැහැ.

''කවද්ද මට සම්පූර්ණ චිත්‍රය බලන්න පුළුවන්?''

රැල්ෆ් ඔහුගේ බාර්සිලෝනාවල සිටින නියෝජිතයාගේ කාඩ්පත ඇයට ලබා දුන්නා.

''ඔයා යුරෝපෙ ඉන්නවනම්, එයාට තව මාස හයකින් කෝල් කරන්න. Face in Geneva ප්‍රසිද්ධ මිනිස්සුන්ගෙයි, නිර්නාමික මිනිස්සුන්ගෙයි චිත්‍ර. ඒක පළවෙනි වතාවට බර්ලින්වල ගැලරි එකක ප්‍රදර්ශනය කරනවා. ඊට පස්සේ යුරෝපෙ පුරාම ප්‍රදර්ශනය කරනවා.''

මරියාට දින අනූවක් පමණයි ඉතිරි. ඇගේ දින කැලැන්ඩරයත්, ඕනෑම සම්බන්ධතාවක්, බැඳීමක් නිසා ඇතිවිය හැකි භයානක කමත් මතක් වුණා. ඇය මෙහෙම හිතුවා :

''මොකක්ද ජීවිතේ වැඩිපුරම වැදගත්? ජීවත්වෙන එකද? නැත්නම් ජීවත්වෙනවා වගේ මවාපාන එකද? මේ මම මෙහේ ජීවත්වුණු කාලෙටම ගත කරපු ආදරණීයම හැන්දෑව කියලා අවදානමක් අරගෙන කියන්න ඕනෙද? මගේ කථාව කිසිම විවේචනයක්, අදහස් දැක්වීමක් නැතුව අහගෙන හිටපු එකට ඔහුට ස්තුති කරන්න ඕනෙද? එහෙමත් නැත්නම් ආත්ම ශක්තිය, අර කියපු ''සුවිශේෂී ආලෝකය නමැති ආරක්ෂක ආවරණය ඇතුළට රිංගගෙන මුකුත්ම නොකියා පිටවෙලා යන්නද?''

ඔවුන් සැන්තියාගෝවලට යන මඟ හරහා යද්දීත්, ඇය ඇයටම සවන්දෙමින් ඔහුට ඇගේ ජීවිතය ගැන කියද්දීත් ඇය

ප්‍රීතිමත් ගැහැනියක් වුණා. ඇයට ඒකත් එක්ක තෘප්තිමත් වීමට පුළුවන් වුණා. ඒක ජීවිතයෙන් ලැබුණු ප්‍රමාණවත් තිළිණයක්.

''මම ඇවිත් ඔයාව මුණ ගැහෙන්නං''

''එපා. මම ආපහු ඉක්මනට බ්‍රසීලයට යනවා. අනෙක් අතට එකිනෙකාට දෙන්න අපි ළඟ තවත් මොනවත් නැහැ.''

''මම ගනුදෙනුකාරයෙක් විදියට ඇවිත් ඔයාව මුණ ගැහෙන්නම්.''

''ඒක මට අපහාසයක් වෙයි.''

''මම ඇවිත් ඔයාව මුණ ගැහෙන්නම්. එතකොට ඔයාට පුළුවන් මාව ගලවගන්න.''

ඔහු මීට පෙරත් මේ ප්‍රකාශය කළා, ඔහුගේ ලිංගික එකතුවීමට ඇති උදාසීනත්වය ගැනත් කිව්වා. ඇයටත් එලෙසම දැනුණු බව කියන්නට වුවමනා වුණත් ඇය නැවතුණා. ඇය ''එපා'' කියන වචනය කිහිපවරක්ම ප්‍රකාශ කර සිටි නිසා කිසිවක් නොකියා සිටීම වඩා හොඳයි.

කෙතරම් දුක්ඛදායකද ? ඔන්න නැවතත් ඇය කලින් හිටියා වගේ අර පොඩි පිරිමි ළමයා එක්කයි. වෙනසකට තිබුණේ ඔහු ඇයගෙන් පැන්සලක් ඉල්ලනවා වෙනුවට ඇගෙන් පුංචි ඇසුරක් පමණක් බලාපොරොත්තු වුණා. ඇය ඇගේ අතීතයට හැරී බැලුවා, පළමු වතාවට ඇය තමාටම සමාව දුන්නා : ඒක ඇත්තටම ඇගේ වැරැද්ද නෙමෙයි. එකම එක වතාවක් විතරක් උත්සාහ කරලා ඒක අතහැරලා දාපු ඒ පුංචි කොල්ලගෙයි වැරැද්ද. ඒ කාලේ ඒ අය පොඩි ළමයි. ඒ තමයි පුංචි දරුවන්ගේ විදිය. ඔහුවත් ඇයවත් ඒ වැරැද්දේ කොටස්කාරයෝ නෙමෙයි. එය ඇයට විශාල සහනයක් ගෙන ආ අතර ඇයට සැනසීමක් උදා කළා. ජීවිතය ඇයට ලබා දුන් ප්‍රථම අවස්ථාව ඇය පාවාදී තිබුණේ නැහැ. අපි සියල්ලෝම වැඩ කරන්නේ එකම විදිහකටයි : ඒක ඕනෑම මනුස්සයෙක් ඔහුගේ හෝ ඇයගේ අනෙක් අර්ධය සොයා යන ගමනේ මුල් පියවරේදී මේ වගේ දේවල් සිද්ධවෙනවා.

ඒත් කොහොම වුණත් දැන් අවස්ථාව වෙනස් එකක් වුණා. කෙතරම් ඇය හේතු ඔප්පු කරන්නට උත්සාහ ගත්තත් (මම ආපහු

බ්‍රසීලයට යනවා, මම වැඩකරන්නේ සමාජශාලාවක, අපි එකිනෙකා එච්චර අඳුනන්නේ නැහැ, ලිංගිකව හැසිරෙන්න මම කැමති නැහැ, මට ආදරය කරන්න වුවමනා නැහැ, මට ඕනෙ ගොවිපොළ පාලනය ගැන ඉගෙන ගන්න. මට චිත්‍ර තේරෙන්නේ නැහැ, ජීවත් වෙන්නේ වෙනස් ලෝකවල) ජීවිතය ඇය ඉදිරිපිටට අභියෝගයක් වැටෙන්නට සැලැස්සුවා. ඇය තව දුරටත් ළමයෙකු වුණේ නැහැ. ඇයට තෝරා ගැනීමක් කරන්නට සිදුවුණා.

කිසිවක් නොකියා සිටීමට ඇය වැඩි මනාපයක් දැක්වූවා. මෙහේ තියෙන චාරිත්‍රයට අනුව ඔහුට අතට අතදී ගෙදර ගියා. ඇය බලාපොරොත්තු වූ පිරිමියා ඔහු නම්, ඇගේ නිහඬතාවයෙන් ඔහු බියට පත් නොවේවි.

මරියාගේ දිනපොතෙන් උපුටා ගන්නා ලද්දක් :

*අද, අපි වැව වටේ ඇවිදගෙන යන වෙලාවේ, සැන්තියාගෝවලට යන ඒ අමුතු පාරේ ඇවිද ගෙන යන වෙලාවේ මාත් එක්ක සිටි පුද්ගලයා - මගේ ජීවිතයට හාත්පසින්ම වෙනස් ජීවිතයක් ගත කරපු චිත්‍ර ශිල්පියෙක් - බොරළු කැටයක් වතුරට විසිකළා. බොරළු කැටේ වැටුණු තැනින් පුංචි රවුම් මතුවුණා. ඒවා ටිකෙන් ටික විශාල වෙලා එතැනින් පීනගෙන ගිය තාරාවෙකුගේ ඇඟේ වැදුණා. ඒත් ඒකට බොරළු කැටයට කරන්න දෙයක් තිබුණේ නැහැ. හදිස්සියේ මතුවෙච්ච රැල්ලට බය වෙනවා වෙනුවට ඒ තාරාවා ඒවා එක්ක සෙල්ලම් කලා.*

*ඒ සිදුවීම වෙන්න පැය කීපයකට කලින් මම අවන්හලකට ගියාට පස්සේ ඇහුණු කටහඬ හරියට දෙවියන් වහන්සේ එතැනට වීසි කරපු බොරළු කැටයක් වගෙයි. ඒ ශක්තිමත් දිය රැලි මාවත්, කොණක වාඩිවෙලා චිත්‍රයක් අඳිමින් හිටිය ඒ මනුස්සයාවත් ස්පර්ශ කළා. එයාට ඒ බොරළු කැටයේ කම්පනය දැනුණා. මටත් ඒක එහෙමමම දැනුණා. ඉතින් දැන් මොකද වෙන්නේ ? චිත්‍ර ශිල්පියෙක් නිරූපණය කරන්නෙක් දැක්කහම දන්නවා මොකක්ද කරන්නෙ කියලා. සංගීතඥයා තමන්ගේ සංගීත භාණ්ඩය හරියටම සුසර වෙනකොට දන්නවා. මෙතනදී, මගේ දිනපොතේ, මම දන්නවා*

සමහර වාක්‍ය මම ලියපු ඒවා නොවන බව. ඒවා ලියලා තිබුණේ "ආලෝකය" පිරිලා තිබුණු ඒ ගැහැනිය. ඒ ගැහැනිය මමම වුණත් ඒක පිළිගන්න එක මම ප්‍රතික්ෂේප කරනවා.

මට මේ විදිහට දිගටම ඉන්න පුළුවන්. ඒ වගේම මට පුළුවන් හරියට අර වැවේ හිටපු තාරාවා කළා වගේ හදිසියේ වතුර කලතාපු දිය රැල්ලත් එක්ක සෙල්ලම් කරන්න. සතුටක් ලබන්න.

ඒ බොරළු කැටේට නමක් තියෙනවා.. ඒ තමයි ආශාව. ඒක දෙන්නෙක් මුණ ගැහෙද්දී පොළොව කම්පනය කරවනසුලු සුන්දරත්වය විග්‍රහ කරන්නත් යොදා ගන්න පුළුවන්. ඒත් ඒ විතරක්ම නෙමෙයි. බලාපොරොත්තු නොවූ දෙයක් මුණ ගැහෙද්දී දැනෙන විශ්මයටත්, ඉතා උනන්දුවෙන් යමක් කරන්න අවශ්‍ය වුණාම ඒකට තියෙන කැමැත්තටත්, කෙනෙක් හීනයක් හැබෑ කරගන්න යනකොට ඒ ගැන තියෙන නිශ්චිතතාවයටත් ඒක යොදා ගන්න පුළුවන්. අපේ ජීවිතවලට මඟ පෙන්වන්න ආශාව අපිට සංඥා කරනවා. ඒ සංඥා විග්‍රහ කරගත යුත්තේ මමයි.

මම කැමතියි, මම ආදරෙන් බැඳිලා ඉන්නවා කියලා විශ්වාස කරන්න. මා ගැන දන්නෙවත් නැති, මගේ අපේක්ෂාවන් කිසිවක් හඳුනන්නේ නැති කෙනෙක් එක්ක ආදරෙන් බැඳිලා ඉන්නවා කියලා හිතන්න. ආදරය ප්‍රතික්ෂේප කරන්නට තමාවම පාලනය කරමින් ගත කරපු මාස කිහිපය එහි සම්පූර්ණ විරුද්ධ ප්‍රතිඵලය ලබා දුන්නා. මට පොඩ්ඩක් හරි වෙනස් විදියකට සලකපු පළවෙනිම මනුස්සයාට මගේ සියලු සිතුවිලි සම්පූර්ණයෙන්ම අතුගා දමන්නට ඉඩ සැලසුවා.

හොඳ වෙලාවට මා ළඟ ඔහුගේ දුරකථන නොම්මරය නැහැ. මම දන්නේ නැහැ ඒ හින්දා ඔහු ඉන්නේ කොහේද කියලා. ඒ විදියට තවත් අවස්ථාවක් මඟහැර ගැනීම ගැන මටම දොස් පවරා ගන්නේ නැතුව මට ඔහුව අමතක කරන්න පුළුවන්.

ඒක එහෙම නම්, මට දැනටමත් ඔහුව අහිමිවෙලා නම්, අඩුම තරමේ මම මගේ ජීවිතේ එක දවසක් හරි සතුටු වෙලා තියෙනවා. ලෝකය දිහා බලනකොට සතුටුදායක දිනයක් කියන්නේත් විශ්මයක්.

# 16

එදින රාත්‍රියේ ඇය කොපකබානාවලට සේන්දු වෙනකොට ඔහු එතන ඇය එනතුරු බලා හිටියා. මිලාන් ඇගේ ජීවිතය පසු පස යමින් යම් උනන්දුවකින් බලා සිටි නිසා දැක්කා, ඇය ඇගේ සටන අත්හැර දමා ඇති බව.

''ඔයා බීම එකක් බොන්න කැමතිද?'' ඔහු ඇහුවා.

''මට වැඩ කරන්න තියෙනවා. මට මගේ රස්සාව නැති කරගන්න අවදානමක් ගන්න බැහැ.''

''මම මෙහේ ඇවිත් ඉන්නේ සේවාදායකයකු හැටියටයි. මම කරන්නේ වෘත්තීයමය යෝජනාවක්.''

එදින හවස් වරුවේ අවන් හලේදී තමා ගැන බොහෝම විශ්වාසයකින් යුතු, ඒ තරම් දක්ෂකමකින් තමන්ගේ පින්සල හසුරවපු, වැදගත් මිනිස්සු හමුවුණු, බර්සිලෝනාවල නියෝජිතයෙක් හිටපු, වගේම සැකයකින් තොරව විශාල මුදලක් උපයපු මේ මනුස්සයා දැන් ඔහුගේ දුබල බව අනාවරණය කරමින් හිටියා. ඔහු ඇතුළු වෙලා හිටියේ ඔහු ඇතුළු විය නොයුතු ලෝකයකටයි. ඔහු තව දුරටත් හිටියේ සැන්තියාගෝවලට යන පාරේ තිබුණු රොමැන්තික අවන්හලේ නෙමෙයි. හවස් වරුවේ සුන්දරත්වය නැතිවී ගියා.

''ඉතිං ඔයා මොනවහරි බොන්න කැමතිද?''

''මම වෙන වෙලාවක බොන්නම්. අද රෑ සේවාදායකයෝ මං වෙනුවෙන් බලන් ඉන්නවා.''

මිලාන්ට අන්තිම වචන ටික වැඩිපුර ඇහුණා : ඔහුට වැරදුණා. ඇය ඇයව ආදර පොරොන්දු කියන උගුල්වලට අහුවෙන්න ඉඩ

දීලා තිබුණේ නැහැ. කොහොම වුණත් ඇය කම්මැලි රාත්‍රියක් අවසානයේ මහලු පිරිමියෙකුගේ, නීරස, උදාසීන ගණකාධිකාරීවරයෙකුගේ සහ රක්ෂණ නියෝජිතයකුගේ සමාගමය වඩා ප්‍රිය කිරීම ගැන ඔහු පුදුමයට පත්වුණා.

ආහ්, ඒක ඇගේ ප්‍රශ්නයක්. ඇය ඔහුට ඔහුගේ කොමිස් මුදල ගෙවන තාක් ඇය කා එක්ක නිදිවදින්න යායුතුද, කා එක්ක නිදිවදින්න නොයා යුතුද කියන එක තීරණය කරන එක ඔහුට අයිති දෙයක් නෙමෙයි.

මරියාගේ දිනපොතෙන්: මහලු මිනිසාත්, ගණකාධිකාරීවරයාත්, රක්ෂණ නියෝජිතයාත් සමඟ සිටි රාත්‍රියෙන් පසුව

මොනවද ඒ චිත්‍ර ශිල්පියාට මගෙන් වුවමනා? ඔහුට තේරෙන්නෙ නැද්ද අපි වෙනස් රටවල්වලින්, වෙනස් සංස්කෘතීන්වලින් ආපු අය වගේම වෙනස් ලිංගිකත්වයක් තියෙන දෙන්නෙක් කියලා? එයා හිතනවද තෘප්තිය ගැන මම එයාට වඩා දන්නවා කියලා? ඔහුට ඕනෙ මගෙන් මොනව හරි ඉගෙන ගන්නද?

''මම මෙහෙට ආවේ ගනුදෙනුකාරයෙක් විදියට'', කියනවා ඇරෙන්න ඇයි එයා මට වෙන මොනවහරි කිව්වේ නැත්තේ? එයාට ඉතාම ලෙහෙසියෙන් කියන්න පුළුවන්කමක් තිබුණා නේද? ''මට ඔයාව හරියට මතක් වුණා.'' එහෙමත් නැත්නම් ''අපි එකට ගත කරපු හැන්දෑවේ මම හුඟාක් සතුටු වුණා.'' කියලා. මටත් ඒ විදියටම උත්තර දෙන්න පුළුවන්කම තිබුණා. (මම වෘත්තීය මට්ටමේ කෙනෙක්) ඒත් ඔහුට මගේ අනාරක්ෂිතකම තේරුම් ගන්න තිබුණා. මොකද මම ගැහැනියක්. මම දුර්වලයි. ඉතිං මම ඒ තැන ඉන්නකොට මම වෙනස් කෙනෙක්.

එයා පිරිමියෙක්. එයා චිත්‍ර ශිල්පියෙක්. හැම මනුෂ්‍ය ප්‍රාණියෙකුගේම පරම පරමාර්ථය විය යුත්තේ පරිපූර්ණ ආදරයේ අර්ථය වටහා ගන්න එකයි කියන දේ ඔහු දැන සිටිය යුතුයි. ආදරය කියන්නේ තවත් කෙනෙකුගෙන් සෙවිය යුත්තක් නොවෙයි. ඒක අප තුළම හඳුනා ගත යුත්තක්. අපි එය හිමින් අවදි කළ යුතුයි.

නමුත් ඒක කිරීමට නම් අපිට තවත් පුද්ගලයෙක් උවමනා වෙනවා. මේ විශ්වය අරුතක් දෙන්නේ අපගේ හැඟීම් බෙදා ගන්නට තවකෙක් ඇත්නම් පමණයි.

ඔහු කියනවා ඔහු ලිංගික ඇසුරෙන් වෙහෙසට පත්වෙලා කියලා. මාත් එහෙමයි. අපි දෙන්නාගෙන් එක්කෙනෙක්වත් හරියට එහි තේරුම වටහාගෙන නැහැ. අපි ජීවිතේ වටිනාම දෙයකට මැරෙන්න ඉඩ දීලා තියෙනවා - ඔහුට මාව බේරාගත යුතුව තිබුණා, මටත් ඔහුව බේරාගත යුතුව තිබුණා, ඒත් ඔහු මට කිසිම තෝරාගැනීමකට ඉඩක් ඉතිරි කළේ නැහැ.

# 17

ඇය හොඳටම බය වුණා. ඇයට තේරුම් යන්න පටන් ගත්තා මාස ගණනාවක් තිස්සේ තමාවම පාලනය කර ගැනීම, පීඩනය, භූමි කම්පාව, ආත්මයේ ගිනි කන්ද, පුපුරා යෑමේ සලකුණු පෙන්වමින් තිබුණා කියලා. එය එසේ සිදුවුණු මොහොතේ පටන් ඇයට ඇගේ හැඟීම් පාලනය කරගන්නට බැරිවේවි. ඇය පැය කිහිපයක් පමණක් ගත කළ, ඇයව කිසිදු ස්පර්ශ කිරීමක් හෝ කිසිදු පෙළඹවීමක් නොකළ මේ අසරණ චිත්‍ර ශිල්පියා සිය ජීවිතය ගැන ඇයට බොරු කිව්වා වෙන්න පුළුවන් - මීටත් වඩා සිදුවිය හැකි නරකක් තිබිය හැකිද?

ඇගේ හදවත තුළ සීනු හැඬවුණේ ඇයි? මොකද ඇයට හැඟුණා ඒ හා සමාන දෙයක් ඔහුටත් දැනුණා කියලා. ඒත්, නැහැ, ඇයට වැරදුණා විය හැකියි. රැල්ෆ් හාර්ට්ට වුවමනා වුණේ ඔහු තුළ බොහෝ දුරට නිවී අවසන් වුණු ගිනි සිළු නැවත පුබුදුවාලිය හැකි ගැහැනියක් සොයා ගැනීමටයි. ඔහුට අවශ්‍ය වුණා ''විශේෂ ආලෝකය'' සමඟින් (ඔහු ඒ ගැන අවංක වුණා) ඔහුව අතින් අල්ලාගෙන නැවත ඔහුගේ ජීවිතයට යන මාර්ගය වෙත කැඳවාගෙන යන එක්තරා අන්දමක ඔහුගේ පෞද්ගලිකත්වයට කැපවුණු කාම දෙවඟනක් විදියට ඇයව තබා ගන්නට. ඔහුට හිතාගන්න බැරිවුණා මරියාටත් ඒ උදාසීනත්වය දැනුණා කියලා. ඒ වගේම ඇයටත් ඇගේම ප්‍රශ්න තිබුණා කියලා. (මෙතරම් පිරිමින් පිරිසක් සමඟ නිදි වැදීමෙන් අනතුරුවත්, සාමාන්‍යයෙන් දූෂණයක ආකාරයෙන් සිදුවෙන ඒ ලිංගික හැසිරීම්වලින් ඇය කවදාවත් සුරතාන්තයට පත්වුණේ නැහැ.) ඒ වගේම හැම උදෑසනකම ඇය ජයග්‍රාහී ලෙස ඇගේ මවුබිමට පෙරළා යන ගමන සූදානම් කළාත් කියලා.

ඇයි ඇය ඔහු ගැන කල්පනා කරමින් හිටියේ?

ඇයි ඇය මේ මොහොතේ පවා තවත් ගැහැනියකගේ චිත්‍රයක් අඳිමින් ඇගේ ද විශේෂ ආලෝකයක් ඇති බව කියමින් ඉන්න කෙනෙකු ගැන කල්පනා කරන්නේ? ඉතින් ඇයට ඔහුගේ කාම දෙවඟන විය හැකිද?

''මම එයා ගැන කල්පනා කරන්නේ මට එයාත් එක්ක කථා කරන්න පුළුවන් වුණු හින්දා වෙන්න ඇති.''

මොන විකාරද. ඇය පුස්තකාල පාලිකාව ගැන හිතුවද? නැහැ. ඇය ''නියා'' ගැන හිතුවද? ඒ කියන්නේ ඇත් එක්ක කොපකබානාවල වැඩ කරපු ගැහැනුන් අතරින් ඇයට ඇගේ හැඟීම් බෙදාගන්නට පුළුවන්කමක් තිබුණු එකම එක අර පිලිපීන ගෑනු ළමයා ගැන? නැහැ. ඇය එහෙම කළේ නැහැ. ඔවුන් සමඟ තමයි ඇය නිරන්තරයෙන් කථා කළෙත්. ඔවුන් සමඟ සිටින විට තමයි ඇයට පහසුවක් දැනුණේත්.

ඇය ඇගේ අවධානය වෙනත් දිශාවකට, ඒ කියන්නේ එදා කොච්චර රස්නෙ දවසක්ද, එහෙමත් නැත්නම් ඇයට ඊයේ යන්න බැරිවුණු වෙළෙඳ සැලටත් යොමු කළා. ඇය ඇගේ තාත්තාට ඉතා දිග ලියුමක ඇ මිලදී ගන්න කැමති ඉඩම ගැන සම්පූර්ණ විස්තරයක් ලිව්වා. ඒක ඇගේ පවුල සංතෝෂයට පත් කරවන්නක් වුණා. ඇය නැවත පැමිණෙන දිනයක් ගැන සඳහන් නොකළත්, ඇය හැඟෙව්වා ඒ දිනය වැඩි ඈතක නොවන බව. ඇය නින්දට වැටුණා, අවදි වුණා, නැවතත් නින්දට වැටුණා, ආපහු අවදි වුණා. ඇයට තේරුම් ගියා ගොවිපොළ පාලනය ගැන පොත යෝග්‍ය වෙන්නේ ස්විස් ගොවියන්ට මිසක් බ්‍රසීලියානුවන්ට ඒකේ කිසිදු වැදගැම්මක් නැහැයි කියලා. ඒක සම්පූර්ණයෙන්ම වෙනස් ලෝක දෙකක්.

හවස් වරුව ගෙවී යද්දී ඇයට තේරුණා, අර භූමි කම්පාව, ගිනි කන්ද, පීඩනය අඩුවෙමින් යන බව. ඇයට තව දුරටත් සහනය දැනුණා. මීට පෙරත් මෙවැනි හැඟීම් හදිස්සියේම මතුවෙලා ඊළඟ දවසේ බැස ගිහින් තියෙනවා. ඒක හොඳයි. ඇගේ ලෝකෙ කිසිදු වෙනසක් වෙලා නැහැ. ඇයට ආදරය කරන පවුලක් හිටියා, ඇය එනතෙක් බලා සිටින වගේම දැන් නිතරම පාහේ ඇයට ලියන පිරිමියෙකුත් ඇයට හිටියා. ඔහු ඇයට ලිව්වා රෙදි සාප්පුව තවත්

ලොකුවට දියුණු කරලා තියෙනවා කියලා. ඇය එදා රාත්‍රියේම පවා ගුවන් යානයට නගින්නට තීරණය කළත් ඇය සතුව පුංචි ගොවිපොළක් මිලදී ගැනීමට අවශ්‍ය තරම් මුදලක් තිබුණා. ඇය භාෂා ප්‍රශ්නය, තනිකම, තමන්ගේ ශරීරයත් එක්ක කරන දේ ගැන තමාටම දොස් පවරා නොගැනීමට තමාගේම සිත නම්මවාගත් අරාබිකාරයා එක්ක ගත කරපු පළමු රාත්‍රිය කියන අමාරුම කොටස පහුකරලා තිබුණා. ඇය ඇගේ සිහිනය මොකක්ද කියලා දැනගෙන හිටියා. ඒ වගේම ඒක දිනාගන්නට ඕනෑම දෙයක් කරන්නට සූදානම් වෙලාත් හිටියා. කොහොම වුණත් ඒ හීනෙ ඇතුළෙ පිරිමි හිටියේ නැහැ. අඩුම තරමේ ඇගේ භාෂාව කථා කරන්න බැරි කෙනකුට හරි ඈ ජීවත්වෙලා හිටිය ගමේ හරි කෙනකුටවත් ඒකේ ඉඩක් තිබුණේ නැහැ.

භූමි කම්පාව නතරවෙමින් යද්දී මරියා ඇයටම දොස් පවරා ගත්තා. ඇයි ඇය ඔහුට කිව්වේ නැත්තේ ''මං පාලුවෙන්, දුකෙන්, ඔයා වගේම. ඊයේ ඔයා මගේ ආලෝකය දැක්කා. ඒක තමයි මම මෙහෙට ආපු දවසේ ඉඳලා පළමු වතාවට මිනිහෙක් මට කියපු ලස්සනම, අවංකම වචනය.''

රේඩියෝවේ ඔවුන් වාදනය කරමින් හිටියේ "My loves die even before they're born" (ඉපදෙන්න කලින් මියගිය මගේ ප්‍රේමයන්) කියන පැරණි ගීතයයි. ඔව්, ඒක තමයි ඇයට සිදුවුණු දේ. ඒක තමයි ඇගේ දෛවය.

මරියාගේ දිනපොතෙන් : සියල්ල යථා තත්ත්වයට පත්වී දින දෙකක් ගතවූ පසු.

දැඩි ආශාව කෙනකුගේ ආහාර රුචිය, නින්ද, වැඩකිරීම, සැනසිල්ල නැති කරනවා. හැම මනුස්සයෙක්ම ඒ දේට බය වෙන්නේ ඒක පැන නැග්ගාට පස්සේ ඉදිරියේ ඇති සියලු පැරණි දේවල් විනාශ කර දමන නිසායි.

කාටවත් අවශ්‍ය නැහැ තමන්ගේ ජීවිත අවුලේ දමාගන්නට. ඒක නිසා තමයි ගොඩාක් මිනිස්සු ඒ තර්ජනය යටපත් කරගන්නේ. ඒ නිසා තමයි තවමත් එකතැන පල්වුණු පවුල් ව්‍යුහ තඩත්තු

කරමින් ඉන්නේ. ඔවුන් තමයි යල්පැන ගිය දේවල්වල නිර්මාතෘවරු.

අනෙක් මිනිස්සු හිතන්නේ සම්පූර්ණ ප්‍රතිපක්ෂය : දෙවරක් කල්පනා කිරීමෙන් තොරවම ඔවුන් තමන්ගේ සියලු ප්‍රශ්නවලට පිළිතුරු මෙම දැඩි හැඟීම තුළට යටත්වීම හොයන්නට බලාපොරොත්තු වෙනවා. ඔවුන් අනෙකා තමාගේ සතුටේ වගකීම දරන්නා විදියට කල්පනා කරන අතර තමාගේ අසන්තෝෂයට හේතුව ලෙස ද අනෙකා දකිනවා. එක අතකින් ඔවුන් ප්‍රමුදිත වෙනවා කිසියම් විශ්මයජනක දෙයක් සිදුවීමෙන්, එහෙමත් නැත්නම් ඔවුන් වේදනාවට පත්වෙනවා අනපේක්ෂිත දෙයක් මඟින් සියල්ල විනාශ වීමෙන්.

දැඩි හැඟීම (ආශාව) කොටුකර තබා ගන්නවාද, එහෙමත් නැත්නම් අන්ධ ලෙස එයට යටත් වෙනවාද යන හැඟීම්වලින් කුමක් අඩුවෙන් විනාශකාරීද?

මම දන්නේ නැහැ.

# 18

තුන්වෙනි දවසේදී, හරියට මරණින් නැගිට්ටා වගේ රැල්ෆ් හාට් නැවත පැමිණියා. ඒත් ඒ වනවිටත් පරක්කු වැඩියි. ඒ වන විටත් මරියා වෙනත් ගනුදෙනුකාරයෙක් සමඟ කථා කරමින් හිටියා. ඇය ඔහුව දැක්කට පස්සේ ඇය අනෙක් පුද්ගලයාට ඉතා විනීතව පැවසුවා ඇයට නැටුමට සහභාගී වන්නට නොහැකි බවත්, ඇය වෙනත් අයකු බලාපොරොත්තුවෙන් සිටින බවත්.

එතකොට තමයි ඇයට තේරුම් ගියේ ඇය පසුගිය දින තුනම ගත කරලා තිබුණේ ඔහුව බලාපොරොත්තුවෙන් කියලා. ඒ මොහොතේදී දෛවය විසින් ඇයට උරුම කරදුන් සියලු දේ ඇය පිළිගත්තා.

ඇය ඇය ගැන තරහක් ගත්තේ නැහැ. ඇය සතුටින් හිටියා. ඇයට පුළුවන්කම තිබුණා, මේ සුවය ඇයට විඳගන්නට ඉඩහරින්න. මොකද දවසක ඇය මේ නගරය අත්හැරලා යාවි. ඇය දැනං හිටියා මේ ආදරය විය නොහැක්කක් කියලා. ඒත් ඒ කොහොම වුණත් කිසිවක් බලාපොරොත්තු නොවීම ඇගේ ජීවිතේ මේ නිශ්චිත අවධියේදී තවමත් බලාපොරොත්තු වූ දේවල් ඇයට ලබාගන්නට හැකි වුණා.

රැල්ෆ් ඇගෙන් බොන්නේ මොනවාදැයි ඇහුවා, මරියා පලතුරු කොක්ටේල් එකක් ඇණවුම් කළා. බීම අයිතිකාරයා වීදුරු හෝදමින් සිටින බව බොරුවට හඟවමින් ඇයට නොහැඟෙන ලෙස ඇය දෙස බලා සිටියා. මොකක්ද ඇයට ඇගේ හිත වෙනස් කරගන්න වුණු හේතුව? ඔහු ඔවුන් එතැන නිකම්ම බීම බිබී ඉඳගෙන ඉන්න එක බලාපොරොත්තු වුණේ නැහැ. රැල්ෆ් ඇයට නටන්නට ආරාධනා කළාට පස්සේ තමයි ඔහුට සහනයක් දැනුණේ. ඒ

ගොල්ලො සාමාන්‍ය පිළිවෙළ අනුගමනය කරමින් හිටි නිසා කලබල වෙන්නට කිසිදු අවශ්‍යතාවක් තිබුණේ නැහැ.

මරියාට දැනුණා රැල්ෆ්ගේ අත ඇගේ ඉන වටා යනවා. ඔහුගේ කම්මුල ඇගේ කම්මුලේ තෙරපුණා. ඒ එක්කම සංගීතය, දෙවියන්ට ස්තුති වේවා. ඔවුන්ට කථා කරන්නට බැරි තරම් හයියෙන් වාදනය වුණා. එක පලතුරු යුෂ කොක්ටේලයක් ඇයට ධෛර්යය සැපයීමට ප්‍රමාණවත් වුණේ නැහැ. ඔවුන් හුවමාරු කරගත්තු වචන බොහෝම සාමාන්‍ය ඒවා වුණා. දැන් ඒක කාලය පිළිබඳ ප්‍රශ්නයක් විතරයි. ඒ ගොල්ලො හෝටලයකට යාවිද? ඔවුන් රමණයේ යෙදේවිද? ඒක එච්චර අමාරු දෙයක් වෙන්න බැහැ. ලිංගික එකතුවීම් ගැන ඔහුට උනන්දුවක් නැති වග කියපු මොහොතේ සිට එය හුදෙක් චලනය වීම පිළිබඳ ගැටලුවක් විතරයි. අනෙක් අතට උනන්දුවක් නැතිවීම ඇතිවිය හැකි දැඩි ආශාවක පුංචි හෝඩුවාවක් හෝ මරා දැමිය හැකියි. ඇය මේ වන විට දැනගෙන හිටියේ නැහැ ඇයි ඇය ඔවුන්ගේ පළමු හමුවීමෙන්ම මෙවැනි මානසික පීඩාවකට තමාව පත්කර ගත්තේ කියලා.

මේ රාත්‍රියේදී ඇය කරුණු කාරණා තේරෙන අම්මා කෙනකු වේවි. රැල්ෆ් හාට් කියන්නේ අනෙක් මිලියන ගණනක කෙනෙක් වගේ තවත් බලාපොරොත්තු කඩවුණු පිරිමියෙක්. ඇගේ භූමිකාව ඇය හොඳින් රඟපානවා නම්, කොපකබානාවල වැඩ කරන්න පටන් ගත්ත දවසේ ඉඳලා එතැන තිබුණු නීති රෙගුලාසි පිළිපදින්න පුළුවන් වුණා නං, කරදර වෙන්නට කිසිදු වුවමනාවක් තිබුණේ නැහැ. මේ මනුස්සයා ළඟින් හිටියත් ඒක හරිම භයානක දෙයක් වුණා. දැන් ඇයට ඔහුගේ සුවඳ දැනෙන්නට වුණා - ඇය ඔහුගෙන් ආපු පුසුඹට කැමති වුණා - දැන් ඇයට ඔහුගේ ස්පර්ශය දැනෙන්නට පටන් ගත්තා - ඇය ඔහුගේ ස්පර්ශයට කැමති වුණා - දැන් ඇයට වැටහුණා ඇය ඔහු එනකං බලන් හිටියා කියලා - ඒ හැඟීමට නං ඇය කැමති වුණේ නැහැ.

මිනිත්තු හතළිස් පහක් ඇතුළත ඒ ගොල්ලො සියලුම රීති සම්පූර්ණ කළා. ඊළඟට ඔහු බීම හලේ අයිතිකාරයා ළඟට ගිහිං මෙහෙම කිව්වා :

"මම අද මුළු රෑම එයත් එක්කයි ගත කරන්නේ. මම ඔයාට ගනුදෙනුකාරයෝ තුන් දෙනෙක්ගෙම ගාණ ගෙවන්නම්."

අයිතිකාරයා දෙවුර සෙලෙව්වා. ඒ වගේම නැවතත් හිතුවා මේ බ්‍රසීලියානු කෙල්ල ආදර උගුලක අහුවෙලා නවතීවි කියලා. මරියාගේ පැත්තෙන් ඇය පුදුම වුණා. ඇය දැනගෙන හිටියේ නැහැ රැල්ෆ් හාට් මේ තරම් හොඳින් නීති රීති දැනගෙන හිටියා කියලා.

''අපි මගේ ගෙදරට යමු.''

සමහර විට ඒක තමයි කරන්න තිබුණු හොඳම දේ කියලා ඇය කල්පනා කළා. ඒක මිලාන්ගේ අවවාදවලට පටහැනි දෙයක් වුණත් ඇය මේ වෙලාවේ වෙනස් දෙයක් කරන්න තීරණය කළා. ඔහු කසාද බැඳලද නැද්ද කියලා හොයාගන්න එක ඇරුණට පස්සේ ඇය ප්‍රසිද්ධ චිත්‍ර ශිල්පියෝ ජීවත්වෙන හැටිත් දැන ගනීවි. දවසක ඇයට ඇගේ රටේ පුවත් පතකට ලිපියක් ලියන්නත් පුළුවන් වේවි. ඉතිං එතකොට හැමෝම දැන ගනීවි යුරෝපයේ ගත කරපු කාලයේදී ඇය බුද්ධිමය හා කලා සමාගමයන් එක්ක ඇසුරක් තිබුණා කියලා.

''කොයි තරම් විකාර හේතුවක්ද''! ඇය කල්පනා කළා. පැය භාගයකට පස්සේ ඒ ගොල්ලො ජිනීවාවලට ආසන්න කුඩා ගමකට ආවා. ඒ ගමට කිව්වේ කොලොග්නි කියලයි. ඒ ගමේ පල්ලියක්, බේකරියක්, පුරහලක් තිබුණා. හැම දෙයක්ම තිබිය යුතු තැන්වල තිබුණා. ඇත්තටම ඔහු ජීවත් වුණේ දෙමහල් නිවසක මිසක් තට්ටු නිවසක නම් නෙමෙයි! පළමු ප්‍රතිචාරය : එයා ඉතාම පොහොසත් කෙනෙක් වෙන්න ඕනෙ. දෙවන ප්‍රතිචාරය : එයා කසාද බැඳල නම් මේ වගේ ක්‍රියාවක් කරන්න පෙළඹෙන්නේ නැහැ. මොකද ඔවුන්ව කවුරු හරි දකින්න ඉඩ තියෙන හින්දා.

ඉතිං ඔහු පොහොසත් අවිවාහකයෙක්.

ඒ ගොල්ලෝ ඇතුළු වුණේ දෙවන තට්ටුවට දිවෙන තරප්පු පේළියක් තිබුණු ශාලාවකටයි. නමුත් ඒ ගොල්ලෝ කෙළින්ම ගියේ පිටුපසින් උද්‍යානය පෙනෙන්නට තිබුණු කාමර දෙකකට. ඒ කාමර දෙකින් එකක කෑම මේසයක් තිබුණා. ඒ වගේම කාමරේ බිත්ති චිත්‍රවලින් පිරිලා තිබුණා. අනෙක් කාමරේ සෝපා සහ පුටුත්, පිරුණු පොත් රාක්කත්, පිරී ඉතිරී යන අළු බඳුන් සහ බොහෝ කල් එතැන තබා තිබුණු බවට සහතිකවම කිව හැකි අපිරිසිදු වීදුරුවලිනුත් සමන්විත වුණා.

''ඔයා කෝපි එකකට කැමතිද?''

මරියා හිස සැලුවා. නැහැ, ඇයට අවශ්‍ය වුණේ නැහැ. ඔයාට තවම මට වෙනස් විදියට සලකන්න බැහැ. මම මටම පොරොන්දු වෙච්ච දේවල්වල සම්පූර්ණ ප්‍රතිවිරුද්ධ දේ කරමින් ඉන්න නිසා මම මා තුළම තිබෙන තරක බලවේගවලට මුහුණ දෙමිනුයි ඉන්නේ. ඒත් අපි හැමදේම හිමින් පටන් ගමු. ආත්මය තුළ මම ආදරය අවශ්‍ය දියණියක් වුණත් මම අද රාත්‍රියේ ගණිකාවක්, මිතුරියක් හෝ අවබෝධයෙන් යුතු මවකගේ චරිතය රඟපාන්නම්. මේ හැමදේම ඉවර වුණාට පස්සේ ඔයාට පුළුවන් මට කෝපි එකක් හදලා දෙන්න.

''වත්ත මැද තියෙන්නේ මගේ චිත්‍රාගාරය. මගේ ආත්මය. මේ ඔක්කොම චිත්‍රයි, පොතුයි අතර තියෙන්නේ මගේ මොළය. මම හිතන්නේ එහෙමයි.''

මරියා ඇගේ තට්ටු නිවාසය ගැන කල්පනා කළා. ඇයට පිටුපසට වෙන්න උද්‍යානයක් තිබුණේ නැහැ. ඇයට නොමිලේ ලබාගැනීමට හැකි දෙයක් වෙනුවෙන් නිකරුණේ මුදල් වියදම් කිරීමේ තේරුමක් නැති නිසා ඇය පුස්තකාලයෙන් ඉල්ලාගත් පොත් කිහිපය ඇරුණාම ඇය සතුව වෙනත් කිසිම පොතක් තිබුණේ නැහැ. කවදාහරි දවසක යන්නට හීන දැකපු ෂැංහයි සරඹ සර්කස් එකේ පෝස්ටරයක් ඇරුණාම ඈ සතුව චිත්‍රද තිබුණේ නැහැ.

රැල්ෆ් විස්කි බෝතලයක් රැගෙන ඇයට වීදුරුවක් පිරිනැමුවා.

''එපා  බොහොම ස්තුතියි.''

ඔහුම වීදුරුවක් වත්කරගෙන අයිස්වත් නොදා රස නොබලාම එක උගුරට ගිල දැම්මා. ඔහු බුද්ධිමත් දේවල් ගැන කතා කරන්න පටන් ගත්තා . ඒත් කථාබහ කොයිතරම් රසවත් වුණත් ඇය දැනගෙන හිටියා ඔහුත් ඊළඟට වෙන්න යන දේ ගැන බයෙන් හිටිය බව. දැන් ඔවුන් සිටියේ තනිවමයි. මරියා ඒ අවස්ථාවේ පාලනය නැවත ලබාගත්තා.

රැල්ෆ් තවත් විස්කි වීදුරුවක් හලාගෙන හරියට සම්පූර්ණ ප්‍රතිඵල රහිත ප්‍රකාශයක් ලෙස කිව්වා :

''මට ඔයාව ඕනේ''

විරාමයක්. දීර්ඝ නිහඬතාවක්. ඒ නිහඬතාව බිඳින්න උදව් කරන්න එපා. අපි බලමු ඔහු මොනවද ඊළඟට කරන්නේ කියලා.

''මට ඔයාව ඕනේ මරියා. මොකද ඔයා ළඟ අමුතු ආලෝකයක් තියෙනවා. ඒත් මම ඇත්තටම හිතන්නේ නැහැ ඔයා තවම මාව විශ්වාස කරනවා කියලා. ඒ වගේම මම හිතන්නේ නැහැ මගේ වචනවලින් ඔයාව වශී කරගන්න හදනවා කියලා. මගෙන් අහන්න එපා ''ඇයි මං? මොකක්ද මගේ තියෙන විශේෂත්වය? කියලා. එහෙම විශේෂත්වයක් ඔයාගේ නැහැ. අඩුම තරමේ එහෙම මට දැනගන්න කියලා කිසිම දෙයක් නැහැ - ඒත් මේ තමයි ජීවිතේ රහස - මට ඒ ඇරෙන්න වෙන දෙයක් ගැන හිතන්න බෑ.''

''මම ඔයාගෙන් අහන්න නෙමෙයි හිටියේ'' ඇය බොරුවක් කිව්වා.

''මම පැහැදිලි කිරීමක් හොයමින් හිටියා නම්, මම කියන්නේ, මං ඉස්සරහ ඉන්න මේ ගැහැනිය දුක් කම්කටොලු මැඩගෙන ඒක කිසියම් ශුභවාදී දෙයකට, කිසියම් නිර්මාණශීලී දෙයකට හරවගත්ත කෙනෙක් කියලයි. ඒත් ඒකෙන් හැමදේම පැහැදිලි වෙන්නේ නැහැ.''

මෙයින් ගැලවෙන එක එන්න එන්නම අමාරු වුණා. ඔහු දිගටම කියාගෙන ගියා :

''එතකොට මම කවුද? මට මගේ නිර්මාණශීලීත්වය තියෙනවා. මට මගේ චිත්‍ර තියෙනවා. ඒවා මුළු ලෝකෙ පුරාම තියෙන ගැලරිවලින් ඉල්ලලා තියෙනවා. මම මගේ සිහිනය සැබෑ කරගෙනයි තියෙන්නේ. මගේ ගම මාව ආදරණීය පුතකු හැටියට පිළිගන්නවා. මම කසාද බැඳලා හිටපු අය කවදාවත් මගෙන් වන්දි මුදලක් වගේ දෙයක් ඉල්ලන්නේ නැහැ. මට හොඳ සෞඛ්‍ය සම්පත්තියකුත් හොඳ පෙනුමකුත් තියෙනවා. පිරිමියෙකුට අවශ්‍ය හැම දෙයක්ම .... ඒ වුණත් මම, මට කෝපිහලක මුණ ගැහුණු එකම එක හවස් වරුවක් ගත කරපු ගැහැනියෙක්ට කියනවා ''මට ඔයාව ඕනෙ'' කියලා. ''ඔයා දන්නවද තනිකම කියන්නේ මොකක්ද කියලා?''

''මම දන්නවා.''

''ඒත් ඔයා දන්නේ නැහැ තනිකම කියන්නේ මොන විදිහේ එකක්ද කියලා, ඔයාට වෙනත් මිනිස්සුත් එක්ක හැම තිස්සෙම ඉන්න අවස්ථාවක් ලැබෙන කොට, ඔයාට හැම රෑකටම උත්සවවලට ආරාධනා ලැබෙන කොට, කොක්ටේල් සාදවලට, නාට්‍ය සමාරම්භක උත්සවවලට... ගැහැනු හැම තිස්සෙම කෝල් කරන කොට, ඔයාගේ වැඩවලට හුඟාක් කැමති ගෑනු ඔයත් එක්ක රෑ කෑමකට යන්න කොයිතරම් ආසාවෙන් ඉන්නවද කියල කියන කොට - ඒ ගොල්ලො ලස්සන, බුද්ධිමත්, උගත් ගෑනු. ඒත් මොකක් හරි ඔයාව අහකට ඇදලා දානවා, මෙහෙම කියනවා : ''යන්න එපා. ඔයාට ගිහිං සතුටක් ලැබෙන්නේ නැහැ. ඔයා මුළු රෑම ගත කරන්නේ අනෙක් අය සතුටු කරන්න උත්සාහ කරමින්. ඔයාගේ ශක්තිය නිකරුණේ වැය කරගෙන ඔයා ඔයාටම ඔප්පු කරගන්න උත්සාහ කරනවා ඔයා කොයිතරම් ලෝකය ආකර්ෂණය කරගන්න දක්ෂද කියලා.''

''ඉතිං මම ගෙදර නවතිනවා. මම මගේ චිත්‍රාගාරයට ගිහිං ඔයාගෙන් දකපු ඒ ආලෝකය හොයන්න උත්සාහ කරනවා. මට ඒ එළිය දකින්න පුළුවන් වෙන්නේ මම වැඩ කරන කොට විතරයි.''

''මට දෙන්න පුළුවන්, ඔයාට දැනටමත් නැති දේ මොකක්ද?'' ඇය ඇහුවේ අනෙක් ගැහැනුන් ගැන සඳහන් කිරීමෙන් ඇතිවුණු මඳ ලැජ්ජාවෙන් යුක්තවයි. ඒත් ඒ සමඟම මතක් වුණා ඔහු ඇයට ඔහුත් එක්ක ඉඳීම වෙනුවෙන් මුදල් ගෙවා තිබෙන බව.

ඔහු තුන්වෙනි විස්කි වීදුරුවත් බිව්වා. මරියා ඔහුද කැටුව ඇගේ සිතුවිලිවලට ගියා. ඒ මත්පැන් ඔහුගේ උදරය හා උගුර දවමින් රුධිර ධාරා තුළට ඇතුළු වී ඔහුව ධෛර්යමත් කළා. ඇය මත්පැන් බිඳුවක්වත් තොල නොගෑවත් ඇයටද බීමත්කම දැනෙන්නට වුණා. නැවත රැල්ෆ් කතා කරන මොහොතේ ඔහුගේ හඬ වඩා විශ්වසනීය වුණා.

''මට ඔයාගේ ආදරය සල්ලිවලට ගන්න බැහැ. ඒත් ඔයා මට කිව්වා ඔයා ලිංගිකත්වය ගැන හැම දෙයක්ම දන්නවා කියලා. ඉතිං, මට උගන්වන්න. එහෙම නැත්නම් මට බ්‍රසීලය ගැන මොනව හරි උගන්වන්න. මම ඔයත් එක්ක ඉන්න කං මොනව හරි මට කියලා දෙන්න.''

ඊළඟට මොකක්ද?

''මම මගේ රටේ දන්නේ තැන් දෙකක් විතරයි. ඒ මම ඉපදුණු නගරයයි, රියෝද ජනයිරෝයි. ලිංගිකත්වය ගැන නම් මම හිතන්නේ මට ඔයාට කිසිදෙයක් උගන්වන්න බැහැ කියලයි. මට යන්තම් අවුරුදු විසිතුනයි. ඔයා මට වඩා අවුරුදු හයක් වැඩිමල්. ඒත් මං දන්නවා ඔයා ජීවිතේ හුඟක් අත්විඳලා තියෙනවා කියලා. මම දන්නවා පිරිමි සල්ලි ගෙවන්නේ ඒ ගොල්ලන්ට වුවමනා දේ කරගන්න මිසක් මට වුවමනා දේ කරන්න නෙමෙයි කියලා.''

''මිනිහෙක් ගැනියෙක්, දෙන්නෙක්, තුන්දෙනෙක් එක්ක එකම වෙලාවේ කරන්න හීන දකින හැම දෙයක්ම මම කරලා තියෙනවා. ඒත් මම හිතන්නෑ මම හුඟක් දේවල් දන්නවා කියලා.''

නැවතත් නිහඬතාවක්. ඒ ඇරුණහම මේ, මරියාට කථා කරන්න තිබුණු අවස්ථාවයි. ඔහු ඇයට උදව් කළේ නැහැ. හරියට ඇය ඔහුට කලින් උදව් කළේ නැහැ වගේ.

''ඔයාට මාව ඕනෙ වෘත්තීය මට්ටමෙන්ද?''

''මට ඔයාව ඕනෙ ඔයාට වෙන්න ඕන කැමති කෙනෙක් විදියට.''

බැහැ. ඔහුට එහෙම කියන්න බැහැ. මොකද ඒක තමයි හරියටම ඇයට අහන්න අවශ්‍ය වුණු දේ. භූමිකම්පාව, ගිනි කන්ද, කුණාටුව නැවත පැමිණියා. ඇයගේම උගුලෙන් ගැලවීමේ අපහසුවක් ඇතිවුණා. ඇයට මේ මනුස්සයා හිමි නොවී සදහටම අහිමි වේවි!

''ඔයා දන්නවා මම මොකක්ද අදහස් කළේ කියලා. මරියා. මට උගන්නන්න. සමහරවිට ඒක මාව ගලවා ගනීවි. සමහරවිට ඒක ඔයාව ගලවා ගනීවි. ඒ වගේම ඒක අපි දෙන්නගේම ජීවිත නැවත අපිට ලබල දෙයි. ඔයා හරි. මම ඔයාට වඩා අවුරුදු හයයි වැඩිමල්. ඒත් දැනටමත් මම ජීවිත කාල ගණනකටම ඇතිවෙන්න ජීවත් වෙලා තියෙනවා. අපි දෙන්නගෙ අත්දැකීම් සම්පූර්ණයෙන්ම වෙනස්. ඒත් අපි දෙන්නම බලාපොරොත්තු සුන්වුණු අය. අපිට පොඩි හරි ශක්තියක් ගේන්නේ අපි දෙන්නා එකට ඉඳීමෙන් විතරයි.''

ඇයි ඔහු මේ වගේ දේවල් කියන්නේ? ඒක විය නොහැක්කක්. ඒ වගේම ඒක ඇත්තක්. ඒ ගොල්ලො මුණ ගැහිලා තිබුණේ කළිං

එක වතාවක් විතරයි. ඒත් දැනටමත් ඔවුන්ට එකිනෙකා අවශ්‍ය වෙලා ඉවරයි. හිතන්න, ඔවුන් එකිනෙකා මුණ ගැහෙන්න පටන් ගත්තට පස්සේ මොකක් වෙයිද කියලා. ඒක විනාශකාරී දෙයක් වේවි. කියවීමෙන් සහ නිරීක්ෂණයෙන් පසු කළ මාස ගණනාව මරියාව බුද්ධිමත් ගැහැනියක් කර තිබුණා. ඇයට ජීවිතේ ගැන ඉලක්කයක් තිබුණා. නමුත් ඇගේ ''ආලෝකය'' සොයා ගැනීමට අවශ්‍ය ආත්මයකුත් තිබුණු බව ඇය දැනගත යුතුව තිබුණා. ඇයට ඇයම වී සිටීමෙන් වෙහෙසට පත්වෙමින් තිබුණා. ඕනෑම මොහොතක සිදුවිය හැකිව තිබුණු බ්‍රසීලයට පෙරළා යාම ඇයට නියම අභියෝගයක් වුණා. ඇය තවමත් ඇයට කළ හැකි දේ ගැන අවබෝධ කරගෙන තිබුණේ නැහැ. රැල්ෆ් හාට් කියන්නේ අභියෝග භාරගත්තු, හැමදේම අවබෝධ කරගත්තු කෙනෙක්. ඒත් දැන් ඔහු මේ ගැහැනියගෙන්, මේ ගණිකාවගෙන්, මේ අවබෝධයෙන් යුතු අම්මාගෙන් අහමින් හිටියා ඔහුව බේරගන්න කියලා. මොනතරම් විකාරයක්ද!

අනෙක් පිරිමිත් ඇයත් එක්ක මේ විදියට හැසිරිලා තිබුණා. ඒ අයගෙන් ගොඩදෙනකුට ලිංගික පිබිදීමක් ලබාගන්න බැරිවුණා. අනෙක් අයට ඕන වුණේ දරුවන්ට වගේ සලකා ගන්නයි. තවත් අය ඇයට කිව්වා ඔවුන්ගේ බිරිඳ හැටියට හැසිරෙන්න කියලා. මොකද තමන්ගේ බිරිඳ ගොඩාක් ප්‍රේමවන්තයෝ එක්ක හැසිරෙනවාය කියන හැඟීමේ තිගැස්මට ඒ ගොල්ලො කැමති වුණා. ඇය දැනටමත් මිනිස් ආත්මය පුරවන විශාල ෆැන්ටසි විශ්වයක් හඳුනාගෙන තිබුණත්, තවමත් ඇයට ''විශේෂ ගනුදෙනුකාරයෙක්'' කියන කෙනෙක් මුණගැහිලා තිබුණේ නැහැ. නමුත් ඒ ඒ හැම කෙනෙක්ම හිටියේ ඒ ගොල්ලන්ගේම ලෝකවල. කවුරුත්ම ඇයට කියලා තිබුණේ නැහැ ''මාව මෙතනින් එළියට අරගෙන යන්න'' කියලා. ඒ විතරක් නෙමෙයි ඒ අයට වුවමනා වුණේ මරියාවත් ඒ අය එක්ක ඒ ලෝකෙට අරගෙන යන්නයි.

ඒත් එහෙම වුණත් ඒ බොහෝමයක් පිරිමි බොහෝ වෙලාවට ඇයව සල්ලිත් එක්ක අත්හැරලා ගියා. ශක්තිය අන්තිමටම පිරිහුණාට පස්සේවත් ඇය යමක් ඉගෙනගත යුතු වුණා. ඉතිං ඇත්තටම ඒ අයගෙන් කෙනෙක් ආදරය හෙව්වා නම්, ලිංගිකව එකතු වෙනවා කියන එක, ඒ හෙවීමේ එකම කොටස විතරක් වුණා නම්, ඇය

සලක ගන්න කැමති වුණේ මොන විදියටද? පළමු හමුවීමෙදි මොනවා වෙන්න ඕන කියලද ඇය හිතුවේ?

මොකක් වෙනවටද ඇය කැමති?

''මම තෑග්ගකට කැමතියි.'' මරියා කිව්වා.

රැල්ෆ් හාට්ට ඒක තේරුණේ නැහැ. තෑග්ගක්? ඔවුන් ටැක්සියෙන් එන අතරතුරේදි මුලින්ම ඔහු මේ රාත්‍රියට ගෙවීම් කරලා තිබුණා. මොකද ඔහු දැන හිටියා කළ යුතු පිළිවෙල මොකක්ද කියලා. මොකක්ද ඇය අදහස් කළේ ?

මරියාට සැණෙකින් තේරුම් ගියා ඒ මොහොතේදීම, පිරිමියෙකුටත්, ගැහැනියකටත් දෑනෙන්න අවශ්‍ය වුණේ මොනවද කියලා. ඇය ඔහුගේ අත අරං ඔහුව විසිත්ත කාමරයකට එක්කරගෙන ගියා.

''අපි නිදාගන්න කාමරේට යන්නේ නැහැ.'' ඇය කිව්වා.

ඇය සියලුම විදුලි පහන්ම වගේ නිවා දැම්මා. බුමුතුරුණ මත හිඳගෙන ඔහුටත් කිව්වා ඇය ඉදිරිපසින් වාඩි වෙන්න කියලා. ඇය දැක්කා කාමරේ ඇතුළෙ ගිනි උදුනක් තියෙනවා.

''ගින්දර පත්තු කරන්න.''

''ඒත් මේ ග්‍රීෂ්ම කාලෙනේ''

''ගින්දර පත්තු කරන්න. ඔයා මට කිව්වනේ අද රෑ අපි කරන දේ මෙහෙයවන්න කියලා. ඉතිං ඒක තමයි මම මේ කරන්නේ.''

නැවතත් ඔහු ඇගේ ''ආලෝකය'' දකිනු ඇතැයි හිතමින් ඇය ඔහු දිහාවට නිශ්චිත බැල්මක් හෙළුවා. ඔහු නියත වශයෙන්ම ඒක දැක්කා. මොකද එයා ගෙවත්තට ගිහින් තවමත් වැස්සට තෙමිලා තෙත් වුණු දර ටිකක් එකතු කරගත්තා. ගින්දරින් දර වේලිලා හොඳට පත්තුවෙන්න පටන් ගන්න හින්දා එයා පරණ පත්තර ටිකකුත් ඇදලා ගත්තා. ඔහු කුස්සියට ගියේ තව විස්කි ටිකක් දාගන්නයි. ඒත් මරියා ඔහුට ආපහු අඬ ගැහුවා.

''ඔයා ඇහුවද මට මොනවද ඕනේ කියලා?''

''නැහැ මං ඇහුවේ නෑනේ ''

''හ්ම්, ඔයත් එක්ක ඉන්න අනික් මනුස්සයත් මෙතන ඉන්න ඕනේ. එයා ගැනත් හිතන්න. හිතන්න එයාට ඕනේ විස්කිද, ජින්ද, කෝපි ද කියලා. එයාගෙනුත් අහන්න එයාට මොනවද ඕනේ කියලා. ''

''ඔයා මොනවද බොන්න කැමති ?''

''වයින්. ඒ වගේම මම කැමතියි ඔයත් මාත් එක්ක එකතු වෙනවා නම්.''

ඔහු විස්කි බෝතලය තියලා ආපහු වයින් බෝතලයක් එක්ක ආවා. මේ වෙද්දි ගින්දර පත්තුවෙන්න පටන් අරන් තිබුණා. මරියා ඉතිරිවෙලා තිබුණු විදුලි පහන් ටිකත් නිවලා දැම්මා. එතකොට ගින්දර තමයි කාමරේ ඇතුළෙ තිබුණු එකම ආලෝකය වුණේ. ඇය හැසිරුණේ හරියට ඇය හැම විටම මෙය පළමු පියවර විදියට දැනගෙන හිටියා වගෙයි : අනෙක් පුද්ගලයා හඳුනා ගනිමින් ඔහු හෝ ඇය එතැන ඉන්නවා කියලා දැනගෙන හිටියා වගෙයි.

ඇය ඇගේ අත් බෑගය ඇරලා ඒකෙ ඇතුළෙන් වෙළෙඳ සැලකින් ගත්තු පෑනක් හොයා ගත්තා. ඕන දෙයක්.

''මේක ඔයාට. මම මේක ගත්තේ ගොවිපළ පාලනය ගැන දැනගන්න ඕන කරුණු සටහන් කරගන්නයි. මම මේක දවස් දෙකක් පාවිච්චි කළා. මම මට තව දුරටත් වැඩ කරන්න බැරි තරම් මහන්සි දැනෙනකං වැඩ කළා. මගේ දාඩිය, මගේ අවධානය, මගේ ආත්ම ශක්තියත් ඔය පෑන ඇතුළෙ තියෙනවා. දැන් මම ඒක ඔයාට දෙනවා. ''

ඇය මෘදු ලෙස ඔහුගේ අත මත පෑන තැබුවා.

''ඔයා කැමති දෙයක් අරගන්නවා වෙනුවට මම ඔයාට දෙන්නේ මගේ දෙයක්. ඇත්තටම මගේම දෙයක්. තෑග්ගක්. එයාගේ ළඟින් ඉන්න එක කොච්චර වැදගත් දෙයක්ද කියන එක තේරුම් ගන්න කියලා ඉල්ලමින් මම ඉස්සරහ ඉන්න මනුස්සයට ගෞරවයේ සලකුණක් විදියට දෙන දෙයක්. දැන් එයා ගාව මගේ පුංචි කොටසකුත් තියෙනවා. ඒක මම එයාට දුන්නේ නිදහස් නිරායාස හැඟීමකින්. ''

රැල්ෆ් නැගිට්ටා. රාක්කයක් ළඟට ගිහිං යමක් අරගෙන ආපහු ආවා. ඒක මරියාට දිගු කළා.

''මේක මට පුංචි කාලේ තිබුණු විදුලි කෝච්චියකට හයි කරපු පෙට්ටියක්. මට ඒකත් එක්ක තනියම සෙල්ලම් කරන්න අවසර දීලා තිබුණේ නැහැ. මොකද මගේ තාත්තා කිව්වේ ඒක ඇමරිකාවෙන් ගෙනාපු ගොඩක් ගණං එකක් කියලයි. ඉතිං මට බලන් ඉන්න සිද්ධවුණා එයාට ඒක සාලේ හයිකරන්න හිතෙන කම්ම. ඒත් එයා හුඟක් ඉරිදා දවස් ගත කළේ ඔපෙරා අහගෙන. ඒ නිසා තමයි මේ කෝච්චිය මගේ ළමා කාලය ආරක්ෂා කළේ. ඒත් ඒක කවදාවත් මට සතුටක් ගෙනාවේ නැහැ. මා ළඟ තාමත් ඔක්කොම පීලි, එන්ජිම, පෙට්ටි, අත්පොත පවා තියෙනවා. මොකද මං ගාව තිබුණේ මට අයිති නොවුණු මම කවදාවත් සෙල්ලම් නොකරපු කෝච්චියක්. ''

''මට හම්බු වෙච්ච වගේම මට සම්පූර්ණයෙන්ම අමතක වෙලා තියෙන අනිත් සෙල්ලම් බඩුත් එක්කම මේකත් කඩලා දාන්න තිබුණා නම් හොඳයි. මොකද, විනාශ කරලා දාන්න තියෙන කැමැත්ත ළමයෙක් ලෝකෙ තේරුම් ගන්නවා කියන එකේම කොටසක්. ඒත් මේ පරණ කෝච්චිය හැම වෙලාවෙම මම කවදාවත් ජීවත් නොවුණු මගේ පුංචි කාලේ මට මතක් කරනවා. මොකද ඒක හුඟාක් විශේෂ වුණා වගේම ඒකෙන් මගේ තාත්තගේ මහන්සියත් අදහස් වුණා. සමහරවිට එයා කෝච්චිය හයිකරලා තියපු හැම වෙලාවකම එයාගේ මට තියෙන ආදරේ පෙනෙයි කියලා බයවෙන්න ඇති. ''

මරියා ගින්දර දිහා බලන් ඉන්න පටන් ගත්තා. මොනව හරි දෙයක් සිදුවෙමින් තිබුණා. ඒක වයින් හින්දවත්, මේ උණුසුම් වටපිටාව හින්දාමත් සිදුවුණු දෙයක් නෙමෙයි. ඒක ඒ තෑගි හුවමාරුව හින්දා සිද්ධවුණු දෙයක්.

රැල්ෆුත් ගින්දර දිහාවට හැරුණා. ඔවුන් මුකුත්ම කිව්වේ නැහැ, ගිනිදළුවලින් එන කර කර හඬට සවන්දෙමින් හිටියා. මුකුත් නොකියා ඉන්න එකේවත්, මුකුත් නොකර ඉන්න එකේ වත් ගැටලුවක් නැති විදියට ඔවුන් ඔවුන්ගේ වයින් බිව්වා. ඔවුන් එතැන, එකට, එකම දිහාවක් බලාගෙන හිටියා.

''මගේ ජීවිතේත් ඔය වගේ පැරණි කෝච්චි ගොඩාක් තිබුණා.'' ටික වෙලාවකට පස්සේ මරියා කිව්වා. ''ඒකෙන් එකක් තමයි මගේ හදවත. මම ඒකත් එක්ක සෙල්ලං කළේ ලෝකෙ

ඒකට හරියන්න පීලි හැදුවහම විතරයි. ඒත් ඒ හැම මොහොතක්ම හරිම වෙලාව වුණේ නැහැ.''

''ඒත් ඔයා ආදරේ කළා.''

''ආහ්. ඔව්, මම ආදරේ කළා. මම ඉතාම ගැඹුරෙන් ආදරේ කළා. මම හුඟාක් ගැඹුරෙන් ආදරේ කළා. මගේ ආදරය මගෙන් තෑග්ගක් ඉල්ලපු වෙලාවේ මම බයවෙලා එතැනින් පලා ගියා.''

''මට තේරෙන්නේ නැහැ.''

''ඔයා තේරුම් ගන්න උත්සාහ කරන්නත් එපා. මම කලින් දැනගෙන හිටපු නැති දෙයක් හොයාගත්ත නිසයි මම ඔයාට උගන්නන්නේ ඒ කියන්නේ තෑගි දෙන එක. තමුංගෙම දෙයක් දෙන එක. දෙයක් ඉල්ලනවට වඩා යමක් දෙන එක වැදගත්. ඔයා ළඟ මගේ වටින දෙයක් තියෙනවා. මගේ සමහරක් හීන ලියාපු පෑන. මං ළඟ ඔයාගේ වටිනා දෙයක් තියෙනවා. ඔයා ජීවත් නොවුණු ඔයාගේ ළමා කාලේ කොටසක් වෙච්ච ඒ කෝච්චි පෙට්ටිය.''

''මම ඔයාගේ අතීතයෙන් කොටසක් අරගෙන යන්නං. ඔයා මගේ වර්තමානෙන් පුංචි කොටසක් අරගෙන යන්න. ඒක සුන්දර නැද්ද?''

ඇය මේ සියල්ල කිව්වේ ඇසිපියවත් නොහෙළා වගේම කිසිදු පුදුමයකිනුත් නොවෙයි. හරියට මේ තමයි හැසිරෙන්න ඕන හොඳම සහ එකම විදිය කියලා ඇය වසර ගණනාවක් තිස්සේ දැනගෙන හිටියා වගෙයි. ඇය මෘදුව ඇගේ දෙපාවලට බර දුන්නා. කෝට් එල්ලන රාක්කයෙන් ඇගේ ජැකට්ටුව අරගෙන රැල්ෆ්ගේ කම්මුල ඉම්බා. රැල්ෆ් නැගිටින්න හෙළවුණේවත් නැහැ. ගිනි දළුවලින් වශීවෙලා වගේ බලාගෙන හිටියා. සමහරවිට එයාගේ තාත්තා ගැන හිතමින් ඉන්නවා විය හැකියි.

''මට කවදාවත් තේරුණේ නැහැ ඇයි මම ඒ කෝච්චි පෙට්ටිය තියා ගත්තේ කියලා. ඒත් දැන් මම දන්නවා. ඒ ගිනි උදුනක් ඉදිරිපිට එක රැකදී ඔයාට ඒක දෙන්නයි කියලා. දැන් මේ ගෙදර හුඟාක් සැහැල්ලුයි.''

ඔහු ඊළඟ දවසේදී අනෙක් පීලි, එන්ජිම, දුම්බට ටික ළමා නිවාසයකට දෙනවා කියලා කිව්වා.

''ඒක ආපහු සිද්ධ නොවන තරමේ දුර්ලභ දෙයක් වෙන්න පුළුවන්. ඒක ලොකු සල්ලි ගොඩකට සමාන කරන්නත් පුළුවන්'' මරියා කිව්වා. ඒත් සැණෙකින් ඇය කියූ දේ ගැන පසුතැවිල්ලට පත්වුණා. ඒක නෙමෙයි ප්‍රශ්නය වුණේ. වැදගත් දේ වුණේ ඔබගේ හදවතටත් වඩා මිල කළ හැකි නිදහස ලබාගන්න එකයි.

ඇය මේ මොහොතට නොගැළපෙන තවත් මොනව හරි කියන්නට කලින් නැවතත් ඔහුගේ කම්මුල සිපගෙන ඉදිරිපස දොර දිහාවට ඇවිදගෙන ගියා. ඔහු තවමත් හිටියේ ගින්දර දිහා බලාගෙනයි. ඉතින් ඇයට සිද්ධ වුණා ගිහිං මෘදුව ඔහුගෙන් අහන්න ඇයට දොර ඇරලා දෙන්න පුළුවන්ද කියලා.

රැල්ෆ් නැඟිට්ටා. ඔහු ගින්දර දිහා බලන් ඉන්නවා දකින්න ඇය සතුටු වුණත් ඇය ඔහුට තේරුම් කරලා දුන්නා බ්‍රසීලියානුවන්ට අමුතුම විදියේ මිත්‍යා විශ්වාසයක් තියෙනවා කියලා. ඒ කියන්නේ, කෙනෙක් පළමු වතාවට කාව හරි බැහැ දකින්න ආවහම එතැනින් පිටවෙන වෙලාවෙදි දොර අරින්න ඕනේ ඒ කෙනා නෙමෙයි. ඒ මොකද එයා එහෙම කළොත් ඒ කෙනා ආපහු කවදාවත් ඒ ගෙදරට එන්නේ නැහැ.

''ඉතිං මට ආපහු එන්න වුවමනායි.''

''අපි අපේ ඇඳුම් ගැලෙව්වේ නැති වුණත්, මම ඔයත් එක්ක ලිංගිකව හැසිරීමක් හරි ඔයාව ඇල්ලීමක් හරි නොකළත්, අපි රමණය කළා.''

ඇය හිනාවුණා. ඔහු ඇයව ගෙදර ඇරලවන්න ඇහුවත් ඇය ඒක ප්‍රතික්ෂේප කළා.

''එහෙම නම් මම හෙට ඔයාව කොපකබානා එකේදි හම්බු වෙන්නම්.''

''එපා. සතියක් ඉන්න. මම ඉගෙන ගත්තා බලාගෙන ඉන්න. ඒක තමයි අමාරුම එක කියලා. ඔයා මගේ ළඟ නැති වෙලාවටත් මගේත් එක්ක ඉන්නවා කියන ඒ හැඟීමට මට හුරුවෙන්න ඕනා''.

* * *

ඇය මීට කලින් බොහෝ වතාවක් ජීනීවාවලදී කරා වගේ නැවතත් සීතලත්, කළුවරත් අතරින් ඇවිද ගියා. සාමාන්‍යයෙන් මේ ඇවිදගෙන යාම් සමඟ එක්වෙලා තිබුණේ දුක, තනිකම, බ්‍රසීලයට යාමට තිබුණු කැමැත්ත, මූල්‍යමය ගණන් බැලීම්, කාල සටහන් සහ බොහෝ කාලෙකින් නිදහසේ කතා කරන්නට බැරිවුණු ඇගේ භාෂාව ගැන තිබුණු සිත්තැවුලයි.

කොහොම වුණත් දැන් ඇය ඇවිදගෙන ගියේ ඇයවම හොයා ගන්නටයි. පිරිමියෙක් එක්ක විනාඩි හතළිහක් ගිනි උදුනක් ඉස්සරහ වාඩිවෙලා හිටපු දීප්තිමත් ආලෝකයෙන් පිරුණු, ප්‍රඥාවන්ත, අත් දැකීම් සහිත, ළගන්නාසුලු ඒ ගැහැනිය සොයා ගන්නටයි. මීට බොහෝ කාලයකට කලිනුත් ඇගේ නොවන ජීවිතයක් වෙනුවෙන් සිය ජීවිතය කැප කරනවාද නැද්ද යන කුතුහලයෙන් ඇය වැව අයිනේ ඇවිදගෙන ගිය මොහොතේදීත් ඇය ඒ ගැහැනියගේ මුහුණ දැක තිබුණා. එදා හැන්දෑවෙදී ඒ ගැහැනියගේ මුහුණේ තිබුණේ අතිශය දුක්බර සිනාවක්. දෙවෙනි වතාවට නැවතත් ඇයව දැකලා තිබුණේ අකුළලා තිබුණු කැන්වස් රෙද්දෙයි. දැන් නැවතත් ඇය සිටියේ ඇයත් එක්කයි. ඇය ටැක්සියක් අල්ලාගත්තේ ටිකක් දුර ඇවිදන් ගියාට පස්සෙයි. සුපුරුදු විදියටම ඒ මායාකාරී මොහොත ගෙවිලා ගියාට පස්සේ ඇය නැවතත් හුදෙකලා වුණා.

ඇය මොහොතකට කලින් අත්විඳපු දේහි සුන්දරත්වය අවුල් කර නොගන්නටත්, ඒ සුන්දරත්වය කාංසියකට හරවා නොගන්නටත් හොඳම දේ වුණේ ඒ හැමදේම ගැන වැඩිපුර නොහිතා ඉන්න එකයි. අනෙක් මරියා ඇත්තටම ඉන්නවා නම් හරිම මොහොත ආවට පස්සේ ඇය නැවත පැමිණේවි.

කෝච්චි පෙට්ටිය ලැබුණු දින රාත්‍රියේ මරියාගේ දින පොතේ ලියූවකින් උපුටා ගත්තක්.

*අසීමිත ආශාව සැබෑ ආශාව තමයි කෙනෙකුට ළංවෙන්න තියෙන ආශාව. ඒ මොහොතේ ඉඳලා සියල්ල වෙනස් වෙනවා. ගැහැනියත්, පිරිමියාත් එහි භූමිකාවට පැමිණෙනවා. නමුත් ඊට කලින් වෙන දේ - ඔවුන් දෙදෙනාව එකතු කරපු ඒ ආකර්ෂණය*

විස්තර කරන්න අමාරුයි. ඒක ශුද්ධ වූ තැනක තියෙන ස්පර්ශ කරන්න බැරි දෙයක්.

ආශාව ඒ ශුද්ධ වූ ස්ථානයේ තවමත් තියෙන විටදී පිරිමියාත්, ගැහැනියත් ජීවිතය එක්ක ආදරෙන් බැඳෙනවා. ඔවුන් මේ හැම මොහොතක්ම ගෞරව පූර්වකවත්, සවිඥානිකවත්, හැම තිස්සෙම ඊළඟ ආශිර්වාදය සමරන්න ලැහැස්තියෙන් ජීවත් වෙනවා.

මිනිස්සුන්ට මෙහෙම දැනෙන කොට ඔවුන් ඉක්මන් වෙන්නේ නැහැ. නොසිතා බලා ගන්නා ක්‍රියාමාර්ගවලින් ඒ අවස්ථා ඉක්මන් කරගන්නේ නැහැ. ඔවුන් දන්නවා ඒ අනිවාර්යතාව සිද්ධ වෙනවා කියලා. ඒ කියන්නේ සත්‍යය හැම වෙලාවෙම එය විසින්ම එහි මාර්ගය සොයා ගන්නවා කියන එකයි. අවස්ථාව පැමිණෙන කොට ඔවුන් පසුබට වෙන්නේ නැහැ. එකදු අවස්ථාවක්වත් මඟහරින්නේත් නැහැ. මේ එකුදු අරුම පුදුම මොහොතක්වත් ඔවුන් අතහැර ගන්නේ නැහැ. මොකද ඒ ඔවුන් මේ හැම තත්පරයකම තියෙන වටිනාකමට ගරු කරන නිසයි.

# 19

ඉදිරි දවස් කීපය තුළදී මරියාට තේරුම් ගියා ඇය ඉතා අමාරුවෙන් මඟ හැරල හිටපු උගුලේම ඇය නැවත වතාවක් අහුවෙලා හිටිය බව. නමුත් ඇයට ඒ ගැන දුකක්වත් සැලකිල්ලක්වත් තිබුණේ නැහැ. ඒ විතරක් නෙමෙයි, දැන් ඇයට නැති වෙන්න කිසිම දෙයක් තිබුණේත් නැහැ. ඇය නිදහස් කෙනෙක්!

මේ අවස්ථාව කෙතරම් රොමැන්තික වුණත් ඇය දැනගෙන හිටියා දවසක රැල්ෆ් හාට් ඇයව නිකම්ම නිකං ගණිකාවක් කියලා තේරුම් ගනීවි කියලා. ඔහුගේ ජීවිතය පොඩි කාලේ ඉඳලා පිළිවෙලක් සහිත හා ආරක්ෂිත එකක් වුණා. ඔහු පුරපුරයක ජීවත් වෙච්ච ගෞරවනීය චිත්‍ර ශිල්පියෙක් වෙද්දී, ඇය ජීවත්වුණේ සදාකාලික අර්බුදවලින් පිරුණු රටක ඈත ගමකයි. ඔහු ඔහුගේ අධ්‍යාපනය ලෝකයේ තියෙන හොඳම පාසල්වලින්, කෞතුකාගාරවලින්, කලාගාරවලින් ලබා ගත්තු අතර ඇය යන්තමින් ද්විතීය අධ්‍යාපනය ඉවර කරපු කෙනෙක්. ඒ ගොල්ලන්ගේ වගේ හීන කවදාවත් පැවතුණේ නැහැ. යථාර්ථය සාමාන්‍යයෙන් ඇගේ හීනත් එක්ක ගැළපෙන්නේ නැහැයි කියන එක තේරුම් ගන්න තරම් මරියාට ජීවිතේ ඕනතරම් අත්දැකීම් ලැබිලා තිබුණා. ඇයට යථාර්ථය නුවුවමනා බව යථාර්ථයට කියන්නටත්, සතුටු වෙන්නට අවශ්‍ය දේවල් මත තව දුරටත් යැපෙන්නේ නැති බව කියන එකත්, ඇගේ විශාලම සතුට වුණා.

"දෙවියනේ, මම කොච්චර රොමැන්ටික්ද "

සතිය පුරාවටම ඇය රැල්ෆ් හාට් සතුටු කරන්නට පුළුවන් දෙයක් ගැන හිතන්න උත්සාහ ගත්තා. ඒ සඳහාටම අහිමි වුණා කියලා හිතපු ඇගේ ගෞරවය, ඇගේ "ආලෝකය" නැවත ඔහු

ඇයට ගෙනාපු නිසයි. නමුත් ඇයට ඒ වෙනුවෙන් ඔහුට කළගුණ සලකන්නට තිබුණු එකම විදිය වුණේ ඔහු ඇගේ විශේෂත්වය කියලා හිතපු දේ විතරයිඃ ලිංගිකත්වය. ඇයට ප්‍රබෝධමත් වෙන්න තරම් දෙයක් කොපකබානාවල නොතිබුණු නිසා, වෙනත් තැනක ඒක හොයන්න ඇය තීරණය කළා.

ඇය නැවතත් තිල් චිත්‍රපට කිහිපයක් නරඹන්නට ගියා. මිනිස්සු ගොඩක් එකට ඉන්න එක ඇරුණහම ඒවායින් කිසි රසවත් දෙයක් ඇයට හොයාගන්න බැරිවුණා. චිත්‍රපටවලින් කිසිදු උදව්වක් නොලැබෙන තැන, ජිනීවාවලට ආවාට පස්සේ පළවෙනි වතාවට ඇය පොත් ටිකක් ගන්න තීරණය කළා. ඒ වුණත් එක පාරක් කියෙව්වට පස්සේ ප්‍රයෝජනයක් නැති දෙයකින් ඇගේ මහල් නිවස පුරවගන්න එකේ තේරුම ඇයට වැටහුණේ නැහැ. ඇය ගියේ ඇයත් රැල්ෆුත් සැන්තියාගෝවලට යන පාරේ ඇවිදගෙන ගිය දවසේ දැකපු පොත් සාප්පුවකටයි. ඇය එතැනින් ඇහුවා ලිංගිකත්වය ගැන ලියවුණු පොත් තියෙනවද කියලා.

''ආහ්... ගොඩාක් තියෙනවා '' සාප්පුවේ සහකරු කිව්වා. ''ජේන විදිහට ඒක හැමෝම උනන්දු වෙන දෙයක්. මෙතන විශේෂ කොටසක් ඒ විෂය සම්බන්ධයෙන් වෙන්කරල තියෙනවා. ඒත් අනික් හැම නවකථාවක්ම ඔයා අරන් බැලුවොත්, ඒවායේ අඩුම තරමේ එක ලිංගික ජවනිකාවක්වත් තියෙනවා. ඒවා පුංචි ලස්සන ආදර කථා ඇතුලේ හංගලා තිබුණත් ඒක හැමෝම හිතන දෙයක්....''

මරියා ඇගේ සියලු අත්දැකීම් හරහා දැනගෙන හිටියා ඒ ගැහැනිය වැරදියි කියලා. මොකද, මිනිසුන්ට එහෙම හිතන්න වුවමනා වෙලා තියෙන්නෙ ලිංගිකත්වය කියන්නේ හැමෝගෙම එකම වුවමනාව කියලා හිතන නිසයි. ඒ ගොල්ලො ආහාර පාලනය කරනවා, බොරු කොණ්ඩා පාවිච්චි කරනවා, පැය ගණන් කොණ්ඩා සකසන්නෝ ළඟ, ව්‍යායාම කරන තැන්වල ගතකරනවා, ලිංගික ආකර්ෂණයක් තියෙන ඇඳුම් අඳිනවා, හැමෝම උත්සාහ කරන්නේ ඒ උනන්දුව අවදි කරගන්නයි. ඊට පස්සේ මොකද වෙන්නේ? කාත් එක්ක හරි ඇඳට යන්න වෙලාව ආවට පස්සේ මිනිත්තු එකොළහකින් සියල්ල හමාරයි. එතන කිසිම නිර්මාණශීලී දෙයක් සම්බන්ධ වෙන්නේ නැහැ. ඔවුන්ව පාරාදීසයකට ඔසවාගෙන

යන්න කිසිවක්ම ඇත්තේත් නැහැ. ගිනි පුලිඟුවෙන් ඇවිස්සුණු ගින්න ඉක්මනින්ම නිවිලා යනවා.

ඒත් ලෝකය පොත්වලින් තේරුම් ගන්න පුළුවන් කියලා විශ්වාස කරන මේ සුදු ගැහැනිය එක්ක තර්ක කරන එකේ කිසිම තේරුමක් තිබුණේ නැහැ. ඇය කිව්වා ඇයව ඒ විශේෂ කොටසට එක්කරගෙන යන්න කියලා. එතැනදී ඇයට පිරිමි සමලිංගිකයන්, ගැහැනු සමලිංගිකයන්, පල්ලියේ අපචාරවල යෙදුණු බවට අනාවරණය වුණු කන්‍යා සොයුරියන්, රූපසටහන් මඟින් ඉතාමත් අසීරු පෙරදිග ඉරියව් පෙන්නන විවිධ වර්ගයේ පොත් හමුවුණා : පූජනීය ලිංගිකත්වය. අඩුම තරමේ ඒක ටිකක් වෙනස් එකක්.

ඇය ඒ පොත මිල දීලා ගත්තා, ගෙදර ගිහින් ඇයට නිතරම කල්පනා කරන්නට උදව් වුණු ඒ විශේෂ ගුවන් විදුලි සේවාවට කැරකෙව්වා. (මොකද ඒ ගොල්ලො හරිම සන්සුන් සංගීත වාදනය කළා) පොත දිග ඇරලා විවිධ රූපසටහන් නිරීක්ෂණය කළා. ඒවායේ පෙන්නලා තිබුණු ඉරියව්, සර්කස්කාරයකුට විතරක් කරන්න පුළුවන් කියලා හිතෙන තරමේ ඒවා වුණා. ඒ සටහනත් ඒ වගේම නීරස එකක් වුණා.

මරියා ඇගේ වෘත්තීය තුළින් ඉගෙන ගෙන තිබුණා ජීවිතේ හැම දෙයක්ම රමණයේ යෙදෙන කොට පාවිච්චි කරන ඉරියව් පිළිබඳ ප්‍රශ්නයක් නොවෙන බව. ඒ වගේම ඒ හැම විධියක්ම සාමාන්‍යයෙන් සිද්ධවෙන්නේ ස්වභාවිකවයි, නොසිතාමයි, හරියට නැටුමක පියවරවල් වගේ. කොහොම වුණත්, ඇය කියවමින් සිටිය දෙයට අවධානය යොමුකරන්න උත්සාහ කළා.

පැය දෙකකට පස්සේ ඇය නිගමන දෙකකට පැමිණියා.

එක, ඇය රෑ කෑම ගත යුතුයි. මොකද ඇය නැවත කොපකබානා එකට යා යුතුව තිබුණා.

දෙක, මේ පොත ලියලා තිබුණු මනුස්සයා පැහැදිලිවම කිසිම දෙයක් තේරුම් අරගෙන තිබුණේ නැහැ කියන එක. ඇත්ත වශයෙන්ම විෂය ගැන කිසිම දෙයක් තේරුම් අරගෙන තිබුණේ නැහැ කියන එක. ඒක නිකම්ම හිස් න්‍යායයන් ගොඩක් තියෙන, පෙරදිග විකාර, තේරුමක් නැති සිරිත් වගේම මෝඩ යෝජනාවලින් යුතු එකක් වුණා. ඇය නිරීක්ෂණය කළා මේ කතුවරයා හිමාලයේ

භාවනා ක්‍රම ඉගෙනගෙන තියෙන, (ඇය හොයා ගත යුතුයි ඒ කොහෙද කියලා) යෝග පන්තිවලට ගිහින් තියෙන (ඇය ඒ ගැන අහල තිබුණා) ඒ විෂය ගැන නිසැකවම ගොඩාක් කියවලා තියෙනවා වුණත් (මොකද ඇය අනෙක් කතුවරුන්ගෙන් ගොඩාක් උපුටාගෙන තිබුණා) ඇයට අත්‍යවශ්‍ය දේ මොකක්ද කියලා ඉගෙන ගන්න බැරිවෙලා තියෙනවා කියලා. ලිංගිකත්වය කියන්නේ න්‍යායික දේවල්වත්, සුවඳ දුම්වත්, ලිංගික ආශාවන් උපදවන කලාපයන්වත්, ආචාර කිරීම්වත්, සලාම් කීම්වත් නෙමෙයි. කොහොමද ඒ පුද්ගලයා (ගැහැනියක්) මේ ක්ෂේත්‍රයේ වැඩ කරලත් මරියාවත් ගැඹුරින් දන්නේ නැති දේවල් කිසිම බයක් නැතුව ලිව්වේ. සමහරවිට ඒ හිමාලයේ වැරැද්දක් වෙන්න ඇති. එහෙමත් නැත්නම් සරලත්වයත්, දැඩි ආශාවත් තුළ අලංකාර ලෙස ඇති යමක් අවුල් කරන්නට වුවමනා වෙන්නට ඇති. ඒ ගැහැනියට මේ වගේ මෝඩ පොතක් මුද්‍රණය කරල විකුණන්න පුළුවන් වුණා නම්, සමහරවිට ඇයත් නැවත වරක් බැරෑරුම්ව ඇගේම පොත ලිවීම ගැන සිතිය යුතුයි : මිනිත්තු එකොළහක කතාව: ඒක නරුම හෝ වැරදි සහගත එකක් නොවේවි - ඒක ඇගේ කතාව වේවි.

නමුත් ඇයට වෙලාවක්වත්, ඒ ගැන උනන්දුවක්වත් තිබුණේ නැහැ. ඇයට රැල්ෆ් හාට් සංතෝෂ කරන්නටත් ගොවිපොළ පාලනය ගැන ඉගෙන ගන්නටත් ඇගේ සියලු ශක්තිය යෙදීමට අවශ්‍ය වුණා.

මරියාගේ දිනපොතෙන්, නීරස කියවීම අත්හැර දැමූ විගස.

*පිරිමියෙක් මුණ ගැහිලා මම ඔහුත් එක්ක ආදරෙන් බැඳුණා. මම මට ආදරෙන් බැඳෙන්න ඉඩ දුන්නේ එකම එක සරල කාරණයක් නිසයි. ඒ මම ඉන් කිසිම දෙයක් බලාපොරොත්තු නොවන නිසයි. මම දන්නවා තව මාස තුනකට පස්සේ මම ඉන්නේ හුඟාක් දුරින්. එයා මගේ මතකයක් විතරක් වේවි. ඒත් මට තව දුරටත් ආදරය නැතුව ජීවත් වෙන්න අමාරුයි. මම මගේ සීමාවට ළඟාවෙලා ඉවරයි.*

මම රැල්ෆ් හාට් වෙනුවෙන් කථාවක් ලියනවා. ඒ තමයි එයාගෙ නම. මට විශ්වාසයක් නැහැ ඔහු නැවත මම වැඩ කරන කල්බ් එකට එයිද කියලා. ඒත් ජීවිතේ පළවෙනි වතාවට, ඒක විතරක් මට ඇති. මගේ සිතුවිලි තුළ, ඔහුගේ වචන, ඔහුගේ ආදරය විතරක් මට ඇති. මම මේ නගරය හැරදාලා යනකොට රැඳිලා තියෙන්නේ මුහුණකුත්, නමකුත්, ගිනි උදුනක මතකයකුත් විතරයි. මම අත් විඳපු අනික් හැම දෙයක්ම, මැඩපවත්වගන්න සිදුවුණු හැම දුෂ්කරතාවක්ම මේ මතකයත් එක්ක සංසන්දනය කරන්න තරම් දෙයක් නොවේවි.

මට කළා වගේ දෙයක් ඔහුට කරන්න මම කැමතියි. මම ඒ ගැන හුඟාක් හිතමිනුයි හිටියේ. මට දැන් අවබෝධ වෙනවා ඒ කෝපි හලට මම ගියේ අහම්බෙන් නෙමෙයි කියලා. ඉතා වැදගත් හමුවීම්, සිරුරු එකිනෙක දකින්නට බොහෝ කලින්ම, ආත්මයන් විසින් සැලසුම් කරලා තියෙනවා.

සාමාන්‍යයෙන් කියනවා නම්, මේ හමුවීම් සිදුවෙන්නේ අපි සීමාවකට ළංවුණාමයි. හැඟීම්වලින් මැරෙන්න වගේම නැවත ඉපදෙන්න ඕන වුණාමයි. මේ හමුවීම් අපිව බලාපොරොත්තුවෙනුයි ඉන්නේ. නමුත් එහෙම වෙනවට වඩා අපි හැම තිස්සෙම ඒ දේවල් සිද්ධවෙන එක වළක්වනවා. අපි අපේක්ෂාභංගත්වයට පත්වුණොත්, අපිට අහිමිවෙන්න කිසිම දෙයක් නැතිවුණොත්, එහෙමත් නැත්නම් ජීවිතය ගැන උද්යෝගයකින් පිරුණු මොහොතක ඒ අපි නොදන්න දේ එළියට එනවා. එතකොට අපේ විශ්වය ගමන් කරන දිශාව වෙනස් කරනවා.

හැමෝම දන්නවා කොහොමද ආදරය කරන්නේ කියලා. මොකද අපි හැමෝම ඉපදිලා තියෙන්නේ ඒ හැකියාවත් එක්කයි. සමහර මිනිස්සුන්ට ඒ සඳහා ස්වභාවික හැකියාවක් තියෙනවා. ඒත් අපි බොහෝ දෙනෙක්ට ඒක නැවත ඉගෙන ගන්න, ආදරය කරන්නේ කොහොමද කියලා මතක් කරගන්න අවශ්‍ය වෙනවා. සියල්ලෝම කිසිදු වෙනස්කමකින් තොරව ප්‍රීතිය සහ කන ගාටුදායක දේවල් වගේම ජීවිතයේ සමහර ජයග්‍රහණ සහ කඩා වැටීම් නැවත විඳින්නට මේ හැම අලුත් අහඹු හමුවීමකට සම්බන්ධ කරන්නට පිටුපසින් තිබෙන භූය දැකගන්න ලැබෙනකම්ම ඒ අයට ඒ පැරණි මතකයන් අලුත් එළිමහන් ගිනි මැලයක දැවිය යුතු

වෙනවා. මොකද අලුත් හමුවීමක පැරණි හමුවීමකට සම්බන්ධ කරන හුයක් තියෙනවා!

ඉතිං ඊට පස්සේ, අපේ ශරීර ලිංගිකත්වය කියලා අපි දන්න ආත්මීය භාෂාව කථා කරන්න ඉගෙන ගන්නවා. මගේ ජීවිතයට ඔහු කොයිතරම් වැදගත්ද කියන එක ඔහු නොදන්නවා වුණත් මගේ ආත්මය මට නැවත ගෙනත් දීපු ඒ මනුස්සයාට මට දෙන්නට පුළුවන් දේ එයයි. ඒක තමයි ඔහු මගෙන් අහපු දේ, සහ, ඒක තමයි ඔහුට ලැබෙන දේ. මට ඕන ඔහුව ගොඩාක් සංතෝෂ කරන්නයි.

# 20

සමහර වෙලාවට ජීවිතේ හරිම අකාරුණිකයි. මිනිහෙක් අලුත් හැඟීමකින් තොරව දවස් ගාණක්, සති ගාණක්, මාස ගාණක් වගේම අවුරුදු ගාණක් ගත කරන්න පුළුවන්. ඊළඟට දොරක් ඇරිලා - හරියට මරියාට රැල්ෆ් හාට් මුණ ගැහෙද්දි සිද්ධ වුණා වගේ සුඛවාදී යමක් හදිසියේ කඩා වැටෙනවා. එක් මොහොතකදී කිසිවක්ම නැතුව හිටි ඔබට ඊළඟ මොහොතේදී සාර්ථකව මුහුණ දෙන්න බැරි තරම් දේවල් ලැබෙනවා.

පැය දෙකක් ඇගේ දිනපොත ලියලා ඇය වැඩ කරන තැනට ආපහු පැමිණියාට පස්සේ, මිලාන් අයිතිකාරයා ඇය හොයාගෙන ආව.

''එහෙනං ඔයා අර චිත්‍ර ශිල්පියත් එක්ක ගියා. එහෙම නේද?''

රැල්ෆ්ව සහතිකවම සමාජ ශාලාවෙන් දැනගෙන හිටියා. ඇයට එය අවබෝධ වුණේ ගාණ අහන්නෙවත් නැතුව ඔහු ගනුදෙනුකාරයෝ තුන්දෙනකුගේම මුදල් ගෙවපු වෙලාවෙදියි. මරියා යන්තමින් හිස සලලා ගුප්ත විදියට හැසිරෙන්න උත්සාහ කළත් මිලාන් ඒක සැලකිල්ලට ගත්තේ නැහැ. ඔහු මේ ජීවිතය ගැන ඇයට වඩා හොඳින් දැනගෙන හිටියා.

''සමහරවිට ඔයා ඊළඟ පියවරට සූදානම් ඇති. ඔයා ගැන නිතරම අහපු අපේ තව විශේෂ ගනුදෙනුකාරයෙක් ඉන්නවා. මං එයාට කිව්වා ඔයාට තාම එච්චර පළපුරුද්දක් නැහැයි කියලා. ඉතින් එයා මාව විශ්වාස කළා. ඒත් සමහරවිට මේ වෙලාව ඒක උත්සාහ කරලා බලන්න හොඳ වේවි.

''විශේෂ ගනුදෙනුකාරයෙක්?''

''මොකක්ද මේකට චිත්‍ර ශිල්පියත් එක්ක තියෙන සම්බන්ධය?''

''එයත් විශේෂ ගනුදෙනුකාරයෙක්.''

ඉතින් ඇය රැල්ෆ් හාට් එක්ක කළ සියල්ල ඇගේ සගයෙක් දැනටමත් කරලා තියෙනවා. ඇය යන්තමින් තොල සපා කිසිවක් නොකියා සිටියා. ඇය සුන්දර සති අන්තයක් ගෙවලා තිබුණා. ඒ වගේම ඇය අමතක නොකළ යුතුයි ඇය ලියූ දේවල්.

''එයත් එක්ක කරපු දේවල්ම මම කරන්න ඕනද? ''

''මම දන්නේ නැහැ ඔයා මොනවද කළේ කියලා. ඒත් අද රෑ කවුරු හරි ඔයාට බීමක් පිළිගන්නන්න හැදුවොත් එපා කියන්න. විශේෂ ගනුදෙනුකාරයො වැඩිපුර ගෙවනවා. ඔයාට ඒ ගැන පසුතැවෙන්න දෙයක් නැහැ.''

හැමදාම වගේම වැඩ පටන් ගත්තා. තායි ගැහැනු ඔක්කොම එකට වාඩිවුණා. කොළොම්බියානුවෝ ඒ ගොල්ලන්ගේ සාමාන්‍ය විදිය වෙච්ච හැමදේම දන්නවා කියන ගතිය මවා ගත්තා. බ්‍රසීලියානුවන් තුන්දෙනා (ඇයත් ඇතුළුව) හරියට කවදාවත් ඒ ගොල්ලන්ව කිසිම දෙයකින් පුදුම කළේ හරි සතුටු කළේ හරි නැහැ වගේ ඔහේ බලාගෙන හිටිය. මේ අය ඇරුණාම පස්සේ තවත් ඔස්ට්‍රියානුවකුයි, ජර්මානුවන් දෙන්නකුයි හිටියා. අනික් හැමෝම උස, රූමත්, ළා පාට ඇස් තියෙන පැරණි නැගෙනහිර සමූහාණ්ඩු රටවල්වලින් ආපු අයයි. ඒ ගොල්ලො නිතරම වගේ අනික් අයට වඩා බොහොම ඉක්මනින් ස්වාමි පුරුෂයො හොයාගන්න එක පේන්න තිබුණා.

පිරිමිත් එන්නට පටන් ගත්තා - ඒ හැමෝම ලෝකයේ මිල අධිකම නගරයක, මිල අධිකම ගණිකාවන්ගේ සේවය සපයන්නට බොහෝම හොඳින් හැකිවෙච්ච, රුසියානු, ස්විස්, ජර්මානු කාර්යබහුල විධායක ශ්‍රේණියේ අයයි. සමහරු ඇගේ මේසයට ආවා. ඒත් ඇය මිලාන් දිහාවට දැස් හරවගෙන හිටියා. මිලාන් හිස සැලුවා. මරියා සතුටු වුණා. අද රෑ ඇයට දෙපා ඈත් කරගෙන ඉන්නට සිදු නොවේවි. ගඳ, සුවඳ ඉවසගෙන ඉන්නවත්, සමහර වෙලාවට සීතල නාන කාමර ඇතුලේ නාන්නටත් සිදු නොවේවි. ඇයට කරන්නට තිබුණේ ලිංගිකත්වය ගැන, වැඩුණු වෙහෙසට

පත්වීමක් තිබුණු පිරිමියකුට ආදරණීය ආලිංගනයක යෙදෙන හැටි කියා දෙන්න විතරයි. ඇය ඒ ගැන හිතා බලපුවාම ඇයට හිතුණා හැම ගැහැනියෙක්ම තෑගි හුවමාරු කරගන්නවා වගේ කථාවකට එන තරම් නිර්මාණශීලී නැහැයි කියලා.

මේ අතරම ඇය පුදුමයට පත්වුණා. ඇයි මේ හැම දෙයක්ම අත්විඳලත් මේ මිනිස්සු නැවතත් පටන් ගත්තු තැනටම එන්නෙ කියලා. මේ ඇය අවධානය යොමු කරන්න ඕනවුණු කාරණාවක් නෙමෙයි. ඒ ගොල්ලෝ ඇයට හොඳින් ගෙවන කං ඇය එතන හිටියේ ඒ අයට සේවය කරන්නයි.

රැල්ෆ් හාට්ට වඩා තරුණ පෙනුමෙන් යුතු අයෙක් එතැනට පැමිණියා. ඔහු කඩවසම්, කළුවන් හිසකෙස් හා ලස්සන දත් ඇති මාඕ ජැකට්ටුවක් වැනි ජැකට්ටුවක් ඇඳපු කෙනෙක්. ඔහු ටයි පටියක් නොපැළඳ හිටිය අතර උස් කොලරයෙන් යුතු නොකිළිටි සුදු කමිසයක් ඇඳගෙන හිටියා. ඔහු කෙළින්ම කවුන්ටරය වෙත ගියා. එහිදී ඔහුත් මිලානුත් මරියා දෙස හැරී බැලුවා. අනතුරුව ඇයට ළංවුණා.

''ඔයා මොනව හරි බොන්න කැමතිද? ''

ඇය දැක්කා මිලාන් ඔව් කියන්න කියලා හිසෙන් සංඥා කරනවා. ඉතින් ඇය ඒ පුද්ගලයාට ආරාධනා කළා ඇගේ මේසයෙන් වාඩිවෙන්න කියලා. ඇය පලතුරු යූෂ කොක්ටේලයක් ඇණවුම් කරලා ඔහු නැටුමට ආරාධනා කරනකම් හිටියා. ඊළඟට ඒ මනුස්සයා ඔහුව හඳුන්වලා දුන්නා.

''මගේ නම ටෙරන්ස්. මම වැඩ කරන්නේ එංගලන්තෙ තියෙන රෙකෝඩ් කොම්පැණියකට. මං අනුමාන කරනවා මම ඉන්නේ මට විශ්වාස කරන්න පුළුවන් මිනිස්සු ඉන්න තැනක කියලා. ඒ හින්දා මම මේක ඔයයි මමයි අතර විතරක් තියෙයි කියලා හිතනවා.''

මරියා බ්‍රසීලය ගැන කථා කරන්න සැරසුණා විතරයි. ඔහු ඇයට බාධා කළා.

''මිලාන් කිව්වා මට ඕන කරන දේ ඔයාට තේරෙනවා කියලා''

"ඔයාට මොනවද වුවමනා කියලා මට කිසිම අදහසක් නැහැ. ඒත් මම දන්නවා මගේ රාජකාරිය. "

ඔවුන් සාමාන්‍ය පිළිවෙළ අනුගමනය කළේ නැහැ. ඔහු බිල ගෙවලා දාලා ඇගේ අත අල්ලාගෙන ටැක්සියකට ගොඩ වැදුණා. එතැනදී ඔහු ඇයට ෆ්‍රෑන්ක් දාහක් දුන්නා. මොහොතකට ඇයට ප්‍රසිද්ධ චිත්‍ර පිරුණු අවන්හලට ඇයත් සමඟ ගිය අරාබිකාරයාව මතක් වුණා. ඒ ඇයට එවැනි මුදල් ප්‍රමාණයක් ලැබුණු පළමු වතාවයි. ඉතිං ඒක ඇයට සතුටක් ගේනවා වෙනුවට ඇයව කැළඹීමට පත්කළා.

ටැක්සිය නගරයේ තිබුණු මිල අධිකම හෝටලයක් ඉදිරිපිට නැවතුණා. මේ මනුස්සයා බඩු ඔසවාගෙන යන්නාට ආචාර කළා. ඒ වගේම ඔහු මේ තැනට හොඳින් හුරු පුරුදු විධියකුත් පේන්න තිබුණා. ඔවුන් කෙළින්ම ඔහුගේ කාමරයට ගියා. හෝටල් කාමර පේළිය තිබුණේ ගඟ පේන විදියටයි. ඔහු වයින් බෝතලයක් විවෘත කරලා - ගොඩක් වෙලාවට ඉස්තරම් වයින් වර්ගයක් වෙන්න පුළුවන් - ඇයට වීදුරුවක් පිරිනැමුවා.

ඔහු වයින් බොන අතරෙදි මරියා ඔහුව නැරඹුවා. මොනවද ඔහු වගේ පොහොසත්, කඩවසම් කෙනකුට ගණිකාවකගෙන් වුවමනා? ඔහු යන්තමින් කථා කරපු හින්දා ඇය බොහෝ සෙයින් නිහඬව විශේෂ ගනුදෙනුකාරයාව සතුටු කරන්න පුළුවන් දෙයක් අවබෝධ කරගන්න උත්සාහ කරමින් හිටිය. ඇය දැන සිටියා පළමු පියවර ඇය නොගත යුතුයි කියලාත්, ඒත් ක්‍රියාවලිය පටන් ගත්තාට පස්සේ ඉතා ඉක්මනින් ඔහුගේ විදිය අනුගමනය කරන්න පුළුවන් වෙන්න ඕනෙ කියලාත්. මේ හැම දේකටම පස්සේ හැම රාත්‍රියකම ඇය ෆ්‍රෑන්ක් දාහක් හම්බුකළේ නැහැ.

"අපිට ඕනෑ තරම් වෙලාව තියෙනවා." ටෙරන්ස් කිව්වා. "මුළු ලෝකෙම තියෙන වෙලාව තියෙනවා. ඔයා කැමති නම් ඔයාට මෙහෙ නිදාගන්න පුළුවන් "

ඇගේ අනාරක්ෂිතභාවයේ හැඟීම් නැවත මතුපිටට පැමිණියා. මේ මනුස්සයා බය ගන්වලා පොළොඹවා ගන්නට පොඩ්ඩක්වත් උත්සාහ කරපු බවක් පෙනුණේ නැහැ. ඇගේ අනෙක් ගනුදෙනුකාරයො වගේ නෙමෙයි, ඔහු කතා කළෙත් බොහොම

සන්සුන්වයි. ඔහුට අවශ්‍ය මොනවද කියලා ඔහු දැනගෙන හිටියා. ඔහු නියම සංගීත බණ්ඩයක් නියම ශබ්දයකින් නියම කාමරයකදී නියම කවුළුවකින් නියම නගරයක වැවක් පෙනෙද්දී වාදනය කිරීමට සැලසුවා. ඔහුගේ ඇඳුම හොඳට මහලා තිබුණා. ඔහුගේ සූට්කේසය එතැන කොණක තබා තිබුණා. ඒක හුඟක් කුඩා එකක්. හරියට ඔහු හැමතිස්සෙම බොහොම සැහැල්ලුවෙන් සංචාරය කරනවා වගේ, එහෙමත් නැත්නම් හරියට ජිනීවාවලට ආවේ ඒ රාත්‍රියට විතරයි වගේ.

''මම ගෙදර ගිහින් නිදා ගන්නං'' මරියා කිව්වා.

ඇය ඉස්සරහින් හිටපු මනුස්සයා සම්පූර්ණයෙන්ම වෙනස් වුණා. මෙතෙක් මහත්මා පෙනුමෙන් යුත් ඔහුගේ ඇස් තරහෙන් දිලිසුණා.

''අතනින් ඉඳගන්නවා'' මේසයක් සමඟ තිබුණු පුටුවක් පෙන්වමින් ඔහු කිව්වා.

ඒක අණ කිරීමක්! හැබෑ අණ කිරීමක්. මරියා එයට කීකරු වුණා වගේම ඇයට පුදුම තරම් බියක්ද දැනුණා.

''හරියට ඉඳගන්නවා, කොන්ද කෙළින් තියාගන්නවා, හරියට නෝනා කෙනෙක් වගේ. එහෙම නැත්නම් මම තමුසෙට දඬුවම් කරනවා.''

ඇයට දඬුවම් කරන්න. විශේෂ ගනුදෙනුකාරයා.

ක්ෂණයෙන් ඇයට සියල්ල වැටහුණා. ඇගේ බෑගයෙන් ෆ්‍රෑන්ක් දහස එළියට අරගෙන එය මේසය මතට දැම්මා.

''මම දන්නවා ඔයාට මොනවද ඕනෙ කියලා'' ඒ සීතල නිල් ඇස්වලට එබීගෙන ඇය කිව්වා. ''මම ඒක කරන්නේ නැහැ.''

ඒ මනුස්සයා නැවතත් සාමාන්‍ය ස්වරූපයට පැමිණියා. ඒ වගේම ඔහුට දකින්න පුළුවන්කම ලැබුණා ඇය ඇත්ත කියනවා කියලා.

''වයින් ටිකක් බොන්න'' ඔහු කිව්වා. ''මම ඔයාට කිසි දෙයක් කරන්න කියලා බල කරන්නේ නැහැ. එක්කෝ ඔයා කැමති නම් තව ටික වෙලාවක් ඉන්න පුළුවන්. නැත්නම් ඔයාට යන්නත් පුළුවන් ''

එය ඇයට සහනයක් ගෙනාවා.

''මට රස්සාවක් තියෙනවා. මට හාම්පුතෙක් ඉන්නවා. මාව ආරක්ෂා කරන, මාව විශ්වාස කරන. ඔයා එයාට මුකුත් නොකිව්වොත් මම ඔයාට ස්තුතිවන්ත වෙනවා.''

මරියා ඒක කිව්වේ කිසිදු ආයාචනාත්මක ඉඟියක් හරි තමා ගැන අනුකම්පාව දනවන හඬකින් හරි නෙමෙයි. එහෙම තමයි දේවල් සිද්ධ වෙන්නේ.

ටෙරන්ස් තමයි නැවත වාරයක් ඇයට මුලින්ම මුණ ගැහුණු මෘදු හෝ දැඩි නොවන ඔහුට අවශ්‍ය මොනවාදැයි හොඳින් දැනගෙන හිටි කෙනා. ඔහු ඇගේ අනෙක් ගනුදෙනුකාරයෝ වගේ වුණේ නැහැ. ඔහු රහසේ ආරම්භවී තිබුණු නාට්‍යයක ආවේශයකින් මතුවූ කෙනෙක් ලෙස පෙනුණා.

දැන් මෙතනින් පිටවෙලා ගිහින් මේ 'විශේෂ ගනුදෙනුකාරයා' ගැන සත්‍යය කවදාවත් දැන නොගන්න එක කරන්න සුදුසු එකක්ද?

''මොකක්ද ඔයාට හරියටම ඕන කරන්නේ?''

''ඔයා දන්නව මට ඕන දේ. වේදනාව. විඳවීම. ඒ වගේම දැඩි සතුට.''

* * *

''වේදනාවත්, විඳවීමත් සාමාන්‍යයෙන් සතුටත් එක්ක ගැළපෙන්නේ නැහැ'' මරියා හිතුවා. ඒක එහෙම ගැළපෙනවා යැයි විශ්වාස කරන්නට ඇයට අවශ්‍ය වුණා. ඒ වගේම ඒ අනුව ඇගේ ජීවිතයේ අසුබ අත්දැකීම් අතරින් සුබවාදී යමක් ලබා ගන්නටත් අවශ්‍ය වුණා.

ඔහු ඇගේ අතින් අල්ලාගෙන ඇයව ජනේලය දෙසට රැගෙන ගියා. වැවේ අනෙක් පැත්තට වෙන්න ඔවුන්ට දිස්වුණේ ප්‍රධාන දේවස්ථාන කුළුනයි. මරියාට රැල්ෆ් හාට් සමඟ සැන්තියාගෝවලට යන පාරේ ගමන් කරද්දී එය පසුකර ගිය බව සිහිවුණා.

''ඔයාට ගඟ, වැව, ගෙවල්, පල්ලිය පේනවද? හරි, අවුරුදු පන්සීයකට කලිනුත් මේ ඔක්කොම බොහෝ දුරට මේ විදියටමයි

තිබුණේ. වෙනසකට තිබුණේ මේ නගරය අත්හැරලා දාලා තිබුණු එක විතරයි. අමුතු රෝගයක් මුළු යුරෝපය පුරාම පැතිරිලා ගියා. ඉතින් කිසි කෙනෙක් දැනගෙන හිටියේ නැහැ ඇයි මිනිස්සු මැරෙන්නේ කියලා. ඒ ගොල්ලො මේ රෝගය අඳුරු මරණය - මිනිසුන්ගේ පාපය නිසා දෙවියො එවපු එකක් කියල නම් කළා.''

''ඉතින් මිනිස්සු කණ්ඩායමක් මනුෂ්‍යත්වයේ නාමයෙන් තමුන්ගේ ජීවිත පරිත්‍යාග කරන්න තීරණය කළා. ඒ ගොල්ලො හුඟක්ම බය දේ වෙනුවෙන් ඉදිරිපත් වුණා : ශාරීරික වේදනාව. ඒ අය දිවා රෑ මේ පාලම් හරහාත්, මේ වීදි දිගේත් දම්වැල්වලින්, කසවලින් තමන්ගේම ශරීරයට පහර දෙමින් ඇවිදින්නට පටන් ගත්තා. ඒ ගොල්ලො දෙවියන්ගේ නාමයෙන් වේදනාව විඳවමින් වේදනාව තුළින් දෙවියන්ට ප්‍රශංසා කළා. ඉක්මනින්ම ඒ අයට තේරුණා පාන් පුළුස්සනවට, කුඹුරුවල වැඩ කරනවට, තමන්ගේ සත්තුන්ට කෑම දෙනවට වඩා මේ දේ කරන එකෙන් ඒ ගොල්ලො සතුටු වෙනව කියල. වේදනාව තව දුරටත් විඳවීමක් වුණේ නැහැ. ඒ වෙනුවට ඒක සතුටට කාරණයක් වුණා. මොකද ඒ ගොල්ලො මනුෂ්‍යයාව පාපෙන් ගලවා ගනිමින් හිටි නිසා. වේදනාව සතුටක් වුණා. ජීවිතේ අර්ථය සතුට වුණා.''

ඔහුගේ ඇස් නැවතත් මලානික වුණා. ඔහු ඇය මේසය උඩට දාපු මුදල් රැගෙන එයින් ෆ්‍රෑන්ක් එකසිය පනහක් වෙන්කරල ඉතිරි සියල්ල ඇගේ බෑගයට දැම්මා.

''ඔයාගේ ලොක්ක ගැන බයවෙන්න එපා. මෙන්න එයාගේ කොමිස් එක. ඒ වගේම මම ඔයාට පොරොන්දු වෙනව මේ ගැන මුකුත්ම කියන්නේ නැහැ කියල. ඔයාට දැන් යන්න පුළුවන්.''

ඇය මුදල් ආපසු ඩැහැ ගත්ත.

''එපා ''

ඒ වයින්, අවන්හලේ හිටපු අරාබිකාරයා, දුක්බර සිනාවකින් සිටිය ගැහැනිය, මේ වගේ කාලකණ්ණි තැනකට ආපහු නොඑනවා කියන අදහස, මනුස්සයෙකුගේ ස්වරූපයෙන් ඇය වෙත පැමිණෙන නැවුම් ආදරයකට තිබෙන බිය, රැකියා අවස්ථාවලින් පිරුණු ඇගේ චමත්කාරජනක ලෝකය ගැන සඳහන් කරමින් ඇගේ මවට යවන ලියුම්, කුඩා කලදී ඇගෙන් පැන්සලක් ඉල්ලා හිටපු පිරිමි ළමයා,

ඇත් සමඟම තිබුණු ඇගේ අරගල, වැරදිකාරී හැඟීම, කුතුහලය, මුදල්, ඇගේම සීමාවන් සොයායෑම, ඇයට මඟහැරී ගිය සියලුම අවස්ථා සහ ඉඩ ප්‍රස්ථා වුණා. තවත් මරියා කෙනෙක් එතැන හිටියා : ඇය තව දුරටත් තෑගි පිළිගන්වමින් හිටියේ නැහැ. ඇය ඇයවම පරිත්‍යාග කරමින් සිටිය.

''මම තව දුරටත් බය නැහැ. අපි මේක දිගටම ගෙනියමු. අවශ්‍ය නම්, ඔයාට මගේ මුරණ්ඩුකමට දඬුවම් කරන්න පුළුවන්. මම මට ආදරය කරපු, මාව රැකබලා ගත්තු මනුස්සයව පාවලා දුන්නා, බොරු කළා, අපහාස කළා.''

ඇය ක්‍රීඩාවේ හරය තුළට ඇතුළුවෙමින් තිබුණා. ඇය හරිම දේ කියමින් හිටියා.

''දණ ගහපං'' ටෙරන්ස් තිවුණු පහත් ස්වරයකින් කිව්වා.

මරියා ඒකට කීකරු වුණා. ඇය කවදාවත් මේ වගේ සැලකීමක් ලබලා තිබුණේ නැහැ. ඒ වගේම ඇය දැන හිටියේ නැහැ ඒක හොඳද නරකද කියලත්. ඇයට අවශ්‍ය වුණු එකම දේ වුණේ මේක ඉදිරියට කරගෙන යන්නයි. ඇය ජීවිතේ පුරාම සිදුකරපු සියලු දේට අපහාස විඳිය යුතු වුණා. ඇය භූමිකාවකට ඇතුළුවෙමින් හිටිය. වෙනස් පුද්ගලයෙක් බවට පත්වෙමින් හිටියා. ඇය කිසිම විදියකට දන්නේ නැති ගැහැනියක් බවට පත්වෙමින් හිටියා.

''උඹට දඬුවම් ලැබෙන්නේ උඹ කිසිම වැදගැම්මකට නැති කෙනෙක් හින්දයි. උඹ කිසිම සිරිතක් දන්නේ නැති, ලිංගිකත්වය, ජීවිතය, ආදරය ගැන කිසිම දෙයක් දන්නේ නැති හින්දයි. ''

ඔහු කථා කරන අතර, ටෙරන්ස් වෙනස්ම මිනිස්සු දෙන්නෙක් බවට පත්වුණා. එක්කෙනෙක් ඇයට තිවුණු විදියට සියලු පිළිවෙළ කියාදීපු අතර අනෙක් මනුස්සයා ඇයව ලෝකයේ ඉන්න අසරණම පුද්ගලයා බවට පත්කළා.

''ඔයා දන්නවද ඇයි මං මේක කරන්නේ කියල? ඒ මොකද කෙනෙක්ව නොදන්න ලෝකයකට ඇතුල් කරගන්නවා වගේ විශාල සතුටක් තවත් නැහැ. කෙනෙකුගේ කන්‍යාභාවය අරගන්න එක ශාරීරික කන්‍යාභාවය නෙමෙයි. ඒ ගොල්ලන්ගේ ආත්මයේ කන්‍යාභාවය. ඔයාට තේරුණාද?''

ඇයට තේරුණා.

''අද ඔයාට පුළුවන් ප්‍රශ්න අහන්න. ඒත් ඊළඟ වතාවේ රඟහලේ තිරය ඇරුණහම නාට්‍යය පටන් ගන්නවා. ඒක නවත්තන්න බැරි වෙයි. ඒක නැවතුණොත් නවතින්නේ අපේ ආත්මයන් එකට එකක් නොගැළපෙන හින්දයි. මතක තියාගන්න මේක නාට්‍යයක්. ඔයා කිසිම දවසක ඔයාට ධෛර්යයක් නොතිබුණු පුද්ගලයා වෙන්න ඕන. ටිකෙන් ටික ඒ පුද්ගලයා ඔයා කියලා ඔයා හොයා ගනීවි. ඒත් ඔයාට ඒක පැහැදිලිව පේනකං ඔයා ඒ බව දැනගත්තු විදියට අඟවන්න ඕනෙ. මවාගන්න ඕන.

''මට වේදනාව දරාගන්න බැරි වුණොත්?''

''මෙතන කිසිම වේදනාවක් නැහැ. තියෙන්නේ සතුටට, ගුප්ත දෙයකට හැරුණු එකක් විතරයි. නාට්‍යයේ කොටස්වලදී වගේ මෙහෙම කියනවා. ''මට මේ විදියට සලකන්න එපා. ඔයා ඇත්තටම මට රිද්දනවා.'' ඒ වගේම ''නවත්තන්න, මට තව දුරටත් දරා ගන්න බැහැ'' අනතුර මඟ හරින්න නම්...'' ඔහු එතනින් වාක්‍යය අවසන් කරලා මෙහෙම කිව්වා.'' ඔළුව පල්ලෙහාට දාගනිං. මගේ දිහා බලන්න එපා.''

මරියා දණ ගසාගෙන, හිස පහත හෙළාගෙන බිම බලාගෙන හිටියා.

''.... මේ සම්බන්ධතාවයෙන් සිද්ධවෙන ඕනෑම ශාරීරික හානියකින් මිදෙන්නට නම් අපිට සංකේත නම් දෙකක් තියෙනවා. අපි දෙන්නගෙන් එක් කෙනෙක් ''කහ'' කියලා කිව්වොත්, ඒ කියන්නේ වද දෙන එක පොඩ්ඩක් අඩු කරන්න කියන එක. අපි කව්රු හරි ''රතු'' කිව්වොත් ඒකෙ අදහස තමයි ඒ මොහොතෙම ඒ දේ නවත්තන්න ඕන කියන එක.''

''ඔයා කිව්වේ '' අපි දෙන්නගෙන් එක්කෙනෙක් ''...''

''අපි පැති මාරුකර ගන්නවා. කෙනකුට තවත් කෙනෙක් නැතුව පැවැත්මක් නැහැ. කාටවත් තව කෙනෙක්ව අපහාසයට පත් කරන්නේ කොහොමද කියලා දැනගන්න පුළුවන්කමක් නැහැ, ඒ අයම ඒක අත්විඳින්නේ නැතුව.''

මේ වචන ඇය කවදාවත් දැන නොසිටි අඳුරු සෙවණැලිවලින් වැසුණු සෙවෙලවලින් යුත් කුණුවුණු ලෝකයකින් ආපු භයානක වචන වුණා. කොහොම වුණත් ඇයට ඉදිරියට

යන්න අවශ්‍ය වුණා. - ඇගේ සිරුර බියෙන් හා තැතිගැන්මෙන් වෙව්ලන්න පටන් ගත්තා.

ටෙරන්ස් ඔහුගේ අත ඇගේ හිස මත නොසිතූ විරූ මෘදු බවකින් තැබුවා.

''එච්චරයි''

ඔහු ඇයට නැගිටින්න කියලා විශේෂ කරුණාවකින් නොවුණත් කලින් පෙන්නපු රළු ආක්‍රමණශීලී ස්වරූපයෙන් තොරව කිව්වා. තවමත් ගැහෙමින්ම මරියා ජැකට්ටුව දමා ගත්තා. ඇය සිටි තත්වය ටෙරන්ස් දැක්කා.

''යන්න කලින් සිගරට් එකක් බොන්න.''

''මුකුත් වුණේ නැහැ.''

''එහෙම වෙන්න වුවමනා නැහැ. ඒක ඔයාගේ ආත්මය ඇතුළෙන්ම සිදුවෙන්න පටන් ගනීවි. ඊළඟ පාර අපි මුණ ගැහෙන කොට ඔයා සූදානම් වෙලා ඉඳියි.''

''අද රෑ ෆෘන්ක් දාහක වටිනාකමක් තිබුණද?''

ඔහු පිළිතුරු දුන්නේ නැහැ. නියම සංගීතයට ඇහුම්කන් දෙමින්, නිහඬතාවයේ සුවිශේෂී රසය විඳගනිමින්, ඔහු සිගරට්ටුවක් දල්වාගෙන දෙදෙනාම වයින් බෝතලය අවසන් කළා. යමක් කීමට මොහොත එළැඹි විට මරියා ඇගේම වචනවලින් පුදුමයට පත්වුණා.

''මට තේරුම් ගන්න බැහැ, ඇයි මම මේ වගේ මඩ ගොහොරුවකට අඩිය තියන්න යන්නේ කියලා.''

''ෆෘන්ක් දාහක් හින්දා...''

''නැහැ. ඒක නෙමෙයි හේතුව''

ටෙරන්ස් ඒ පිළිතුරෙන් සංතෝෂ වුණු බවක් පේන්න තිබුණා.

''මමත් ඔය ප්‍රශ්නය මගෙන්ම අහල තියෙනවා. මාර්කී ද සේඩ් කියල තියෙනවා මිනිහෙකුට ලබන්න පුළුවන් ඉහළම, වැදගත්ම අද්දැකීම තමයි ඔහුව උපරිම සීමාවකට කැඳවාගෙන යන හැඟීම්ය කියන එක. ඒක තමයි අපිට ඉගෙන ගන්න තියෙන එකම විදිය. මොකද ඒකට අපිට අපේ සියලුම ධෛර්යය ඕන වෙනවා. හාම්පුතෙක් සේවකයෙක්ට අපහාස කරද්දී, නැත්නම්, පිරිමියෙක් තමන්ගේ බිරිඳට අපහාස කරද්දී එයා එක්කෝ ජීවිතෙන්

හැංගිලා නැත්නම් ජීවිතෙන් පළිගන්නවා. ඒ අය කවදාවත් ඒ ගොල්ලන්ගේ ආත්මයේ පතුළටම කිඳා බැහැලා බලන්න ධෛර්යයක් නොතිබෙන අයයි. තමන්ගේ ඇතුළෙ ඉන්න වල් සත්වයාව මුදා හරින්න, ආශාවේ හටගැනීම ගැන අවබෝධ කරගන්න උත්සාහ නොකරපු අයයි. එහෙමත් නැත්තම් ලිංගිකත්වය, වේදනාව, ආදරය කියන ඒවා අනන්තයටම ගෙනයන අද්දැකීම් කියලා තේරුම් ගන්න බැරිවුණු අයයි.''

''ඒ සීමාවන් අවබෝධ කරගත්තු අය විතරයි ජීවිතය ගැන දන්නේ. අනිත් හැමදේම කාලය කාල දාන දේවල් විතරයි. එකම දේ තවත් පාරක් කරනවා. වයසට ගිහින් මැරෙන්නෙ අපි මොකක්ද කරන්නේ කියන එක කවදාවත් හොයාගන්න බැරුවයි.''

නැවතත් ඒ මාර්ගයේ, ඒ සීතලේ, ඇවිදින්න තිබුණු කැමැත්තත් සමඟ. ඒ මනුස්සයා වැරදියි. දෙවියන් සොයාගන්න තමා තුළ සිටින යක්ෂයන් හඳුනාගන්න එක එච්චර වැදගත් නැහැ. තැබෑරුමකින් එළියට එමින් හිටපු ශිෂ්‍යයන් පිරිසක් ඇය පසුකළා. ඒ සියල්ලන්ම සතුටෙන් මෙන්ම යාන්තමට මත්වීද හිටියා. ඒ සියලු දෙනාම කඩවසම් වගේම සෞඛ්‍ය සම්පන්න බවින් යුක්ත වුණු අයයි. ළඟදීම ඒ ගොල්ලො විශ්වවිද්‍යාල ජීවිතය අවසන් කරලා ''සැබෑ ජීවිතය'' කියලා මිනිස්සු කියන දේ ආරම්භ කරාවි. වැඩ, විවාහය, දරුවෝ, රූපවාහිනිය, කටුකත්වය, වයසට යාම, බොහෝදේ අහිමි බව හැඟීම, අසහනයන්, රෝගී බව, නොහැකියාව, අනෙක් අය මත යැපීම, හුදෙකලාව, මරණය.

මොනවද මේ වෙමින් තිබුණේ ? ඇයත් සොයමින් හිටියේ ඇගේ ''සැබෑ ජීවිතය'' ගත කරන්නට අවශ්‍ය වුණු සැනසිල්ලයි. ඇය සිහිනෙන්වත් කරන්නට නොසිතූ දෙයක් කරමින් ස්විට්සර්ලන්තයේ ගත කළ කාලය බොහෝ අසීරු දෙයක් පමණක් වුණා. මේ දුෂ්කර කාලයේදී ඇය කොපකබානාවල කාර්ය බහුල වුණා. සල්ලිවලට පිරිමින් එක්ක ගියා. ගනුදෙනුකාරයාට අනුව අහිංසක ගැහැනු ළමයෙකුගේත්, විනාශකාරී ගැහැනියකගේ, අවබෝධයෙන් යුත් මවකගේත් භූමිකාව රඟපෑවා. නමුත් ඇය ඒ දේ කළේ සම්පූර්ණ වෘත්තීයමය තත්ත්වයෙන් යුත් රැකියාවක් හැටියටයි. - සන්තෝසම් මුදලේ නාමයෙන් - අඩු කැමැත්තෙන් - ඇය එයට හුරුවේ යැයි බියෙනුයි. ඇය පසුගිය මාස නවයක

කාලය ගත කළේ ඇය වටා ඇති ලෝකය පාලනය කරමින්. ඒ වගේම නැවත ඇගේ රටට යන්න කෙටි කාලයකට පෙර ඇයට වැටහෙමින් තිබුණා පෙරළා කිසිවක් බලාපොරොත්තු නොවෙමින් ආදරය කරන්නටත්, ඒ වගේම කිසිදු හේතුවක් නැතුව දුක් විඳින්නටත් ඇයට පුළුවන් බව. ඒක හරියට ජීවිතය ඈ තුළම ඇති රහස්, ඇගේ ආලෝකය, ඇගේ අඳුර පිළිබඳව උගන්වන පිළිකුල් සහගත අමුතු විදියක් වුණා.

මරියාගේ දිනපොතෙන් : ටෙරන්ස් සමඟ ඇගේ පළමු හමුවීම සිදුවූ රාත්‍රියෙන් පසු.

ඔහු මාර්කී ද සේඩ් උපුටා ගත්තා. මම ඔහු ගැන කිසිවක්ම දන්නේ නැහැ, 'පරපීඩක කාමුකත්වය' කියන වචනය ඇරෙන්න, අපි එකිනෙකා ගැන දැනගන්නේ අපි අපේ සීමාවන්ට එරෙහිව ගියාම කියන කාරණය නිවැරදියි. ඒත් ඒකෙ වැරැද්දකුත් තියෙනවා. ඒ මොකද අපි ගැන හැම දෙයක්ම දැනගන්න අවශ්‍යතාවක් නැහැ. මනුෂ්‍යයා තනිකරම නිර්මාණය වෙලා තියෙන්නේ ප්‍රඥාව සොයා යෑම සඳහාම නෙමෙයි. නමුත් බිම කොටලා, වැස්ස බලාපොරොත්තුවෙන් ඉඳලා, තිරිඟු වවලා, අස්වැන්න කපා පාන් හදන්නයි.

මම ගැහැනු දෙදෙනෙක් : එක්කෙනකුට වුවමනායි ජීවිතයෙන් මට දිය හැකි සතුට, ආශාව, අවදානම ලබාගන්නට. අනිත් කෙනාට වුවමනා චර්යා රටාවේ වහලියක් වීමටයි. ඒ කියන්නේ පවුල් ජීවිතයේ සැලසුම් කළ හැකිදේ, ලබාගත හැකිදේ වෙනුවෙන් කැපවෙන්නටයි. මම ගෘහිනියක් වගේම ගණිකාවක්. අපි දෙන්නාම එකම ශරීරයක් තුළ ජීවත්වෙමින් එකිනෙකා සමඟ තරග කරනවා. මේ ගැහැනු දෙදෙනාගේ හමුවීම බරපතළ අවදානම් සහිත ක්‍රීඩාවක්. දිව්‍යමය නැටුමක්. අපි මුණ ගැහෙන විට, අපි දෙදෙනා දිව්‍යමය ශක්තීන් දෙකක්, තදින් එකට ගැටෙන විශ්වයන් දෙකක්. මේ හමුවීම ගෞරවනීයව සිදු නොවුණහොත්, එක් විශ්වයක් අනෙක් විශ්වය විනාශ කර දමනවා.

# 21

ඇය නැවතත් රැල්ෆ් හාට්ගේ විසිත්ත කාමරයේ ගිනි උඳුනත්, වයින් බෝතලයත් සමඟ සිටියා. දෙදෙනාම බිම වාඩිවෙලා හිටියා. ඒ වගේම පෙරදා රාත්‍රියේ ඉංග්‍රීසි ජාතික විධායකයා සමඟ අත්විඳි සියල්ල හුදු හීනයක් හෝ බියකරු හීනයක් වුණා. - ඒක ඇයට හැඟෙන විදියට තීරණය වුණා. - දැන් ඇය තවත් වරක් ජීවත්වීමේ හේතුව හොයමින් හිටි අතර ඊටත් වඩා, කෙනකු ඔහුගේ හෝ ඇයගේ හදවත පිරිනමා ඒ වෙනුවෙන් කිසිවක් බලාපොරොත්තු නොවී සම්පූර්ණයෙන් යටත්වීමට හේතුව හොයමින් හිටියා.

ඇය මේ මොහොත එනතෙක් බලා සිටි අතරතුර හුඟාක් මුහුකුරා ගිහින් හිටියා. අවසානයේදී ඇය හොයා ගත්තා ඇය හිතාගෙන හිටපු දෙයට වඩා සැබෑ ආදරය හුඟක් වෙනස් දෙයක් කියලා. ඒ කියන්නේ ආදරය ඒ උපදවාපු ශක්තිය මඟින් අවුලුවනු ලැබූ සිදුවීම් දාමයක් නෙමෙයි කියලා. - විවාහ අපේක්ෂාවෙන් කරන ඇසුර, විවාහ ගිවිස ගැනීම, විවාහය, දරුවන්, බලා හිඳීම, ඉවුම් පිහුම්, ඉරිදා දිනවලට සතුටු උද්‍යානය, තවත් බලාගෙන හිඳීම්, එකට වයසට යාම, බලා සිටීම ඉවරවීම, ඊළඟට ස්වාමි පුරුෂයාගේ විශ්‍රාම යාම, රෝගීවීම, සතුට සමඟ එක්ව ජීවත්වීමට ප්‍රමාද වී ඇති බව දැනී යාමට වඩා වෙනස් දෙයක් කියලයි.

ඇය ඇයව බාරදීමට තීරණය කරලා තිබුණු, ඒ වගේම ඇගේ හැඟීම් කවදාවත් හෙළි නොකරන්නට අධිෂ්ඨාන කරගෙන හිටි ඒ මනුස්සයා දෙස බැලුවා. මොකද කියනවා නම් ඇයට දැන් දැනෙමින් තිබුණු දේ නිශ්චිත විදියක් හරි භෞතික ස්වරූපයක් හරි ගන්නට නොහැකි තරම් දුරකින් තිබුණා. ඔහු තවත් සැහැල්ලුවෙන් හිටියා වගේ පෙනුණා. හරියට ඔහු ඔහුගේ ජීවිතේ රසවත්ම කාලයක්

ආරම්භ කරමින් හිටියා වගෙයි. ඔහු සිනාසෙමින්, වැදගත් කෞතුකාගාර අධ්‍යක්ෂවරයෙක් මුණ ගැහෙන්නට මියුනික්වලට ගිය ගමන ගැන ඇයට කියමින් හිටියා.

''එයා ඇහුවා ජිනීවාවල මිනිසුන්ගේ මුහුණු ඇඳපු චිත්‍ර ටික තවම ඉවර නැද්ද කියලා. මම කිව්වා මට තාම හම්බවුණේ මම අඳින්න කැමැත්තෙන් හිටිය වැදගත් මනුස්සයන්ගෙන් කෙනකුයි, ආලෝකයෙන් පිරුණු ගැහැනියකුයි විතරයි කියලා. ඒත් මට මං ගැන කතා කරන්න ඕන නැහැ. මට ඕන ඔයාව වැළඳගන්න. මම ඔයාට ගොඩාක් ආසයි.''

ආශාව. ආශාව?. ආශාව! ඒක තමයි මේ හැන්දෑවේ අලුත් ප්‍රවේශය. මොකද ඒක ඇය ඉතා හොඳින් දන සිටි දෙයක්! උදාහරණයකට, ඔබ ආසාව අවදි කරන්නේ ඉක්මනින්ම ඒ ආශාවේ අදහස එළියට දමමින් නොවේ.

''හරි. එහෙනං, මට ආශා කරවන්න. ඒක තමයි අපි මේ මොහොතේ කරමින් ඉන්නේ. ඔයා මට වඩා යාරයකටත් අඩු දුරකිනුයි ඉන්නේ. ඔයා රාත්‍රී සමාජ ශාලාවකට ගිහින් මගේ සේවයට සල්ලි ගෙවලා තියෙන්නේ. ඉතිං ඔයා දන්නවා, ඔයාට මාව අල්ලන්න අයිතියක් තියෙනවා. ඒත් ඔයාට ධෛර්යයක් නැහැ. මං දිහා බලන්න. මං දිහා බලලා හිතන්න සමහරවිට මම ඔයා මං දිහා බලනවට අකමැතියි කියලා. හිතන්න මගේ ඇඳුම් යටින් හැංගිලා තියෙන දේ ගැන.''

ඇය හැමතිස්සෙම වැඩට ඇන්දේ කළු ඇඳුමුයි. ඇයට තේරුම් ගන්න බැරිවුණා ඇයි කොපකබානාවල ඉන්න අනිත් ගැහැනු ළමයි කොටට කපපු ඇඳුම් වලින්, ඇස් කඩාගෙන යන පාටවලින් හැඟීම් අවුස්සන්න උත්සාහ කළේ කියලා. ඇයට පෙනුණු විදියට නම් ඇය පිරිමියකුට කාර්යාලයේ, කෝච්චියේ හරි තමන්ගේ බිරිඳගේ මිතුරියකගේ ගෙදරකදී මුණගැහෙන ගැහැනියක් විදියට සැරසිලා හිටියොත් ඔහු ගොඩක් ප්‍රබෝධමත් වෙනවා.

රැල්ෆ් ඇය දිහා බැලුවා. මරියාට දැනුණා ඔහු ඇගේ ඇඳුම් ගලවා දමනවා වගේ. ඉතිං ඇය ඒ විදියට සතුටු වෙන එක වින්දනය කළා. - ඒත් ඒක සිදුවුණේ ඇය අවන්හලක එහෙමත් නැත්නම් සිනමා ශාලාවකට යන්න පෝළිමක හිටගෙන හිටියා වගේ කිසිම ස්පර්ශයක් නැතුවයි.

"අපි ඉන්නේ දුම්රිය ස්ථානයකයි." මරියා කියාගෙන ගියා. "මම හිටගෙන ඉන්නේ ඔයාට එහා පැත්තෙන්, කෝච්චිය එනකං. ඒත් ඔයා මාව දන්නේ නෑ. අහම්බෙන් මගේ ඇස්වලට ඔයාගේ ඇස් මුණ ගැහෙනවා. මම ඇස් අහකට ගන්නේ නැතුව ඉන්නවා. ඔයා දන්නේ නැහැ මම මොනවද කියන්න හදන්නේ කියලා. මොකද ඔයා, අනිත් මිනිස්සුන්ගේ ඇතුළෙ තියෙන "එළිය" හඳුනාගන්න පුළුවන් බුද්ධිමත් මනුස්සයෙක් වුණත් ඒ එළියෙන් පැහැදිලි කරන්නේ මොකක්ද කියලා දකගන්න තරම් සංවේදී මදි."

ඇය "නාට්‍යය" සම්බන්ධයෙන් ඉගෙන ගෙන තිබුණා. ඇයට අර ඉංග්‍රීසි ජාතික විධායකයාගේ මුහුණ ඉක්මනින්ම අමතක කරලා දාන්න ඕන වුණා. ඒත් ඔහු එතැන ඇගේ සිතුවිලිවලට මඟ පෙන්වමින් හිටියා.

"මගේ ඇස් ඔයාගේ ඇස් එක්ක බැඳිලා. ඉතිං සමහරවිට මම මම ගැන පුදුම වේවි : "මම එයාව කොහේදි හරි දැකලා තියෙනවාද?" කියලා. එහෙම නැත්තං මම අවුලට පත්වේවි. එහෙමත් නැත්තං මිත්‍රශීලි විදියට පෙනී නොහිටින එක ගැන බය වේවි. සමහරවිට ඔයා මාව දන්නවා වෙන්න පුළුවන්. ඉතිං මම ඔයාට මාව හොඳින් දන්නවා කියලා, එහෙම නැත්තම් ඒක වැරදි හඳුනා ගැනීමක් කියලා හරියටම පැහැදිලි වෙනකං තත්පර ගාණක සැකයේ වාසිය ගන්න ඉඩ දෙනවා."

"ඒත් මටත් වුවමනා වෙලා තියෙන්නෙ සමහරවිට ලෝකයේ තියෙන ඉතාම සාමාන්‍ය දේ වෙන්න පුළුවන්. ඒ කියන්නේ පිරිමියෙක් හොයා ගන්න එක. සමහරවිට මම උත්සාහ කරමින් ඉන්නේ අසාර්ථක ආදර සම්බන්ධයකින් පලා යන්න වෙන්න පුළුවන්. ළඟදි සිද්ධවෙච්ච විශ්වාස කඩකිරීමක් ගැන මගෙන්ම පළිගන්න, අඳුරන්නේ නැති කෙනෙක් හොයන්න දුම්රිය ස්ථානයට ගියා වෙන්න පුළුවන්. මගේ නීරස ජීවිතේ මොකක් හරි වෙනස් විදියක් කරන්න, එක රැකට හරි ඔයාගේ ගණිකාව වෙන්න ඕන වුණා වෙන්න පුළුවන්. සමහර වෙලාවට මම වැඩ හොයාගෙන යන ගණිකාවක් පවා වෙන්න පුළුවන්"

කෙටි නිහඬතාවක් : මරියාගේ අවුල තවත් වැඩිවුණා. ඇය නැවතත් අර හෝටල් කාමරයේ අපහාස විඳීම්, "කහ", "රතු",

වේදනාව සහ අතිමහත් සතුට ගැන මතක් කරමින් හිටියා. ඒ අහඹු හමුවීම ඇය කිසිසේත්ම කැමති නැති විදියට ඇගේ ආත්මය කලඹා තිබුණා.

රැල්ෆ් ඒක දැක්කා. නැවතත් ඇයව දුම්රිය ස්ථානයට රැගෙන එන්නට උත්සාහ කළා.

''මේ මුණ ගැහීමෙදි ඔයා මාව ආශාවට පත් කරනවද?''

''මම දන්නේ නැහැ. අපි කථා කරන්නේ නැහැ. ඔයා දන්නේ නැහැ.''

ඇගේ වියවුල තවත් වැඩි වුණා. ''නාට්‍යමය'' අදහස බොහෝම ප්‍රයෝජනවත් එකක් බව ඔප්පුවෙමින් තිබුණා. ඒක සැබෑ පුද්ගලයා එළියට අරගෙන අපි ඇතුළෙ ඉන්න ව්‍යාජ පුද්ගලයෝ හැමෝම පළවා හරිනවා.

''ඒ කියන්නේ මම අහක බලන්නේ නැහැ. ඔයා දන්නෙත් නෑ මොනව කරන්නද කියලා. ඔයා ළඟට එනවද? ඔයාව ප්‍රතික්ෂේප වෙනවද? මම ගාඩ්ට කථා කරයිද? එහෙම නැත්තම් වෙලාවක ඔයාට කෝපි එකක් බොන්න කතා කරයිද?''

''මම මියුනික් ඉඳන් ආපහු එන ගමන්'' රැල්ෆ් හාට් කිව්වා. හරියට ඒ ගොල්ලො පළමු වතාවට හමුවෙනවා වගේ ඔහුගේ කටහඬ වෙනස් වුණා. ''මම වෙනස් ලිංගිකත්ව ස්වභාවයන් තියෙන පුද්ගලයන්ගේ චිත්‍ර එකතුවක් ගැන හිතමින් ඉන්නවා. මිනිස්සු විවිධ වෙස් මුහුණු දාගෙන ඉන්නේ කවදාවත් ඇත්ත මුණගැහීමක් අත් නොවිඳ ඉන්නයි.''

ඔහු ''නාට්‍ය'' ගැන දැනගෙන හිටියා. මිලාන් කියපු විදියට ඔහුත් ''විශේෂ ගනුදෙනුකාරයෙක්''. සංඥා හඬ රැව් දුන්නා. ඒත් ඇයට හිතන්න කාලයක් අවශ්‍ය වුණා.

''කෞතුකාගාරයේ අධ්‍යක්ෂවරයා මට කිව්වා : ඔයාගේ වැඩේට ආශ්‍රය කරගන්නේ මොකක්ද කියලා. මම කිව්වා : ජීවත්වෙන්න ලිංගික කටයුතුවල යෙදෙන්න තරම් නිදහස් මානසිකත්වයක් තියෙන ගෑනු කියලා. එයා කිව්වා : ඒක හරියන්නේ නැහැ. අපි ඒ වගේ අයට කියන්නේ 'ගණිකාවෝ' කියලා. මම කිව්වා : හරි, ඒ ගොල්ලො ගණිකාවෝ තමයි. මම ඒ අයගේ ඉතිහාසය ගැන හදාරලා වඩා බුද්ධිමත් දෙයක් නිර්මාණය කරන්නයි

හදන්නේ. ඔයාගේ කෞතුකාගාරය නරඹන්න එන පවුල්වල අයගේ රසඥතාවට වැඩි යමක් කරන්නයි හදන්නේ. ඔයාට ජේනවනේ, සංස්කෘතිය ගැන ප්‍රශ්නයක්නේ මෙතන තියෙන්නේ. වෙනත් විදියකට ඉදිරිපත් කරන්න අමාරු දෙයක් පිළිගන්න පුළුවන් විදියකට ඉදිරිපත් කරන්න ක්‍රමයක් හොයන එකයි මම කරන්න හදන්නේ.''

''අධ්‍යක්ෂවරයා අවධාරණය කළා : ඒත් ලිංගිකත්වය කියන එක තව දුරටත් තහනම් දෙයක් නෙමෙයි. ඒක ඕනවටත් වඩා හූරගෙන කාලා ඉවරයි. ඒ විෂය ඇතුළෙ අලුත් දෙයක් නිෂ්පාදනය කරන්න අමාරුයි. මම කිව්වා : ඔයා දන්නවද අපේ ලිංගික ආශාව මතුවෙන්නේ කොහෙන්ද කියලා? අපේ සහජාශයෙන්, අධ්‍යක්ෂ කිව්වා. ඔව්, මම කිව්වා, අපේ සහජාශයෙන් තමයි. ඒත් ඒක හැමෝම දන්නවා. ඔයා කොහොමද ලස්සන ප්‍රදර්ශනයක් කරන්නේ. අපි මේ කතා කරන හැම දෙයක්ම විද්‍යාවක් නම්? මට කතා කරන්න ඕන මනුෂ්‍යයෙක් කොහොමද ඒ ආකර්ෂණය විස්තර කරන්නෙ කියලා. හරියට අපි කිව්වොත්, දාර්ශනිකයෙක් ඒක විග්‍රහ කරන විදිය කියලා. අධ්‍යක්ෂවරයා මගෙන් ඇහුවා, එයාට උදාහරණයක් දෙන්න කියලා. මම කිව්ව මෙහෙම, මම ආපහු ගෙදර යන්න කෝච්චිය අල්ල ගන්න යනකොට ගැහැනියක් මං දිහා බැලුවොත් මං එයා ළඟට ගිහිං කතා කරයි. මං කියයි, අපි අමුත්තෝ වෙන තුරාවට අපිට වුවමනා වෙච්ච ඕනෑම දෙයක් කරන්න නිදහස තියෙනවා කියලා. අපිට අපේ සිහින ලෝක ඇතුළෙ ජීවත් වෙන්න පුළුවන්. ඊට පස්සේ අපේ බිරිඳ, ස්වාමි පුරුෂයා ළඟට ගිහිං ආයෙමත් කවදාවත් මූණ නොගැහී ඉන්නත් පුළුවන්. ඊට පස්සේ, දුම්රිය ස්ථානෙදි, මම ඔයාව දකිනවා.''

''ඔයාගේ කථාව හරිම රසවත්. ඒක ආශාව මරා දැමීමේ අවදානමකයි තියෙන්නේ.''

රැල්ෆ් හාට් හිනාවෙලා ඒක අනුමත කළා. ඔවුන් එක වයින් බෝතලයක් අවසන් කර දැම්මා. ඔහු තවත් වයින් බෝතලයක් අරං එන්න මුළුතැන්ගේ දිහාවට ගියා. ඒ අතරම උණුසුම් සුවපහසු වටාපිටාවේ ආස්වාදය විඳ ගනිමින්, ඉංග්‍රීසි ජාතික විධායකවරයා අමතක කරමින්, නැවතත් යටත්වීමේ අදහසින් මඬනා ලදුව ඊළඟ පියවර කුමක්වේදැයි දැනගනිමින් ඇය ගිනි උදුන දිහා බලාගෙන වාඩිවෙලා හිටියා.

රල්ෆ් ඔවුන් දෙදෙනාගේ වීදුරු පිරෙව්වා. මරියා මෙහෙම කිව්වා.

''කුතුහලයක් නැතුව ඔයා කොහොමද කෞතුකාගාර අධ්‍යක්ෂවරයා එක්ක කථාව ඉවර කරන්නේ?''

''බුද්ධිමත් ඇසුරක ඉන්නකොට මම ප්ලේටෝගෙන් උපුටා ගන්නවා. එයාට අනුව මැවීම ආරම්භයේදී ගැහැනුත්, පිරිමිත් දැන් ඉන්න විදියට නෙමෙයි හිටියේ. තිබුණේ එකම පැවැත්මක් විතරයි. ඒ ජීවියාට හුඟාක් කොට ශරීරයකුත් බෙල්ලකුත් තිබුණා. ඒත් එයාට දෙපැත්තට බලාගෙන ඉන්න මුහුණු දෙකක් තිබුණා. ඒක හරියට සත්තු දෙන්නෙක්ව මැලියම් ගාලා පිටට පිට තියලා අලවලා තිබුණා වගෙයි. ලිංගික අවයව කට්ටල දෙකකුයි, කකුල් හතරකුයි, අත් හතරකුයි.''

''කොහොමහරි ග්‍රීක දෙවියෝ මේ ගැන ඉරිසියා කළා. ඒ මොකද අත් හතරක් තියෙන මේ සතාට හුඟක් මහන්සිවෙලා වැඩ කරන්න පුළුවන්. ඒ සතාගේ මූණු දෙකත් එක්ක ඌ ඉතාමත් සෝදිසියෙන් ඉන්න හින්දා අනපේක්ෂිත ප්‍රහාරයකින් අල්ලගන්න බැරිවුණා. උගේ කකුල් හතර හින්දා ඌට පුළුවන් වුණා කිසිම මහන්සියක් නැතුව හුඟාක් වෙලා හිටගෙන ඉන්නත් ඇවිදින්නත්. ඊටත් වඩා භයානක හේතුව වුණේ ඒ සතාට වෙනස් විදියේ ලිංගික අවයව කට්ටල දෙකක් තිබුණු හින්දා ප්‍රජනනය පවත්වාගෙන යන්න කිසිවක්ම අවශ්‍ය නූන එකයි. ''

''ඔලිම්පසයේ ශ්‍රේෂ්ඨ දෙවියා, සියුස්, මෙහෙම කිව්වා : මගේ සැලැසුමක් තියෙනවා මේ සුරයන්ගේ ශක්තියෙන් කොටසක් අහෝසි කරන්න.''

''ඉතිං එයා මේ සත්වයාව අකුණු පහරකින් දෙකට කැපුවා. ඒ අනුව ගැහැනියත්, පිරිමියාත් නිර්මාණය වුණා. ඉතිං මේ දේ ලෝකේ ජනගහනය විශාල වශයෙන් වැඩි කළා. ඒ අතරම ඒකේ ජීවත්වන අය දුර්වල වගේම හැකියාවක් නැති අය බවට පත්වුණා. මොකද දැන් ඒ ගොල්ලන්ට සිද්ධ වුණා ඒ අයගේ අහිමි අනිත් භාගය හොයන්න. ඒක ආදරයෙන් වැළඳ ගන්න. ඒ වගේම ඒ වැළඳ ගැනීම් තුළින් ඒ අයගේ පැරණි ශක්තිය නැවත ගොඩනගා ගන්න, පාවාදීම්වලින් ගැළවෙන්න, ඒ වගේම ගොඩාක් කාලයක්

දුර ඇවිදන් යන්න. මහන්සිවෙලා වැඩ කරන එකට ඔරොත්තු දෙන්න. නැවත එකක් බවට එකතුවීම ප්‍රතික්ෂේප කරන ශරීර දෙකක් වැළඳ ගැනීමට තමයි අපි කියන්නේ ලිංගිකව එකතු වෙනවා කියලා.''

''ඒක ඇත්ත කතාවක්ද''

''ග්‍රීක දාර්ශනික ප්ලේටෝට අනුව නම්, ඔව්.''

මරියා වශීවෙලා ඔහු දෙස ඕනෑකමින් බලා හිටියා. ඒ වගේම පෙරදින රාත්‍රී අත්දැකීමත් සම්පූර්ණයෙන්ම අතුරුදන්වෙලා තිබුණා. ඇය දුටුවා ඔහු ඇගෙන් දුටු ''ආලෝකයම'' ඔහු තුළත් තිබෙන බව. ඔහු ඒ අමුතු කථාව ඇයට කියන්න සම්පූර්ණයෙන්ම ඒකාත්මික වෙලා හිටියා. ඔහුගේ ඇස් එළිය වෙලා තිබුණේ ආශාවෙන් නොවුණත් සංතෝෂයෙනුයි.

''මම ඔයාගෙන් යමක් අහන්නද?''

රැල්ෆ් කිව්වා ඇයට ඕනෑම දෙයක් අහන්න පුළුවන් කියලා.

''මට දැනගන්න පුළුවන්ද ඇයි දෙවියෝ ඒ කකුල් හතරේ සතාව දෙකට බෙදුවට පස්සේ සමහරු හිතුවේ ඒ වැළඳ ගැනීම සාමාන්‍ය දෙයක් කියලා?. නිකම්ම වෙළෙඳ හුවමාරුවක් විදියට?, ශක්තිය වැඩි කරන්නෙ නැතුව ඒක අඩු කරන එකක් විදියට?.''

''ඔයා අදහස් කරන්නේ ගණිකා වෘත්තියද?''

''ඔව්. මුලදී ලිංගිකව එකතුවෙන එක පූජනීය දෙයක් හැටියට සැලකුවා කියලා ඔයා හිතනවද?''

''ඔයා කැමති නම් එහෙම හිතන්න පුළුවන්'' රැල්ෆ් පිළිතුරු දුන්නා. ''ඒ වුණත් ඒක මං කවදාවත් හිතපු නැති දෙයක්. මම දන්න විදියට කවුරුත්ම හිතලා නෑ. සමහර වෙලාවට ඒ විෂය ගැන සාහිත්‍යයක් නැති නිසා වෙන්න ඇති.''

මරියාට තව දුරටත් පීඩනය දරා ගන්න බැරිවුණා :

''ඔයාට කවදා හරි දැනිලා තියෙනවද ගැහැනු, විශේෂයෙන් ගණිකාවෝ ආදරය කරන්න පුළුවන් අය කියලා?''

''ඔව්, එහෙම වෙලා තියෙනවා. ඒක මට දැනුණා අපි කෝපි හලේ ඉඳගෙන ඉන්න කොට ඔයාගේ ආලෝකය දැකපු පළවෙනි දවසෙදිම. මම ඔයාට කෝපි එකක් දෙන්න තීරණය කරපු

වෙලාවෙදි මම හැම දෙයක් ගැනම විශ්වාස කරන්න පටන් ගත්තා. ගොඩක්ම ගොඩක් කාලෙකට කලින් මම අතෑරලා දාපු ලෝකෙ, ඔයාට මට ආපහු ගෙනත් දෙන්න පුළුවන් වෙයි කියලා පවා මම විශ්වාස කරනවා.

දූත් නැවතත් හැරී යාමක් තිබුණේ නැහැ. මරියාට; ගුරුතුමියට ඇගේම උදව් හොයාගෙන දිව යන්නට ඕන වුණා. එහෙම නොවුණොත් ඇය ඔහු සිප ගනීවි, ඔහුව වැළඳගෙන ඇයව අත් නොහරින්නයි කියාවි.

''අපි ආපහු දුම්රිය ස්ථානයට යමු.'' ඇය කිව්වා. ''ඊටත් වඩා හොඳයි පළවෙනි වතාවට අපි එකට ඉඳගෙන ඔයා මට තෑග්ගක් දීපු මේ කාමරේටම ආපහු එන එක. ඒක තමයි ඔයා මගේ ආත්මයට ඇතුළු වෙන්න හදපු පළවෙනි උත්සාහය. ඒ වගේම ඔයාව පිළිගනීවිද නැද්ද කියලා විශ්වාසයක් ඔයාට තිබුණේත් නැහැ. ඒත් ඔයා ඔයාගේ කථාවේ කිව්වා වගේ දෙකට බෙදිච්ච මනුෂ්‍ය ප්‍රාණියො දූත් නැවත එක්වෙන්න ඒ වැළඳ ගැනීම හොයමින් ඉන්නවා. ඒක තමයි අපේ සහජ දේ. ඒ දේ සොයා යන ගමනේදී හම්බවෙන බාධා කම්කටොලු එක්ක සටන් වදින්න වෙන්නේත් ඒ හේතුව හින්දයි.''

''මට ඕනෙ ඔයා මං දිහා බලන්නයි. ඒත් මම ඒක දකින්නේ නැහැ කියලා ඔයා වගබලා ගන්නත් ඕනේ. මුලින්ම හටගන්න ආශාව වැදගත්. මොකද ඒක හැංගිච්ච, තහනම් වෙච්ච, අවසර නැති දෙයක්. ඔයා දන්නේ නැහැ ඔයා බලාගෙන ඉන්නේ ඔයාගේ නැතිවුණු භාගයද නැද්ද කියලා. ඇයත් ඒක දන්නේ නැහැ. ඒත් යම් දෙයක් ඒ දෙන්නව එකට ඇදලා ගන්නවා. ඉතිං ඔයා විශ්වාස කරන්න ඕන ඒ දෙන්නා එකිනෙකාගේ ''අනෙක් භාගය'' කියන එක ඇත්තයි කියලා. ''

මම මේවා කොහෙන්ද ගත්තේ ? මම ඒව ඇදලා ගත්තේ මගේ හදවත පතුළෙන්මයි. මොකද මේ තමයි මට හැම තිස්සෙම වෙන්න ඕන වුණු විදිහ. මම ගැහැනියක් විදියට මගේම හීනය ඇතුළෙන් මේ සිහින එළියට ගන්නවා.

ඇය ඇගේ ඇඳුමේ උර පටිය වැටෙන්නට සැලැස්සුවා. ඇගේ තන පුඩුවේ එක පුංචි කොටසක් නිරාවරණය වුණා.

''ආශාව කියන්නේ ඔයා දකින දේ නෙමෙයි, ඒත්, ඔයා හිතන දේයි.''

රැල්ෆ් හාට් කළු කොණ්ඩයත්, කළු ඇඳුම් ඇඳ ගත්, එයාගේ විසිත්ත කාමරයේ බිම වාඩිවෙලා හිටපු, ග්‍රීස්ම කාලේ මැද ගිනි මැලයක් දල්වනවා වගේ අසම්මත ආශාවන්ගෙන් පිරුණු ගැහැනිය දිහා බලාගෙන හිටියා. ඔව්, ඔහු කැමති වුණා ඒ ඇඳුම් හංගගෙන හිටපු දේ මොනවද කියලා හිතන්න. ඔහුට ඇගේ පියයුරුවල ප්‍රමාණය තීරණය කරන්න පුළුවන් වුණා. ඒ වගේම ඔහු දැනගෙන හිටියා ඇය ඇඳගෙන හිටිය බ්‍රේසියරය ඇයට ඇත්තටම අවශ්‍ය නැති එකක් බවත්, ඒ වුණත් සමහරවිට ඇගේ රස්සාවට අඳින්නට ඕන වුණු එකක් කියලත්. ඇගේ පියයුරු විශාල හෝ කුඩා වුණේ නැහැ. ඒවා බොහොම තරුණ ඒවා වුණා. ඇගේ ඇස් කිසිවක් හෙළිදරව් කළේ නැහැ. ඇය මොනවද මෙහෙ කරන්නේ? ඔහුට ගෑනු හොයාගන්න එකේ කිසිදු ප්‍රශ්නයක් නොතිබෙද්දීත් ඇයි ඔහු මේ වගේ අමුතු, අවදානම් සම්බන්ධයකට දිරිගන්වමින් හිටියේ? ඔහු පොහොසත්, තරුණ, ප්‍රසිද්ධ, හොඳ පෙනුමක් තියෙන කෙනෙක්. ඔහු ඔහුගේ වැඩට ආදරේ කළා. ඔහු පසුව විවාහ වුණු ගැහැනුන්ටත් ආදරේ කළා. ඔහු ආදරෙන් පසුවෙච්ච කෙනෙක්. ඔහුට තමයි සෑම ඇගයුම් සහ තත්ත්වයන්ට අනුවම කෑ ගහල කියන්න පුළුවන් වුණේ. ''මම සතුටින්'' කියලා.

නමුත් ඔහු එහෙම කළේ නැහැ. මනුෂ්‍ය සංහතියම වගේ පාන් කෑල්ලකට පොරකද්දි, හිසට වහලක්, ඒ වගේම අභිමානයෙන් ජීවත්වෙන්න ඉඩ සලස්වන රැකියාවක් හොයාගන්න මහන්සිවෙද්දි, රැල්ෆ් හාට්ට ඒ සියලු දේ තිබුණා. ඒත් ඒක ඔහුට තව දුරටත් කාලකණ්ණි හැඟීමක් ඇති කළා විතරයි. ඔහු ඔහුගේ පහුගිය ජීවිතේ දිහා ආපහු හැරිලා බැලුවොත් උදේ නැඟිටලා ඉර දිහා - එහෙමත් නැත්නම් වැස්ස දිහා - බලලා උදෑසන දැකීමෙන් සතුටු හැඟීමක්, පෙරළා කිසිවක් බලාපොරොත්තු නොවී, සැලසුම් නොකර, නොඉල්ලා නිකම්ම සතුටක් ලබපු දවස් දෙක තුනක් සමහරවිට දකින්න පුළුවන් වේවි. ඒ දින කීපය ඇරුණහම ඔහුගේ ඉතිරි ජීවිතය සිහින මත නිකරුණේ ගෙවිලා ගියා. ඔහුවම ඉක්මවා යාමට තිබුණු තදබල ආශාවත්, ඔහුගේම සීමාවන් ඉක්මවා යාමට තිබුණු තදබල ආශාවත් අවබෝධවීම සමඟ ඔහු අපේක්ෂා

භංගත්වයට පත්වුණා. ඔහු ජීවිතය ගත කළේ යමක් ඔප්පු කරන්නට උත්සාහ කරමින්. ඒත් ඒ මොකක්ද නැතිනම් කාටද කියන එක ඔහු දැනගෙන හිටියේ නැහැ.

ඔහු තමා ඉදිරිපිට කළු ඇඳුමින් සැරසුණු, අහම්බෙන් මුණ ගැහුණු කෙනෙක් වුණු මේ ලස්සන ගැහැනිය දිහා බැලුවා. ඔහුට ඇයව කලින් රාත්‍රී සමාජ ශාලාවේදී මුණ ගැහිලා තිබුණත් ඔහු හිතුවේ ඇය එතැනට නොගැළපෙන බවයි. ඇය ඔහුට තමාව ආශාවෙන් මුසපත් කරන්න කියලා ඉල්ලා හිටියා. ඒ වගේම ඔහු ඇයට හිතාගන්නවත් බැරි තරමටම ඇයව දැඩිව ආශාවෙන් මුසපත් කළා. ඒත් ඔහු ආශා කළේ ඇගේ පියයුරුවලටවත් ඇගේ සිරුරටවත් නෙමෙයි. ඔහු ආශා කළේ ඇගේ ඇසුරටයි. ඔහුට වුවමනා වුණේ ඇය වටා අත දමාගනිමින් නිහඬව වාඩිවී ගිනි මැලය දිහා බලාගෙන, ඉඳහිට සිගරට්ටුවක් බොන අතරේ වයින් බොන්නටයි. ඒක හොඳටම ප්‍රමාණවත් වුණා. ජීවිතය හැදිලා තිබුණේ කුඩා දේවල්වලින්. කුමක්දැයි කියලා හරියට නොදැන යමක් හොයමින් හිටි වසර ගණනාවක කාලයෙන් ඔහු හෙම්බත්වෙලා හිටියා.

ඒත් ඔහු එය කළා නම්, ඔහු ඇයව ඇල්ලුවා නම් සියල්ල නැතිවෙන්න තිබුණා. ඔහු මරියා තුළින් දැක්කා ''ආලෝකය.'' එහෙමම තිබියදීත්, ඔහුට විශ්වාසයක් තිබුණේ නැහැ ඇගේ සමීපයෙන් ඉන්න එක ඔහුට කොතරම් දෙයක්ද කියලා, ඇය අවබෝධ කරගනියි කියලා. ඔහු ගෙවාවිද ? ඔව්. ඇයව දිනාගන්න තාක් කල්, ඇයත් එක්ක වැව අයිනේ වාඩිවෙලා ආදරේ ගැන කතා කරන තාක් කල් වගේම ඇයත් එහෙම කියන හැටි අහන්න ලැබෙන කං ඔහු ඒ ගෙවීම සිදු කරාවි. ඒකට හොඳම දේ වුණේ අවස්ථාවක් නොගෙන ඉන්න එකයි. දේවල් හදිස්සි නොකර, කිසිවක් නොකියා ඉන්න එකයි.

රැල්ෆ් හාට් ඔහුටම වද වේදනා දෙන එක නතර කර නැවතත් ඔවුන් දෙදෙනා එකතුව නිර්මාණය කරපු ක්‍රීඩාවට අවධානය යොමු කළා. ඔහු ඉදිරිපිට හිටපු ගැහැනිය නිවැරදියි. වයින්, ගින්දර, සිගරට් සහ සමාගමය විතරක් ඔවුන්ට ප්‍රමාණවත් වුණේ නැහැ. තවත් මත්විය හැකි දෙයක්, තවත් ගිනි දැල්ලක් වැනි දෙයක් අවශ්‍ය වුණා.

ඇය ඇඳගෙන හිටියේ උරහිස් පටි සහිත ඇඳුමක්. ඇය එක් පියයුරක් නිරාවරණය කරගෙන හිටියා. ඔහුට ඇගේ හම දකගන්න පුළුවන් වුණා. ඒක මලානික පැහැයටත් වඩා අඳුරු පැහැයක් ගත්තා. ඔහු ඇයට ආශා කළා. ඔහු ඇයට දැඩිව ආශා කළා.

මරියා රැල්ෆ්ගේ ඇස්වල වෙනස දැක්කා. ඇය ආශාවටත්, තිගැස්මටත් අන් කවරකටත් වඩා පත්ව ඇති බව ඇයට තේරුණා. ඒත් කිසිම ස්වයංක්‍රීය සූත්‍රයක් එතැන තිබුණේ නැහැ - ඒ කියන්නේ මට ඔයත් එක්ක ආලිංගනයේ යෙදෙන්න ඕන. මට කසාද බඳින්න ඕන. මට ඕන ඔයාව සුරතාන්තයට පත්වෙන්න. මට ඔයාගෙන් දරුවෙක් ඕන. මට වගකීමක් ඕන වගේ දේවල් නැහැ. ආශාව කියන්නේ අහසේ පාවෙන. කම්පනය වෙන. යමක් ලබාගන්න තියෙන අධිෂ්ඨානයෙන් ජීවිතය පුරවන සම්පූර්ණ නිදහසේ හැඟීමක්. ඉතිං ඒක හොඳටම ප්‍රමාණවත්. ඒක හැම දෙයක්ම ඉක්මවා ගියා. කඳු සෙළවුණා. ඇයව තෙත් කළා.

ආශාව අනෙක් හැම දේකම මූලාශ්‍රය වුණා - ඒ කියන්නේ ඇගේ රටින් පිටවෙන එක. අලුත් ලෝකයක් හොයාගන්න එක. ප්‍රංශ භාෂාව ඉගෙන ගන්න එක. ඇගේ පූර්ව විනිශ්චයන් මැඩ පවත්වාගන්න එක. ගොවිපොළක් දැමීමට සිහින මවන එක. පෙරළා කිසිවක් බලාපොරොත්තු නොවී ආදරය කරන එක. පිරිමියකු ඇය දිහා බලා හිටි නිසා සරලවම ඇය ගැහැනියක් බව හැඟීයාම. ගිණිය හැකි මන්දගාමීත්වයකින් ඇය අනෙක් උර පටිය පහළට වැටෙන්නට සැලැස්සුවා. ඒ අනුව ඇඳුම ඇගේ සිරුරෙන් ලිස්සා වැටුණා. ඊළඟට ඇය බ්‍රෙසියරය ගලවා දැම්මා. මෙන්න දැන් ඇය ඇගේ උඩුකය සම්පූර්ණයෙන්ම නග්නව, ඔහු ඇගේ ඇඟට පනීවිද, ඇයව අත ගාවිද, ආදරයේ නාමයෙන් දිව්රාවිද, එහෙමත් නැත්නම් දැඩි ආශාවෙන් යුක්තව ලිංගික සතුට ලබන්න තරම් ඔහු සංවේදී වේවිද කියලා ඇය කුතුහලයෙන් යුතු වුණා.

ඔවුන් වටා තිබුණු දේවල් වෙනස් වෙන්නට පටන් ගත්තා. සියලු ශබ්ද අතුරුදන් වුණා. ගිනිමැලය, චිත්‍ර, සහ පොත් ක්‍රමයෙන් මැකී ගියා. මෝහනය වෙච්ච අවස්ථාවක් ඇවිත් ආශාවේ දෙය පමණක් පැවතුණා. අනෙක් කිසිවක්ම මේ මොහොතේදී වැදගත් වුණේ නැහැ.

මේ මනුස්සයා හෙළවුණේ නැහැ. මුලදී ඇය යම් ලැජ්ජාශීලී බවක් ඔහුගේ ඇස්වල දුටුවා. ඒත් ඒක වැඩිවෙලා රැඳිලා තිබුණේ නැහැ. ඔහු ඇය දෙස බලමින් හිටියා. ඔහුගේ සිතුවිලි ලෝකය තුළ කිමිදෙමින් ඔහුගේ දිවෙන් ඇයව සිපගත්තා. දහදිය දමමින්, එකිනෙකාට වෙළෙමින්, මෘදු බවත් දැඩි බවත් එකට මුසුවෙමින්, උස් හඩින් වගේම එකට කෙඳිරි ගාමින් ඔවුන් ආලිංගනයේ යෙදුණා.

එහෙම වුණත් සැබෑ ලෝකයේදී ඔවුන් කිසිවක් කිව්වේ නැහැ. දෙදෙනාගෙන් එක් කෙනෙක්වත් හෙළවුණේවත් නැහැ. ඒක ඇයව තවත් තැතිගැන්නුවා. ඒ මොකද ඇයට නිදහසේ කැමති දෙයක් හිතන්නට ඉඩ ලැබුණු නිසා. ඇය ඔහුට තමාව මෘදුව පිරිමදින්න කියලා කිව්වා, ඇය ඇගේ දෙකකුල් දෙපසට විහිදුවාගෙන, බොහෝම රොමෑන්තික හා කාමුක දේ කියමින් හරියට ඔවුන් එක වාගේ, එක් කෙනකු විදියට ඔහු ඉදිරිපිටදීම ස්වයංවින්දනයේ යෙදුණා. අසල්වැසියන්, මුළු ලෝකයම ඇගේ කෑ ගැසීමෙන් අවදි කරමින් ඇය කිහිප වරක්ම සුරතාන්තයට පත්වුණා. මේ හිටියේ ඇයට සතුට, තෘප්තිය ගෙන එමින් හිටි පිරිමියායි. ඔහුත් එක්ක විතරයි ඇයට ඇය වෙන්න පුළුවන් වුණේ. ඔහුත් එක්ක විතරයි ඇයට ඇගේ ලිංගික ප්‍රශ්න ගැන කතා කරන්න පුළුවන් වුණේ. ඒ හින්දා මේ ඉතිරි රාත්‍රිය, ඉතිරි සතිය, ඉතිරි මුළු ජීවිත කාලයම ඔහුත් එක්ක ගත කරන්න කැමති බව කියන්නට ඇයට හිතුණා.

දාඩිය බිංදු ඔවුන්ගේ නළල් තලවල මතුවෙන්න පටන් ගත්තා. ඒ ගිනි මැලයෙන් එන රස්නෙ හින්දයි කියලා කෙනෙක් අනෙක් කෙනාට මානසිකව කිව්වා. ඒත් ඒ කාමරය ඇතුළෙ හිටපු පිරිමියාත්, ගැහැනියත් ඔවුන්ගේ සීමාවන්ට ඇවිත් හිටියා, සිතුවිලිවලින් වෙහෙසට පත්වෙලා හිටියා, එක්ව ගත කරපු ප්‍රියජනක මොහොතවල්වල සදාකාලිකත්වය අත් වින්දා. ඔවුන්ට නවත්වන්නට වුවමනා වුණා. මොකද ඒ ඔවුන් තව එක පියවරක් හරි තැබුවොත් යථාර්ථය විසින් මායාව වෙනස් කරන හින්දයි.

ඉතා හෙමින්, මන්ද අවසානය හැම විටම පටන් ගැන්මට වඩා දුෂ්කර හින්දා, ඇය බ්‍රේසියරය තුළ ඇගේ පියයුරු හැංගුවා. විශ්වය එහි සාමාන්‍ය ස්ථානයට නැවත පැමිණියා, අවට තිබුණු දේවල් නැවත පෙනෙන්නට පටන් ගත්තා, ඈ ඇගේ ඉන දිහාවට

වැටිලා තිබුණු ඇඳුම ඇඳගෙන හිනාවෙලා ඉතා මෘදුව ඔහුගේ මුහුණ ඇල්ලුවා. කොච්චර වෙලාවක්, කොච්චර තදින් තබා ගත්තාදැයි නොදන ඔහු ඇගේ අත රැගෙන ඔහුගේ කම්මුල මත තෙරපාගත්තා.

ඇයට ඕන වුණා ඇය ඔහුට ආදරේ කළා කියලා කියන්න. ඒත් ඒක හැම දෙයක්ම අවුල් කරාවි, ඔහුව බියට පත්කරාවි, එහෙමත් නැත්තම් නරකම දේ, ඔහුත් ඇයට ආදරේ කියලා කියන්න පෙළඹේවි. මරියාට ඒක ඕන වුණේ නැහැ : ඇගේ නිදහස් ආදරය රැඳිලා තිබුණේ කිසිවක් නොඉල්ලා හිඳීමත්, කිසිවක් බලාපොරොත්තු නොවී සිටීමත් තුළයි.

''හැඟීම්, දැනීමේ හැකියාව තියෙන ඕන කෙනෙක් දන්නවා අනෙක් කෙනාව අල්ලන්නෙවත් නැතුව තෘප්තිමත් වෙන්න පුළුවන් කියලා. වචන, බැලුම්, හැම දෙයක්ම නැටුමේ රහස ඇතුළෙ අඩංගුයි. ඒත්, කෝච්චිය ඇවිත්, අපි එකිනෙකා වෙනස් මාර්ගවල යනවා. මං බලාපොරොත්තු වෙනවා ඔයත් එක්ක මේ ගමන යන්න පුළුවන් වෙයි කියලා... කොහාටද?''

''ආපහු ජිනීවාවලට'' රැල්ෆ් උත්තර දුන්නා.

''හැම වෙලාවෙම හීන දැකපු කෙනා හොයාගත්තු, සුපරීක්ෂාකාරී ඕන කෙනෙක් දන්නවා ලිංගික ශක්තිය ලිංගිකව එකතුවෙන එකට කලින් කරළියට එනවා කියලා. විශාලම තෘප්තිය ලිංගිකව එකතුවෙන එක නෙමෙයි. නමුත් ඒකත් එක්ක භාවිතා කරන දැඩි ආශාවයි, විශාලම තෘප්තිය. ආශාව තියුණු වෙන කොට ලිංගික කටයුත්ත ඒකත් එක්ක එකතුවෙනවා, ඒ නැටුම සම්පූර්ණ කරන්න. නමුත් ඒක කවදාවත් මූලික ඉලක්කය නෙමෙයි.

''ඔයා ආදරය ගැන කතා කරන්නේ හරියට ගුරුවරයෙක් වගේ.''

මරියා දිගටම කියාගෙන ගියා. ඒ මොකද මේ තමයි ඇයට තිබුණු ආරක්ෂාව, ඇයට කිසි දෙයක් පවරා නොගෙන සියල්ල පැහැදිලි කරන ඇගේ ක්‍රමය.

''ආදරේ කරන ඕන කෙනෙක්, ඒ ගොල්ලො එකට නොහිටියත්, හැම තිස්සෙම ලිංගිකව හැසිරෙනවා. සිරුරු දෙකක් එකට මුණ ගැහුණම, ඒක කුසලානය උතුරා යෑමක් විතරයි. ඒ

 

ගොල්ලන්ට පැය ගණනක් එකට ඉන්න පුළුවන්, සමහරවිට දවස් ගාණක් පවා. ඒ ගොල්ලො නැටුම එක දවසක පටන් අරගෙන ඉවර කරන්නේ අනිත් දවසෙයි. එහෙම නැත්තම් - ඒ අය මේ විඳින තෘප්තිය - ඒ ගොල්ලො ඒක ඉවර කරන්නේ නැහැ. ඒ ගොල්ලන්ට මිනිත්තු එකොළහක් නැහැ.''

''මොකක්ද?''

''මම ඔයාට ආදරෙයි''

''මමත් ඔයාට ආදරෙයි''

''මට සමාවෙන්න, මම දන්නේ නැහැ මම මොනවද කියන්නේ කියලා''

''මමත් දන්නේ නැහැ.''

ඇය නැඟිට, ඔහුව සිපගෙන එතැනින් පිටවුණා. මේ වතාවේ ඇයම ඉස්සරහ දොර ඇරගත්තා. මොකද බ්‍රසීල මිත්‍යා විශ්වාසවල විදියට ගෙදර අයිතිකාරයා දොර අරින්න ඕන අමුත්තා පිටවෙලා යන පළවෙනි වතාවෙදි විතරයි.

මරියාගේ දිනපොතෙන් : ඊළඟ දවසේ ලියූවක්.

ඊයේ රෑ, රැල්ෆ් හාට් මං දිහා බලනකොට, ඔහු හොරෙක් වගේ දොරක් ඇරියා. ඒත් එයා යනකොට මගෙන් කිසිවක් අරං ගියේ නැහැ. ඒ වෙනුවට, එයාගේ පිටුපසින් රෝසමල්වල සුවඳ ඉතිරි කරලා ගියා. - එයා හොරෙක් නෙමෙයි, එයා මාව බලන්න ආපු මනමාලයෙක්.

හැම මනුස්සයෙක්ම, ඔහුගේ හෝ ඇයගේ ආශාව අත්විඳිනවා. ඒක අපේ පෞද්ගලිකත්වයේ කොටසක්. ඒ වුණත් හැඟීමක් විදිහට ඒක මිනිස්සුන්ව ඈතට අරං යනවා. සාමාන්‍යයෙන් කියනවා නම්, ඒක අපිට වැදගත් වෙන අයව ළංකරනවා. ඒක මගේ ආත්මය තෝරගත්තු හැඟීමක්. ඒක හරිම බලවත්. ඒ නිසා මගේ වටේ ඉන්න හැම කෙනෙක්ටම, හැම දේකටම ඒක බෝවෙන්න පුළුවන්.

මම ජීවත්වෙන්න උත්සාහ කරන හැටියට දවසක් ගානේ මම සත්‍යය තෝරා ගන්නවා. මම ප්‍රායෝගික වෙන්නත්, දක්ෂ වෙන්නත්, වෘත්තීයත්වයට පත්වෙන්නත් උත්සාහ කරනවා. ඒත් මම, හැම තිස්සෙම ආශාව මගේ සගයා විදියට තෝරගන්න කැමතියි. බැඳීමක් නැතුව නෙමෙයි, මගේ තනිකම අඩුකර ගන්නත් නෙමෙයි, ඒත් ඒක හොඳ නිසා. ඔව්, හුඟාක්ම හොඳ නිසා.

# 22

**සා**මාන්‍යයෙන්, දිනපතාම වගේ ගැහැනු තිස් අටක් විතර කොපකබානාවල වැඩ කළත් ඒ අයගෙන් එකම එක්කෙනෙක්, ඒ කියන්නේ ෆිලිපීන "නියා" විතරයි මරියා එතැන මිතුරියක් විදිහට සැලකුවේ. ගෑනු සාමාන්‍යයෙන් එතැන අඩුම වශයෙන් මාස හයකුත් උපරිම වශයෙන් අවුරුදු තුනකුත් හිටියා. ඒ මොකද ඒ අයට එක්කෝ විවාහ යෝජනාවක් ලැබෙනවා, නැත්නම් හොර අඹුවක් විදියට ඉන්න ලැස්තිවෙනවා, එහෙමත් නැත්නම් තව දුරටත් ගනුදෙනුකාරයන්ව අද්දා ගන්න බැරි වෙනවා. අන්න ඒ වගේ වෙලාවල්වලදී මිලාන් බොහෝම විනීත විදිහට ඒ අයට කියනවා වෙන කොහේ හරි තැනක රස්සාවක් හොයාගන්න කියලා.

ඒ නිසයි එකිනෙකාගේ ගනුදෙනුකාරයන්ට ගෞරව කරන එක වැදගත් වුණේ. එක් ගැහැනු ළමයෙක් දිහාවට ඇතුළට ආපු ගමන්ම එන මිනිස්සුන්ව කවදාවත් පොළඹවා ගන්න උත්සාහ නොකළ යුතුයි. ඒක වංක වීමක් ඇරුණහම අවදානම්කාරී වෙන්නත් පුළුවන්. පහුගිය සතියේදී කොළොම්බියානු ගැහැනියක් ඉතාමත් තියුණු රේසරයක් ඇගේ පොකැට්ටුවෙන් ඇදලා එක් යුගෝස්ලාවියානු තරුණියක් පාවිච්චි කරපු වීදුරුවක් උඩින් තියලා ඉතා තැන්පත්ම හඬින් කිව්වා එතැනට දිනපතා පැමිණෙන එක්තරා බැංකු කළමනාකාරයෙක් ඩැහැ ගන්න එක දිගින් දිගටම කළොත් ඇය ඒ තරුණියගේ මුහුණේ කැපීම් සලකුණක් තියනවා කියලා. යුගොස්ලාවියානුවා කිව්වා ඒ මනුස්සයා නිදහස් ගනුදෙනුකාරයෙක් හින්දා එයා ඇයව තෝරගන්නවා නම් ඇයට කොහොමටවත් බැහැ කියන්න බැහැයි කියලා.

එදා රාත්‍රියේදී, ඒ මනුස්සයා පැමිණියා. කොළොම්බියානු ගැහැනියට ආචාර කරලා යුගොස්ලාවියානුවා හිටිය මේසයට ගියා. ඒ ගොල්ලො බීම බීලා නටන්න පටන්ගත්තු අතර යුගොස්ලාවියානු ගැහැනිය කොළොම්බියානුවාට ඇහින් ඉඟි කළා, (මරියාට පෙනුණු විදියට ඒක ඕනෑවට වඩා ප්‍රකෝප කිරීමක්) හරියට "බලන්න එයයි මාව තෝරගත්තේ " කියලා කියන්න වගේ.

ඒත් ඒ ඉඟි මැරීමේ බොහෝ නොකියවුණු දේ තිබුණා : ඒ කියන්නේ, එයා මාව තෝරගත්තේ මම ලස්සන හින්දා, මම එයත් එක්ක පහුගිය සතියේ ගිය වෙලාවේ එයා ඒකට ගොඩක් සතුටු වෙච්ච හින්දා, මම හුඟක් තරුණ හින්දා වගේ දේවල්. කොළොම්බියානුවා කිසිවක් කීවේ නැහැ. යුගොස්ලාවියානු ගැහැනිය පැය දෙකකට පස්සේ ආපහු ආවහම කොළොම්බියානුවා ඇයට අනෙක් පසින් වාඩිවෙලා පොකැට්ටුවෙන් රේසරය අරගෙන යුගොස්ලාවියානුවාගේ කන ළඟින් මුහුණ කැපුවා. ඒක ගැඹුරු කැපුමක් නොවුණත්, එතරම් අනතුරුදායක නොවුණත්, ඒක ඇගේ මුහුණේ ඒ රාත්‍රිය සිහිපත් කරන්නට තරම් පැල්ලමක් තියන්න ප්‍රමාණවත් වුණා. දෙදෙනාම රණ්ඩු කරන්න පටන් ගත්තා. ලේ හැම තැනම විහිදුණු අතර බයවෙච්ච ගනුදෙනුකාරයෝ එතැනින් පලාගියා.

පොලීසිය එතැනට ආවට පස්සේ ඒ ගොල්ලන්ට වුවමනා වුණා මොකද මෙතන වුණේ කියලා දැන ගන්න. යුගොස්ලාවියානු ගැහැනිය කිව්වා රාක්කෙකින් වැටුණු වීදුරුවකට ඇගේ මුහුණ කැපුණා කියලා. (කොපකබානාවල එහෙම රාක්කයක් තිබුණේ නැහැ.) ඒක තමයි නිහඬතාවයේ නීතිය, එහෙමත් නැත්තම් ඉතාලි ගණිකාවෝ කියන විදිහට ඔමෙර්තා. (Omerta) රියෝ ද ඛර්න්වල ඕනෑම ප්‍රශ්නයක්, ආදරයේ සිට මරණය දක්වා ඕනෑම ප්‍රශ්නයක් විසඳගන්න පුළුවන්, නමුත් ඒ නීතියේ ඇඟිලි ගැහීමකින් තොරවයි. ඒ ගොල්ලෝ එතැන ඒ ගොල්ලන්ගෙම නීති හදාගෙන තිබුණා.

පොලීසිය ඔමෙර්තා ගැන දැනගෙන හිටියා. ඒ වගේම ඒ ගැහැනිය බොරුවක් කිව්වා කියලත් දැනගෙන හිටියා. ඒත් ඒ අය තදින් හිටියේ නැහැ. - කාව හරි අත්අඩංගුවට අරගෙන ඔවුන්ව විනිශ්චයට ලක් කරලා බන්ධනාගාරවලට දැම්මොත් ස්විස් බඳු

ගෙවන්නන්ට තවත් විශාල මුදලක් වියදම් කරන්නත් වේවි. මිලාන් ඔවුන්ගේ ක්ෂණික ප්‍රතිචාරය වෙනුවෙන් ස්තුති කළා. ඔහු කිව්වා මේ හැම දෙයක්ම වැරදි වැටහීමක්, නැත්නම් ඔහුත් එක්ක තරග කරන අනෙක් සමාජශාලා හිමිකරු මෙතැන ප්‍රශ්නයක් ඇති කරන්න ගත්තු උත්සාහයක් වෙන්න පුළුවන් කියලා.

ඔවුන් එතැනින් පිටව ගිය ගමන්ම, ඔහු ඒ ගැහැනු දෙදෙනාට ආපහු ඔහුගේ සමාජ ශාලාවට නොඑන ලෙස දැන්නුවා. කොහොම වුණත් කොපකබානා පවුලේ තැනක්, (ඒ ප්‍රකාශය මරියාට වටහා ගන්න අසීරු වුණා.) ඒ වගේම පවත්වාගෙන යන්න කීර්තියක් තියෙන තැනක්. (මේකත් තවම ඇයට කුතුහලයක් ඉතිරි කළා) එතැන රණ්ඩු සරුවල් තිබුණේ නැහැ. ඒ මොකද පළමු නීතිය වුණේ අනෙක් කාන්තාවන්ගේ ගනුදෙනුකාරයන්ට ගරු කරන එකයි.

දෙවන නීතිය සම්පූර්ණ විශ්වාසයකින් යුතු එකක් වුණා. ''හරියට ස්විස් බැංකුවක් වගේ'' ඔහු කිව්වා. මෙතැන හිටිය ගැහැනුන්ට ගනුදෙනුකාරයෝ විශ්වාසවන්ත වුණේ හරියට බැංකුවක් ඒකේ ගනුදෙනුකාරයෝ තෝරාගන්නවා වගෙයි. වැරදීම් වුණේ කලාතුරකින් : ගෙවීම් මඟ හැරපු සිද්ධි කිහිපයක්, එහෙමත් නැත්නම් ගෑනු ළමයින්ට තර්ජනය කරපු හරි මැර බලය හරි පාවිච්චි කරපු අවස්ථා කිහිපයක් පමණයි ඒ. ඒත් වසර ගණනාවක පටන් ඔහු කාලය ගත කළේ සමාජ ශාලාවේ කීර්තිය නිර්මාණය කරන්නටත් සංවර්ධනය කරන්නටත් වෙහෙසෙමිනුයි. මිලාන් එතැනට එන්නට ආරාධනා කළ යුතු නොකළ යුතු අය කවුද කියලා හඳුනා ගැනීමේ විශිෂ්ටයෙකු බවට පත්වී හිටියා. එකම ගැහැනියක්වත් මේ මිනුම් දණ්ඩ මොකක්ද කියලා හරියට දැනගෙන හිටියේ නැහැ. ඒත් ඒ ගොල්ලො හැමතිස්සෙම වගේ දැකලා තිබුණා හොඳට ඇඳ පැළඳගත්තු මිනිසුන්ට කියනවා සමාජශාලාව එදා රෑට පිරිලා ඉවරයි කියලාත්, (එදා රෑ සමාජ ශාලාව හිස්වෙලා තිබුණත්) ඒ වගේම ඉදිරි රාත්‍රීන්වලත් සමාජ ශාලාව පිරිලා කියලා කියනවාත් (කරුණාකරලා ආපහු එන්න එපා). ඒ වගේම ඔවුන් දැකලා තිබුණා රැවුල නොබාපු සාමාන්‍ය ඇඳුමෙන් හිටිය මිනිසුන්ට මිලාන් බොහොම උනන්දුවෙන් ෂැම්පේන් වීදුරුවක් බොන්න ආරාධනා කරනවා. මේ කොපකබානාවේ අයිතිකාරයා තීරණයකට

ආවේ පෙනුම දිහා බලලා නෙමෙයි. ඒ වගේම ඔහු හැම වෙලාවෙම නිවැරදි වුණා.

ඒක හොඳ වෘත්තීය සම්බන්ධතාවක් වුණා. ඒ වගේම ඒක එයට සම්බන්ධ වෙච්ච හැම පාර්ශ්වයකටම ගැළපුණා. බහුතර ගනුදෙනුකාර පිරිස කසාද බැඳපු අයයි. නැත්නම් වැදගත් තනතුරු දරපු අය හරි වෙනත් අයයි. එතැන වැඩ කරපු සමහර ගෑනු අයත් කසාද බැඳලා ළමයි හිටපු අයයි. හවසට ළමයින්ගේ ඉස්කෝලෙන් පස්සේ ඒ අයව දෙමාපියන්ගේ ගෙදර නැවැත්තුවා. ඒත් ඒ ගොල්ලො දැනගෙන හිටියා මේක අනාවරණය වෙන්න අවදානමක් නැහැ කියලා. වෙනත් දෙමාපියෙක් කොපකබානාවලට ආවොත් ඒ ගොල්ලොත් එකඟතාවකට එන හින්දා කිසිවක්ම කියන්නට පුළුවන් වෙන්නෙ නැහැ : එහෙම තමයි ඔමෙර්තා (Omerta) වැඩ කරන්නේ.

එතැන ගැහැනුන් අතර වෘත්තීමය සම්බන්ධයක් තිබුණත් යාළුකමක් තිබුණේ නැහැ. කවුරුවත් ඒ අයගේ ජීවිත ගැන වැඩිපුර කතා කළේ නැහැ. කරපු පුංචි සංවාද කිහිපයෙන් මරියා දැනගත්තා ඇගේ සගයන් අතර කිසිම දොම්නසක්, වැරදිකාරී හැඟීමක් හෝ කනගාටුවක් නැති බව. තිබුණේ විඳ දරා ගැනීමේ හැකියාවකුයි. හරියට ඔවුන් ලෝකෙට ස්වාධීනව, විශ්වසනීයව මුහුණ දීපු විධිය ගැන ආඩම්බරෙන් ඇස්වල තිබුණු අමුතුම තාලේ මුරණ්ඩු දිලිසීමකුයි. සතියකට පස්සේ ආපු ඕනෑම අලුත් කෙනෙක්වත් ''වෘත්තීය සගයෙක්'' විධියට සැලකුවා. ඒ වගේම ඒ ගොල්ලන්ට හැම තිස්සෙම කසාදයට අත නොගහන්න කියලා අවවාද ලැබුණා. (ගණිකාවක් පවුලේ සමබරතාවයට හානියක් ) ඒ වගේම වැඩ කරන වෙලාවෙදි කවදාවත් පිටතැන්වලදි මුණගැහෙන්න කියලා එන ආරාධනා භාරගන්න එපා කියලත්, අදහසක් ප්‍රකාශ නොකර පාපොච්චාරණයන්ට ඇහුම්කන්දී ඉන්නත්, උච්චතම වෙලාවෙදි හයියෙන් කෙඳිරි ගාන්නත් (මරියා දැනගත්තා හැමෝම මේක කරනවා කියලා. ඒත් ඒක ඇයට ඒ ගොල්ලො පළවෙනි දවසෙම කිව්වේ නැහැ. මොකද ඒක මේ වෙළඳාමේ එක ප්‍රයෝගයක්) පාරෙදි පොලිසියට ආචාර කරන්නත්, රැකියා බලපත්‍රයත් සෞඛ්‍ය පරීක්ෂණත් කලට වෙලාවට අලුත් කරගන්නත්, ඒ වගේම අන්තිමේදි, තමන් කරන වැඩේ තියෙන නීතිමය තත්ත්වය ගැන

හරි සදාචාරාත්මකභාවය ගැන හරි ගැඹුරට නොසොයන්නත් අවවාද ලැබුණා. ඒ ගොල්ලො ඒ ගොල්ලොම තමයි, ඒක එහෙම තමයි.

ඒක පිරෙන්න කලින් හැම තිස්සෙම මරියා පොතක් අතේ තියාගෙන ඉන්නවා දකින්න පුළුවන් වුණා. ඒ වගේම ඉතා ඉක්මනින් ඇය කණ්ඩායමේ බුද්ධිමත් කෙනා විදියට හැඳින්වූවා. මුලදී ඔවුන්ට දැනගන්න ඕන වුණා ඇය ආදර කථාවක් කියවනවද කියලා. ඒත් ඒ පොත් හරියට දූවිලි තරම් වියළි විෂයයන් ගැන ලියවෙච්ච, ඒ කියන්නේ හරියට ආර්ථික විද්‍යාව, මනෝ විද්‍යාව - ළඟකදී ඉඳන් - ගොවිපොළ කළමනාකරණය වගේ විෂයයන් කියලා දැක්කහම ඔවුන් ඇයට තනියම ඇගේ පර්යේෂණ කටයුතු කරගෙන යන්නත්, නිදහසේ සටහන් ලියා ගන්නත් ඉඩ හැරියා.

ඇයට බොහෝ ගනුදෙනුකාරයන් හිටිය නිසාත්, ඇය කොපකබානාවලට හැම රාත්‍රියකම, කාර්ය බහුල නොවූ වෙලාවලදී පවා ගිය නිසාත්. මරියා මිලාන්ගේ විශ්වාසයත්, ඇගේ වෘත්තීය සගයන්ගේ ඊර්ෂ්‍යාවත් යන දෙකම ලබා ගත්තා. ඔවුන් කිව්වා ඇය තමන්ගේ ඉලක්කයට යන, උද්ධච්ඡ, සල්ලි හම්බ කරන එක ගැන විතරක් හිතන කෙනෙක් කියලා. - අන්තිම ටික නම් හරි. ඒත් ඇයටත් අහන්න හිතුණා ඒ අය මෙතන ඉන්නේ ඒ හේතුව නිසා නෙමෙයිද කියලා.

කොහොම වුණත්, ඒ වගේ මතවලට කාටවත් මරන්න පුළුවන් වුණේ නැහැ. - ඒවා ඕනෑම සාර්ථක මනුස්සයකුගේ ජීවිතේ එක් කොටසක්. ඉතිං ඇගේ අරමුණු දෙකෙන් : තෝරාගත්තු දවසක බ්‍රසීලයට යන එකත්, ගොවිපොළක් මිලදී ගන්න එකෙනුත්, ඇයව දෙකට බෙදන්න ඉඩ දෙනවාට වඩා මේ වගේ දේවල්වලට පුරුදු වෙන එක වඩා හොඳ වුණා.

රැල්ෆ් හාට් මේ වෙනකොට, ඇගේ සිතුවිලිවල උදේ ඉඳන් රෑ වෙනකම්ම හිටියා. ඒ වගේම පළවෙනි වතාවට ඇයට පුළුවන් වුණා ළඟ නැති ආදරයකින් සතුටු වෙන්න. හැමදේම නැතිවෙන්නට එපමණ අවදානමක් තිබියදී, ඇගේ ආදරය පාපොච්චාරණය කරන්න වුණු එක ගැන ඇය ටිකක් දුක්වුණා. ඒත් ඇය පෙරළා කිසිවක් ඉල්ලුවේ නැත්නම්, ඇයට මොනවද නැතිවෙන්න තිබුණේ? ඇයට මතක් වුණා මිලාන්, රැල්ෆ් හාට් කියන්නේ (හිටපු) විශේෂ

ගනුදෙනුකාරයෙක්ය කියලා කියපු වෙලාවෙදි ඇගේ හදවත කොච්චර වේගයෙන් ගැහුණද කියලා? ඇයට පාවා දුන්නා වගේම ඊර්ෂ්‍යා සහගත හැඟීමකුත් ඇතිවුණා.

ඊර්ෂ්‍යා වෙන එක බොහොම සාමාන්‍ය දෙයක් වුණත්, ජීවිතය ඇයට කියලා දීල තිබුණා කෙනෙක්ව අයිති කරගන්නට හිතන එක නිෂ්ඵල වැඩක් කියලා. කවුරු හරි ඊර්ෂ්‍යාව කියන එක තමන්ව රවට්ටන එකක් කියලා හිතුව වුණත්, ඇයට නම් මේ ඊර්ෂ්‍යාකාරී හැඟීම නවත්තගන්න බැරිවුණා. ඒ වගේම ඒ ගැන බරපතළ බුද්ධිමය සිතුවිලි නඟා ගන්න බැරිවුණා, එහෙමත් නැත්නම් ඒ ගැන හිතන එක පවා දුබල බව ඔප්පු කරන්නක් වුණා.

''ශක්තිමත් ආදරය තමයි සියුමැලිබව පෙන්නන්න පුළුවන් ආදරය. කොහොම වුණත්, මගේ ආදරය ඇත්ත නම්, (මගේ මනස අවුල් කරන එකක් විතරක් නොවේ නම්, මාව රවට්ටන දෙයක් නොවෙනව නම්, ගතවෙන කාලය මේ නගරය ඇතුළෙදි දැනෙන්නේ නැතිනම්) නිදහස විසින් ඊර්ෂ්‍යාවත්, ස්වභාවික ක්‍රියාවලියේම කොටසක් වෙන වේදනාවත් ජය ගනීවි. ක්‍රීඩා පුහුණුවෙන ඕන කෙනෙක් මේ ගැන දන්නවා. ඔබට ඔබේ අරමුණු ජයගන්න ඕන නම්, දිනපතා ලැබෙන වේදනාවටත්, අපහසුතාවේ මාත්‍රාවටත් සූදානම් වෙන්න ඕන. මුලදී ඒක අප්‍රසන්න වගේම අධෛර්යයට පත්කරන්නක් වේවි. ඒත් කාලෙකදී ඔබ අවබෝධකර ගනීවි මේක සුබදායී ,හැඟීම් දනවන ක්‍රියාවලියේම කොටසක් කියලා. ඔබට වේදනාව දැනෙන්නේ නැති මොහොතක් ආවහම, ඒ අභ්‍යාස ඔබට අවශ්‍ය වුණු ආකාරයට සිද්ධවෙලා නැහැ කියලා හැඟේවි.''

එක්තරා පුද්ගලයකුගේ නමක් දෙමින් භයානකකම, වේදනාව තුළ වැතිර සිටිනවා. ඒක හැම වෙලාවෙම ඔබේ සිතුවිලි ඇතුළෙ පෙනී ඉන්නවා. එයින් ඇයට ගැළවෙන්නට හැකිවුණු එක ගැන මරියා දෙවියන්ට ස්තුතිවන්ත වුණා.

එහෙම වුණත්, සමහර වෙලාවට ඔහු කොහේද, ඇයි ඔහු ඇයව බලන්න ආවේ නැත්තේ. දුම්රිය ස්ථානය සම්බන්ධ සම්පූර්ණ කථාව ආශාව මැඩ පවත්වපු මෝඩ එකක් කියලා ඔහු තේරුම් ගත්තද, ඇගේ ආදරය ඔහුට ප්‍රකාශ කරපු හින්දා ඔහු සදහටම ඈත්වෙලා ගියාද කියලා ඇය හොයමින් හිටිය බව ඇයටම දැනුණා.

ලස්සන සිතුවිලි වේදනාවට පෙරළෙන එක වළක්වන්න ඇය අලුත් ක්‍රමයක් හදා ගත්තා : රැල්ෆ් හාට් ගැන ධනාත්මක දෙයක් ඔළුවට ආවාම ඒක ගින්දර හරි වයින් හරි වෙන්න පුළුවන්, ඔහුත් එක්ක කතා කරන්න කැමති අදහසක් වෙන්න පුළුවන් එහෙමත් නැත්තම්, ඔහු නැවතත් එන්නේ කවදාද කියලා දැනගන්න තියෙන ප්‍රීතියත් දැඩි ආශාවත් මිශ්‍රිත වුවමනාව වෙන්නත් පුළුවන් - මරියා කරමින් හිටි දේ නැවැත්තුවා. අහස දිහා බලලා, හිනාවෙලා ඇය ආදරය කරන මනුස්සයාගෙන් පෙරළා කිසිවක් බලාපොරොත්තු නොවීම ගැනත්, නොමැරී ජීවත්වෙලා ඉන්න එක ගැනත් දෙවියන්ට ස්තුති කළා.

අනෙක් අතට, ඇගේ හදවත ඔහු ළඟ නැතිවීම ගැන නැත්නම් ඔවුන් එකට හිටපු වෙලාවේ ඇය විසින් නොකිය යුතුව තිබූ දේවල් ගැන පැමිණිලි කරන්න පටන් ගත්තොත්, ඇය ඇයටම මෙහෙම කියා ගනීවි :

''ආහ්, ඔයාට එහෙම නම් ඕන ඒ ගැන හිතන්න, එහෙම නේද? හරි, එහෙම නම් ඔයා ඔයා කැමති දෙයක් කරගන්න, ඒ අතර මම මීට වඩා වැදගත් වැඩක් කරන්නම්.''

ඇය දිගටම පොත් කියවන්න පටන් ගත්තා. ඇය එළියේ ඉන්නකොට, ඇය, ඇය වටා ඇති දේවල් ගැන අවධානය යොමු කළා : පාට, මිනිස්සු, ශබ්ද - විශේෂයෙන් ශබ්ද, ඇගේම පියවරවල හඬ, පිටු පෙරළෙන හඬ, කාර්වල, එහෙන් මෙහෙන් ඇහෙන කථාබස්වල හඬ, ඒ අනුව අවසානයේදී අවාසනාවන්ත සිතුවිල්ල නැතිවෙලා ගියා. මිනිත්තු පහකට විතර පස්සේ ආපහු ඒක ආවොත්, ඒ සිතුවිලිම ඒවා අනුමත කළා වගේම, කරුණාවන්ත ලෙස, ප්‍රතික්ෂේප වුණු බව දැනගෙන සැලකිය යුතු කාලයකට ඈත්වෙලා ගියා.

මේ ''නිශේධනාත්මක සිතුවිලි''වලින් එකක් වුණේ ඔහුව නැවත කිසිදාක දැකගන්නට නොහැකියි කියන හැඟීමයි. පොඩි පුහුණුවකිනුත්, විශාල ඉවසීමකිනුත් ඇයට මේ සිතුවිල්ල ''ධනාත්මක සිතුවිල්ලකට'' හරවගන්න පුළුවන් වුණා. ඇය ජිනීවාවලින් ගියාම, ජිනීවා නගරය පැරණි තාලේ දිග කොණ්ඩයක් තියෙන, කුඩා දරුවකුගේ සිනහවක්, ගාම්භීර කටහඬක් ඇති පුද්ගලයකුගේ මුහුණක් වේවි. කවුරු හරි ඇගෙන් අවුරුදු ගාණකට

පස්සේ ඇහුවොත්, තරුණ කාලෙ ඔයා දැනගෙන හිටපු තැන මොනවගේද කියලා ඇය උත්තර දේවි :

''හුඟක් ලස්සනයි, ආදරය කරන්නත්, ආදරය ලබන්නත් පුළුවන් තැනක්.''

මරියාගේ දිනපොතෙන් : කොපකබානාවල කම්මැලි රාත්‍රියකදී :

මෙහෙට ආපු මිනිස්සුත් එක්ක ගත කරපු හැම කාලෙකටම පස්සේ මම, ලිංගිකව එකතු වෙනවා කියන්නේ, සත්‍යයෙන් පලා යන්න, ප්‍රශ්න අමතක කරන්න, සැහැල්ලු වෙන්න පාවිච්චි කරපු මත්ද්‍රව්‍යයක් කියලා නිගමනයකට ආවා. අනෙක් හැම මත්ද්‍රව්‍යයක්ම වගේ මේකත් හානිකර සහ විනාශකාරී භාවිතාවක්.

කෙනෙකුට ලිංගිකත්වය විදියට හරි වෙන ඕන විදියකට හරි මත්ද්‍රව්‍ය පාවිච්චි කරන්න ඕනෙ නම් ඒක තමයි ඒ අයගේ ප්‍රශ්නේ : ඒ අයගේ ක්‍රියාවේ ප්‍රතිඵලය හොඳ හෝ නරක වෙන්නේ ඒ අය ගන්න තීරණය මතයි. ඒත් අපේ ජීවිතේ ඉදිරි ගමනක් ගැන කතා කරනවා නම්, අපි තේරුම් ගන්න ඕන ''තරමක් හොඳයි'' කියන්නේ ''හොඳම'' කියන එකෙන් බොහෝම වෙනස් එකක් කියලා. ලිංගිකත්වය කියන්නේ මගේ සේවාදායකයො හිතන එකට වඩා ප්‍රතිවිරුද්ධ එකක්. ඒක ඕනම වෙලාවක අත්හදා බලන්න පුළුවන් දෙයක් නෙමෙයි. අපි හැමෝගෙම ඇතුළෙ ඔරලෝසුවක් තියෙනවා. ලිංගිකව එකතුවෙන්න ඕන නම් ඒ ඔරලෝසුවේ කටු දෙකම එකම පැයකට එකම වෙලාවකදි හැරිලා තියෙන්න ඕන. ඒක හැමදාම වෙන්නේ නැහැ. ඔයා අනෙක් කෙනාට ආදරය කරනව නම් සතුටු වෙන්න ලිංගික හැසිරීම මත යැපෙන්න ඕන නැහැ. එකට ජීවත්වෙන, එකිනෙකාට ආදරය කරන දෙන්නෙක් ඒ අයගේ ඔර්ලෝසුවල කටු, ඉවසීමකින් වගේම දැඩි උත්සාහයකින්, ක්‍රීඩාවක් වගේම ''නාට්‍ය ජවනිකාවක්'' විදියට ගළපන්න ඕන. ලිංගිකව එකතුවෙනවා කියන්නේ හමුවීමකට වඩා එහා දෙයක් කියලා ඒ ගොල්ලෝ තේරුම් ගන්නකං ඒක ලිංගික අවයවවල ''වැළඳගැනීමක් '' විතරයි.

හැම දෙයක්ම වැදගත්. ඔබ ඔබේ ජීවිතය ඉතා වුවමනාවෙන් ජීවත් කරවනවා නම්, ඔබ හැම වෙලාවෙම සතුට භුක්ති විඳිනවා, ඒ වගේම ලිංගික අවශ්‍යතාවකුත් දැනෙන්නෙ නැහැ. ඔබ ලිංගික ක්‍රියාවේ යෙදෙන කොට කිසිදාක සමෘද්ධිමත් හැඟීමක් ඇති කරන්නේ නැහැ. මොකද වයින් වීදුරුවක් සම්පූර්ණයෙන්ම පිරුණහම ඒක ස්වභාවිකවම උතුරලා යනවා. මොකද ඒක අනිවාර්යය දෙයක්. මොකද ජීවිතයේ ඇමතුමට ඔයා ප්‍රතිචාර දක්වන නිසා, මොකද ඒ මොහොතෙදී, ඒ මොහොතෙදී විතරක් ඔබ ඔබවම නිදහසේ ගලාගෙන යන්න ඉඩ හරින නිසා.

සැ : යු : මම මේ දැන් මම ලියපු දේවල් ආපහු කියෙව්වා. දෙයියනේ මම මාර බුද්ධිමත් කෙනෙක් වෙලානේ.

# 23

දිනපොත ලියලා ටික වෙලාවකින්, ඇය තවත් රාත්‍රියක් සඳහා, අවබෝධයෙන් යුතු මවක්, අහිංසක ගැහැනු ළමයෙක් විදිහට සූදානම් වෙද්දී කොපකබානාවේ දොර ඇරුණා. ඊළඟට ගීත පටිගත කිරීමේ සමාගමේ විධායකයා, විශේෂ ගනුදෙනුකාරයන්ගෙන් කෙනෙක් වෙච්ච ටෙරන්ස් ඇතුළට ආවා.

කවුන්ටරය පිටිපස්සේ මිලාන් සතුටින් ඉන්නවා පෙනුණා. මරියා එයාගේ බලාපොරොත්තු කඩ කරලා තිබුණේ නැහැ. මරියාට අඩු වැඩි විදිහට කියපු වචන මතක් වුණා : ''වේදනාව, වධ විදීම, ඒත් එක්කම විශාල සතුට''

''මම ලන්ඩන් ඉඳලා ආවේ විශේෂයෙන්ම ඔයාව දකින්නයි. මම ඔයා ගැන ගොඩක් හිතමින් තමයි හිටියේ.''

ඇය වැඩිපුර උනන්දුවක් නොපෙන්වන්නට උත්සාහ කරමින් හිනාවුණා. ඔහුට ආපහු මෙතන සිරිත් අනුගමනය කරන්න බැරිවුණා. ඇගෙන් බොන්න යමක් ඕනද කියලා ඇහුවෙත් නැහැ. ඒත් එයා ඇගේ මේසයෙන් වාඩිවුණා.

''ගුරුවරයෙක් කාට හරි යමක් ඉගෙන ගන්න උදව් කරනකොට, ඒ ගුරුවරයත් හැම තිස්සෙම අලුත් දෙයක් ඉගෙන ගන්නවා.''

''මම දන්නවා ඔයා කියන්නේ මොනවද කියලා'' රැල්ෆ් හාට් ගැන හිතමින්, මෙහෙම කරන එක සම්බන්ධයෙන් ඇය ගැන නොරිස්සුම් හැඟීමෙන් යුතුවම ඇය කිව්වා. ඇය හිටියේ තවත් සේවාදායකයෙක් එක්කයි. ඒ හින්දා ඇය ඔහුට ගෞරව කරන්න ඕන. ඒ වාගේම ඔහු සතුටු කරන්න ඇයට පුළුවන් දේ කළ යුතුයි.

''ඔයාට ඒක ඉස්සරහට කරගෙන යන්න ඕනද?''

ෆ්‍රැන්ක් දාහක්. සැඟවිච්ච විශ්වයක්. ඇගේ හාම්පුතා ඇය දිහා බලාගෙන ඉන්නවා. ඇය තෝරා ගන්නා ඕනෑම වෙලාවක ඇයට ඒක නවත්තන්න පුළුවන්කම තියෙනවා කියන විශ්වාසය ආපහු බ්‍රසීලයට යන්නට වෙන්වෙලා තිබුණු දවස. ඇයව ආපහු කවදාවත් බලන්න ආපු නැති ඒ අනෙක් මිනිහා.

''ඔයාට හදිස්සිද?'' මරියා ඇහුවා.

ඔහු නැහැයි කිව්වා. ඇයට ඒකෙන් වුවමනා වුණේ මොකක්ද?

''මම කැමතියි මගේ සුපුරුදු බීමත් මගේ සුපුරුදු නැටුමත් කරලා, මගේ වෘත්තියට යම් ගරුත්වයක් දෙන්න.''

ඔහු ටික මොහොතකට පැකිළුණා. ඒත් බලය පවත්වන එකත්, බලයට යටවෙන එකත් නාට්‍යයේම කොටසක් වුණා. ඔහු ඇයට බීම එකක් ගෙනත් දීලා ඇයත් එක්ක නැටුවා. ඊළඟට ටැක්සියක් ගෙන්නගෙන නගරය හරහා ඒ සුපුරුදු හෝටලයටම යන අතරතුරේදී ඇයට මුදල් දුන්නා. ඒ ගොල්ලො ඇතුළට ගියා. හරියට ඔවුන් මුණගැහුණ පළවෙනි දවසේ රාත්‍රියෙදි වගේ. ඔහු ඉතාලියානු පෝටර්වරයාට ආචාර කළා. ඊට පස්සේ ඒ ගොල්ලො ගඟ දර්ශනය වෙන ඒ කාමර පේළියටම ගියා.

ටෙරන්ස් නැඟිටලා එයාගේ ලයිටරය එළියට ගත්තා. ඊට පස්සේ තමයි මරියා දැක්කේ ඉටි පන්දම් දුසිම් ගාණක් කාමරය පුරාම තියෙනවා කියලා. ඔහු ඒවා පත්තු කරන්න පටන් ගත්තා.

''ඔයා මොනවද දැනගන්න කැමති? ඇයි මම මේ වගේ හැසිරෙන්නෙ කියලද? මම එච්චර වැරදි නැත්තම්, අපි එකට ගත කරපු හැන්දෑවෙදි ඔයා හුඟක් සතුටු වුණා. ඔයා මේකටත් කැමති ඇයි කියලා දැනගන්න ඕනද?''

''මම හිත හිත හිටියේ, බ්‍රසීලයේ අපිට තියෙනවා මිත්‍යා විශ්වාසයක් එක ගිනිකූරකින් දේවල් තුනකට වඩා කවදාවත් පත්තු කරන්න හොඳ නැහැ කියලා. ඔයා ඒ විශ්වාසයට ගරු කරන් නෑ''

ඔහු ඇගේ කීම සැලකුවේ නැහැ.

''ඔයත් මං වගේ. ඔයා මෙතන ඉන්නේ ෆ්‍රැන්ක් දාහ හින්දා නෙමෙයි. ඒත් ඒ ඔයාගේ විවිධ සංකීර්ණතා, අනාරක්ෂිත හැඟීම් නිසා ඇතිවෙච්ච වැරදිකාරී, යටපත් බවට පත්වීම හින්දයි. ඒක

හොඳ හරි නරක හරි දෙයක් නෙමෙයි. ඒක තමයි මනුෂ්‍ය ස්වභාවය.''

ඔහු දුරස්ත පාලකය අතට අරන් යුද්ධයකින් පලා එන සරණාගතයෝ ගැන වාර්තාවක් යන රූපවාහිනි ප්‍රවෘත්තියක් මුණ ගැහෙනකං කිහිප වතාවක්ම නාලිකාවලට මාරු කළා.

''ඔයා දැක්කද ඒක? ඔයා දැකල තියෙනවද මිනිස්සු ඒ අයගේ පෞද්ගලික ප්‍රශ්න හැමෝම ඉස්සරහ කථා කරන මේ වගේ වැඩ සටහන්. ඔයා කියෝස්ක් පත්තරේ සිරස්තල බලල තියෙනවද? ලෝකේ වේදනා විඳින එකත්, වේදනාවත් දෙකම රස විඳිනවා. අපි මේවා බලන එකේ කෲර පරපීඩක සතුටක් තියෙනවා. ආස්වාදයේදී අපිට සතුටු වෙන්නට මේ දේවල් දැනගන්න ඕන නෑ කියන ස්වපීඩක කටුකත්වයත් තියෙනවා. ඒ වුණත් සමහර වෙලාවට අපි අනෙක් අයගේ ඛේදවාචක දිහා බලලා ඒ අයත් එක්ක විඳවන්න කැමතියි.

ඔහු ෂැම්පේන් වීදුරු දෙකක් පිරෙව්වා. රූපවාහිනිය නිවලා දාලා මරියා මතක් කරපු මිත්‍යා විශ්වාසය සම්බන්ධ කථාව කඩකරමින්ම ඉටිපන්දම් පත්තු කරන්න පටන් ගත්තා.

''මම කියපු විදියට ඒක තමයි මනුෂ්‍ය ස්වභාවය. අපිව දිව්‍ය ලෝකයෙන් පිට කරපු දවසේ ඉඳන් අපි එක්කෝ වේදනා විඳිනවා, නැත්නම් අනික් මිනිස්සුන්ව වේදනාවට පත් කරනවා. එහෙමත් නැත්තම් අනෙක් අය වේදනා විඳිනවා බලන් ඉන්නවා. ඒක අපේ පාලනයෙන් තොර දෙයක්''

එළියෙන් ගොරවන, විදුලි කොටන ශබ්දයක් ආවා. විශාල කුණාටුවක් ළංවෙමින් තිබුණා.

''ඒත් මට ඒක කරන්න බැහැ.'', මරියා කිව්වා. ''ඔයා මගේ ස්වාමියා මං ඔයාගේ වහලා වගේ හරි පෙන්නන එක මට නං විකාරයක් වගේ. අපිට ''වේදිකාවක්'' ඕන නෑ දුක්විඳින එක තේරුම් ගන්න. ජීවිතේ අපිට ඒක තේරුම් ගන්න ඕනවටත් වඩා අවස්ථා දෙනවා.''

ටෙරන්ස් ඉටිපන්දම් දල්වන එක අවසන් කළා විතරයි ඔහු එක ඉටිපන්දමක් අරගෙන මේසය මැදින් තියලා ඊට පස්සේ තවත් ෂැම්පේනුත්, මාළු බිත්තර අච්චාරුත් ඇයට පිරිනැමුවා.

මරියා ඉක්මනින් බොමින් ඇගේ බෑගය ඇතුළෙ තියෙන ඉෑත්ක් දාහක මුදලත්, ඇයව වශී කරන, ඇයව බියට පත් කරන මේ ආගන්තුකයා ගැනත්, ඇගේ මේ භීතිය පාලනය කරගන්නේ කොහොමද කියලත් හිතුවා. මේ මනුස්සයා එක්ක ගත කරන එකුදු රාත්‍රියක්වත් කවදාවත් එක විදියේ ඒවා නොවන බව ඇය දැනගෙන හිටියා. ඇයට කිසිම විදියකට ඔහුට තර්ජනයක් කරන්න බැරිවුණා.

''ඉඳගන්න.''

ඔහුගේ කටහඬ කරුණාවන්ත සහ ආඥාදායකත්වය අතර මාරුවුණා. මරියා අවනත වුණා. ඒ වාගේම ඇගේ ශරීරය ඇතුළෙ උණුසුම් දහරාවක් පැතිරී ගියා. ඒ අණකිරීම බොහෝම හුරු පුරුදු එකක්. ඇයට ආරක්ෂිත බවක් දැනුණා.

''මේක නාට්‍යයක්. මං නාට්‍යයත් එක්ක එකතුවෙන්න ඕන.''

ඒ අණ කිරීම් බොහෝම අපූරු එකක් වුණා. ඇයට හිතන්න කිසිවක් තිබුණේ නැහැ. තිබුණේ අවනත වෙන්න විතරයි. ඇය තවත් ෂැම්පේන් ඉල්ලුවා, ඔහු වොඩ්කා අරන් ආවා. ඒක කෙනෙක්ගෙ ඔළුවට ඉක්මනින්ම දනවන්න පුළුවන් එකක්. කෙනෙක්ව සැහැල්ලු කරන්න පුළුවන් එකක්. ඒ වගේම ඒක මාළු බිත්තර අච්චාරුවත් එක්ක බොහොම අපූරුවට ගැළපුණා.

ඔහු බෝතලය ඇරියා. එළියෙන් එන ගෙරවුම් හඬටත්, විදුලි කොටන හඬටත් සවන් දීගෙන මරියා අඩු වැඩි වශයෙන් තනියම බොමින් හිටියා. අහසේත්, පොළවේත් ශක්තිය ප්‍රචණ්ඩ බව පෙන්වමින් හිටියේ හරියට ඒ මොහොත පරිපූර්ණ කරන්න සියල්ල රහස් කුමන්ත්‍රණයක යෙදෙමින් හිටියා වගෙයි.

ටික වෙලාවකට පසුව ටෙරන්ස් කුඩා සූට්කේසයක් අල්මාරියෙන් අරගෙන ඇඳ උඩින් තිබ්බා.

''හෙල්ලෙන්න එපා''

මරියා නොසෙල්වී වාඩිවුණා. ඔහු සූට්කේසය ඇරලා සුදු යකඩ මාංචු කුට්ටමක් එළියට ගත්තා.

''කකුල් දෙක ඇත් කරගෙන වාඩිවෙයන්''

ඇය කීකරු වුණා. - කිසිදු තෝරා ගැනීමකින් තොරවම අවනත වුණා. මොකද ඇයටත් එහෙම වෙන්න ඕන වුණා. ඇය

දක්කා ඔහු ඇයගේ කකුල් දෙක අතරින් බලාගෙන ඉන්නවා. ඔහුට ඇගේ කළුපාට යට කලිසමත්, ඇගේ දිග ස්ටෝකින්ස් මේසුත්, ඇගේ කලවාත් දකගන්නට පුළුවන් වුණා. ඇගේ රහස් ප්‍රදේශයේ රෝම කූපත් ඇගේ ලිංගයත් හිතාගන්නට පුළුවන් වුණා.

''නැගිටපං''

ඇය පුටුවෙන් පැන්නා. ඇයට කෙළින් හිටගෙන ඉන්න අපහසු බව තේරුම් ගිය අතර ඇය හිතුවටත් වඩා බීමත්ව හිටි බව අවබෝධවුණා.

''මං දිහා බලන්න එපා. ඔළුව පාත් කරගනිං. උඹේ ස්වාමියාට ගරු කරපන්. ''

ඇය ඔළුව පාත් කරගන්න කලින් සූට්කේසයෙන් එළියට ගත්තු සිහින් කසයක් දක්කා. ඒක අවට වාතය පුරා හඬ නැගුවේ හරියට ඒකටම ආවේණික ජීවිතයක් තිබුණා වගේ.

''බීපන්. ඔළුව පල්ලෙහාට දාගනිං. ඔහොම බීපං.''

ඇය තවත් වොඩ්කා වීදුරුවක්, දෙකක් තුනක් බිව්වා. මේක දං නාට්‍යයක් විතරක්ම නෙමෙයි ඒක යථාර්ථයක් : පාලනය ඇයගෙන් තොරවුණා. ඇයට ඇයව දනුණේ ජීවයෙන් තොර වස්තුවක්, නිකම්ම නිකම් උපකරණයක් විදියටයි. ඒක ඇදහිය නොහැකි දෙයක් වුණත් ඒ අවනත වීමේ හැඟීම ඇයට පූර්ණ නිදහසක් ගෙන දුන්නා. ඇය තව දුරටත් මඟ පෙන්වන සනසවන පාපොච්චාරණයන්ට ඇහුම් කන් දෙන, හැඟීම් අවුලවන ගුරුවරිය වුණේ නැහැ. ඒ පිරිමියාගේ විශ්මිත බලය ඉදිරිපිට ඇය බ්‍රසීලයේ ඇතුළු ගමකින් ආපු ගෑනු ළමයෙක් විතරක් වුණා.

''ඇඳුම් ගලවපං.''

ඒ නියෝගය ආශාවේ අඩු වැඩිවීමකින් තොරව හදිසියේම ආපු එකක්. වෙනත් කිසිවක්ම මේ තරම් ශෘංගාරය දනෙව්වේ නැහැ. ගෞරවය දක්වන සලකුණක් විදියට ඇගේ ඔළුව පහත් කරගෙන හිඳිමින් මරියා ඇගේ ඇඳුමේ බොත්තම ගලවලා ඒක බිමට වැටෙන්නට සැලැස්සුවා.

''උඹ හරියට හැසිරෙන්න දන්නේ නැහැ. උඹ ඒක දන්නවද?''

නැවතත් කසය අවට ගිගුම් දුන්නා.

"උඹ දඬුවම් ලැබිය යුතුයි. උඹේ වගේ වයසක ඉන්න ගෑනු ළමයෙක්ට මට විරුද්ධ වෙන්න තරම් හයියක් කොහෙන්ද? උඹ මම ඉස්සරහ දණ ගහන්න ඕන."

මරියා බිම දණ ගහන්න වගේ සැරසුණා. ඒත් කසය ක්ෂණිකව ඇයව නැවැත්තුවා. පළවෙනි වතාවට ඒක ඇගේ සිරුර - තට්ටම් - ස්පර්ශ කළා. ඒක වේදනාකාරී වුණත් කිසිම පැල්ලමක් ඉතිරි කළේ නැහැ.

"මම උඹට කිව්වද දණ ගහන්න කියලා?"

"නැහැ"

නැවතත් කසය තට්ටම් හරහා වැදුණා.

"කියපං නැහැ සර් කියලා"

නැවතත් වේදනාකාරී කස පහරක්. තත්පරයකින් භාගයකදී ඇයට සිහිපත් වුණා - මේ දේ ඇයට නවත්වන්නට පුළුවන් කියන එකත් නැත්තම් ඒක දිගටම කරගෙන යන්න පුළුවන් කියන එකත්. එත් ඒ එහෙම කරනව නම් කරන්නේ සල්ලි හින්දා නම් නෙමෙයි. ඒ ඔහු ඇයට මුලින්ම කිව්ව කාරණාව හින්දයි - ඔයා, ඔයා ගැන දැනගන්නේ ඔයාගේ සීමාවලින් එළියට ගියොත් විතරයි.

ඒ වගේම මේක අලුත් දෙයක්. අවදානම් ක්‍රියාවක්. ඇයට පසුව තීරණය කරන්න පුළුවන් මේක දිගටම කරගෙන යනවද කියන එක. නමුත් මේ මොහොතේ ඇගේ සිරුරෙන් ජීවිකාව නඩත්තු කරපු, ගිනි උදුනක් වගේම රසවත් කථා කියන්නට තියෙන මනුස්සයෙක් මුණගැහුණු ජීවිතේ අරමුණු තුනක් විතරක් තියෙන ගෑනු ළමයා වීම ඇය නවත්තලා දැම්මා. මෙතැනදී ඇය කවුරුවත් නෙමෙයි. කිසිවෙක් නොවීම නිසා ඇයට ජීවිතේ සිහින දැකපු ඕනෑම දෙයක්, කෙනෙක් වෙන්න පුළුවන්කම තිබුණා.

"උඹගේ අතික් ඇඳුමත් ගලවලා දාපං. දැන් එහාට මෙහාට ඇවිදපං. එතකොට මට උඹව බලන්න පුළුවන්."

ඇගේ හිස පහතට හෙළාගෙන, කිසිම වචනයක්වත් නොදොඩා නැවත වතාවක් ඇය කීකරු වුණා. ඇය දිහා බලමින් පූර්ණ ඇඳුමින් සැරසිලා අතිශය හැඟීම් විරහිතව හිටිය මේ මනුස්සයා ඇයත් එක්ක සමාජ ශාලාවේ ඉඳලා මෙතැනට එනකොට කතාබහේ යෙදුණු මනුස්සයා නම් නෙමෙයි. ඔහු

ලන්ඩන් නුවර ඉඳන් ආපු යුලිසස් කෙනෙක්, ස්වර්ගයෙන් ගොඩ බැහැපු තීසියස් කෙනෙක්, ලෝකයේ ආරක්ෂිතම නගරය ආක්‍රමණය කරන කොල්ලකාරයෙක්, ඒ වගේම මිහිපිට ඉන්න සීතලම හදවතක් තියෙන කෙනෙක්. අනාරක්ෂිත බවත් ආරක්ෂිත බවත් එකවිට දනෙමින් ඇය ඇගේ යට කලිසමත්, බ්‍රෙසියරයත් ගලවා දැම්මා. මේ වතාවේ ඇගේ සිරුර ස්පර්ශ නොකරමින් නැවතත් කසය හඬ නැගුවා.

"බිම බලාගනිං! උඹ මෙතන ඉන්නේ අපහාස විඳින්නයි, මගේ හැම ආශාවකටම යටත් වෙන්නයි. උඹට තේරෙනවාද?"

"ඔව් සර්."

ඔහු ඇගේ අත්දෙක තදින් අල්ලාගෙන, මාංචු කුට්ටම ඇගේ මැණික් කටුව ළඟින් දැම්මා.

"උඹ හරියට හැසිරෙන්න ඉගෙන ගන්න කං, මගෙන් හොඳ පාරක් කන්නයි යන්නේ."

ඔහු අත්ලෙන් ඇගේ පිටුපස දෙසට අතුල් පහරක් ගැහුවා. මේ වතාවේ ඒක රිදුණා. මරියා හයියෙන් කෑගැහුවා.

"ආහ්. එහෙනං උඹ චෝදනා කරන්නත් පටන් අරං, එහෙම නේද? ඒත්, මම තාම පටන් අරගෙනවත් නැහැ."

ඇයට යමක් කරන්නට පුළුවන් වෙන්න කලින් ඔහු ඇගේ කටට හම් මුකවාඩමක් දැම්මා. එත් ඒක ඇයව කථා කරන එකෙන් වැළැක්කුවේ නැහැ. ඇයට තවමත් 'කහ' හරි 'රතු' හරි කියලා කියන්න පුළුවන්කම තිබුණා. ඒත් මේ මනුස්සයාට ඇයත් සමඟ කරන්න බලාපොරොත්තු වෙච්ච ඕනෑම දෙයක් කරන්නට ඉඩ හරින එක ඇගේ දෛවය කියලා ඇයට හැඟුණා. ඒ වගේම දැන් මෙතනින් පලා යන්නටත් කිසිම මාර්ගයක් තිබුණේත් නැහැ. ඇය හිටියේ නිරුවතින්. මුකවාඩම් වාගේම මාංචුත් දමාගෙනයි. වොඩ්කා ලේ වලටත් වඩා වැඩි වේගයකින් ඇගේ නහර තුළ ගලා ගියා.

ඇගේ තට්ටම් වලට තවත් අතුල් පහරක්.

"එහාට මෙහාට ඇවිදපං"

මරියා ඔහුගේ අණට කීකරුවෙමින් ඇවිදින්න පටන් ගත්තා. "නැවතියං", "දකුණට හැරියං", "වාඩිවෙයන්", "කකුල් දෙක

ඇත් කරපං'' එය ඇයට ලැබිය යුතු වූවත් නොවූවත් ඔහු නැවතත් ඇයට පහර ගැසුවා. ඇයට වේදනාවත්, ලැජ්ජාවත් දැනුණා. - ඒක වේදනාවටත් වඩා ප්‍රබල වුණා - කිසිවක් නොපවතින වෙනම ලෝකයක ඉන්නවා වගේ කියලා ඇයට හැඟුණා. ඒක බොහෝ දුරට ආගමික හැඟීමකට සමාන වුණා : ඒ කියන්නේ තම ආත්මය සහ කය නිරුද්ධ කිරීම, මමත්වය පිළිබඳ හැඟීම, ආශාව සහ ස්ව කැමැත්ත සම්පූර්ණයෙන්ම නැතිවීම වාගේ එකක්. ඇය බොහෝ සෙයින් තෙත් වුණා ආශාවෙන් හැඟීම් බොහොම ඇවිස්සුණා. එහෙත් සිදුවන්නේ කුමක්දැයි කියලා තේරුම් ගන්න බැරිවුනා.

''ආපහු දණ ගහපං''

අපහාසය, කීකරුකම පෙන්වන සලකුණක් විදියට හැමවිටම ඔළුව පහත් කරන් හිටපු හින්දා මරියට හරියටම මොකක්ද සිද්ධවෙන්නේ කියලා දැකගන්න බැරිවුණා. ඒත් ඇයට තේරුම් ගියා වෙනත් විශ්වයක, අනෙක් ග්‍රහලොවක ඉඳන් ඒ මනුස්සයා, හයියෙන් හුස්ම ගනිමින්, කය හසුරුවමින් ඇගේ තට්ටම් ප්‍රදේශයට තදින් පහර දීම නිසා වෙහෙසට පත්ව සිටිනවා. ඒ අතරතුරේදී ඇයට හැඟුණ ඇයව උද්යෝගයෙන් හා ශක්තියෙන් පිරී යනවා කියලා. දැන් ඇගේ සියලු ලැජ්ජාශීලීත්වය නැතිවී ගියා. ඇගේ සතුට පෙන්වන එක ගැන කිසිම අවුලක් නැතිවුණා. ඇයව ස්පර්ශ කරන්න කියා බැගෑපත් වෙමින් ඇය කෙඳිරි ගාන්න පටන් ගත්තා. ඒත් ඒ වෙනුවට ඒ මනුස්සයා ඇව තදින් අල්ලාගෙන ඇඳට විසිකළා.

ඔහු ප්‍රචණ්ඩව ඇගේ කකුල් ඈත් කරන්න බල කළා. - කොහොම වුණත් ඇය දැන හිටියා මේ ප්‍රචණ්ඩ හැසිරීම ඇයට කිසිදු හානියක් නොකරන බව- ඒ වගේම එක් එක් කකුල ඇඳේ කොණ්වල ගැටගැහුවා. දැන් ඇගේ අත් මැණික් කටු ළඟින් මාංචු දාලා පස්සට කර ගැටගහලා, ඇගේ කකුල් දෙක පළල් කරලා දාලා කටට මුකවාඩමක් දාලා තිබුණා. ඔහු ඇයව කොයි මොහොතේදී දූෂණය කරාවිද? ඔහුට පෙනුණේ නැද්ද ඇය ඒකට සූදානම් කියලා? එහෙමත් නැත්තම් ඇය ඔහුට සේවය කරන්න වුවමනායි කියලා? ඇය ඔහුගේ වහලා කියලා? ඔහුගේ තිරිසනා, ඔහුගේ දේ, ඒ වගේම ඇයට කරන්න කියලා ඔහු අණකරන ඕනෑම දෙයක් කරන්න ලෑස්තිය කියලා?

''උඹ කැමතිද තව දුරටත් මේක කරගෙන යන්න?''

ඇය දැක්කා කසයේ මිටේ කෙළවර ඇගේ යෝනි මාර්ගය මත තබනවා. ඔහු එය ඉහළට පහළට ඇතිල්ලුවා. ඉතිං එය ඇගේ යෝනි මාර්ගයට උඩින් ක්ලිටෝරිසයේ ගෑවෙද්දි ඇයට ඉවසුම් නැතුව ගියා. ඇයට ඔවුන් මෙතැන කොපමණ වෙලාවක් හිටියද කියලත්, කොපමණ වාරයක් ඇගේ තට්ටම්වලට පහර වැදුණද කියලත් අදහසක් නැතුව ගියා. ඒත් හදිසියේම, මේ ගත කළ මාස ගණනේදී දුසිම් ගණනක්, නැහැ, සිය ගණනක් පිරිමින්ට ඇයට දීමට නොහැකිවුණු සුරතාන්තයට ඇය පැමිණියා. එතැන ආලෝකයෙන් පිරී ගියා. ඇය දැඩි වේදනාවත්, බියත් මිශ්‍රිත පූර්ණ තෘප්තියක් දුන් ඇගේ ආත්මයේ කිසියම් අඳුරු ගුහාවකට ඇතුළු වෙනවා වගේ ඇයට හැඟුණා. ඇය කලින් දැන සිටි පැරණි සීමාවන්ගෙන් තමාව එළියට තල්ලුකර දමමින් කෙඳිරි ගෑවා, ගිරිය යටින් කෑගැහුවා. ඇගේ කටහඬ මුකවාඩමෙන් ඇවුරුණා. මාංචුවලින් ඇගේ මැණික් කටු කැපෙන බව හැඟෙද්දීත්, හම් පටි ඇගේ වළලුකර අඹරද්දීත් ඇය ඇඳ මත ඇඹරුණා. ඇයට දඟලන්න පුළුවන්කමක් නොතිබුණු හින්දා ඇය වෙන කිසිදාටත් වඩා දඟලුවා. ඇගේ කටේ මුකවාඩමක් තිබුණු හින්දාත්, ඇයව කාටවත් ඇහෙන්නේ නැති නිසාත්, ඇය කවදාටත් වඩා හයියෙන් බෙරිහන් දුන්නා. මේක වේදනාවත්, සතුටත් සහිත එකක් වුණා. කසයේ කෙළවර ඇගේ ක්ලිටෝරිසයේ වඩාත්ම වේගයෙන් ඇතිල්ලෙද්දී සුරතාන්තය ඇගේ මුවින්, ඇගේ යෝනියෙන්, ඇගේ හැම රෝම කූපයකින්, ඇගේ දෙනෙතින් හා ඇගේ සමෙන් පිටාර ගැලුවා.

ඇය කිසියම් ආවේශයකට ඇතුළු වුණා. ඉතිං හිමින්, හුඟාක් හිමින් ඇය ප්‍රකෘතියට පත්වෙන්න පටන් ගත්තා. දැන් ඇගේ කකුල් දෙක අතර කසයක් ඇතිල්ලෙමින් තිබුණේ නැහැ. තිබුණේ දහදියෙන් නැහැවුණු කොණ්ඩයත්, මාංචු ගැලවෙමින් තිබුණු දෙඅතුත්, ඇගේ වළලු කරවටා තිබුණු ගලවාපු හම්පටිත් පමණි.

ඇගේ කෑගැසීමත්, සුරතාන්තය ලැබීමත් නිසා තමන් ගැනම ඇතිවුණු ලජ්ජාවෙන් ඒ මනුස්සයාගේ දිහා බලන්නට බැරිකමෙන් ව්‍යාකූලව ඇය එතැන වැතිරී හිටියා. ඔහුත් හයියෙන් හුස්ම ගනිමින් ඇගේ කොණ්ඩය පිරිමදිමින් හිටියා. ඒත් සතුට සම්පූර්ණයෙන්ම ඇගේයි. ඔහු ප්‍රීති ප්‍රමෝදය එක මොහොතකවත් වින්දේ නැහැ.

අණ දෙමිනුත්, කෑ ගැසීමෙනුත්, ඒ අවස්ථාව තදින් පාලනය කිරීමෙනුත් වෙහෙසට පත්වුණු, සම්පූර්ණ ඇඳුමෙන් සැරසුණු මේ මනුස්සයා ඇගේ නිරුවත් සිරුර වැළඳ ගත්තා. ඇය මොනව කියන්නද, මොනව කරන්නද කියලා දැනගෙන හිටියේ නැහැ. නමුත් ඇයට ආරක්ෂාකාරී සහ සුරක්ෂිත හැඟීමක් දැනුණා. මොකද ඒ ඔහු, ඇයට ඇගේ ශරීරය තුළම, ඇය මීට පෙර කවදාවත්ම නොදැන සිටි තැනකට යන්න ආරාධනා කර තිබුණු නිසයි. ඔහු ඇගේ ආරක්ෂකයාත්, ස්වාමියාත් වුණා.

ඇය අඬන්න පටන් ගත්තා. ඔහු ඉවසීමෙන් ඇය හඬන එක අවසන් කරනකං බලන් හිටියා.

''ඔයා මොකක්ද මට කළේ? '' ඇය කඳුළු පිරුණු දෙනෙතින් යුතුව ඇහුවා.

''මට කියලා ඔයාට කරගන්න ඕන වුණු දේ''

ඔහුව දැඩිව ඕන කියන හැඟීමෙන් යුතුව ඇය ඔහු දිහා බැලුවා.

''මම ඔයාට කිසිම දෙයක් කරන්න කියලා බල කළේවත්, අවනත වෙන්න කියලවත් කිව්වේ නැහැ. ඒ වගේම ඔයා ''කහ'' කියලා කියනවා ඇහුණේත් නැහැ. මට තිබුණේ ඔයා මට දීපු ශක්තිය විතරයි. මගේ පැත්තෙන් කිසිම බලපෑමක්, තර්ජනයක් තිබුණේ නැහැ. තිබුණේ ඔයාගේ කැමැත්ත විතරයි. ඔයා වහලාත්, මම ස්වාමියාත් වුණා වෙන්න පුළුවන්. ඒත් මගේ එකම ශක්තිය වුණේ ඔයාව ඔයාගෙම නිදහස දිහාවට තල්ලු කරන එක විතරයි.''

මාංචු, වළලුකර වටා තිබුණු හම් පටි. මුකවාඩමක්. අපහාසය හැම වේදනාවකටම වඩා දැඩි, ප්‍රබල එකක් වුණා. - ඔහු හරියටම හරි - ඒ හැඟීම සම්පූර්ණ නිදහස් එකක් වුණා. මරියාට ජීවයෙන් පිරි ශක්තිමත්, ප්‍රාණවත් බවක් හැඟුණා. ඒ වගේම ඇය ළඟින් හිටි මේ මනුස්සයා අතිශය වෙහෙසට පත්ව සිටීම ගැන පුදුමයට පත්වුණා.

''ඔයාට වුණාද?''

''නැහැ'', ඔහු කිව්වා. ''ස්වාමියා ඉන්නේ වහලාව මෙහෙය වන්නයි. වහලාගේ තෘප්තිය තමයි ස්වාමියාගේ සතුට වෙන්නේ.'' මේ කිසිම දෙයක තේරුමක් තිබුණේ නැහැ. මොකද ඒක කතාවල

තිබුණු විදියවත්, ඇත්ත ජීවිතේ විදියවත් නොවුණු නිසයි. ඒත් මේ ෆැන්ටසි ලෝකය ඇතුලේ ඇය ආලෝකයෙන් පිරී ඉන්නකොට, ඔහු කිසියම් අපැහැදිලි බවකිනුත් ශක්තියෙන් පිරිහී ගිය බවකිනුත් දිස්වුණා.

''ඔයාට ඕන වෙලාවක යන්න පුළුවන්'' ටෙරන්ස් කිව්වා.

''මට යන්න ඕන නැහැ. මට තේරුම් ගන්නයි ඕන.''

''මෙතන තේරුම් ගන්න කිසිම දෙයක් නැහැ.''

ඇය ඇගේ නිරුවත් බවේ පූර්ණ සුන්දරත්වයත්, සියුම් බවත් තුළින් නැගිටලා වීදුරු දෙකකට වයින් පිරෙව්වා. ඇය සිගරට්ටු දෙකක් පත්තු කරලා එයින් එකක් ඔහුට දුන්නා. - එතැන් සිට භූමිකාවන් මාරු වුණා. දැන් ඇය තමාව සතුටු කිරීම වෙනුවෙන් වහලාට යමක් පිළිගන්වන ස්වාමි දුව බවට පත්වෙලා හිටියා.

''ඇඳුම් ඇඳගෙන මම මෙතනින් යන්නම්. ඒත් ඊට කලින් මම පොඩ්ඩක් කථා කරන්න කැමතියි.''

''මෙතන කතා කරන්න කිසිම දෙයක් නැහැ. මෙච්චරයි මට ඕන වුණේ. ඒ වගේම ඔයා විශිෂ්ටයි. මට දැන් මහන්සියි. මං හෙට ලන්ඩන් යන්නත් ඕන.''

ඔහු හාන්සිවෙලා ඇස් පියා ගත්තා. මරියා දැනගෙන හිටියේ නැහැ ඔහු නිදාගන්නවා වගේ හඟවනවාද කියලා. ඒ වගේම ඇය ඒ ගැන තැකීමක් කළෙත් නැහැ. ඇය විවේකයෙන් සිගරට්ටුව බොමින්, හිමින් ඇගේ වයින් වීදුරුව තොල ගෑවා. ජනෙල් වීදුරුවට තෙරපිලා තිබුණු ඇගේ මුහුණත් එක්ක වැවෙන් එහා පැත්ත බලාගෙන, අනික් ඉවුරේ ඉන්න කවුරු හරි ඇයව මේ විදියට නිරුවතින්, පිරුණු, තෘප්තිමත් හා විශ්වාසයෙන් ඉන්න හැටි දකින්නැයි ප්‍රාර්ථනා කළා.

ඇය ඇඳුම් ඇඳගෙන සමු නොදීම එතැනින් පිටවුණා. ඒ වගේම දොර අරින්නේ ඇයද, ඔහුද කියන එක ගැන කරදර වුණේත් නැහැ. මොකද ඇයට නැවත එන්න අවශ්‍ය වේවිද කියන එක ගැන ඇයටම විශ්වාසයක් තිබුණේ නැහැ.

ටෙරන්ස්ට දොර වැහෙන ශබ්දය ඇහුණා. ඇයට යමක් අමතක වුණා යැයි කියමින් නැවත ඇය පැමිණෙනකං ඔහු

බලාගෙන හිටියා. ඉතිං මිනිත්තු කීපයකට පස්සේ තමයි ඔහු නැඟිටලා තවත් සිගරට්ටුවක් පත්තු කරගත්තේ.

ඒ ගැනු ළමයාට හොඳ විලාසයක් තිබුණා. ඇය කසය හොඳින් දරා ගත්තා. කොහොම වුණත් මේක තමයි පරණම, හුඟක් සාමාන්‍යම, ඒ වගේම අඩුම හානියක් ගේන දඬුවම් ක්‍රමය. මොහොතකට වාඩිවෙලා, එකිනෙකාට ළංවෙන්න වුවමනා වුණු දෙන්නෙක්ගේ ගුප්ත සම්බන්ධය පළමු වතාවට අත්දකපු විදිය මතක් කළා. ඒත් එහෙම වෙන්න පුළුවන් වේදනා විඳීම් පරාජය කළොත් විතරයි.

මිලියන ගණනක් ජෝඩු දිනපතා පරපීඩා හා ස්වපීඩා කාමුකත්වයේ කලාව ඒ ගැන අවබෝධයක් නැතුවම ප්‍රගුණ කරලා තියෙනවා. ඔවුන් රැකියාවට ගිහින් ආපහු එනවා, හැමදෙයක් ගැනම මැසිවිලි නඟනවා, තමන්ගේ බිරිඳට අපහාස කරනවා. එහෙමත් නැත්තම් ඇගෙන් අපහාස ලබනවා. කාළකණ්ණිකම විඳිනවා. ඒ කොහොම වුණත් ඒ ගොල්ලො තදින් ඒ අයගේම අසංතෝෂයත් එක්ක බැඳිලා ඉන්නවා. ඒත් ඒ අය තේරුම් ගත්තේ නැහැ ඒ හැම දෙයක්ම ඒ ගොල්ලන්ව පීඩාවෙන් ගලවන එක සලකුණක්, අන්තිම සමුගැනීමක් කියලා. ටෙරන්ස් මේක බොහොම ප්‍රසිද්ධ ඉංග්‍රීසි ගායිකාවක් වෙච්ච ඔහුගේ බිරිඳත් එක්ක අත්විඳලා තිබුණා. ඔහු ඊර්ෂ්‍යාවෙන් මානසිකව පීඩා වින්දා. ප්‍රශ්න ඇතිකර ගත්තා. ඒ වගේම දවස පුරාම වේදනා නාශක පෙති ගිලිමින්, හැම රාත්‍රියකම බලාපොරොත්තුවකින් තොරවම බීමත් වුණා. ඇය ඔහුට ආදරය කළා. ඒ වගේම ඔහු මේ විදියට හැසිරෙන එක තේරුම් ගන්න බරිවුණා. ඔහුත් ඇයට ආදරය කළා. ඒ වගේම ඔහුට ඔහුගේම හැසිරීම ගැන තේරුම් ගන්න බැරිවුණා. ඒක හරියට කෙනෙක් අනෙකාගේ වේදනාව පලවා හරින්න අවශ්‍ය වුණා වගේ, ජීවිතයට අවශ්‍ය වුණා.

දවසක්, සංගීතඥයෙක් - හැම තිස්සෙම ඔහු හුඟාක් වෙනස් කෙනෙක් කියලා හිතුවා. මොකද ඔහු ඒ විචිත්‍රවත් මිනිස්සු මැද බොහෝම සාමාන්‍ය කෙනෙක් විදියට පෙනුණු හින්දා - ශබ්දාගාරයේ කොණක පොතක් තියලා ගියා. වීනස් ඉන් ෆර් (Venus infurs) ලියෝපෝල්ඩ් ෆොන් සෂේර් - මැසෝක්. ටෙරන්ස්

ඒක කියවන්න පටන් ගත්තා. ඒක කියවනකොට ඔහුට ඔහුව හොඳින් තේරුම් යන්න පටන් ගත්තා.

''ලස්සන ගෑනියෙක් එයාගේ ඇඳුම් ගලවලා කෙටි මිටක් තියෙන දිග කසයක් අතට ගන්නවා. ''ඔයාට ඒක ඕන වුණා නේද,'' ඇය ඇහුවා, ''ඉතිං මම ඔයාට කස පහර දෙන්නයි යන්නේ.'' ''ආහ්. ඔව්,'' ඇගේ ආදරවන්තයා කෙඳිරුවා, ''කරුණාකරලා, මම ඔයාගෙන් බැගෑපත් වෙනවා.''

එයාගේ බිරිඳ වීදුරුවෙන් එහා පැත්තේ ඉඳන් පුහුණුවීම්වල යෙදෙමින් හිටියා. කාර්මික ශිල්පීන්ට හැම දෙයක්ම ඇහෙන හින්දා ඇය ඔවුන්ට කිව්වා මයික්‍රොෆෝන නිවා දමන්න කියලා. ඉතිං ඒ ගොල්ලො ඒ විදියට කළා. ටෙරන්ස් හිතුවා සමහරවිට ඇය පියානෝ වාදකයාත් එක්ක එළියට යන්න දවසක් දාගනිමින් ඉන්නවා ඇති කියලා. ඒ වගේම ඔහුට අවබෝධ වුණා, ඇය ඔහුව පිස්සු වට්ටාවි කියලාත්. ඒත් දූන් ඔහුට වේදනා විඳින එක බොහොම පුරුදු දෙයක් වුණා. ඒක නැතුව ඔහුට ජීවත් වෙන්න පවා බැරිවුණා.

''මම ඔයාට කස පහර දෙන්නයි හදන්නේ,'' ඔහු කියවමින් හිටපු පොතේ සිටි නිරුවත් ගැහැනිය කිව්වා. ''අනේ, කරුණාකරලා, මම ඔයාගෙන් බැගෑපත් වෙනවා.''

ඔහු මනා පෙනුමක් තිබුණු, ගීත පටිගත කරන සමාගම ඇතුළෙත් හොඳ පිළිගැනීමක් තිබුණු කෙනෙක්. ඇයි ඔහුට මේ වගේ ජීවිතයක් ගත කරන්න අවශ්‍ය වුණේ? ඒ ඔහුට එහෙම ඕන වුණු නිසා. ඔහු වේදනා විඳීමට සුදුසු වුණේ ජීවිතය ඔහුට ගොඩාක් හොඳවුණු හින්දයි. ඒ වගේම ඔහු මේ ආශිර්වාද - සල්ලි, ගෞරවය, ප්‍රසිද්ධිය ලබන්න තරම් වටින්නෙ නැතිවුණු හින්දයි. ඔහුට දැනුණා ඔහුගේ වෘත්තීය ජීවිතය ඔහුව සාර්ථකත්වය කියන එක මත යැපෙන්නෙක් බවට පත්කරාවිය කියලා. ඒක ඔහුව බියට පත්කළා. මොකද ඔහු දැකලා තිබුණා හුඟක් මිනිස්සු උඩ ඉඳලා වේගයෙන් පල්ලෙහාට වැටෙනවා.

ඔහු පොත කියෙව්වා. වේදනාවත්, සතුටත් අතර තියෙන ගුප්ත සම්බන්ධය ගැන ඔහුට හොයාගන්න පුළුවන් හැම දෙයක්ම ඔහු කියවන්නට පටන් ගත්තා. ඔහුගේ බිරිඳට ඔහු කුලියට ගත්තු වීඩියෝ පටිත්, ඔහු ඇගෙන් සඟවපු පොතුත් හම්බු වුණා. ඇය

ඔහුගෙන් ඇහුවා ඒ මොනවද, ඔහු අසනීපෙන්ද කියලා. ටෙරන්ස් නැහැ කිව්වා. ඒක අලුත් කවර නිර්මාණයක් වෙනුවෙන් කරන පර්යේෂණයක් කියලත් කිව්වා. ඊළගට ඔහු එතරම් ගණන් නොගන්න විදියට කිව්වා :

''සමහරවිට අපිත් ඒක කරලා බැලුවොත් හොඳයි.'' කියලා.

ඔවුන් ඒක අත්හදා බැලුවා. ''පෝර්න් ෂොප්ස්'' වලින් ලබා ගත්තු අත්පොත් ප්‍රයෝජනයට ගනිමින් ඔවුන් ඉතා බියගුළුව ඒක පටන් ගත්තා. ක්‍රමයෙන් ඔවුන් අලුත් ශිල්පීය ක්‍රම වර්ධනය කළා. ඔවුන්ගේ ක්‍රියාකාරකම් අවදානම් සීමාවන් දක්වාම ගෙන ගියා. ඒ වුණත් ඔවුන්ට දැනුණා ඔවුන්ගේ විවාහය තවත් ශක්තිමත් වුණා කියලා. ඔවුන් සැඟවුණු, තහනම් කරපු, හෙළා දකපු වරදෙහි හවුල්කාරයෝ වුණා.

ඒ ගොල්ලන්ගේ හවුල් අත්දැකීම කලාවකට පරිවර්තනය වුණා. ඔවුන් අලුත් ඇඳුම් නිර්මාණය කළා, යකඩ බොත්තම් අල්ලපු හම් ඇඳුම්. ඔහුගේ බිරිඳ බූට්ස් සපත්තු දාගෙන, සස්පෙන්ඩර් පටියත්, කසයකුත් හසුරවමින් වේදිකාවට නැග්ගා. ප්‍රේක්ෂාගාරයට පිස්සු හැදුණා. ඇගේ අලුත් පටිගත කිරීම එංගලන්තෙ දර්ශකවල පළමු තැනට පත්වෙච්ච අතර අනෙක් යුරෝපා රටවලත් එය ජයග්‍රාහී ලෙස පැතිරී ගියා. මේ තරුණ පරපුර ඔහුගේ පෞද්ගලික ෆැන්ටසිය මෙච්චර හොඳින් ස්වභාවිකවම පිළිගත්තේ කොහොමද කියලා ටෙරන්ස් පුදුම වුණා. ඒ වගේම ඔහුට හොයාගන්න පුළුවන් වෙච්ච එකම පැහැදිලි කිරීම තමයි ඒක, මර්දනය කරපු ප්‍රචණ්ඩත්වය තීව්‍ර, ඒත් අහිංසක විදියකින් ප්‍රකාශ කරන විදියක් කියන එක.

කසය සමාගමේ ලාංඡනය බවට පත්වුණා. ඒ වගේම එය ටී-ෂර්ට්වල, අලවන පච්චවල, ස්ටිකර්වල, තැපැල්පත්වල නැවත නිෂ්පාදනය වුණා. ටෙරන්ස්ගේ බුද්ධිමය හැකියාව මේ සියල්ලේම අගමුල හොයන්න ඔහුව යොමු කළා. මොකද එතකොට ඔහුට ඔහුව හොඳින් අවබෝධ කරගන්නට පුළුවන් වුණු හින්දයි.

මේවායේ අගමුල බොරු ඒවා වුණේ නැහැ. ඔහු මරියාට කිව්ව විදියට වේදනා විඳීම් තුළින් අඳුරු මරණය පළවා හරින්න උත්සාහ දරා තිබුණා. අඳුරු යුගයේ ඉඳලම මිනිහා තේරුම් අරං

තිබුණා වේදනාවට බය නොවී මුහුණ දුන්නොත්, ඒක ඔහුගේ නිදහස වෙත කැඳවාගෙන යන්නක් බව.

ඊජිප්තුව, රෝමය, පර්සියාව මිනිහා තමන්ගේ ජීවිතය කැප කිරීමෙන් තමන්ගේ රටත්, තමන්ගේ ලෝකයත් බේරගන්න පුළුවන් කියන අදහස බෙදාගත්තා. චීනයේ ස්වභාවික විනාශයක් සිදුවෙච්ච ඕනෑම වෙලාවක අධිරාජ්‍යයා ඒ වෙනුවෙන් දඬුවම් ලැබුවා. මොකද ඔහු තමයි දේවත්වයේ මිහිපිට නියෝජිතයා. පුරාණ ග්‍රීසියේ එඩිතරම ස්පාර්ටන් රණශූරයන්ට අවුරුද්දකට වතාවක් උදේ හිටන් රෑ වන තෙක් ආර්ටමිස් දෙව්දුවට වන්දනාමාන කිරීමක් විදියට කස පහර දුන්නා. ඒ අතර රැස්වෙලා හිටපු පිරිස ඔවුන්ව දිරි ගැන්නුවා, අභිමානයෙන් වේදනාව දරාගෙන ඉන්න ඔවුන්ව පෙළඹෙව්වා. ඒක ඔවුන්ව ලෝක යුද්ධයකට සූදානම් කළා. දවස අවසානයේදී දේවගැතිවරුන් රණශූරයන්ගේ පිටේ තිබුණු තුවාල පරීක්ෂා කරලා ඒවා නගරයේ අනාගතය ගැන අනාවැකි පළ කරන්නට පාවිච්චි කළා.

පුරාතනයේ හතරවන සියවසේ, ඇලෙක්සැන්ඩ්‍රියාවේ ආශ්‍රමයක් ආශ්‍රිතව කාන්තාර දේවගැතිවරු කියලා කියන ක්‍රිස්තියානි ප්‍රජාවක් ඇති වුණා. ඒ ගොල්ලො තමාටම තළා ගැනීම යක්ෂයන් පලවා හැරීමේ ක්‍රමයක් විදිහට, නැත්නම්, අධ්‍යාත්මිකත්වය සොයාගෙන යාමේදී ශරීරයේ තියෙන නිස්සාරබව ඔප්පු කරන්න පාවිච්චි කළා. සාන්තුවරුන්ගේ ඉතිහාසය මේ වගේ සමාන උදාහරණවලින් පිරුණු එකක්. - ශාන්ත රෝසා උද්‍යානය හරහා දුවමින් කටුවලට ඇගේ හම ඉරී යන්නට ඉඩ සැලසුවා. ශාන්ත ඩොමින්ගෝස් ලොරිකේටස් හැම රාත්‍රියකම නින්දට යන්නට කලින් ඔහුටම කසයකින් ගහගත්තා. මාටර්ස්වරු ස්වේච්ඡාවෙන්ම හිමින් සිදුවන මරණයක් සඳහා කුරුසියේ ඇණ ගසා ගත්තා, කැලේ සතුන්ට ඔවුන්ව ඉරාගෙන කන්නට ඉඩ හැරියා. ඔබ වේදනාව ප්‍රගුණ කළොත් ඒක ආගමික ප්‍රමෝදයකට මඟ පාදනවා කියලා ඔවුන් හැමෝම කිව්වා.

මෑතක තහවුරු නොකළ අධ්‍යයනයන්වල සඳහන් වෙලා තියෙනවා චිත්ත රූප මැවීමට බලපාන නිශ්චිත දිලීර වර්ගයක් තුවාලවල හටගන්නවා කියලත්, ඒවා පෙනීමට බලපානවා කියලත්.

ඒ සතුට බොහෝම තීව්‍ර වුණා, ඉතින් මේ භාවිතාවන් ආශ්‍රම, කන්‍යාරාම ඉතා ඉක්මනින් හැර දමා මුළු ලෝකය පුරාම පැතිරුණා.

1718 දී ස්වපීඩනය තුළින් සතුට අත්කර ගත්තේ කොහොමද (A treatise on self-flagelation) කියන එක ගැන ලියැවුණු ශාස්ත්‍රීය නිබන්ධනයක් පිටවුණා. ඒක ශරීරයට හානි කරගන්නේ නැතුව වේදනාව තුළින් සතුට ලබාගන්නේ කොහොමද කියන එක විස්තර කළා. ශතවර්ෂය අවසානයේදී යුරෝපයේ දූසිම් ගණන් නගරවල මිනිස්සු සතුටට පත්වීම සඳහා වද වේදනා විඳින්න සූදානම් වුණා. වෙනත් විදියක සතුටක් ලැබෙනකං තමන්ගේ වහලුන් ලවා කස පහර ගසා ගත්තු රජවරු වගේම කුමාරිකාවන් ගැනත් වාර්තා තියෙනවා. ඒත් ඒක හුඟක් වෙහෙසකර වුණා වගේම, තෘප්තිය අවමයි. ඒ තෘප්තිය ලැබුණේ කසපහර කෑමෙන් විතරක් නෙමෙයි, නමුත් වේදනාව පරාජය කිරීමෙනුයි.

සිගරට්ටුව බොමින් හිටිය අතර ඔහු හිතමින් හිටපු දේ හුඟක් මිනිස්සුන්ට තේරුම් ගන්න බැරි බව හැඟීමෙන් ටෙරන්ස් යම් ආඩම්බරයකින් සතුටු වුණා.

ඒක තෝරාගත් පිරිසකට පමණක් සීමාවීම වඩා හොඳයි. ඔහුට නැවතත් මතක් වුණා මානසික පීඩාව ගෙන දුන් විවාහය ඓශ්වර්යමත් විවාහයක් දක්වා පරිවර්තනය වුණේ කොහොමද කියලා. ඔහුගේ බිරිඳ දූන හිටියා ඔහු ජිනීවාවලට ගියේ මේ අරමුණ වෙනුවෙන් කියලා. ඒ වගේම ඇය ඒ ගැන තැකුවේ නැහැ. ඒ විතරක් නෙමේ, මේ උමතු ලෝකයේ වෙහෙසකර සතියක් අවසානයේ ඇගේ ස්වාමි පුරුෂයා එයාට අවශ්‍ය වුණු දේ ලබා ගැනීම ගැන ඇය සතුටට පත්වුණා.

මේ දූන් කාමරයෙන් පිටවුණු ගෑනු ළමයා සියල්ල තේරුම් අරගෙන තිබුණා. ඔහුට දැනුණා ඔහුගේ ආත්මය ඇගේ ආත්මයට හුඟාක් සමීප බව. කොහොම වුණත් ඔහු තවම ආදරෙන් බැඳෙන්න සූදානම් වුණේ නැහැ. මොකද ඔහු ඔහුගේ බිරිඳට ආදරය කළා. ඒත් ඔහු නිදහස් මනුස්සයෙක් කියලාත්, අලුත් සම්බන්ධයක් ගැන හීන දකින්න පුළුවන් කෙනෙක් කියලා හිතන්නත් කැමති වුණා.

ඔහුට කරන්නට තිබුණේ, ඊළඟ වඩා අසීරුම අඩියර ඇයට උත්සාහ කරන්නට ඉඩදෙන එක විතරයි : ඒ කියන්නේ සෂේර්

මැසෝක්ගේ ''වීනස් ඉන් ෆර්'', ද ඩොමිනේට්‍රික්ස්, අපහාස විඳින්නත් අනුකම්පා විරහිත ලෙස දඬුවම් විඳින්නත් දරාගත හැකි, ද මිස්ට්‍රස් බවට පරිවර්තනය වෙන්නටත් ඉඩදෙන එක විතරයි. ඇය පරීක්ෂණයෙන් සමත් වුණොත්, ඔහු ඔහුගේ හදවත ඇය වෙනුවෙන් විවර කරන්න සූදානම් වුණා.

මරියාගේ දිනපොතෙන් : ඇය වොඩ්කාවලින් සහ සතුටින් මත්ව සිටියදී :

මට නැතිවෙන්න කිසිවක් නැතිවිට, මට හැමදේම ලැබුණා. මම මම වීම නතර කරන කොට, මට මාව හම්බ වුණා.

මම අපහාස විඳීම සහ සම්පූර්ණ අවනත භාවය අත්විඳින කොට මම බොහෝම නිදහස් වුණා. මට අසනීප වෙලාද, මේ හැම දෙයක්ම හීනයක්ද, නැත්නම්, මේක ජීවිතේ එක පාරක් විතරක් වෙන දෙයක්ද කියලා මම දන්නේ නැහැ. මම දන්නවා මට මේ දේ නැතුව ඉතාම හොඳින් ජීවත් වෙන්න පුළුවන් කියලා. ඒත් මම ඒක ආපහු එක වතාවක් කරන්න කැමතියි, ඒ අත්දැකීම නැවත විඳින්න, තවත් එහාට යන්න.

මම ඒ වේදනාවට ටිකක් බයවුණා. ඒත් ඒක අපහාස විඳින එක තරම් නරක දෙයක් නෙමෙයි. ඒක ව්‍යාජ එකක් විතරයි. මාස ගණනකට පස්සේ, මාත් එක්ක හිටපු මිනිස්සු වගේම ඒ ගොල්ලො මගේ ශරීරයත් එක්ක කරපු විවිධ දේවල් එහෙමම තිබිද්දී මගේ පළවෙනි සුරතාන්තය ලැබුණහම මට හැඟුණා - මේක වෙන්න පුළුවන් දෙයක්ද? - දෙවියන්ට ළංවුණා කියලා. මට මතකයි ඔහු මනුෂ්‍ය සංහතියේ ගැළවීම වෙනුවෙන් ඔවුන්ගේ වේදනාව පූජා කරලා සිරුරට වධ හිංසා දී ගත්තු අය සතුට ලබා ගත්තු හැටි ගැන කියපු දේ. මට මනුෂ්‍ය සංහතියවත්, ඔහුවවත්, මාවවත් ගළවගන්න ඕන වුණේ නැහැ. මම කළේ එතැන හිටපු එක විතරයි.

ලිංගිකත්වයේ කලාව කියන්නේ අත්හැර දැමීම පාලනය කරපු කලාවයි.

# 24

**මේ** වතාවෙදි නම් ඒක නාට්‍යයක් වුණේ නැහැ. මරියාගේ ඉල්ලීමකට අනුව ඒ ගොල්ලො හිටියේ ඇත්තම දුම්රිය ස්ථානයකයි. මොකද එතැනදි ඇය ප්‍රිය කරන පීට්සා මිලදී ගන්න පුළුවන් වුණා. සමහර වෙලාවට පොඩ්ඩක් මුරණ්ඩු වෙන එකේ වරදක් නැහැ. ඇය තව දුරටත් ආදරය, ගිනි උදුන, වයින් සහ ආශාව සොයන ගැහැනියක් වෙද්දී, රැල්ෆ්ට යුතුකමක් තිබුණා කලින් දවසේ ඇයව බලන්න එන්නට. ඒත් ජීවිතය වෙනත් දෙයක් තෝරා දී තිබුණා. ඒ වගේම අද මුළු දවසම ඇය ගත කළේ එකවරක් හරි ඇය අවට ඇති ශබ්දවලටවත් ඇය ගත කරන ඒ මොහොත ගැනවත් අවධානය යොමු කරන්නට උත්සාහ ගනිමින් නෙවෙයි. මොකද සරලවම කියනව නම් ඒ ඇය රැල්ෆ් ගැන නොහිතපු නිසයි. ඇය හිතන්න වෙනත් රසවත් දේවල් හොයාගෙන තිබුණා.

බොහෝ වෙලාවට ඔහු අකමැති වුණත් පීට්සා එකක් කමින්, ඔවුන්ට ඔහුගේ ගෙදරට යන්න වෙලාව එනකං නිකම්ම කාලයට යන්න ඉඩ දීලා ඉන්න මේ මනුස්සයත් එක්ක ඇයට මොනවද කරන්න තිබුණේ? ඔහු සමාජ ශාලාවට ඇවිත් ඇයට බීම එකක් ඇණවුම් කරපු වෙලාවෙදි, ඇයට හිතුණා ඔහුට කියන්න ඇය තව දුරටත් මේ ගැන උනන්දු නැති බවත් ඔහුට වෙනත් කෙනෙක් හොයාගන්න කියලත්. අනික් අතට, කලින් දවසෙ රාත්‍රිය ගැන කවුරු හරි කෙනෙක් එක්ක කතා කරන්න ඇයට විශාල වුවමනාවකුත් තිබුණා.

''විශේෂ ගනුදෙනුකාරයන්ට'' සේවය සපයන අනික් ගණිකාවො එක්කෙනෙකුට, දෙන්නෙකුට කථා කරන්න ඇය උත්සාහ ගත්තා. ඒත් ඒ කිසි කෙනෙක් ඇයට කිසිවක් කිව්වේ

නැහැ. මොකද ඒ මරියා හුඟක් දක්ෂ නිසා ඉතා ඉක්මනින් හැමදේම ඉගෙනගෙන කොපකබානාවල ඉන්න ලොකුම තර්ජනය වුණු හින්දයි. රැල්ෆ් හාට් විතරයි මේ ගැන තේරුම් ගන්න පුළුවන්කමක් තිබුණු එකම මනුස්සයා. මොකද මිලානුත් ඔහුව ''විශේෂ ගනුදෙනුකාරයෙක්'' විදියට සැලකුවා. ඒත් ඔහු ඇය දිහා බැලුවේ ආදරයෙන් ආලෝකමත් වෙච්ච ඇස්වලින්. අන්න ඒ දේ සියල්ල අමාරු කළා : කිසිවක්ම නොකියා ඉන්න එක වඩා හොඳවුණා.

''ඔයා මොනවද දන්නෙ වේදනාව, විඳවීම, සතුට ගැන''

නැවත වතාවක් ඇයට ඇගේ සිතුවිලි පාලනය කරගන්නට බැරිවුණා.

රැල්ෆ් ඔහුගේ පීට්සා එක කෑම නැවැත්තුවා.

''හැමදේම. ඒත් ඒක මට පොඩ්ඩක්වත් කැමැත්තක් ඇතිකර වන්නේ නැහැ.''

උත්තරය ආවේ ක්ෂණිකවයි. ඉතිං මරියා තැති ගත්තා. ඇයද මේ ලෝකේ සියල්ල නොදන්න හිටිය එකම මනුස්සයා? මොන විදියේ ලෝකයක්ද මේ?

''මම මගේ ජීවිතේ යක්ෂයන්ටත්, අඳුරු පැත්තටත් මූණ දීලා තියෙනවා.'' රැල්ෆ් කියාගෙන ගියා. ''මම ඉතාම ගැඹුරු තැන්වලට ගිහිං හැමදේම උත්සාහ කරලා තියෙනවා. ඒ පැත්තෙන් විතරක් නෙමෙයි තවත් ගොඩක් පැතිවලිනුත්. කොහොම වුණත්, අන්තිමට අපි හම්බවුණු රෑ, මම මගේ සීමාවන් ඉක්මවලා ගියේ ආශාව තුළින්, නැතුව වේදනාවෙන් නෙමෙයි. මම මගේ ආත්මයේ පතුළටම කිඳාබැස්සා. ඒ වගේම මම දන්නවා මට තවත් ඕන හොඳ දේවල්, මේ ජීවිතෙන් හුඟක් හොඳ දේවල්.''

''ඒ හුඟක් හොඳ දේවල්වලින් එකක් ඔයයි. ඉතිං, කරුණාකරලා ඒ මාර්ගය දිගේ නම් යන්න එපා.'' කියලා ඔහුට කියන්න වුවමනා වුණා. ඒත් ඔහුට එහෙම කියන්නට ධෛර්යයක් තිබුණේ නැහැ. ඒ වෙනුවට ඔහු ටැක්සියකට කථා කරලා රියදුරාට කිව්වා අනන්තයකට කලිං ඔවුන් පළමු වතාවට මූණ ගැහිලා එකට ඇවිදං ගියපු වැව් ඉවුරට ගෙනියන්න කියලා. මරියට ඒ ඉල්ලීම තේරුණත් කිසිවක් කිව්වේ නැහැ. ඇගේ ඉව ඇයට කිව්වා

ඇයට අහිමි වෙන්න බොහෝ දේවල් තිබුණා කියලා. ඒ වුණත් ඇගේ මනස පෙරදින රාත්‍රී සිදුවීම නිසා තවමත් මත්වෙලා තිබුණා.

ඇය ඇගේ අකර්මණ්‍ය තත්වයෙන් අවදි වුණේ ඔවුන් වැව් ඉවුර අයිනේ තිබුණු උද්‍යානයට ළං වුණාමයි. ඒ ග්‍රීෂ්ම කාලය වුණත්, දහවලටමත්, රාත්‍රිය හුඟක් සීතල වෙන්න පටං අරං තිබුණා.

"අපි මොකද මෙතන කරන්නේ? " ටැක්සියෙන් බහින ගමන් ඇය ඇහුවා. "සුළං සැර වැඩියි, මාව සීතලට අහුවේවි."

"මම කල්පනා කළේ ඔයා ස්ටේෂන් එකේදි වේදනාවත්, සතුටත් ගැන කියපු දේ ගැන. ඔයාගේ සපත්තු ගලවන්න."

ඇයට මතක් වුණා එක පාරක් ඇගේ එක සේවාදායකයෙක් ඇයට මේ දේ කියලා ඇගේ කකුල් දෙක දිහා බලලා ඇවිස්සුණු හැටි. මේ අවදානම් ගමන ඇයට කවදාවත් නිදහසේ ඉන්න ඉඩ දෙන්නේ නැද්ද?

"මාව සීතලට අහුවෙයි."

"මම කියපු විදියට කරන්න.", ඔහු බල කළා.

"අපි ඉක්මන් කළොත් ඔයාට සීතල අල්ලන එකක් නැහැ. මං ඔයාව විශ්වාස කරනවා. ඔයත් මාව විශ්වාස කරන්න."

මොකක් හරි හේතුවක් උඩ මරියට තේරුණා ඔහු ඇයට උදව් කරන්න උත්සාහ කරනවා කියලා. සමහරවිට ඔහු වරක් ඒ අතිශය අමිහිරි පානය බීපු නිසා, ඔහු ඇයත් ඒ අවදානමම ගනීවි කියන බිය නිසා වෙන්නැති. ඇයට උදව් අවශ්‍ය වුණේ නැහැ. වේදනා විඳින එක තව දුරටත් ගැටලුවක් නොවේය කියන එක ඉගෙන ගත්තු ඇගේ අලුත් ලෝකය ඇතුළෙ ඇය සතුටු වුණා. ඊළඟට ඇයට බ්‍රසීලය මතක් වුණා. බ්‍රසීලය ඇගේ ජීවිතයේ වැදගත්ම දේ වුණත්, ඒ වෙනස් විශ්වය බෙදාගන්නට සහකාරයෙක් බ්‍රසීලයෙන් හොයන්න තියෙන අපහසුතාව ගැනත් ඇයට සිහිවුණා. ඇය ඇගේ සපත්තු ගලවා දැම්මා. පොළව වැහිලා තිබුණු ඒ පොඩි ගල්වලට ඇගේ ස්ටොකින්ස් මේස් ඉක්මනින්ම ඉරිලා ගියා. ඒත් ඒක ප්‍රශ්නයක් වුණේ නැහැ, ඇයට තවත් ඒවා මිලදී ගන්න පුළුවන්කම තිබුණා.

"ඔයාගේ ජැකට් එක ගලවන්න."

ඇයට ''බැහැ'' කියන්න පුළුවන්කම තිබුණා. ඒත්, ඊයේ රෑ ඉඳන් ඇය ඉදිරිපිටට ආපු හැම දේකටම ''ඔව්'' කීමේ සතුටට ඇය පුරුදුවෙලා හිටියා. ඇය ජැකට්ටුව ගලවලා දැම්මා. ඇගේ සිරුර තවමත් උණුසුම් වෙලා තිබුණු හින්දා සීතලට ප්‍රතික්‍රියා දක්වන්න ටික වෙලාවක් ගතවුණා. ඊළඟට හිමින් හිමින් සීතල ඇයට ඇතුළු වුණා.

''අපිට ඇවිදින ගමන්ම කතා කරන්න පුළුවන්.''

''මට මෙතන ඇවිදින්න බැහැ. බිම හැමතැනම ගල්.''

''හරියට හරි, මටත් ඕන ඔයාට මේ ගල් පාගවන්නයි, ඒවා වලින් ඔයාට රිද්දවන, ඔයාට තලන එක තමයි මටත් ඕන. මොකද, හරියට මම කළා වගේ ඔයත් වේදනා විඳින එක සතුටත් එක්ක සම්බන්ධ කරන්න පටං අරගෙන. ඉතිං , මට ඕන ඒක ඔයාගේ ආත්මයෙන් එළියට ඇදලා ගන්නයි.''

''නැහැ, ඕන නැහැ, මම ඒකට කැමතියි.'' කියලා මරියාට කියන්න හිතුණා. ඒ වෙනුවට ඇය දිගටම හිමින් ඇවිදින්න වුණා. ඇගේ යටිපතුල් සීතලටත්, ගල්වල තියුණු දාරත් නිසා දැවෙන්න පටන් ගත්තා.

''මගේ එක චිත්‍ර ප්‍රදර්ශනයක් මාව ජපානෙට ගෙනිච්චා, හරියටම ඔයා කියපු ''වේදනාව, විඳවීම, සතුට'' කියන එකේ ගැලිලා ඉන්න දවස්වල. ඒ කාලෙදිම මම හිතුවා ආපහු හැරීමක් නං නැහැයි කියලා. ඉතිං දඬුවම් කරන්නත්, දඬුවම් විඳින්නත් මගේ ජීවිතේ තිබුණු ආශාව ඇරුණහම කිසිම දෙයක් ඉතුරු නොවෙනකං මම ඒකේ ගැඹුරටම, හුඟාක් ගැඹුරටම ගියා.''

''ඔක්කොටම පස්සේ අපි හැමෝම මනුස්සයෝ, අපි ඉපදිලා තියෙන්නේ හුඟක් වැරදිත් එක්ක. සතුට ඇත්තටම ලැබෙන කොට අපිට හුඟක් බය හිතෙනවා. අපිට අසරණ, වැරදියට පාවිච්චි වුණු, අසතුටින් ඉන්න අය කියන හැඟීම් දැනෙන එකත් එක්කම අපි මැරෙන්නේ අනික් හැමෝටම දඬුවම් දෙන්න ඕන කියන හැඟීමෙන්. කෙනෙක්ගේ පවක් ගෙවන්නත්, පව්කාරයන්ට දඬුවම් කරන්න පුළුවන් වෙන එකත් කොච්චර රසවත් දෙයක්ද නේද ? ඔව්, ඒක හරිම ෂෝක්.''

මරියා තවමත් ඇවිදිමින් හිටියා. ඔහු කියමින් හිටිපු දේට ඇගේ අවධානය යොමු කරන්නට වේදනාවත්, සීතලත් ඇයට අපහසු කළා. ඒත් ඇය ඇගේ උපරිම උත්සාහය ගත්තා.

''මං අද ඔයාගේ මැණික් කටුවල තියෙන කැළැල් දැක්කා.''

මාංචු. ඇය ඒ කැළැල් වැහෙන්න වළලු කීපයක්ම දාලා හිටියා. ඒත් ශූර ඇහැ දන්නවා බැලිය යුත්තේ මොනවද කියලා.

''දැං ඔයාගේ මේ මෑතක අත්දැකීම ඔයාව ඒ පියවර තියන්න නං අරං යන්නේ, මම ඔයාව නවත්තන්නේ නැහැ. ඒත් ඔයා දැනගන්න ඕන, ඒ කිසිම දෙයක් ඇත්ත ජීවිතෙත් එක්ක කිසිම සම්බන්ධයක් නැහැයි කියලා.''

''මොන පියවර තියන්නද?''

''වේදනාවටත්, සතුටටත්, පරපීඩක කාමුකත්වයටත්, ස්වපීඩක කාමුකත්වයටත්. ඔයාට කැමති විදියකට කියන්න. ඔයාට විශ්වාස නං ඒක තමයි හරි මාර්ගය කියලා, මම දුක්වෙනවා, මට මතක තියෙයි ඒ ආශාවේ අපූරු හැඟීම, අපේ හමුවීම්, සැන්තියාගෝවලට යන පාරේ එකට ඇවිදගෙන ගියපු හැටි, ඔයාගේ ආලෝකය. ඔයා මට දීපු පෑන මං පරිස්සමින් තියා ගන්නං, ගිනි උදුන පත්තු කරන හැම වෙලාවකදිම මට ඔයාව මතක් වේවි. ඒත් මම කවදාවත් ඔයාව හොයාගෙන එන එකක් නං නැහැ.''

මරියාට බයක් දැනුණා, ඔහුට වඩා ඇය දන්නවා කියලා, බොරුවට හඟවන එකකට. තමන් කලින් කියපු දේ වෙනස් කරගන්නට වෙලාව හරි කියලත් ඇයට හැඟුණා.

''මං ළඟදි අත්විඳපු දේ - ඊයේ රෑ - මම මීට කලින් කවදාවත් අත්විඳපු නැති දෙයක්. අවමානයේ අන්තිම සීමාවෙදි තමයි මට මාව හොයාගන්න පුළුවන් කියලා හිතන එක මාව සැහෙන්න බය කරනවා.''

තව දුරටත් කතා කරන එක අපහසු වෙමින් තිබුණා. - ඇගේ දත් එකට ගැටුණා, ඒ වගේම ඇගේ යටිපතුල් හොඳටම රිදෙන්න වුණා.

''මගේ ප්‍රදර්ශනේ තිබුණේ කුමනෝ කියන පැත්තෙයි. ඉතිං ඒක බලන්න ආපු මිනිස්සු අතරේ එක දර කපන මනුස්සයෙකුත් හිටියා.'' හරියට ඇය කියපු දේ නෑහුණා වගේ රැල්ෆ් කියාගෙන

ගියා. ''එයා මගේ චිත්‍රවලට කැමති වුණේ නැහැ. ඒත් චිත්‍රවලින් එයාට දකින්න පුළුවන් වුණා මම අත්දකිමින්, විඳිමින් ඉන්න දේ. ඊට පහුවෙනිදා එයා මගේ හෝටලයට ඇවිත් ඇහුවා මම සතුටෙන්ද ඉන්නේ කියලා. මං සතුටින් නං, මම කැමති දේ දිගටම කරගෙන ඉන්න එක හොඳයි කියලා කිව්වා. මම සතුටින් නෙමෙයි නං, මම එයත් එක්ක දවස් කීපයක් ගත කරන්න එන එක හොඳයි කියලා කිව්වා.

''හරියට මම අද ඔයාට කරවනවා වගේ එයා මාව ගල් උඩ ඇවිද්දුවා. එයා මට සීතල දැනෙන්න දුන්නා. ඒ මනුස්සයා මට වේදනාවේ සුන්දරත්වය තේරුම් ගන්න කියලා බල කළා. හැබැයි පරිසරයෙන් පනවපු මිසක් මිනිහෙක්ගෙන් ලැබිච්ච වේදනාව නං නෙමෙයි. එයා මේකට කිව්වේ ෂු - ගෙන් - ඩෝ කියලයි. පැහැදිලිවම බොහොම පැරණි භාවිතයක්.

''ඒ මනුස්සයා මට කිව්වා මම වේදනාවට බය නැති කෙනෙක් කියලා. ඒ වගේම ඒක හොඳ දෙයක් කියලත්. මොකද අධ්‍යාත්මය දියුණු කරගන්න නං, කෙනෙක් සිරුර ගැන ඉගෙන ගන්න ඕන. මම වැරදි විදියට වේදනාව පාවිච්චි කරනවා කියලත්, ඒක බොහෝම නරක දෙයක් කියලත් එයා මට කිව්වා.

''මේ නූගත් දර කපන මිනිහා මටත් වඩා එයා මං ගැන දන්නවා කියලා හිතුවා. ඒකට මට කේන්ති ගියා. ඒත් ඒ එක්කම මට ආඩම්බරයක් දැනුණා මගේ චිත්‍රවලට හරියටම මට දැනෙන දේ ප්‍රකාශ කරන්න පුළුවන් වෙච්ච එක ගැන.''

මරියට ඇගේ කකුල තියුණු ගලකින් කැපෙනවා දැනුණා. ඒත් ඇයට ඒක සීතල හින්දා යන්තමිනුයි දැනුණේ. ඇගේ සිරුර පණ නැතිවෙමින් ආවා. ඒ වගේම ඇයට පුළුවන් වුණේ රැල්ෆ් හාට් කියපු දේ කරන්න විතරයි. ඇයි දෙවියන්ගේ මේ ශුද්ධ ලෝකය ඇතුළෙ ඉන්න පිරිමි ඇයට වේදනාව විතරක් පෙන්නන්න උනන්දු වෙන්නේ. ශුද්ධ වේදනාව, වේදනාව සමඟ සතුට, විස්තර කිරීම් ඇතුව හරි නැතුව හරි වේදනාව, ඒත් හැම තිස්සෙම, වේදනාව, වේදනාව, වේදනාව...

ඇගේ කැපුණු කකුල තවත් ගලක පැකිළුණා. ඇය ඇඬුම හිරකරගෙන දිගටම ඇවිදගෙන ගියා. මුලදී ඇයට ඇගේ ඍජු

බවත්, තමාව පාලනය කර ගැනීමේ හැකියාවත්, ඔහු කියන ''ආලෝකය''ත් පවත්වා ගන්න පුළුවන් වුණා. දැන් ඇගේ උදරයත්, ඇගේ සිතත් කළඹමින් ඇය බොහොම හෙමින් ඇවිදින්නට වුණා. ඇයට දැනුණා ඇගේ ශරීරය විසිවෙනවා වගේ කියලා. ඇය නවතින්නට හිතුවා. මොකද මේ කිසිම දෙයක කිසිම තේරුමක් තිබුණේ නැහැ. ඒත් ඇය එහෙම කළේ නැහැ.

ඒ වගේම ඇගේ ගෞරවය නැතිකර ගන්න ඇය ඇවිදින එක නැවැත්තුවේ නැහැ. නිරුවත් දෙපාවලින් ඇවිදින්නට ඇයට පුළුවන් වුණා, මොකද, ඒක ඇගේ මුළු ජීවිත කාලයටම තියෙන එකක් නෙමෙයි නේ. ඒ එක්කම හදිස්සියේම තවත් සිතුවිල්ලක් ඇගේ මනසේ ඇඳුණා : ඇගේ කකුල් තුවාල වීම හින්දාත්, එහෙම නැත්නම්, කිසිඳු සැකයකින් තොරව, නිරාවරණය වුණු ඇගේ සිරුරට ඇතුළු වුණු හෙම්බිරිස්සාව නිසා වැළඳුණු උණ රෝගයත් නිසා ඇයට හෙට රෑ කොපකබානාවලට යන්න බැරිවුණොත් මොකක් වෙයිද? ඇය බලාපොරොත්තුවෙන් බලාගෙන හිටිය සේවාදායකයෝ. ඇය ගැන මහත් විශ්වාසයකින් ඉන්න මිලාන්, ඇයට උපයන්නට බැරිවෙන සල්ලි, ගොවිපොළ, ඇගේ සාඩම්බර දෙමාපියන් ගැන ඇය කල්පනා කළා. ඒත් වේදනා විඳීම ඉක්මනින්ම ඒ සිතුවිලි පළවා හැරියා. ඇය දරන උත්සාහය රැල්ෆ් හාට් අඳුනා ගනීවියි කියන දැඩි වුවමනාවෙනුත්, ඇයට දැන් මේක නවත්තලා ඇගේ සපත්තු දමාගන්න යැයි කියන දැඩි ආශාවෙනුත් ඇය එක් අඩියක් ඉස්සරහින් අනෙක් අඩිය තියමින් ගියා. හරියට, ඇය තවමත් හරිහැටි දැන නොහිටි දෙයකින්, ඇයව වශී කරවන දෙයක් විදියට ඇය තේරුම් ගත්ත දෙයකින්, ඒ හැම මාංචුවකටම වඩා කැළැල් ඉතුරු කරන දෙයකින් ඇයව නිදහස් කරන්නට තිබුණු එකම ක්‍රමය වගේ ඔහු සම්පූර්ණයෙන්ම වෙනස්, දුරස්තර බවක් හැඟෙව්වා. ඔහු උත්සාහ කරන්නේ ඇයට උදව් කරන්නට කියලා ඇය දැන හිටියත්, කොයිතරම් අමාරුවෙන් ඇය ඉදිරියට යමින් ඔහුට ඇගේ ආත්ම ශක්තියේ ආලෝකය පෙන්වන්න උත්සාහ ගත්තත්, වේදනාව ඒ සිතුවිලිවලට ඉඩක් දුන්නේ නැහැ. ශ්‍රේෂ්ඨ වුණත්, නොවුණත් ඒක නිකම්ම වේදනාවක් විතරක් වුණා. සියල්ල පුරවමින්, බිය ගන්වමින් ඇයට සීමාවන් තියෙන බවත්, ඇයට මෙය කරන්නට බැරිවෙන බවත් ඇයට හිතන්න බලකළා.

ඒත් ඇය එක් පියවරක් තැබුවා.

ඊළඟට තවත් එකක්.

වේදනාව දූත් ඇගේ ආත්මය ආක්‍රමණය කර ඇගේ ආධ්‍යාත්මයට හානි කළා. මොකද තරුපගේ හෝටලයක නාට්‍ය රඟ දක්වීමත්, නිරුවත් වීමත්, සිරුර ඇතුලේ වොඩ්කාත්, මාළු බිත්තර අච්චාරුත් - කකුල් දෙක අතර කසයකුත් තියෙනවට වඩා ගල්වලට පතුල් ඉරෙමින් සීතලේ නිරුවත් දෙපාවලින් ඉන්න එක වෙනත් දෙයක් වුණා. ඇයට කිසිදෙයක් පැහැදිලි කරගන්න බැරිවුණා. රැල්ෆ් හාට්ට කියන්න එකම දෙයක්වත් හිතාගන්න බැරිවුණා. ඇගේ ලෝකයේ තිබුණේ ගස් මැදින් වැටිලා තිබුණු පාරේ අතුරලා තිබුණු තියුණු කුඩා ගල් කැට විතරයි.

ඊළඟට ඇය මේක නවත්තලා දාන්නට කල්පනා කරපු වෙලාවේ, ඇය අමුතුම හැඟීමකින් පිරී ගියා : ඇය ඇගේ සීමාවට ළංවෙලා තිබුණා, ඒවගේම එතැනින් එහාට තිබුණේ ඇයව ඇගෙන් ඉහළට පාවෙලා යනවා වගේ දැනුණු හිස් අවකාශයයි. ඇයට කුමක් දැනෙන්නේදැයි ඇය දැනගෙන හිටියේ නැහැ. මේකද පසුතැවෙන අය අත්විඳලා තියෙන්නේ? වේදනාවේ ඈත කෙළවරේ ඇය විඥානයේ වෙනස් තලයකට යන දොරක් සොයා ගත්තා. ඒ වගේම එතැන කිසිම දෙයකට ඉඩක් තිබුණේ නැහැ. ඒ වෙනුවට තිබුණේ සංසිඳුවිය නොහැකි ස්වභාවය සහ ඇගේම පරාජය කළ නොහැකි ආත්මයයි.

ඇය වටා තිබුණු සියල්ල හීනයක් වුණා : ඒ කියන්නේ මලානික උද්‍යානය, අඳුරු වැව, කිසිවක් නොදොඩා ළඟින් ඇවිදගෙන යන මනුස්සයා, පාවහන් රහිතව ඇය අමාරුවෙන් ඇවිදින එක දකින්න බැරිවෙච්ච ඉදහිට ඇවිදින්න එන ජෝඩු. ඒ සීතලද, වේදනාවද කියලා ඇය දැනගෙන හිටියේ නැහැ. ඒත් හදිසියේම ඇයට ඇගේ සිරුරේ සියලු හැඟීම් නැතිවෙලා ගිහිං කිසිදු ආශාවක්, බයක් නැති පුදුම සහගත තත්ත්වයකට ඇතුල් වුණා - ඇය කොහොමද ඒක පැහැදිලි කරන්නේ? - පුදුමාකාර සහනයක්. වේදනාත්මක බාධකය ඇයට බාධකයක් වුණේ නැහැ. ඇයට එය ඉක්මවා යන්න පුළුවන් වුණා.

ඇය දරා ගැනීමේ ශක්තිය තියෙන වේදනා විඳීම බලාපොරොත්තු නොවන සියලුම මිනිස්සු ගැන හිතුවා. ඇය

ඇගෙන් උඩට වේදනා විදීම රැගෙන ආවා. ඒත් ඒක තව දුරටත් ප්‍රශ්නයක් වුණේ නැහැ. ඇය ශරීරයේ සීමාව පහුකරලා තිබුණා. දැන් එතැන තිබුණේ ආධ්‍යාත්මයත් ''ආලෝකයත්'', කවුරු හරි, කවදා හරි පාරාදීසය කියලා කියපු ශූන්‍යතාවයත් විතරයි. සමහර විඳවීම් තියෙනවා ඒවා අමතක කරන්න පුළුවන් වෙන්නේ අපේම වේදනාව උඩින් පාවෙලා ගියොත් විතරයි.

ඊළඟට ඇය දන්නේ, රැල්ෆ් ඇයව වත්තන් කරගෙන ඔහුගේ ජැකට්ටුව ඇගේ දෙඋර වටා දාන එකයි. ඇය සීතල නිසා ක්ලාන්ත වෙන්න ඇති. ඒත් ඇය ඒ ගැන තැකීමක් කළේ නැහැ : ඇය සතුටු වුණා, ඇය බයවෙලා හිටියේ නැහැ - ඇය සාර්ථක වුණා. ඇය ඔහු ඉදිරිපිට යටහත් පහත් වුණේ නැහැ.

# 25

මිනිත්තු පැයවලට හැරුණා. ඇය ඔහුගේ තුරුලේ නින්දට වැටුණා විය යුතුයි. මොකද ඇය ඇහැරෙන කොට හිටියේ, තවමත් අඳුරු වුණත් එක් කොණක රූපවාහිනියක් තියෙන කාමරයක් ඇතුළෙයි. ඒක හිස්. සුදුපාට කාමරයක්.

රල්ෆ් උණු චොකලට් පානයක් සමඟ මතුවුණා.

''හොඳයි'' ඔහු කිව්වා. ''ඔයාට එන්න ඕන වුණු තැනට ඔයා ආවා.''

''මට හොට් චොකලට් එපා. මට වයින් ඕන. ඒ වගේම පල්ලෙහා තට්ටුවේ ගිනි උදුන තියෙන වටේටම පොත් තියෙන අපේ තැනට යන්න ඕන.''

ඇය කිව්වේ ''අපේ තැන කියලයි.'' ඒක ඇය සැලසුම් කරපු දේ නෙමෙයි.

ඇය ඇගේ දෙපතුල් දිහා බැලුවා. පොඩි කැපුම් පාරක් හැරුණහම තිබුණේ පැය කිහිපයකින් මැකිලා යන රතු පැල්ලම් කීපයක් විතරයි. යම් අපහසුතාවකින් වටපිට නොබලමින් ඇය පල්ලෙහා තට්ටුවට බැස්සා. ඇය ගිනි උදුන ළඟ බුමුතුරුණේ වාඩිවුණා - ඇයට එතැන හැමවිටම සුවදායක හැඟීමක් ගෙනාවා කියලා ඇයට තේරුණා. හරියට ඒ තැන මේ නිවසේ ඇගේ ''තැන'' වුණා වගෙයි.

''අර දර කපන මනුස්සයා මට කිව්වා ශාරීරික ව්‍යායාම වගේ දේක යෙදෙනකොට, ඔයා ඔයාගේ ශරීරයෙන් උපරිමයක් බලාපොරොත්තු වෙනකොට මනස අමුතු ගුප්ත ශක්තියකට ළංවෙනවා කියලා. හරියට මම ඔයාගෙන් දැක්ක ''ආලෝකය'' වගේ. ඔයාට මොකක්ද දැනුණේ?''

''මට දැනුණේ වේදනාව ගැහැනියගේ මිතුරෙක් විදියටයි''

''ඒක තමයි භයානක''

''මට ඒත් එක්කම දැනුණා වේදනාවටත් සීමාවක් තියෙනවා කියලා. ''

''ඒක තමයි ගැළවීම. ඒක අමතක කරන්න එපා.''

මරියාගේ මනස තවමත් ව්‍යාකූල වෙලා තිබුණා. ඇය ඇගේම සීමාවන් ඉක්මවා ගිය මොහොතේදී ඒ ''සාමය'' ඇය අත්විඳලා තිබුණා. ඔහු ඇයට වෙනස් විදියක විඳවීමක් පෙන්නපු අතර ඒකත් ඇයට අමුතුම සතුටක් ලබා දුන්නා.

රැල්ෆ් ලොකු ෆයිල් කවරයක් අරගෙන ඇය ඉදිරිපිට ඒක දිග හැරියා. එකේ තිබුණේ ඇඳපු චිත්‍රයි.

''ගණිකා වෘත්තියේ ඉතිහාසය. අපි මුණ ගැහුණු වෙලාවේ ඔයා මගෙන් ඇහුවේ මේ ගැනනේ ''

ඔව්, ඇය එහෙම ඇහුවා. ඒත් එහෙම ඇහුවේ එයත් එක්ක කථා කරන්න උනන්දුයි කියලා පෙන්නන්න විතරයි. ඒක දැන්නම් කොහොමත්ම වැදගත් එකක් නෙමෙයි.

''මේ කාලය පුරාවටම මම යාත්‍රා කළේ කිසිම සලකුණක් නැති ජලාශයක. මම හිතුවේ නැහැ ඒකට ඉතිහාසයක් තියෙනවා කියලා. මිනිස්සු කියන විදියට ඒක ලෝකෙ තියෙන පරණම වෘත්තිය කියලා තමයි මම හිතුවේ. ඒත් ඒකට ඉතිහාසයක් නැත්නම් දෙකක් තියෙනවා.''

''එතකොට මේ චිත්‍ර මොනවද?''

ඔහු කියපු දේ සම්බන්ධයෙන් ඇගෙන් දිස්වුණු උනන්දුව අඩුකම ගැන රැල්ෆ් හාට් ටිකක් කලකිරුණු බව පෙනුණා. ඒත් ඉක්මනින්ම ඒ සිතුවිලි පැත්තකින් තියලා කතාව දිගටම ගෙනිච්චා.

''මේවා තමයි මම කියවන කොට, පර්යේෂණ කරන කොට, ඉගෙන ගන්නකොට සටහන් කරගත්තු දේවල්.''

''අපි ඒ ගැන වෙන දවසක කථා කරමු. මට අද මාතෘකාව වෙනස් කරගන්න ඕන නැහැ. මට ඕන වේදනාව ගැන තේරුම් ගන්නයි.''

''ඔයා ඊයේ වේදනාව අත්වින්දා. ඒ වගේම ඒක සතුටකට යොමු කරනවා කියලා ඔයා හොයාගත්තා. ඔයා ඒක අද අත්විඳලා සැනසීම හම්බුවුණා. ඒකයි මම ඔයාට කියන්නේ ඒකට පුරුදු වෙන්න එපා කියලා. මොකද ඇබ්බැහි වෙන එක හරිම ලේසි දෙයක්, ඒක හරිම බලසම්පන්න මත්ද්‍රව්‍යයක්. ඒක අපේ එදිනෙදා ජීවිතේ, අපේ හැංගිච්ච වේදනාව ඇතුළෙ, අපි කරන පරිත්‍යාග ඇතුළෙ තියෙනවා. අපේ සිහින විනාශවීම ගැන ආදරයට දොස් කියනවා. වේදනාව ඒකේ හැබෑ මුහුණුවර පෙන්නන කොට බය හිතෙනවා. ඒත් ඒක කැපකිරීමක්, ස්ව - ප්‍රතික්ෂේපයක් විදියට වෙස්වලා ගත්තාම ඒක පොළඹවනසුලු දෙයක් වෙනවා. එහෙමත් නැත්තම් බියගුලුකමක් වෙනවා. අපි කොයිතරම් ඒක ප්‍රතික්ෂේප කරත්, අපි හැම මිනිහෙක්ම වේදනාවත් එක්ක ඉන්න මාර්ගයක් හොයා ගන්නවා. එහෙමත් නැත්තං ඒකත් එක්ක සෙල්ලම් කරනවා. ඒ වගේම ඒක අපේ ජීවිතවල කොටසක් කරගන්නවා ''

''මම ඒක විශ්වාස කරන්නේ නැහැ. කාටවත් වේදනා විඳින්න ඕන නැහැ. ''

''ඔයා හිතනවානං ඔයාට වේදනා විඳින්නැතුව ජීවත් වෙන්න පුළුවන් කියලා, ඒක ගොඩක් හොඳ ඉදිරි පියවරක්. ඒත් අනිත් මිනිස්සු ඔයාව තේරුම් ගනීවි කියලා හිතන්න එපා. ඇත්ත, කාටවත් වේදනා විඳින්න ඕන නැහැ. ඒ වුණත් බොහෝ දුරට හැමෝම හොයන්නේ වේදනාව, කැපකිරීම. එතකොට තමයි ඒ අයට යුක්ති සහගත බවත්, පිරිසිදු බවත්, ඒ අයගෙ ළමයින්ගේ, සැමියන්ගේ, අසල්වැසියන්ගේ, දෙවියන්ගේ ගෞරවය ලබන්න සුදුසුයි කියලත් දැනෙන්නේ. අපි ඒ ගැන දැන් හිතන්නේ නැතුව ඉමු. ඔයා දැනගන්න ඕන ලෝකය තියෙන්නේ සතුට හොයන්න නෙමෙයි කියලා. වැදගත් ඒකෙන් ගැළවෙන්නේ කොහොමද කියන එකයි.

''සොල්දාදුවෙක් යුද්දෙට යන්නේ හතුරව මරන්නද? නැහැ, එයා යන්නේ එයාගෙ රට වෙනුවෙන් ජීවිතේ පූජා කරන්නයි. බිරිඳකට ඕන එයා කොයිතරම් සතුටෙන්ද ඉන්නෙ කියලා එයාගේ සැමියට පෙන්නන්නද? නැහැ, එයාට ඕන එයා කොයිතරම් කැපවෙනවද කියලා ඔහු දකින්නයි, ඔහුව සතුටින් තියන්න එයා කොයිතරම් වේදනා විඳිනවද කියලා දකින්නයි. සැමියා රස්සාවට යන්නේ එහෙදි එයාට පෞද්ගලික තෘප්තියක් ලැබෙයි කියලා

හිතලද? නැහැ, ඒ මනුස්සයා එයාගේ දහදිය, කඳුළු හෙළන්නේ තමන්ගේ පවුලේ යහපත වෙනුවෙනුයි. එහෙම තමයි ඒක සිද්ධ වෙන්නේ : පුතාල තමන්ගේ දෙමාපියන් සතුටු කරන්න ඒ අයගේ හීන අත්හරිනවා. දෙමාපියෝ ඒ අයගේ ජීවිත තමන්ගේ දරුවන්ගේ සතුට වෙනුවෙන් අත්හරිනවා. වේදනාවත්, වේදනා විඳීමත් සතුට පමණක් ගෙන එන එක දෙයක් සාධාරණීකරණය කරන්න යොදාගන්නවා : ඒ තමයි ආදරය''

''නවත්තන්න''

රැල්ෆ් නැවැත්තුවා. ඒක මාතෘකාව වෙනස් කරන්න හොඳම වෙලාව වුණා. ඔහු චිත්‍ර එකින් එක පෙන්නන්න පටන් ගත්තා. මුලදී ඒ හැම එකක්ම ගොඩක් අවුල් සහගත වුණා : එතන රේඛාවලින් ඇඳපු කුරුටු ගාපු ජ්‍යාමිතික හැඩ හා වර්ණ සහිත දළ සටහන්වලින් යුතු මිනිස් රූප තිබුණා. ටිකෙන් ටික ඔහු කියමින් හිටි දේ ඇයට තේරුම් යන්න පටන් ගත්තා. මොකද ඔහු කතා කරපු හැම වචනයකටම අතින් කරපු සංඥාවක් එකතු වුණා. ඒ වගේම ඒ හැම වාක්‍යයක්ම ඇය ඒ වනතෙක් කොටස්කාරියක් කියලා හැම තිස්සෙම ප්‍රතික්ෂේප කරපු ලෝකය තුළ ඇයව තැබුවා - ඒ කියන්නේ මේක ජීවිතේ එක් අවධියක්, සල්ලි හම්බ කරන විදියකට වඩා වැඩි දෙයක් නෙමෙයි කියලා ඇයට කියන ලෝකය තුළ ඇයව තැබුවා.

''ඔව් මම හොයාගත්තා ගණිකා වෘත්තියට තියෙන්නේ එක ඉතිහාසයක් නෙමෙයි දෙකක් කියලා. පළවෙනි එක ගැන ඔයා හොඳටම දන්නවා. මොකද ඒක ඔයාගෙත් ඉතිහාසය : ඒක ලස්සන තරුණ ගෑනු ළමයෙක් සමහර හේතු නිසා ඇය තෝරා ගත්තු හරි ඇයට තෝරා දීපු හරි තත්ත්වයක් මත, තමන්ට රැකෙන්න තියෙන එකම ක්‍රමය ඇඟ විකුණන එක කියලා තීරණය කරනවා. සමහරු අන්තිමේදී රටවල් පාලනය පවා කරනවා. හරියට මෙසලිනා රෝමයේ කළා වගේ. තවත් අය වීර චරිත වෙනවා, හරියට මදාම් දියු බැරී වගේ. තවත් සමහරක් අය අවදානමත් අවාසනාවත් පස්සේ යනවා හරියට මාතා හාරි ඔත්තුකාරිය වගේ. ඒත් හුඟාක් අයට ආඩම්බර වෙන්න පුළුවන් මොහොතක් කවදාවත් ලැබෙන්නේ නැහැ. මොකද ඒ අය ප්‍රබල අභියෝගවලට කවදාවත් මුහුණ නොදෙන නිසා. ඒ අය තමයි ප්‍රසිද්ධිය, කසාදයක්, අවදානම්

හොයාගෙන ගම්වලින් එන තරුණ ගෑනු ළමයි. ඒත් ඒ අයගේ ගමන ඉවර වෙන්නේ වෙනමම සත්‍යයක් හොයාගෙනයි. කාලෙකදී ඒකත් එක්ක ගැලෙනවා, ඒකට ඇබ්බැහි වෙනවා, හැම තිස්සෙම ඒ අය විශ්වාස කරනවා එයාලා පාලනයක් ඇතුව ඉන්නවා කියලා. ඒ වුණත් අන්තිමේදී ඒ අයට කිසිම දෙයක් කරගන්න බැරිවෙනවා.

''චිත්‍ර ශිල්පියෝ අවුරුදු තුන්දාහකට වඩා කාලෙක ඉඳලා මූර්ති, චිත්‍ර අඳිමින් පොත් ලියමින් ඉන්නවා. ඒ විදියටම ගණිකාවනුත් ඒ අයගේ වෘත්තිය හරියට කිසිම දෙයක් වැඩිය වෙනස් වෙන්නේ නැහැ වගේ කරගෙන ගිහිං තියෙනවා. ඔයා කැමතිද විස්තර දැන ගන්න?''

මරියා ඔළුව වැනුවා. ඇයට වේදනාව තේරුම් ගන්න කාලයක් අවශ්‍ය වුණා. ඒ වුණත් ඇයට දැනෙමින් තිබුණා උද්‍යානයේ ඇවිද්ද වෙලාවෙදි ඇගේ සිරුරෙන් හුඟක් නරක දෙයක් අයින් වුණා වගේ හැඟීමක්.

''ගණිකාවෝ සම්භාව්‍ය ග්‍රන්ථවල මතුවෙනවා. ඊජිප්තියානු සංකේත චිත්‍රවල, සුමේරියානු ලිපිවල, පරණ, අලුත් තෙස්ත මේතුවේ. ඒත් ඒ වෘත්තිය සංවිධානගත වෙන්න පටන් ගන්නේ ක්‍රි.පූ. හයවන සියවසේ ඉඳලයි. ඒ කියන්නේ ග්‍රීක නීති සම්පාදක සොලොන්, රාජ්‍ය පාලනය සහිත ගණිකා මඩම් ඇති කරලා ''හම වෙළෙඳාම''ට බද්දක් පනවපු කාලේ ඉඳලයි. ඇතීනියානු වෙළෙන්දෝ ඒ ගැන සතුටු වුණා. මොකද වරක් තහනම් වෙච්ච දෙයක් නීත්‍යනුකූල කරපු හින්දා. අනෙක් පැත්තෙන් ගණිකාවොත් ඒ අය ගෙවන බද්දට අනුව වර්ග කරන්න පටන් ගත්තා.

''ලාබම අය පොර්නෙයි වුණා. ඒ අය ව්‍යාපාර අයිතිකාරයන්ගේ වහල්ලු. ඊළඟට පෙරි පැටෙටිකා, ඒ ගොල්ලො සේවාදායකයන්ව පාරෙන් හොයා ගත්තා. අන්තිමට හුඟක් ගණන් වගේම හොඳම තත්ත්වයේ අය වෙච්ච හෙටයෙරා. ඒ අය ව්‍යාපාරිකයන්ගේ ගමන් බිමන්වලට එකතු වෙනවා, ලස්සන අවන්හල්වලින් කෑම ගන්නවා, එයාලගෙම සල්ලි එයාලම පාලනය කරනවා, අවවාද දෙන ගමන් නගරයේ දේශපාලන ජීවිතයටත් ඇඟිලි ගහනවා. ඔයාට පේනවනේ, ඒ කාලේ වෙච්ච දේවල් තාමත් සිද්ධවෙනවා.

''මධ්‍යතන යුගයේදි ලිංගාශ්‍රිතව පැතිරෙන රෝගාබාධ හිංදා...''

නිහඬතාවයත්, හීතලට අහුවෙයි කියන බය නිසාත්, ගිනි උඳුනේ රස්නය ඇගේ ශරීරයත්, ආත්මයත් උණුසුම් කරන්නට අවශ්‍යයි.......... මරියට තවත් ඉතිහාසයට ඇහුම්කන් දෙන්නට ඕන වුණේ නැහැ. ඒක ලෝකය නැවැත්තුවා, හැම දෙයක්ම අවසානයක් නැතුව නැවත නැවතත් සිද්ධ වුණා, මනුෂ්‍යයා ලිංගිකත්වයට අවශ්‍ය වුණු ගෞරවය කවදාවත් නොදෙනවා කියන හැඟීමක් ඇයට ඇති කළා.

''ඔයා එච්චර උනන්දු නැහැ වගේ ''

ඇය හිතට ධෛර්යය ගත්තා. හැමටම පස්සේ, ඇයට දූත් එතරම් විශ්වාසයක් නැති වුණත්, ඔහුට තමයි ඇය ඇගේ හදවත දෙන්නට තීරණය කරලා තිබුණේ.

''මම උනන්දු නැත්තේ මම දන්න දේවල් ගැන. ඒ දේවල් මාව දුකට පත් කරනවා. ඔයා කිව්වා තවත් ඉතිහාසයක් තියෙනවා කියලා. ''

''අනෙක් ඉතිහාසය සම්පූර්ණ අනෙක් පැත්ත : ඒක තමයි පූජනීය ගණිකා වෘත්තිය.''

හදිස්සියේම ඇය හිටිය නිදිමත ගතියෙන් එළියට ඇවිත් මහත් බලාපොරොත්තුවෙන් ඔහුට ඇහුම්කන් දුන්නා. පූජනීය ගණිකා වෘත්තිය? ලිංගිකත්වයෙන් සල්ලි හම්බ කරලත් දෙවියන්ට ළංවෙන්න පුළුවන්ද?''

''ග්‍රීක ඉතිහාසඥ හෙරොඩෝටස්, බැබිලෝනියාව ගැන ලිව්වා : ''මේ මිනිස්සුන්ට අමුතු චාරිත්‍රයක් තිබුණා. සුමේරියාවල ඉපදෙන හැම ගැහැනියක්ටම අඩුම තරමේ ඒ ගොල්ලන්ගේ ජීවිතේ එක පාරක්වත් ඉෂ්කා දෙවඟනගේ පන්සලට ගිහිං තමන්ගේ ඇඟ කාටහරි පිටස්තර කෙනෙක්ට ආගන්තුක සත්කාරයේ සංකේතයක් විදියටත්, සංකේතීය මිලකටත් පූජා කරන්න බල කලා.''

ඇය පසුවට ඒ දෙවඟන ගැන ඔහුගෙන් අසාවි. සමහරවිට ඒ දෙවඟන ඇය ඒ මොකක්ද කියලා හරියට දැනගෙන නොහිටියත් ඒ දෙය හොයාගන්න උදව් කරාවි.

''ඉෂ්කා දෙවඟනගේ බලපෑම මුළු මැද පෙරදිගටමත්, සාදිනියාව දක්වා ඈතටත්, සිසිලිය වගේම මධ්‍යධරණී ප්‍රදේශ

තරම් දුරකටත් පැතිරුණා. පස්සේ, රෝම අධිරාජ්‍ය සමයේදී තවත් වෙස්තා කියලා දෙවඟනක් සම්පූර්ණ පාරිශුද්ධතාවයක් නැත්නම් සම්පූර්ණ යටත්වීමක් ඉල්ලා හිටියා. පූජනීය ගිනි දල්වන්නට ඇගේ පන්සලේ සේවය කරපු ගැහැනුන් තරුණ පිරිමින්ටත්, රජුන්ටත් ලිංගිකත්වයේ මාවත අරඹන්නට වගකිව යුතු වුණා. ඒ ගොල්ලො ශෘංගාරාත්මක ගීතිකා ගැයුවා, ආවේශ වුණා, ඒ වගේම ඒ ගොල්ලොන්ගේ ප්‍රීති ප්‍රමෝදය දිව්‍යමය සත්ප්‍රසාදයකින් විශ්වයට ලබල දුන්නා.''

රැල්ෆ් හාට් ඇයට පිටුවේ පහළට වෙන්න තිබුණු පැරණි පද රචනයක ජර්මානු පරිවර්තනයක් පෙන්නුවා. හැම වාක්‍යයක්ම පරිවර්තනය කරමින් ඔහු එය හිමින් කියෙව්වා.

''මම ගිමන්හල ඉදිරිපිට වාඩිවී සිටිද්දී
මම, ඉෂ්කා, දෙවඟන,
ගණිකාව, මව, බිරිඳ, දේවත්වයයි.
ඔබ එය මරණය කීවද,
මම මිනිසුන් කියන ජීවිතයයි.
ඔබ එය අපරාධය කීවද,
මිනිසුන් කියන නීතිය මමයි.
ඔබ සොයන දෙය
ඔබට ලැබෙන දෙය මමයි.
ඔබ විසිරවූ
දෑන් නැවත ඔබ එකට එකතු කරණ දෙයත්
මමයි.''

මරියා මෘදුව හඬමින් හිටියා. ඒ වගේම රැල්ෆ් හාට් හිනා වුණා. ඔහුගේ ශක්තිය නැවත පැමිණෙමින් තිබුණා. ඔහුගේ ''ආලෝකය'' නැවත දිදුලන්නට පටන් ගත්තා. ඉතිහාසය ගැන කථා කිරීම දිගටම කරන එකත්, චිත්‍ර ඇයට පෙන්නන එකත් ඇයට ආදරය දනවන එකත් හොඳම දේ වුණා.

'' කවුරුත් දන්නේ නැහැ ඇයි මේ පූජනීය ගණිකා වෘත්තිය නැතිවෙලා ගියේ කියලා. ඒක ශත වර්ෂ ගාණක් තිබුණේ නැති වුණත් සමහරවිට, අඩුම තරමේ ශත වර්ෂ දෙකක්වත් තිබුණා. සමහර වෙලාවට ඒක නැතිවුණේ ලෙඩ රෝග, නැත්තං ආගම්

වෙනස් කරද්දි සමාජය ඒකේ නීති වෙනස් කරපු හින්දා වෙන්න පුළුවන්. කොහොම වුණත් ඒක තව දුරටත් පවතින දෙයක් නෙමෙයි, ඒ වගේම ඒක කවදාවත් ආපහු පවතින එකකුත් නැහැ. දැන් මේ කාලයේ පිරිමි තමයි මේ ලෝකය පාලනය කරන්නේ. ඒ නිසා දැන් කොන්දේසි හදන්නේ අපහාස කරන්න විතරයි. ඉතිං සීමාවෙන් එළියට අඩිය තියන ඕන ගැහැනියෙක්ව නිකම්ම ගණිකාවක් විදියට හංවඩු ගහනවා.''

''ඔයාට පුළුවන්ද හෙට කොපකබානාවලට එන්න ?''

රැල්ෆ්ට තේරුණේ නැහැ ඇයි ඇය එහෙම අහන්නේ කියලා, ඒත් ඔහු එක පාරින්ම ඒකට එකඟ වුණා.

* * *

මරියාගේ දිනපොතෙන්, ඇය ජිනීවාවල ජර්දන් ඔන්ග්ලේ හි පාවහන් නොමැතිව ඇවිද ගිය රාත්‍රියට පසු :

මට වැඩක් නැහැ ඒක පූජනීයද නැද්ද කියන එක. මම කරන දේට මම වෛර කරනවා. ඒක මගේ ආත්මය විනාශ කරනවා, මාව මගෙන් ඈත් කරනවා, වේදනාව තෑග්ගක් කියලා මට උගන්වනවා. සල්ලි හැම දෙයක්ම මිල දීල ගන්නවා, හැම දෙයක්ම සාධාරණීකරණය කරනවා.

මගේ වටේ ඉන්න කිසිම කෙනෙක් සතුටින් නෙමෙයි ඉන්නේ : සේවාදායකයො දන්නවා ඒ ගොල්ලො සල්ලි ගෙවන්නේ යමකින් නිදහස් වෙන්නයි කියලා, එක මානසික ආතතියක්. ගැහැනු දන්නවා ඒ ගොල්ලො විකුණන්න ඕන සේවාදායකයන්ට තෘප්තිය, වින්දනය දෙන්න පුළුවන් එකක් කියලා. ඒක විනාශකාරී දෙයක්. මම මේක ලියන්න කලින් හුඟක් වෙලා දැඩි අපහසුවෙන් සටන් කළා, මම කොයිතරම් අසතුටින් ද, අතෘප්තියෙන්ද කියලා පිළිගන්න - කලිනුත් මට ඕන වුණා වගේම දැන් පවා මට සති කිහිපයක්වත් මේ දේවල්වලින් ඈත්වෙලා ඉන්න වුවමනායි.

හැම දෙයක්ම සාමාන්‍යයි, ඒක මගේ ජීවිතේ එක් අදියරක්, අවස්ථාවක් විතරයි කියලා පෙන්වනවා හැරෙන්නට මට කරන්නට කිසිම දෙයක් නැහැ. මට ඒක අමතක කරලා දාන්න ඕන. මට ආදරය කරන්න ඕන - එච්චරයි, මට ආදරය කරන්න විතරයි ඕන.

මට සැපවත් ජීවිතයක් ගත කරන්න, එක්කෝ මේ ජීවිත කාලය ගොඩක් කොටයි, නැත්තම් ගොඩක් දිගයි.

# 26

ඒක ඔහුගේ ගෙදර නෙමෙයි. ඒක ඇගේ ගෙදරත් නෙමෙයි. ඒක බ්‍රසීලයවත් ස්විට්සර්ලන්තයවත් නෙමෙයි. ඒක ලෝකයේ ඕනෑම තැනක තියෙන හෝටල් කාමර වගේම බඩුමුට්ටු සහිතව හුරුපුරුදු වටපිටාවක් නිර්මාණය කරන්න උත්සාහ ගෙන තිබුණු ඒත් කිසිදු පුද්ගලිකත්වයක් නැති හෝටලයක් විතරයි.

ඒක වැවේ සුන්දර දර්ශනයක් තියෙන වේදනාවේත්, විඳවීමේත්, ප්‍රීති ප්‍රමෝදයේත් මතකයන් සහිත හෝටලයක් නෙමෙයි. ඒකට පිටින් පෙනුණේ සැන්තියාගෝවලට යන පාරයි. ඒක වන්දනාවට මිසක් පවු සමාකරන්න යන මාවතක් නෙමෙයි. ඒක පාර දිගට තියෙන අවන්හල්වලදී මිනිස්සු මුණ ගැහෙන, එකිනෙකාගේ ''ආලෝකය'' අඳුන ගන්න, කතා කරන, මිතුරන් වන, ආදරෙන් බැඳෙන තැනක්. දූත් වහිමින් තියෙනවා. අවුරුදු ගාණක්, දශක ගණනාවක් ශත වර්ෂ ගණනාවක් මිනිස්සු මේ පාර දිගේ ඇවිද්දත්, රාත්‍රියේ මේ වෙලාවේදි නම් කවුරුවත් එහි ඇවිදින්නේ නැහැ - සමහරවිට ඒ පාරට හුස්මක් ගන්නට වුවමනා වෙන්න ඇති, හැමදාම ඒ පාරේ පයින් යන දෙපාවලින් විරාමයක් ගන්නට වුවමනා වෙන්න ඇති.

විදුලි පහන් නිවනවා. ජනෙල් රෙදි වහනවා. ඇය ඔහුගේ ඇඳුම් ගලවා දමන්න කියලා කියනවා. ඒ වගේම ඇයත් ඒ දේම කරනවා. ඇගේ ඇස් අන්ධකාරයට පුරුදු වෙන වෙලාවේ ඉඳන් අන්ධකාරය කවදාවත් නිශ්චිත දෙයක් නෙමෙයි. කොහෙන්දෝ ඉඳං ආපු දුබල ආලෝකයකින් ඇයට ඔහුගේ සේයාව පෙනෙනවා. ගිය වතාවේ මේ අරමුණ වෙනුවෙන් ඔවුන් මුණ ගැහුණු වෙලාවේ ඇය ඇගේ සිරුරේ එක පැත්තක් විතරයි නිරාවරණය කළේ.

ඇය සුවඳ විලවුන්වලත්, සබන්වලත් සුවඳ අංශුමාත්‍රයක්වත් නොරැඳෙන්නට කිහිප වතාවක්ම හෝදල මිරිකපු, පරිස්සමට නවපු ලේන්සු දෙකක් අරගන්නවා. ඇය ඔහු ළඟට ගිහින් ඔහුට ඒකෙන් ඇස් ගැටගහගන්න කියලා කියනවා. ඔහු මොහොතක් පැකිළිලා තමන් මීට කලින් මුහුණ දීලා තිබුණු කනගාටුදායක තත්ත්වයන් ගැන සඳහන් කරනවා. ඇය කියනවා ඒකත් එක්ක මේකෙ කිසිම සම්බන්ධයක් නැහැයි කියලාත්, ඇයට අවශ්‍ය සම්පූර්ණ අන්ධකාරය කියලාත්. ඊයේ ඇයට ඔහු වේදනාව ගැන කියා දුන්නා වගේ ඔහුට යමක් කියලා දෙන්නට දැන් ඇගේ වාරයයි. ඔහු යටත් වෙලා ඇස් ආවරණය දමා ගන්නවා. ඇයත් ඒ දේම කරනවා. දැන් එතැන මඳ හෝ ආලෝකයක් නැහැ. ඒ ගොල්ලො ඉන්නෙ සම්පූර්ණ අන්ධකාරයේයි. ඒ වගේම ඇඳ ළඟට යන්නත් ඔවුන්ට එකිනෙකාගේ අත් අල්ලා ගන්න වෙනවා.

''නැහැ අපි හාන්සිවෙන්න හොඳ නැහැ. අපි හැමදාම කළා වගේ මුහුණට මුහුණ දාලා, තව ටිකක් ළංවෙලා ඉඳගමු. එතකොට මගේ දණිස් ඔයාගේ දණිස්වල ගෑවෙනවා.''

ඇයට මේක හැම වෙලේම කරන්න ඕන වුණු දෙයක්. ඒත් ඇයට අත්‍යවශ්‍යම දේ ඇයට කවදාවත් ලබාගන්න පුළුවන් වුණේ නැහැ : ඒ තමයි කාලය. ඒක ඇගේ පළවෙනි පෙම්වතා එක්කවත් ඇය එක්ක පළවෙනි වතාවට ලිංගිකව එකතුවෙච්ච පිරිමියා එක්කවත් තිබුණේ නැහැ. ඇයට ෆ්‍රෑන්ක් දාහක් ගෙවපු ඒත් ඒ ෆ්‍රෑන්ක් දාහක මුදල ඇයට වුවමනා වුණු දේ මිලදී ගන්න ප්‍රමාණවත් නොවුණත්, සමහරවිට ඇගෙන් ලැබුණු දේට වඩා වැඩි දෙයක් ඇගෙන් ඔහුට ලැබෙයි කියලා බලාපොරොත්තු වෙච්ච අරාබිකාරයා එක්කවත් ඒක තිබුණේ නැහැ. සමහර වෙලාවට ඔවුන් ගැන හිතමින්, තවත් සමහර වෙලාවට ඇය ගැනත් හිතමින්, සමහර වෙලාවට රොමෑන්තික සිහින හිතේ රඳවමින්, තවත් සමහර වෙලාවට නිකම්ම කටට ආපු වචන දොඩවපු. (පිරිමි එහෙම තමයි, ඒ අය එහෙම නොකළොත් ඒ ගොල්ලො හරි පිරිමි වෙන්නේ නැහැයි කියලා හිතුවා.) ඇගේ කකුල් දෙක අතරට ඇවිත් ඇගේ සිරුර පහුකරගෙන ගියපු ගොඩක් පිරිමි එක්කවත් තිබුණේ නැහැ.

ඇය ඇගේ දිනපොත ගැන හිතනවා. ඇයට ඒක හොඳටම ඇතිවෙලා තිබුණා. ඇයට ඕන වුණේ ඉතුරු සති කිපය ඉක්මනින්

ගත වෙන්නයි. ඉතිං ඒ නිසයි ඇය ඇයව මේ පිරිමියාට දෙන්නේ. මොකද ඇගේම ආදරයේ ආලෝකය හොර රහසේ එතැන වැතිර තිබුණා. පළමු පාපය වුණේ ඒවා කාපු ඇපල් ගෙඩිය නෙවෙයි. ඇය රස බැලූ දෙය ආදම් සමඟ බෙදාගත යුතුයි කියලා තිබුණු ඇගේ විශ්වාසයයි. ඒවා තව කාගේ හරි උදව්වක් නැතුව ඇගේ මාර්ගයේ යන්න බය වුණා. ඉතිං ඇයට ඕන වුණා ඇයට හැඟුණු දේ බෙදාගන්න. සමහර දේවල් බෙදාගන්න බැහැ. අපේ නිදහස් කැමැත්ත කියන සාගර පතුළට කිමිදෙන්න අපි බය විය යුතු නැහැ. බය කියන දේ හැමෝගෙම හැකියාවන් හිරකරනවා. මිනිහා මේක තේරුම් ගන්න අපාය ඇතුළෙන් ගමන් කරනවා. අපි එකිනෙකාට ආදරය කරමු. ඒත් එකිනෙකා අයිති කරගන්නට උත්සාහ නොකර ඉමු.

මම මගේ ඉස්සරහ ඉන්න මේ මනුස්සයට ආදරය කරනවා. මොකද මම ඔහුව අයිති කරගන්නවත් ඔහු මාව අයිති කරගන්නවත් හදන්නේ නැති නිසා. අපි එකිනෙකාට ඇති බැඳීමෙන් නිදහස්. මම අවසානයේ මගේම වචන විශ්වාස කරන කං, මට මේක සියවාරයක්, ලක්ෂවාරයක් නැවත සිහිපත් කරන්න වුවමනායි.

ඇය ඇයත් එක්ක වැඩ කරන අනික් ගණිකාවන් ගැන කල්පනා කරනවා. ඇය ඇගේ මවත්, ඇගේ යෙහෙළියන් ගැනත් හිතනවා. ඒ හැමෝම විශ්වාස කරන්නේ පිරිමියකුට ආශාව දැනෙන්නේ දවසකට මිනිත්තු එකොළහක් විතරක් කියලයි. ඒ වගේම ඒ වෙනුවෙන් ඒ ගොල්ලො ඕනෑම දෙයක් කරනවා කියලයි. ඒක ඇත්ත නෙමෙයි : පිරිමියකුත් ගැහැනියක් වගෙයි. ඔහුගේ ජීවිතේට අර්ථයක් දෙන්න ඔහුටත් කවුරු හරි හොයාගන්න වුවමනායි.

ඇගේ මවත් ඇගේ පියාත් එක්ක හැසිරෙන්නේ මරියා වගේම සුරතාන්තයට පත්වෙනවා කියලා බොරුවට පෙන්වමින්ද? එහෙමත් නැත්නම් බ්‍රසීලයේ ඇතුළු ගමක ගෑනියකුට තවමත් ලිංගික සතුට ලබන එක තහනම් දෙයක්ද? ආදරය ගැනත් ජීවිතය ගැනත් ඇය දන්නේ බොහොම ටිකයි - ඇගේ ඇස් බැඳලා තිබීමත්, ලෝකයේ ඇති හැම මොහොතක් එක්කමත්, ඇය මේ හැම දේකම හටගැනීමත්, ඒ වගේම හැම දෙයක්ම පටන් ගන්නේ කොතනින්ද

කියලත්, ඇය ඒක පටන් ගන්න කැමති වුණේ කොහොමද කියලත් හොයා ගනිමින් ඉන්නවා.

ස්පර්ශය. ගණිකාවෝ, සේවාදායකයෝ ඇගේ මව සහ පියා අමතක කරන්න. ඇය දැන් ඉන්නේ සම්පූර්ණ අන්ධකාරයේයි. ඇය මුළු හැන්දෑ වරුවම ගත කළේ ඇගේ ගෞරවය නැවත ලබා දීපු, ඒ වගේම සතුට හොයාගෙන යන එක වේදනාවේ අවශ්‍යතාවට වඩා වැදගත් කියලා ඇයට තේරුම් කරලා දීපු මිනිහකුට ඇයට දෙන්න පුළුවන් මොනවද කියලා කල්පනා කරමිනුයි.

මම කැමති මට අලුත් යමක් කියාදීමේ සතුට ඔහුට දෙන්න. හරියට ඊයේ ඔහු මට වේදනාව විඳවීම, වීදි ගණිකාවෝ, පූජනීය ගණිකාවෝ ගැන කියලා දුන්නා වගේ. මට දේවල් කියලා දෙද්දි ඔහු කොච්චර සතුටු වෙනවද කියලා මම දැක්කා. ඉතිං මට උගන්නන්න, මට මඟ පෙන්නන්න. මම කැමතියි කෙනෙක් ආත්මය, සිරුර විනිවිදීම, සුරතාන්තය හරහා නොගිහිං සිරුරකට සමීප වෙන්නේ කොහොමද කියලා දැන ගන්න.

ඇය ඇගේ අත පිරිනමමින් ඔහුටත් එයම කරන්න කිව්වා. ඇය වචන කිහිපයක් කොඳුරමින්, කිසිවකුටත් අයිති නැති මේ මහපොළවේ ඉඳන් අද රාත්‍රියේදී ඇගේ සිරුරත්, ඇයත් ලෝකයත් අතර ඇති සීමාවන් හොයාගන්න කියලා ඔහුට කියනවා. ඇයව ස්පර්ශ කරමින් ඔහුගේ අත්වලට ඇයව දැනෙන්න ඉඩ හරින්න කියලා කියනවා. මොකද ආත්මය එහෙම නොකළත් සිරුරු හැම වෙලාවෙම එකිනෙකාව අඳුර ගන්නවා. ඔහු ඇයව ස්පර්ශ කරන්න පටන් ගන්නවා. ඒවගේම ඇයත් ඔහුව ස්පර්ශ කරනවා. හරියට කලින් ගිවිස ගත්තා වගේ ඔවුන් දෙදෙනාම ලිංගික ශක්තිය වේගයෙන් මතු පිටට ගෙන එන අවයව ඇල්ලීමෙන් වැළකෙනවා.

ඔහුගේ ඇඟිලි ඇගේ මුහුණ ස්පර්ශ කරනවා. ඒ වගේම ඇයට ඔහුගේ අත් දහස් වතාවක් හෝ ලක්ෂ වතාවක් සේදුවත් ඒවායේ රැඳී තියෙන, ඔහු ඉපදුණු වෙලාවේත් තිබුණු, ඔහු ඔහුගේ පළමු ගස දැකපු වේලාවේත්, පළමු නිවස දැකපු වෙලාවේත්, ඔහුගේ සිහිනයන් තුළ ඒවා පින්තාරු කරන්නට තීරණය කරපු වෙලාවේත් තිබුණු තීන්ත සුවඳ දැනෙනවා. ඔහුටත් ඇගේ අත්වලින් ඒ වගේ සුවඳක් දැනෙනවා වෙන්න ඕන. ඒත් ඇය ඒ මොකක්ද කියලා

දන්නේ නැහැ, ඒ මොහොතේදී හැම දෙයක්ම ශරීරයයි, අනෙක් හැම දෙයක්ම නිශ්ශබ්දතාවයි.

ඇය මෘදු ලෙස අතගෑවා, ඒ වගේම අතගානු ලැබුවා. ඇයට මේ විදියට මුළු රෑම ගත කරන්න පුළුවන්. මොකද, ඒක හරිම ආස්වාදජනකයි, ඒ වගේම ඒක ලිංගික හැසිරීමෙන් ඉවර කරන්න ඕන දෙයකුත් නෙමෙයි. ඒ වගේම ඒ මොහොතේදී ලිංගිකව එකතුවෙන්න කියලා බැඳීමක් නැහැ. ඇයට ඇගේ දෙපා අතර යම් උණුසුමක් දැනෙනවා. ඉතිං ඇය දැනගත්තා ඇගේ යෝනි මාර්ගය තෙත් වෙලා කියලා. ඔහු ඇගේ එතැන ස්පර්ශ කරන කොට ඔහු එය දැන ගනීවි. ඒ වගේම ඇය දන්නේ නැහැ ඒක හොඳද නරකද කියලත්. මේ තමයි ඇගේ සිරුර ප්‍රතිචාර දක්වන විදිය. ඇය ඔහුට එතැන, මෙතැන, තව හිමින්, තව හයියෙන් අත් යවන්න කියලා කියන්න අදහස් කරන්නේ නැහැ. ඔහුගේ අත් දැන් ඇගේ කිහිලි ස්පර්ශ කරනවා. ඇගේ අත්වල රෝම කූප අග්ගිසි කෙළින් හිටගන්නවා. ඒ මොහොතේ ඔහුගේ අත් පසෙකට තල්ලු කරන්න ඇයට හිතෙනවා. ඒත් ඒක හරිම සුවදායී හැඟීමක්. ඒ වුණත් සමහරවිට ඇයට දැනෙන්නේ වේදනාව වෙන්න පුළුවන්. ඇය ඔහුටත් ඒ දේම කරන අතරේ ඔහුගේ කිහිලිවල හමේ මතුපිට ගතියේ වෙනසක් තියෙන බව නිරීක්ෂණය කරනවා. සමහරවිට ඒ ඔවුන් දෙදෙනා පාවිච්චි කරන කිහිලිවල ගල්වන සුවඳ විලවුන්වල වෙනස නිසා වෙන්න පුළුවන්. ඒත් මොනවද මේ ඇය කල්පනා කරන්නේ? ඇය කල්පනා නොකළ යුතුයි. ඇය ස්පර්ශ කළ යුතුයි. එපමණයි.

ඔහුගේ ඇඟිලි ඇගේ පියයුරු මත රවුම් අඳිනවා. හරියට ඒවා ලිංගිකව පිබිදිලා වගෙයි. ඇයට අවශ්‍ය ඒවා තවත් ඉක්මනින් එහා මෙහා යවන්නයි, ඇගේ පියයුරු තුඩු ස්පර්ශ කරන්නයි. මොකද ඇගේ සිතුවිලි ඔහුගේ අත්වලට වඩා ඉක්මනින් ගමන් කරනවා. ඒත් සමහරවිට ඒ බව දැනගෙනම ඔහු තවත් පොළඹවන්න සූනංගුවෙමින් එතැනට යන්නට හුඟාක් වෙලා ගන්නවා. ඇගේ පියයුරු තුඩු දැන් ඝන බවින් යුක්තයි. ඔහු ඒවා සමඟ ටික වෙලාවක් සෙල්ලම් කරනවා. ඒක තව තවත් හිරිගඩු නංවනවා, ඒක ඇයව තවත් උණුසුම් කරනවා, තෙත් කරනවා. දැන් ඔහු ඇගේ උදරය හරහා ඇඟිලි යවනවා, ඊළඟට කකුල් දිගේ

පහළට දෙපතුල් දක්වාත් ඒවා දිවයනවා. ඔහු ඔහුගේ අත්වලින් ඇගේ කලවාවල ඇතුළු පැත්ත පිරිමදිනවා. උණුසුම් බව හැගිනවා. ඒත් එතැනට ළං වෙන්නේ නැහැ. ඔහුගේ ස්පර්ශය මෘදුයි. සැහැල්ලුයි. ඒ වගේම එය සැහැල්ලු වෙන තරමට එය මත්මත් කරවනසුලුයි.

ඇයත් ඒ දේම කරනවා. ඇගේ දෑතුත් ඔහුගේ දෙපාවල ඇති රෝම පමණක් ස්පර්ශ කරමින් හම මතුපිටින් පාවෙනවා. ඇයටත් ඔහුගේ ලිංගෙන්ද්‍රියට ළං වෙනකොට උණුසුමක් දැනෙනවා. මේක හරියට හදිස්සියේම ඇගේ කන්‍යාභාවය ඇයට අභිරහස් විදියට ආපහු ලැබුණා වගෙයි. හරියට ඇය පළමු වතාවට පිරිමියකුගේ සිරුර හඳුනා ගන්නවා වගෙයි. ඇය ඔහුගේ ශිෂ්ණය ස්පර්ශ කරනවා. ඇය හිතූ තරම් තද බවක් ඒකෙ නැහැ. ඒ වුණත් ඇය සැහෙන තරම් තෙත්වෙලා. කොච්චර අසාධාරණද? කවුද දන්නේ පිරිමියකුට තව වෙලාව වුවමනාද කියලා.

ඊළඟට ඇය හරියට කන්‍යාවියක් විතරක් දන්න විදියට ඒක පිරිමදින්න පටන් ගන්නවා. මොකද ගණිකාවන්ට හුඟක් කාලයකට කලින් ඉඳන්ම ඒක අමතක වෙලා ඉවරයි. මනුස්සයා ප්‍රතිචාර දක්වනවා. ඔහුගේ ශිෂ්ණය ඇගේ දෑත මත විශාල වෙන්න පටන් ගන්නවා. ඒ වගේම ඇය ටිකෙන් ටික යොදන පීඩනය වැඩි කරන්නේ ස්පර්ශ කරන්න ඕන කොතනද කියා දැනගෙනයි, ඒ මුදුනට වඩා පිටුපසයි. ඇය ඇගේ ඇඟිලි ඒ වටා ඔතාගත යුතුයි, හම ඔහුගේ සිරුර දෙසට පසු පසට ඇදිය යුතුයි. දැන් ඔහු පිබිදුණා. හුඟක් පිබිදුණා. ඔහු ඇගේ යෝනි තොල් තවමත් ඉතා මෘදුව පිරිමදිනවා. ඇයට හිතෙනවා තව ටිකක් හයියෙන් ඒක කරන්න කියලා ඔහුට කියන්න, ඇඟිලි ඇතුළට දාන්න කියලා කියන්න. ඒත් ඔහු එහෙම කරන්නේ නැහැ. ඔහු ඇගේ ගර්භාෂයෙන් පෙරී එන දියරයෙන් යෝනිය තෙත් කරනවා. ඊළඟට ඔහු නැවතත් ඇගේ පියයුරු තුඩු සමඟ කරපු ඒ රවුම් චලනය නැවතත් කරනවා. මේ මනුස්සයා ඇයව ස්පර්ශ කරන්නේ හරියට ඇය ඇයවම ස්පර්ශ කරගන්නා විදියටයි.

ඔහුගේ එක අතක් නැවතත් ඇගේ පියයුරු වෙත යනවා. ඒක කදිම හැඟීමක්. ඔහු දැන් ඇයව වැළඳ ගනීවි කියලා ඇය ප්‍රාර්ථනා කරනවා. ඒත්, නැහැ, ඔවුන් ඔවුන්ගේ සිරුරු හඳුනා

ගනිමිනුයි ඉන්නේ. ඔවුන්ට අවශ්‍ය තරම් කාලය තියෙනවා, ඔවුන් කාලය ගත යුතුයි. ඔවුන්ට අවශ්‍ය නම් මේ මොහොතේ ලිංගිකව එකතුවෙන්න පුළුවන්. ඒක ලෝකයේ තියෙන ඉතාම ස්වභාවික ක්‍රියාව වේවි. ඒ වගේම ඒක ඉතාම හොඳ දෙයක් වේවි. එත් මේ හැම දෙයක්ම හුඟක් අලුත්. ඇය ඇයව පාලනය කරගත යුතුයි. ඇයට සියල්ල අවුල් කරගන්න ඕන වෙන්නේ නැහැ. ඇයට ඔවුන් පළමු දින රාත්‍රියේ බීපු වයින් මතක් වෙනවා. හැම උගුරකම ආස්වාදය විඳිමින් ඒක හිමින් හිමින් තොලගාපු හැටි, ඒකෙන් ඇයව උණුසුම් කරපු හැටි, ලෝකය වෙනස් විදියකට දකින්නත්, ඇයව සැහැල්ලු කරවමින් ජීවිතයට ඇයව වඩා සමීප කරවපු හැටිත් මතක් වෙනවා.

ඇයට ඒ මනුස්සයාවත් උරා බොන්න ඕන වෙනවා. ඊට පස්සේ ඇයට පුළුවනි, අපහසුවෙන් ගිලදාපු, ඇයව මත් කළා වුණත් හැම තිස්සෙම හිසරදයකුත්, ආත්මයේ හිස් තැනකුත් ඉතුරු කළ ඒ බාල වයින් වර්ගය හැමදාටම අමතක කරලා දාන්න.

ඇය හිතන එක නවත්තනවා. හිමින් හිමින් ඇගේ ඇඟිලි ඔහුගේ ඇඟිලි මත දුවටෙනවා. ඇයට කෙඳිරිගෑමක් ඇහෙනවා, ඇයටත් කෙඳිරිගාන්නට කැමැත්තක් ඇතිවෙනවා. ඒත් ඇය ඇයව නවත්තා ගන්නවා. ඇගේ සිරුර පුරාම උණුසුම පැතිරී යනව ඇයට දැනෙනවා. ඔහුටත් ඒ දේම සිදුවෙමින් තියෙන්න ඕන. සුරතාන්තයක් නැතුව ශක්තිය මොළය දක්වා පැතිරී යනවා, ඇයට කිසිවක් හිතන්නට ඉඩ නොදී පැතිරී යනවා. ඒත් මේක තමයි ඇයට වුවමනා : නවත්තන්න, භාගෙට නවත්තන්න, සතුට ඇගේ මුළු සිරුර පුරාම පතුරවන්න, එයට ඇගේ මනස ආක්‍රමණය කරන්න ඉඩ හරින්න, ඇගේ ආශාවත් ඇගේ කැපවීමත් නැවත ශක්තිමත් කරගන්න, ඇගේ කන්‍යාභාවය ආපහු ඇගේ අයිතියට පවරා ගන්න.

ඇය මෘදුව ඇගේ ඇස්වල තිබුණු දැස් ආවරණයත් ඔහුගේ දැස් ආවරණයත් ඉවත් කරනවා. ඇය ඇඳ පැත්තකින් තියෙන ලාම්පුව දල්වනවා. දෙන්නම නිරුවතින් : ඒ ගොල්ලො හිනාවෙන්නේ නැහැ, ඒ ගොල්ලො එකිනෙකා දිහා බලනවා විතරයි. මම තමයි ආදරය, මම තමයි සංගීතය, ඇය හිතනවා. එන්න අපි නටමු.

ඒත් ඇය කිසිවක් කියන්නේ නැහැ : ඒ ගොල්ලො සරල නොවැදගත් දේවල් ගැන කතා කරනවා. ඔවුන් නැවත මුණ ගැහෙන එක ගැන ඇය දවසක් යෝජනා කරනවා, සමහරවිට තව දවස් දෙකකින් පස්සෙ. ඔහු කියනවා ඔහු කැමතියි කියලා ඇයට ප්‍රදර්ශනයකට ආරාධනා කරන්න. ඒත් ඇය අදිමදි කරනවා. ඒකෙ තේරුම ඔහුගේ ලෝකය, ඔහුගේ යාලුවෝ අඳුරලා දෙන්න වෙන්න පුළුවන්. ඉතිං ඔවුන් මොනව කියාවිද, මොනව හිතාවිද.

ඇය බැහැ කියනවා. ඒත් ඔහුට තේරෙනවා ඇයට ඇත්තටම කියන්න ඕන හා කියලයි කියලා. ඉතිං ඔහු මෝඩ තර්ක විතර්ක ටිකක් පාවිච්චි කරමින් ඇයට බල කරනවා. ඒත් ඒවා දූත් ඔවුන් රඟමින් ඉන්න රැඟුමේ ඒවායි. ඉතිං අවසානයේදි ඇය කැමති වෙනවා. මොකද ඒ තමයි ඇයත් කැමති දේ. ඔවුන් කොහෙදිද මුණ ගැහෙන්නේ කියලා සැලසුම් කරනවා - පළමු දවසේදි මුණ ගැහුණු අවන්හලේදිම? නැහැ, ඇය කියනවා, බ්‍රසීලියානුවෝ හරිම මිත්‍යාදෘෂ්ටිකයි, ඒ හින්දා කවදාවත් පළමුවරට මුණගැහුණු තැනකදීම නැවත මුණ ගැහෙන්නේ නැහැ. මොකද ඒක චක්‍රයක් වෙලා සියල්ල අවසානයකට රැගෙන යන හින්දා කියලා.

ඇය ඒ චක්‍රයට ළං නොවෙන එක ගැන සතුටුවෙනවා කියලා ඔහු කියනවා. ඔවුන් තීරණය කරනවා, ඔවුන් දෙදෙනා මුණ ගැහුණු දා පටන් ඔවුන්ගේ අභිරහස් වන්දනාවේ කොටසක් වෙලා තිබුණු සැන්තියාගෝවලට යන පාරේ පිහිටලා තියෙන ඒ වගේම මුළු නගරයම එතැන ඉඳං දකින්න පුළුවන් පල්ලියක් ළඟදි මුණ ගැහෙන්න.

මරියාගේ දිනපොතෙන්, බ්‍රසීලය බලා යන්න ටිකට් පත මිලදී ගත්ත දින සවස :

එකෝමත් එක රටක කුරුල්ලකු හිටියා. එයා දිලිසෙන, වර්ණවත්, විස්මය දනවන පිහාටුවලින් යුතු පරිපූර්ණ අත්තටු දෙකකින් සැරසිලා හිටියා. ටික කාලෙකින් එයා අහස පුරා නිදහසේ පියාඹන දකින හැම කෙනකුටම සතුට ගේන සතෙක් බවට පත්වුණා.

දවසක් එක ගැහැනියක් මේ කුරුල්ලව දැකලා එයත් එක්ක ආදරෙන් බැඳුණා. එයාගේ ගුවන් ගමන බලන් හිටපු ඇගේ මුව විස්මයෙන් ඇරුණා, ඇගේ හදවත වේගයෙන් ගැහුණා, විස්මය නිසා ඇගේ ඇස් දිලිසුණා. ඇය කුරුල්ලට ඇයත් එක්ක පියාඹන්න කියලා ආරාධනා කළා. ඉතිං දෙදෙනාම අහස සිසාරා පරිපූර්ණ සුසංයෝගයකින් පියාසර කළා. ඇය ඒ කුරුල්ලා වර්ණනා කළා, පූජනීය කොට සැලකුවා, සැමරුවා.

ඒත් ඇය ඊළඟට මෙහෙම හිතුවා : එයාට ඈතින් තියෙන කඳුවලට පියාඹන්න ඕන ඇති! ඉතිං ඇය බයවුණා. බයවුණේ ඇයට කවදාවත් මේ වගේ හැඟීමක් වෙනත් කුරුල්ලෙක් ගැන ඇති නොවෙයි කියලයි. ඉතිං ඇයට ඊර්ෂ්‍යා හිතුණා. ඒ කුරුල්ලාගේ පියාඹන්න පුළුවන් හැකියාවට ඊර්ෂ්‍යා කළා.

ඉතිං ඇයට තනිකමක් දැනුණා. ඒ වගේම ඇය හිතුවා : "මම උගුලක් අටවන්න ඕන. ඊළඟ පාර කුරුල්ලා ආවට පස්සේ එයා ආපහු කවදාවත් යන එකක් නැහැ."

ආදරෙන් බැඳිලා හිටිය ඒ කුරුල්ලත් පහුවෙනිදා ආපහු ඇවිත්, උගුලට වැටිලා කූඩුවක හිරවුණා.

ඇය හැමදාම කුරුල්ලා දිහා බලාගෙන හිටියා. මෙන්න දැං ඔහු ඉන්නවා, ඇගේ ආශාවේ වස්තුව. මෙහෙම කියපු යාලුවන්ට ඔහුව පෙන්නුවා. "ඔයාට ඕනවුණු හැමදේම දැන් ඔයාට තියෙනවා." කොහොම වුණත් අමුතු පරිවර්තනයක් එතැන සිද්ධවෙන්න පටන් ගත්තා : දැන් ඇය ළඟ කුරුල්ලා හිටපු නිසා තව දුරටත් ඔහුව ආදරෙන් හොයාගෙන යන්න ඕන වුණේ නැහැ. ඇයට කැමැත්ත අඩුවෙන්න ගත්තා. පියාඹන්න බැරිවුණු හිංදා ජීවිතේ සැබෑ අරුත ප්‍රකාශ කරගන්න බැරිවුණු කුරුල්ලා නාස්තිවෙලා යන්නත්, එයාගේ පිහාටුවල දිස්නය නැතිවෙලා යන්නත් පටන් ගත්තා. එයා කැත වුණා. ඒ වගේම ඒ ගැහැනිය කෑම දාන එකත්, කූඩුව සුද්ද පවිත්‍ර කරන එකත් ඇරුණහම තව දුරටත් එයාට කිසිම අවධානයක් යොමු කළේ නැහැ.

එක දවසක් ඒ කුරුල්ලා මියගියා. ඒ ගැහැනිය අතිශයින්ම දුකට පත්වෙලා ඇගේ මුළු කාලයම ඔහු ගැන හිතමින් ගෙවලා දැම්මා. ඒත් ඇය කූඩුව ගැන මතක් කළේ නැහැ. ඇය කල්පනා

කළේ පළමුවරට ඔහු තෘප්තියෙන් වලාකුළු අතරින් පියාඹනවා දැකපු දවස ගැන විතරයි.

ඇය, තව දුරටත් ඇය ඇතුළට එබිලා බැලුවනං, තේරුම් යාවි ඇය උද්දාමයට පත්වුණේ ඔහුගේ නිදහස නිසාත්, තටු ගසද්දී ඒවයේ තිබුණු ශක්තිය නිසාත්, මිසක් ඔහුගේ භෞතික ශරීරය නිසා නෙවෙයි කියලා.

කුරුල්ලා නැතුව ඇගේ ජීවිතය තුළත් කිසිම අර්ථයක් නැතුව ගියා. ඒ වගේම මරණය ඇගේ එළිපත්තේ ඉඳං දොරට තට්ටු කළා. ''ඇයි ඔබ ආවේ?'' ඇය මරණයෙන් ඇහුවා. ''එතකොට ඔබට පුළුවන් ආපහු සැරයක් ඔහුත් එක්ක අහස සිසාරා පියාඹන්න'' මරණය පිළිතුරු දුන්නා. ''ඔබ ඔහුට ඇවිත් යන්න ඉඩ දුන්නා නම්, ඔබට ඔහුට තව තවත් ආදරය කරන්නත්, අගය කරන්නත් තිබුණා. අහෝ! ඔබට දැන් මාව අවශ්‍යයි නැවත වාරයක් ඔහුව හොයාගන්න.'

# 27

ඇය දවස පටන් ගත්තේ පසුගිය මාස කීපය මුළුල්ලේ ඇය විසින් නැවත නැවතත් පුහුණු කරන ලද දෙයක් කිරීමෙනුයි. ඇය සංචාරක නියෝජිතයකුගේ තැනකට ගිහිං සති දෙකකින් එළඹෙන, කැලැන්ඩරයේ ඇය විසින් සටහන් තබන ලද දිනට බ්‍රසීලයට යන්නට ටිකට් පතක් මිලදී ගත්තා.

එතැන ඉඳලා ජිනීවා, ඇය ආදරය කරපු වගේම ඇයට ආදරය කරපු පිරිමියාගේ මුහුණ වේවි. රියූ ද බර්න් නමක් සහ ස්විට්සර්ලන්තයේ අගනුවරට ප්‍රණාමයක් විතරක් වේවි. ඇයට ඇගේ කාමරය, වැව, ප්‍රංශ භාෂාව, අවුරුදු විසිතුනක ගැහැනියකුට (ඇගේ උපන් දිනය පෙරදා රාත්‍රියට යෙදී තිබුණා) කරන්න පුළුවන් වුණු පිස්සු වැඩ ගැන මතක තියේවි - හැම දෙයකටම සීමාවක් තියෙනවා කියලා ඇය අවබෝධ කර ගන්නකම්ම මතක තියේවි.

ඇය කුරුල්ලාව කොටු කරගන්න එකක් නැහැ, ඒ වගේම ඔහු ඇයත් සමඟ බ්‍රසීලයට යා යුතුයි කියලා යෝජනා කරන එකකුත් නැහැ. ඔහු පමණයි ඇගේ ජීවිතයට සිදුවුණු එකම ඇත්ත, ශුද්ධ වූ දෙය. ඒ වගේ කුරුල්ලෙක් නිදහසේ පියෑඹිය යුතුයි, ඒ වගේම ඔහු වෙනත් කෙනකු සමඟ පියාඹා ගිය ඒ කාලය ගැන අතීතානුකම්පාවකින් පිරිය යුතුය. ඇයත් කුරුල්ලෙක් වුණා. ඇයත් එක්ක රැල්ෆ් හාට් හිඳී එම කොපකබානාහි ගත කරපු දවස් ඇය හැමදාමත් සිහිපත් කරාවි. ඒක ඇගේ අතීතය වුණා මිසක් අනාගත නොවෙයි.

ඇයට යන්න වෙලාව ආවට පස්සේ, හැම තිස්සෙම දුක් විඳිනවට වඩා ඇය හිතුවා තව පාරක් "ආයුබෝවන්" කියලා කියන්නඃ ඉක්මනින්ම, මම තව දුරටත් මෙහෙ ඉන්න එක්ක නැහැ."

ඉතිං ඇය ඇගේ හදවතත් එක්ක රැවටිල්ලක් කළා, ඒ වගේම ඒ උදෑසන ඇය ජිනීවා වටේ ඇවිදගෙන ගියේ, මේ පාරවල්, ඒ කන්ද, සැන්තියාගෝවලට යන පාර, මොන්ට් බ්ලොන්ක් පාලම, යාමට පුරුදුවෙලා හිටපු තැබෑරුම් හරියට ඇය හැම තිස්සෙම දැනගෙන හිටියා වගෙයි. ඇය ගඟට උඩින් පියාඹගෙන යන සීගල් කුරුල්ලෝ නැරඹුවා, මාර්කැට්ටුවේ වෙළෙන්දෝ ඒ ගොල්ලන්ගේ කඩවල් වහමින් හිටියා, මිනිස්සු ... දිවා ආහාරයට කාර්යාලවලින් එළියට ඇදුණා, ඇය කමින් හිටිය ඇපල් ගෙඩියේ පාටත්, රසත් ගැන ඇය අවධානය යොමු කළා, ගුවන්යානා ඈතින් ගොඩබස්වමින් තිබුණා, ජල කදම්බයෙන් පැන නැගුණු දේදුන්න වැවේ හරි මැදින් උඩට මතුවුණා, පසුකරගෙන යන්නන්ගේ ලජ්ජාව මුසු සැඟවුණු සතුට, ඇයට ලැබුණු බැලුම් ඇය දැක්කා. සමහරු ආශාවෙන් පිරී ගිය අයයි, සමහරු හැඟීම් විරහිතයි. ඇය අවුරුද්දකට ආසන්න කාලයක් කුඩා නගරයක ජීවත් වුණා. ලෝකයේ අනෙක් හැම කුඩා නගර වගේම අරුම පුදුම ගෘහ නිර්මාණ ශිල්පයත්, අධික බැංකු සංඛ්‍යාවත් නොවන්නට මේ නගරයත් බ්‍රසීලයේ බොහෝ ඈතුළත ගමක් වෙන්න තිබුණා. ඒ නගරයේ පොළක් තිබුණා. මාර්කැට්ටුවකුත් තිබුණා. මිල ගණන්වලට කේවල් කරපු ගෘහණියන් හිටියා. මවගේ හරි පියාගේ හරි අසනීපයක් කියලා නිදහසට කාරණා කියලා ඉස්කෝලෙන් කට්ටි පැනපු ළමයි දෑත් ගඟ අයිනේ ඇවිදිමින් එකිනෙකා සිපගත්තා. ගෙදර ඉන්නවා වගේ අයත්, පිටස්තර හැඟීමෙන් ඉන්න අයත් හිටියා. එතැන ඕපාදූපවලින් පිරුණු ටැබ්ලොයිඩ් පත්තරත්, ව්‍යාපාරිකයන් සඳහා ගෞරවනීය සඟරා තිබුණත් දකින්න පුළුවන් වුණේ ඔවුන් හැම විටම ඕපාදූප පත්තර කියවනවා විතරයි.

ඇය පුස්තකාලයට ගියා ගොවිපොළ කළමනාකරණය ගැන තිබුණු අත්පොත ආපහු බාර දෙන්න. ඇයට ඒකේ තිබුණු එක වචනයක්වත් තේරුණේ නැහැ, ඒත් ඇයට ඇයවත්, ඇගේ දෛවයවත් පාලනය කරගන්නට නොහැකි බව දැනුණු මොහොතවල්වලදී, ඒ පොත ඇගේ ජීවිතයේ අරමුණ මතක් කරලා දීමේ සේවය ඉටු කළා. තනි කහපාට කවරයත්, ප්‍රස්තාර මාලාවත් එක්ක ඒ පොත නිහඬ මිතුරෙක් වුණා. ඒත්, ඊටත් වඩා මෑත සති කිහිපය තුළ අඳුරු රාත්‍රීන්හි පහන් ටැඹක් වුණා.

හැම තිස්සෙම අනාගතය සඳහා සැලසුම් හදන්නත්, හැම වෙලාවකම වර්තමානයෙන් පුදුම වීමටත් ඇය ඇයටම හිතන්න ඉඩ ඇරියා. ඇයට ඇයව නිදහස, බලාපොරොත්තු සුන්වීම, ආදරය, වේදනාව, ආපසු ආදරයට පැමිණීම තුළින් සොයාගත් බව දැනුණා - ඒ වගේම ඇය කැමතියි දේවල් එතනින් අවසන් කරන්නත්.

හැම දේකටම පස්සේ විකාරම දේ වුණේ, ඇයත් එක්ක වැඩ කරපු සමහරක් මිතුරියන් සමහරක් මිනිස්සුත් එක්ක ඇඳට යන එකේ ආශ්චර්යයක් , ප්‍රමෝදයක් ගැන කතා කරද්දී, ලිංගික හැසිරීම් තුළින් ඇය පිළිබඳ හොඳ හෝ නරක හෝ කිසිවක් හොයාගන්නට නොහැකිවීමයි. ඇය ඇගේ ප්‍රශ්න විසඳගෙන තිබුණේ නැහැ, ඇයට තවමත් ලිංගික එකතුවීමකින් සුරතාන්තයට පත්වෙන්න බැරිවුණා, ඒ වගේම ඇය ලිංගික හැසිරීම ඉතා නීරස දෙයක් හැටියට සලකපු නිසා ආදරණීය වැළඳ ගැනීමක පැවැත්මත් - රැල්ෆ් හාට් කියපු විදියට - ඇය හොයපු උද්යෝගය හා සතුටත් නැවත ආපහු කිසිම දවසක හොයාගන්න ලැබෙන එකක් නැහැ.

එහෙමත් නැත්නම් සමහරවිට (ඇය කලාතුරකින් හිතපු විදියට, ඒ වගේම අම්මලා, තාත්තලා වගේම ඔක්කොම කථාවල කියන විදියට) ආදරය ඕන වෙන්නේ කෙනකුට ඇඳේදි සතුට අත්විඳින්නටයි.

සාමාන්‍යයෙන් බැරෑරුම් විදියට හිටපු පුස්තකාල පාලිකාව (ඒ වගේම මරියාගේ එකම මිතුරිය, ඒ වුණත් ඇය ඒ ගැන ඇයට කවදාවත් කියලා තිබුණේ නැහැ.) ප්‍රසන්න හැඟීමකින් හිටියා. ඇය සැහැල්ලු ආහාරයක් කමින් හිටිය අතර ඇයටත් සැන්ඩ්විචයක් බෙදාගන්න ආරාධනා කළා. මරියා ඇයට ස්තුති කරලා ඇය මොහොතකට පෙර කෑම ගත් බව කිව්වා.

''ඔයා මේ පොත කියවන්න සෑහෙන කාලයක් ගත්තා''

''මට වචනයක්වත් තේරුණේ නැහැ''

''ඔයාට මතකද ඔයා මගෙන් එක පාරක් අහපු දේ ගැන?''

නැහැ, ඇයට මතක තිබුණේ නැහැ. ඒත් ඇය ඒ ගැහැනියගේ මුහුණේ තිබුණු දඟකාර බැල්ම දැක්කාම ඇය අනුමාන කළා ඒ ලිංගිකත්වය ගැනයි කියලා.

''ඔයා දන්නවද, ඔයා ඒ විෂයය සම්බන්ධ පොත් හොයාගෙන මෙහාට ආවට පස්සේ, මම අපි ළඟ තියෙන ඒවා ගැන ලැයිස්තුවක් හදන්න තීරණය කළා. ඒත් එච්චර පොත් තිබුණේ නැහැ. ඉතිං අපි අපේ තරුණ ළමයින්ට මේ වගේ කරුණු සම්බන්ධයෙන් දැනුවත් කරන්න ඕන නිසා, මම තව පොත් ටිකක් ඇණවුම් කළා. අඩුම ගානේ මේ ක්‍රමය හින්දවත් ඒ අයට ලිංගිකත්වය ගැන ඉගෙන ගන්න තියෙන නරකම ක්‍රියා මාර්ගය ගන්න ඕන වෙන එකක් නැහැ - ගණිකාවෝ එක්ක යන එක වගේ.''

පුස්තකාල පාලිකාව කොණක තිබූ පොත් ගොන්නක් පෙන්නුවා. ඒ සියල්ලම දුඹුරු කවරයකින් පරෙස්සමට ආවරණය කරලා තිබුණා.

''මට ඒවා වර්ග කරන්න තාම වෙලාවක් හම්බවුණේ නැහැ. ඒත් මම ඒවා උඩින් පල්ලෙන් බලද්දි කියවපු දේවල් වලින් සෑහෙන බයවුණා.''

මරියාට හිතාගන්න පුළුවන් වුණා මොනවද මේ ගැහැනිය කියන්න හදන්නේ කියලා : ලැජ්ජා හිතෙන ඉරියව්, පරපීඩක - ස්වපීඩන කාමුකත්වය හා ඒ වගේ දේවල්. ඇය නැවත වැඩට යන්න ඕන කියලා කියන එක හොඳ වුණා. (ඇයට මතක තිබුණේ නැහැ ඒ කාන්තාවට ඇය කිව්වේ ඇය බැංකුවක වැඩ කරනව කියලද කඩයක වැඩ කරනවද කියලා. බොරුව ජීවිතය හුඟාක් සංකීර්ණ කළා. ඇයට හැම තිස්සෙම ඇය කියපු දේ අමතක වෙනවා.)

ඇය, ඇයට ස්තුති කරලා යන්න හැදුවා විතරයි. ඒ ගැහැනිය මෙහෙම කිව්වා :

''ඔයත් සෑහෙන්න බයවෙයි. ඔයා දන්නවද, උදාහරණයක් විදියට, ක්ලිටෝරිස් එක ළඟදි හොයාගත්ත එකක් කියලා?''

''හොයා ගැනීමක්? ළඟදී? ''ඒක හැමදාම එතැන තිබුණා.'' මේ සතියේ තමයි කෙනෙක් ඇගේ එතැන ස්පර්ශ කළේ. ඒ වගේම අන්ධකාරයේ වුණත් ගවේෂණය කරන ප්‍රදේශය ගැන ඒ අත් හොඳින් දැනගෙන හිටියා.

''ඒක නිල වශයෙන් පිළිගත්තේ 1559 දි රියැල්දෝ කොලම්බෝ කියලා දොස්තර කෙනෙක් De re anatomica කියලා

පොතක් ප්‍රකාශ කළාට පස්සෙයි. ඒක තිල විදියට ක්‍රිස්තියානි යුගයේ අවුරුදු එක්දහස් පන්සීයකට ප්‍රතික්ෂේප වුණා. කොලම්බෝ එයාගේ පොතේ ඒක විස්තර කළේ ''ලස්සන ප්‍රයෝජනවත් දෙයක්'' විදියටයි. ඔයාට ඒක විශ්වාස කරන්න පුළුවන්ද? ''

ඒ දෙන්නාම හිනාවුණා.

''අවුරුදු දෙකකට පස්සේ, 1561දී, ගේබ්‍රියෙලෝ ෆැලොපියෝ කියලා දොස්තර කෙනෙක් කිව්වා එයා ඒක ''හොයාගත්තා'' කියලා. පොඩ්ඩක් හිතන්න! පිරිමි දෙන්නෙක් - ඉතාලිකාරයෝ තමයි මේ වගේ දේවල් ගැන දන්නේ - මේ අය තර්ක කරනවා කවුද ක්ලිටෝරිස් එක තිල වශයෙන් ඉතිහාස පොත්වලට ඇතුළත් කළේ කියලා!''

ඒක රසවත් කතාබහක් වුණා. ඒත් මරියාට ඒ දේවල් ගැන හිතන්න වුවමනා වුණේ නැහැ. මොකද මූලිකවම ඇයට දැනුණා ශ්‍රාවයක් ගලාගෙන ඇගේ යෝනි ප්‍රදේශය තෙත් වෙනවා. මොකද නිකම්ම ඔහුගේ ස්පර්ශය, ඇස් ආවරණ, ඇගේ සිරුර පුරා ඔහුගේ අත් යැවුණු හැටි මතක් වුණු නිසා. නැහැ, ඇය ලිංගිකත්වයට ඇබ්බැහි වෙලා තිබුණේ නැහැ : ඒ මනුස්සයට ඇයව බේරගන්න පුළුවන් වුණා. ජීවත් වෙනවා කියලා දැනෙන එක හරිම අපූරුයි.

කොහොම වුණත් පුස්තකාල පාලිකාව ඇගේ මාතෘකාවත් එක්ක උද්යෝගිමත්වෙලයි හිටියේ.

''ඒක ''හොයාගැනීම'' කියන එකේ තේරුම ඒකට තවත් ගෞරවයක් ලැබුණා කියන එක නෙමෙයි.'' පුස්තකාල පාලිකාව ක්ලිටෝරිස් විද්‍යාව හෝ ඒ විද්‍යාව හඳුන්වන කුමන හෝ එකක් සම්බන්ධයෙන් විශේෂඥයකු බවට පත්වෙමින් සිටි බවක් පේන්න තිබුණා. ''අපි දැන් කියවන ලිංග ඡේදනය අප්‍රිකාවේ සමහර ගෝත්‍රවලත් තියෙනවා. ඒ ගොල්ලො තවමත් ගැහැනියකුගේ ලිංගික තෘප්තිය සඳහා වන අයිතිවාසිකම් අයින් කරන්න බලකරනවා, ඒවා එකක්වත් අලුත් දේවල් නෙමෙයි. දහනවවන ශතවර්ෂයේ මේ යුරෝපයේත්, තවමත් ඒක අයින් කරන්න සැත්කම් කරමිනුයි ඉන්නේ. ඒ ගොල්ලො විශ්වාස කරනවා ඒ ගැහැණු සිරුරේ තියෙන කුඩා නොවැදගත් කොටස හිස්ටීරියාවට, අපස්මාරයට, වෙනත් අයත් එක්ක ලිංගික සම්බන්ධකම් පවත්වන්නට, වඳ භාවයට මඟ පාදනවා කියලා.''

මරියා සමුගන්න කියලා අත දිගු කළා. ඒත් පුස්තකාල පාලිකාව නම් වෙහෙසට පත්වූ බවට සලකුණක්වත් පෙන්නුවේ නැහැ.

''නරකම දේ තමයි, මනෝ විශ්ලේෂණය හොයාගත්තු අපේ ආදරණීය දොස්තර ෆ්‍රොයිඩ් කිව්වා, සාමාන්‍ය ගැහැනියකුගේ සුරතාන්තය ක්ලිටෝරිසයේ ඉඳන් යෝනියට ගමන් කළ යුතුයි කියලා. එයාගේ විශ්වාසවන්තම අනුගාමිකයෝ තව දුරටත් ඉස්සරහට ගිහිං කිව්වා, ගැහැනියකුගේ ලිංගික සතුට ක්ලිටෝරිස් එක ඇතුලේ ඒකරාශී වෙලා තියෙනව නම් ඒක නොමේරූ කමේ සංකේතයක්, එහෙමත් නැත්නම් නරකම දේ ඒක ද්විලිංගිකත්වය නිසායි කියලාත්.''

''ඒ වගේම අපි හැමෝම දන්න දෙයක් තමයි ලිංගික සංසර්ගයකින් විතරක් සුරතාන්තය ලබනවා කියන එක හරිම අමාරු දෙයක් කියන එක. පිරිමියෙක් එක්ක ලිංගිකව එකතු වෙනවා කියන එක හොඳයි, ඒත් සතුට රැඳිලා තියෙන්නේ ඒ ඉතාලි ජාතිකයා හොයාගත්තු පුංචි කොටස ඇතුළෙයි!

හිත අවුල් වුණා මරියාට තේරුණා ෆ්‍රොයිඩ් විනිශ්චය කරගත්තු ගැටලුව තියෙනවා කියලා : ඒ කියන්නේ ඇය තවමත් ඉන්නේ නොමේරූ අවධියේ බව, ඇගේ සුරතාන්තය යෝනි මාර්ගයට ගමන් කර නැති බව. එහෙමත් නැත්නම් ෆ්‍රොයිඩ් වැරදිද?

''ඔයා මොකද හිතන්නේ (G spot) ජී ස්පොටය ගැන?''

''ඔයා දන්නවද ඒක කොහෙද තියෙන්නේ කියලා ?''

අනෙක් ගැහැනියගේ මූණ ලැජ්ජාවෙන් රතුවුණා, ඇය උගුර පෑදුවා, ඒත් කියාගන්න පුළුවන් වුණා :

''ඔයා ඇතුළට යනකොට, පළවෙනි තට්ටුවේ, පිටිපස්සේ ජනේලේ.''

අපූරුයි! ඇය යෝනි මාර්ගය විස්තර කළේ හරියට ගොඩනැගිල්ලක් විස්තර කළා වගෙයි. සමහරවිට ඇය ඒ පැහැදිලි කිරීම තරුණ ගැහැනු ළමයින්ට ලියැවුණු පොතකින් කියවන්න ඇති. කෙනෙක් දොරට තට්ටු කරලා ඇතුළු වෙනකොට ඔබ මුළු විශ්වයම ඔබගේම සිරුර තුළ සොයා ගන්නවා. ඇය ස්වයංවින්දනයේ යෙදුණු ඕනෑම වෙලාවක, ඇය අවධානය යොමු

කරන්න කැමති වුණේ ක්ලිටෝරිසයට වඩා ජී ස්පොටයටයි. මොකද එතකොට අවසානය ළංවෙනකොට අපහසුතාව දැනිලා කරදරයකට වඩා වේදනාව සතුටත් එක්ක මුසුවුණා.

ඇය හැම තිස්සෙම කෙළින්ම ගියේ පළවෙනි මහලේ, පිටිපස්සේ ජනේලේ වෙතටයි.

පෙනුණු විදියට පුස්තකාල පාලිකාව පැහැදිලිවම කථාව කොහොමටවත් නතර නොකළේ, මොකද සමහරවිට ඇය මරියා තුළින් ඇගේම අහිමි ලිංගිකත්වයේ හවුල්කරුවාව හොයාගෙන හිටි නිසයි. ඇය අත වනලා ඇගෙන් සමු අරගෙන එතැනින් පිටවුණේ, ඇගේ ඔළුවට ආපු කුමන හෝ විකාර සිතුවිල්ලක් ගැන අවධානය යොමු කරමින් : මොකද මේ දවස සමුගැනීම්, ක්ලිටෝරිස, කන්‍යාභාවය ආපහු ලබාගැනීම්, ජී ස්පොටයන් ගැන හිතන්න ඕන දවසක් වුණේ නැහැ. ඇය ඇය අවට සිදුවෙමින් තිබුණු දේවල් ගැන අවධානය යොමුකළා - සීනු හැඬවෙන හඬ, බල්ලෝ බුරණ හඬ, ට්‍රෑම් රථයක් මාර්ගය දිගේ ගැස්සෙමින් යන හඬ, පියවර හඬ, ඇගේම හුස්ම ගන්න හඬ, වගේම මේ ඉර යට සිදුවන හැම දෙයක්ම ගැන අවධානය යොමු කළා.

* * *

ඇය ආපහු කොපකබානාවලට යන්න කැමති වුණේ නැති වුණත් අවසානය වෙනකං වැඩ කරන්නට යුතුකමක් තිබෙන බව ඇයට දැනුණා. ඒ වුණත් ඒ ඇයි කියලා ඇයට අදහසක් තිබුණේ නැහැ. කොහොම වුණත් ඇය අවශ්‍ය තරම් මුදලක් උපයලා තිබුණා. ඇයට හවස් වරුවේ සාප්පු සවාරියේ යන්නත්, ඇගේ සේවාදායකයකු වෙච්ච ඇගේ ඉතුරුම් කළමනාකරණය කරලා දෙන්න පොරොන්දු වුණු බැංකු කළමනාකාරයාට කථා කරන්නත්, කොහේ හරි ඉඳන් කෝපි කෝප්පයක් බොන්නත්, ඇගේ සූට්කේස්වලට නොගැළපෙන ඇඳුම් ආපහු එළියට දාන්නත් පුලුවන්කම තිබුණා. ඒත් අමුත්තකට වගේ මොන හේතුවක් නිසා හරි ඇයට දැඩි ශෝකයක් දැනුණා. සමහරවිට ඒ ඇයට සමුගන්න තිබුණේ තව සති දෙකක් හින්දා වෙන්න ඇති, වෙනස් ඇහැකින්

නගරය දිහා බලන්නත්, මෙහිදී ඇය අත්විඳපු දේවල් ගැන සතුටුවෙමින් කාලය ගෙවා දමන්නත් ඇයට ඕන වුණා.

ඇය මීට පෙර සිය වතාවකට වැඩිය ඇවිත් තිබුණු මංසන්ධියකට පැමිණියා. එතැන ඉඳන් වැවත් වතුර මලත් දකින්න පුළුවන් වුණා. ඒ වගේම ඈත පදික වේදිකාවේ පොදු උද්‍යානය මැද තියෙන නගරයේ එක් සංකේතයක් වුණු මලින් සරසපු ඔරලෝසුව .... ඒ ඔරලෝසුව ඇයට බොරු කියන්න ඉඩ නොදේවි, මොකද...

හදිසියේම, කාලයත් ලෝකයත් එකවරම ගල් ගැසුණා.

මොකක්ද මේ ඇය උදේ ඉඳන් ඇයටම කියමින් හිටපු කතාව, ළඟදී නැවතත් ලබාගත්ත ඇගේ කන්‍යාභාවය ගැනද?

බැලූ බැල්මට ලෝකය ගල් ගැහුණා, හරියට ඒ තප්පරය කවදාවත් ගෙවිලා ගියේ නැහැ වගේ, ඇය ඇගේ ජීවිතේ ඉතා බැරෑරුම් වගේම ඉතා වැදගත් දෙයක් එක්ක මුහුණට මුහුණලා හිටියා, ඇයට ඒක නිකම්ම අමතක කරලා දාන්න බැරිවුණා. ලියා තබනවා යැයි හැමවිටම ඇයටම පොරොන්දු වුණත් කවදාවත් එහෙම නොකරපු, රාත්‍රියේ දැකපු හීන වගේ ඇයට ඒක කරන්න බැරිවුණා.

''කිසිම දෙයක් ගැන හිතන්න එපා!. ලෝකය නැවතිලා. මොනවද මේ වෙන්නේ?''

ඇති!.

අර කුරුල්ලා, ඇය මේ ටිකකට කලින් ඒ කුරුල්ලා ගැන ලියපු ලස්සන කථාව.....

ඒ රැල්ෆ් හාට් ගැනද?

නැහැ ඒ ඇය ගැනයි!

නැවතීමක්!

වෙලාව උදේ 11.11යි, ඒ මොහොතේ ඇය ගල් ගැහිලා හිටියා. ඇගේම ශරීරය ඇතුළෙ ඇය ආගන්තුකයෙක් වුණා. ඇය මෑතකදී ආපහු ලබාගත්තු කන්‍යාභාවය නැවතත් හොයාගනිමින් හිටියා, ඒත් ඒකෙ නැවත ඉපදීම හරිම දුබලයි. ඇය මෙහේ නැවතුණොත් ඒක සදහටම නැතිවෙලා යාවි. ඇය සමහරවිට

ස්වර්ගය අත්වින්දා. නිසැකවම අපාය නම් අත්වින්දා. ඒත් වික්‍රමය අවසානය කරා ළංවෙමින් තිබුණා. ඇයට සති දෙකක් දින දහයක්, සතියක් නවතින්න පුළුවන්කමක් තිබුණේ නැහැ. ඇයට දැන්මම පිටවෙන්නට වුවමනා වුණා, මොකද ඇය මලින් සරසපු ඔරලෝසුව දිහා බලාගෙන ඉන්නකොට සංචාරකයෝ ඒකෙ පින්තූර ගත්තු විදියත්, ළමයි ඒ වටේ සෙල්ලම් කරපු විදියත් එක්ක ඇය ක්ෂණිකව හොයාගත්තා ඇයි ඇය දුකින් හිටියේ කියලා.

ඉතිං ඒකට හේතුව මේකයි : ඇයට ආපහු යන්න ඕන වුණේ නැහැ.

ඒ වගේම ඇයට යන්න ඕනෑ නැති හේතුව වුණේ රැල්ෆ් හාට්වත්, ස්විට්සර්ලන්තයවත්, අවදානම් වික්‍රමයන්වත් නෙමෙයි. සැබෑ හේතුව සරල එකක් වුණේ නැහැ : ඒ තමයි සල්ලි.

සල්ලි. අඳුරු වර්ණවලින් හැඩවුණු, වටිනවා කියලා හැමෝම එකඟවුණු විශේෂ කඩදාසි කොළය. ඒ වගේම ඇයත් ඒක විශ්වාස කළා, හැමෝම ඒක විශ්වාස කළා - ඒ ජාතියේ කඩදාසි ගොඩක් බැංකුවකට, ගෞරවනීය, සාම්ප්‍රදායික, ඉතා විශ්වසනීය ස්විස් බැංකුවකට ගෙනිහිං, ''මගේ ජීවිතෙන් පැය කීපයක් ආපහු ගන්න පුළුවන්ද'' කියලා අහලා ''නැහැ මැඩම්, අපි විකුණන්නේ නැහැ ගන්නව විතරයි''කියලා කියනකං ඒක වටිනවා.

මරියා තිරිංගයක කරාස් හඬින් ඇය හිටපු සිහිවිකල් භාවයෙන් ඇහැරුණා. මොටර් රථ කාරයෙක් කෑ ගැහුවා, හිනාවුණු වයසක මහත්මයෙක් ඉංග්‍රීසියෙන් කතා කරලා පදික වේදිකාවෙන් යන්න කියලා කිව්වා - පදිකයන් සඳහා තිබුණු සංඥාවේ රතු ආලෝකය දැල්විලා තිබුණා.

''ඒත් මේක ඇත්තටම ලෝකය කම්පනය කරවන සොයාගැනීමක් වෙන්න බැහැ. හැමෝටම මට දැනෙන දේ දැනෙන්න ඕන. ඒ ගොල්ලො ඒක දැනගන්නම ඕන.''

ඒත් ඔවුන් ඒක දැන හිටියේ නැහැ. ඇය ඇය අවට බැලුවා. මිනිස්සු පාර දිගේ ඔළුව පහත් කරගෙන, කලබලෙන් වැඩට, පාසලට, රැකියා ඒජන්සියට, රියු ද බර්න්වලට තමන්ටම මෙහෙම කියා ගනිමින් ඇවිදගෙන ගියා. ''මට තව පොඩ්ඩක් වෙලා ඉන්න පුළුවන්. මට හීනයක් තියෙනවා, ඒත් ඒක අදම ඉෂ්ට කරගන්න

වුවමනාවක් නැහැ, ඒ ඇරුණහම මට සල්ලි ටිකක් හම්බ කරගන්න ඕන.'' ඇත්ත වශයෙන්ම, හැමෝම ඇගේ රැකියාවේ තරක ගැන කතා කළා. ඒත් මූලිකවම අනෙක් හැමෝටම වගේ, ඒකත් ඇගේ කාලය විකිණීම පිළිබඳ ප්‍රශ්නයක් විතරක් වුණා. අනික් හැමෝම වගේ ඇයත් කරන්න අකමැති වුණු දෙයක් කරනවා විතරයි. අනික් හැමෝම වගේ අප්‍රසන්න මිනිස්සුත් එක්ක වටිනා ශරීරයත්, ඇගේ වටිනා ආත්මයත් කවදාවත් නොපැමිණුනු අනාගතේ නාමයෙන් භාරදෙනවා විතරයි. අනික් හැමෝටම වගේ තවමත් ඇති නොවුණා විතරයි. අනික් හැමෝම වගේ තව පොඩි කාලයක් බලන් ඉන්නවා විතරයි. බලන් ඉන්නේ, එතකොට ඇයට තව පොඩ්ඩක් හම්බ කරගන්න පුළුවන්, ඇය ඇගේ හීන හැබෑකර ගැනීම කල් දමනවා ඇය දූන් සෑහෙන කාර්ය බහුල වෙලා හිටියා, ඇය ඉදිරිපිට විශාල අවස්ථාවන් තිබුණා, වරකට ෆ්‍රෑන්ක් තුන්සිය පනහේ ඉඳලා දාහ දක්වා ගෙවන්න පුළුවන් වෙච්ච විශ්වාසවන්ත සේවාදායකයෝ ඇය වෙනුවෙන් බලා හිටියා.

ඒ වගේම ඇගේ ජීවිතේ පළමු වතාවට, ඇයට උපයන්න පුළුවන් වුණු මුදලින් මිලදී ගන්න පුළුවන් වුණු හොඳම දේවල් සියල්ල එහෙමම තිබියදී - කවුද දන්නේ ඇයට වැඩ කරන්න පුළුවන්කම තියෙන්නේ තව අවුරුද්දයිද කියලා. ඇය බොහෝම කල්පනාකාරීව, පැහැදිලිව, පරීක්ෂාකාරීව තීරණය කළා අවස්ථාව ඇගෙන් ගිලිහෙන්න ඉඩ අරින්නට.

මරියා සංඥා එළිය වෙනස් වෙනකං ඉඳලා පාර පැනලා මලින් සරසපු ඔරලෝසුව ළඟ මඳක් නැවතුණා. ඇගේ ඇඳුමේ උඩ කොටස වැටෙන්නට ඉඩ හැරපු ඒ රාත්‍රියේ ඔහුගේ ඇස්වල තිබුණු ආශාවේ බැල්ම නැවතත් ඇය දැක්කා, ඔහුගේ දෑත් ඇගේ පියයුරුත්, ඇගේ ලිංග ප්‍රදේශයත් ඇගේ මුහුණත් පිරිමදිනවා දැනුණා, ඉතිං ඇගේ යෝනි මාර්ගය තෙත් වුණා, ඈතින් ජේත ජල කදම්බය දිහා බලා සිටිද්දී ඇගේ ශරීරයේ කිසිදු කොටසක් හෝ ස්පර්ශ කිරීමකින් තොරවම හැම දෙනාම ඉදිරිපිටදී, එතැනම ඇය සුරතාන්තයට පත්වුණා.

ඒක දැකපු කවුරුත් හිටියේ නැහැ : ඒ හැම කෙනෙක්ම ගොඩක් කාර්ය බහුල වෙලයි හිටියේ.

# 28

නියා, ඇගේ වැඩ කරන තැන ඉන්න සගයන්ගෙන් මිත්‍රත්වයක් කියලා විස්තර කරන්න පුළුවන් සම්බන්ධයක් තිබුණු එකම මනුස්සයා, ඇය ආපු ගමන්ම ඇයට කතා කළා. ඇය ඉඳගෙන හිටියේ පෙරදිග පත්නයේ මහත්මයෙක් එක්කයි. ඒ වගේම ඔවුන් දෙදෙනාම හිනාවෙමිනුයි හිටියේ.

''මේ බලන්න,'' ඇය මරියාට කිව්වා. ''බලන්න එයාට මාත් එක්ක කරන්න ඕන දේ.''

පෙරදිග පත්නයේ මහත්මයා හඳුනන බැල්මක් හෙළා, හිනාවෙමින්ම සුරුට්ටු පෙට්ටියක් වගේ දෙයක පියන ඇරියා. මිලාන් ඇත ඉඳන් බලන් හිටියේ යම් විදියකින් ඒකෙ ඇතුළෙ සිරින්ජර් හරි මත්ද්‍රව්‍ය හරි තියෙනවද කියලයි. ඒකේ ඒවා තිබුණේ නැහැ. ඔහුවත් හරියට දැන හිටියේ නැහැ ඒකේ තිබුණු දෙයත් එක්ක මොකක්ද කරන්නේ කියලා. ඒත් ඒක විශේෂ දෙයකුත් නෙමෙයි.

''ඒක පසුගිය ශත වර්ෂෙ දෙයක් වගෙයි පේන්නේ!'' මරියා කිව්වා. ''ඔව් ඒක එහෙම තමයි.'' පෙරදිග පත්නයෙන් යුතු මහත්මයා මඳ කෝපයෙන් යුතුව කිව්වා. ''ඒක අවුරුදු සීයකට වඩා පරණයි. ඒ වගේම ඒක සෑහෙන්න වටිනවා.''

මරියා දැක්ක දේ අතර සිහින් බට පේළියකුත්, හැඬලයකුත්, විද්‍යුත් පරිපථයකුත්, කුඩා යකඩ ස්පර්ශකත්, බැටරිත් තිබුණා. ඒක බැලූ බැල්මට පරණ රේඩියෝවක ඇතුළක් වගේ දිස්වුණා. ඇඟිල්ලක ප්‍රමාණයේ තරම් ඝනකම වීදුරු යොත් දෙකකින් අවසන් වන වයර් කෑලි දෙකක් එකෙන් එළියට ඇවිත් තිබුණා. ඒක

ඇත්තටම සෑහෙන්න වටිනාකමක් තියෙන දෙයක් වගේ පෙනුණේ නැහැ.

''ඒක කොහොමද වැඩ කරන්නේ ?''

නියා, මරියාගේ ප්‍රශ්නයට කැමති වුණේ නැහැ. ඇය මරියාව විශ්වාස කළත්, මිනිස්සු එක් මොහොතකින් තව මොහොතකට යද්දි වෙනස් වෙනවා. ඒ වගේම ඇය ඇගේ සේවාදායකයාට ඇහැ ගහගෙන ඉන්නවා විය හැකියි.

''එයා දැනටමත් පැහැදිලි කරලා ඉවරයි. ඒකට තමයි දම්පාට යොත කියලා කියන්නෙ.''

ඒ වගේම ඇය පෙරදිග පන්නයේ මනුස්සයා දිහාවට හැරිලා, ඔහුගේ ආරාධනාව පිළි අරගෙන තිබුණු නිසා එතැනින් පිටත් වෙන්න යෝජනා කළා.

කොහොම වුණත්, ඒ මනුස්සයා සතුටු වුණා එයාගේ සෙල්ලම් බඩුව එතරම් කැමැත්තක් ඇති කරපු එක ගැන.

''එක්දහස් නමසිය ගණන්වල පළමු බැටරි වෙළෙඳපොළට එන කාලේ පාරම්පරික වෛද්‍ය විද්‍යාව විදුලි බලයත් එක්ක අත්හදා බැලීම් කරන්න පටන් ගත්තා. ඒකට මානසික රෝග, හිස්ටීරියාව සනීප කරන්න පුළුවන්ද කියලා බලන්න. ඒ වගේම ඒක පාවිච්චි කළා ලප කැළැල් අයින් කරන්නත්. හම උත්තේජනය කරන්නත්. ඔයාට ජේනවා නේද මේ අන්තිම කොන් දෙක? හරි, ඒවා තියන්නේ මෙතන, ඔහු ඔහුගේ නළලත් කනත් අතර තිල ප්‍රදේශය පෙන්නුවා, ''ඒ වගේම බැටරි ස්ථිතික විදුලියක් නිපදවනවා. හරියට වාතය හුඟාක් වියළි වුණාම ස්විට්සර්ලන්තෙදිත් ඒක අත්දකින්න පුළුවන්. ''

ස්ථිතික විදුලිය බ්‍රසීලෙදි කවදාවත් සිදු නොවිච්ච දෙයක්. ඒත් ඒක ස්විට්සර්ලන්තෙදි නං බොහොම සුලබ දෙයක්. මරියා ඒක හොයාගත්තේ දවසක් ඇය ටැක්සියක දොරක් අරිද්දියි. ඇයට පිපිරුම් හඬක් එක්ක තිගැස්මක් ඇතිවුණා.

ඒක කාර් එකේ දෝෂයක් කියලා හිතපු ඇය ඒ ගැන පැමිණිලි කරමින් කිව්වා ගාස්තුව ගෙවන්නේ නැහැයි කියලා. ඉතිං රියදුරා ඇයට අපහාස කරමින් කිව්වා ඇය ඉතාම මෝඩයි කියලා. ඔහු හරි. ඒ කාර් එක නෙමෙයි, ඒ වියළි වාතයයි. කිහිප වතාවක්ම

විදුලි සැර වැදුණාට පස්සේ. සුපිරි වෙළඳ සැලකින් සිරුරට විදුලිය එකතුවෙන එක නවත්තන්න පුළුවන් අත් පළඳනාවක් හොයාගන්නකං, ඇය යකඩවලින් හදපු කිසිවක් අල්ලන්නට බය වුණා.

ඇය මනුස්සයා දිහාට හැරුණා.

''ඒත් ඒක හරිම සැරයි නේ.''

නියා, මරියාගේ අදහස්වලින් තව තවත් නොරිස්සුම් සහගත වුණා. ඇගේ එකම යහළුවා වෙන්න පුළුවන් මිතුරියත් එක්ක අනාගතයේ ඇතිවිය හැකි අර්බුද වළක්වන්නට ඇය ඇගේ අතක් ඒ මනුස්සයාගේ උරහිස වටේ දමා ගත්තා, ඒ අනුව ඔහු අයිති වෙන්න ඕන කාටද කියන එකට සැකයක් ඇතිවෙන්න කිසිදු ඉඩක් තිබ්බෙ නැහැ.

''ඒක තීරණය වෙන්නේ ඔයා ඒක කොහෙද තියාගන්නේ කියන එකත් එක්කයි.'' මහා හයියෙන් හිනාවෙමින් ඒ මනුස්සයා කිව්වා.

ඔහු කුඩා හැඬලය කැරකෙව්වා. ඒත් එක්කම ඒ යොත් දෙක දම්පාටට හැරුණා. ඔහු ඉක්මනින්ම එය ගැහැනු දෙදෙනා මත තැබුවා. පිපිරුම් හඬක් නැගුණා. ඒත් විදුලි සැරය වේදනාවට වඩා කිති සහිත වුණා.

මිලාන් එතැනට පැමිණියා.

''කරුණාකරලා ඕක මෙතන පාවිච්චි නොකර ඉන්නවාද?''

ඒ මනුස්සයා ඒ යොත් ආපහු පෙට්ටිය ඇතුළට දැම්මා. නියා ඒ අවස්ථාවෙන් ප්‍රයෝජන අරගෙන කෙළින්ම හෝටලයට යමුයි කියලා යෝජනා කළා. ඒ මනුස්සයා වඩා කනගාටු වුණා, අලුතින් පැමිණි කෙනා, දැන් ඔහුගේ හෝටලයට ආපහු යන්න යෝජනා කරන ගැහැනියට වඩා ඔහුගේ යන්ත්‍රය ගැන හුඟක් උනන්දුවක් දක්වපු හින්දා. ඔහු ඔහුගේ ජැකට්ටුව ඇඳගෙන ඒ පෙට්ටිය හම් බ්‍රීෆ් කේසය ඇතුළේ අහුරමින් මෙහෙම කිව්වා :

''ඒ ගොල්ලො ආපහු මේවා හදන්න පටන් අරගෙන, ඒවා විශේෂ සතුටක් හොයන අය අතරේ විලාසිතාවක් වෙන්න පටන් අරං. ඒත් ඔයාට මේ වගේ දෙයක් හොයාගන්න පුළුවන් වෙන්නේ

දුර්ලභ වෛද්‍ය එකතුවලත්. කෞතුකාගාරවලත්, පරණ බඩු විකුණන සාප්පුවලත් විතරයි. ''

මිලාන් සහ මරියා එතැන හිටගෙන හිටියේ, මොනවා කියන්නද කියලා දන්නේ නැතුවයි.

''ඔයා මීට කලින් ඒ වගේ දෙයක් දැකලා තියෙනවාද?''

''නැහැ. ඒ වගේ එකක් නං දැකලා නැහැ. ඒක සමහරවිට හුඟාක් වටිනවා වෙන්න පුළුවන්, එයා තෙල් සමාගමක විධායක නිලධාරියෙක් ... ඒ වුණත් මම අලුත් ජාතියේ ඒව නං දැකලා තියෙනවා.''

''මොකක්ද ඒ ගොල්ලො ඒවත් එක්ක කරන්නේ?''

''ඒ මනුස්සයා ඒවා එයාගේ ඇඟ ඇතුළට දාගන්නවා.... ඊට පස්සේ ඒ ගෑනු කෙනාට කියනවා හැඬලය කරකවන්න කියලා. එයාට ඇතුළෙන් විදුලි සැරයක් වදිනවා.''

''ඒක එයාටම කරගන්න බැරිද?''

''එයාට පුළුවන් ගොඩක් ලිංගික කටයුතු තනියම කරගන්න. ඒත් ඒ ගොල්ලො තවත් කෙනෙක් එක්ක ඒක කරන එක හුඟක් විනෝදයි කියලා හිතන එක නැවැත්තුවොත්, මගේ බාර් එක බංකොලොත් වෙලා ඔයාටත් එළවලු කඩේක රස්සාවක් හොයාගන්න සිද්ධවෙයි. ඒක නෙමෙයි, ඔයාගේ විශේෂ සේවාදායකයා කිව්වා එයා අද රෑ මෙහේ එනවා කියලා. ඉතිං මතක් කරලා අනිත් යෝජනා ප්‍රතික්ෂේප කරන්න.''

''ආහ්! මම එයාගේ එකත් එක්කම එහෙම කරන්නම්. මම ආවේ ආයුබෝවන් කියලා යන්නයි. මම යනවා''

මිලාන් ප්‍රතිචාරයක් නොදක්වන විදියට හිටියා.

''චිත්‍ර ශිල්පියා හින්දද?''

''නැහැ, කොපකබානා හින්දයි. හැම දේකටම සීමාවක් තියෙනවා. අද උදේ වැව ළඟ මල් ඔරලෝසුව දිහා බලාගෙන ඉන්න කොට මම මගේ සීමාවට ආවා. ''

''ඉතිං මොකක්ද සීමාව?''

''බ්‍රසීලයේ ඇතුළු ගමක තියෙන ගොවිපොළක වටිනාකම. තව අවුරුද්දක් වැඩ කළොත් මට තවත් සල්ලි හම්බ කරන්න

පුළුවන් කියලා මම දන්නවා. අනෙක් අතට, මොකක්ද ඒකෙන් ඇති වෙන වෙනස?

''හරි, මම දන්නවා ඒකෙන් ඇතිවෙන්න පුළුවන් වෙනස, මම මේ උගුලට හැමදාම අහුවේවි. හරියට ඔයා වගේ. සේවාදායකයෝ වගේ, ව්‍යාපාරිකයෝ, ගුවන් සේවකයෝ, දක්ෂයන් සොයා යන්නෝ, පටිගත කිරීමේ ආයතනවල විධායක නිලධාරියෝ, මම මගේ කාලය විකුණලා දාපු ඒත් ඒ ගොල්ලන්ට ආපහු ඒක මට විකුණන්න බැරිවෙච්ච මම දැනගෙන හිටිය හුඟක් පිරිමි වගේ. මම තව එක දවසක් හරි හිටියොත්, මම තව අවුරුද්දක් මෙහෙ ඉඳීවි, මම තව අවුරුද්දක් හිටියොත්, මම කවදාවත් යන එකක් නැහැ.''

මිලාන් විශ්වසනීය විදියට ඔළුව වැනුවේ හරියට ඇය කියපු සියල්ලම ඔහු තේරුම් අරන් එකඟ වුණා වගෙයි. ඒ වුණත් ඔහුට වැඩ කරපු අනික් ගෑනු ළමයින්ටත් ඒක බෝවේවි කියන බයට එයාට කිසි දෙයක් කියාගන්න බැරි වුණා. ඔහු හොඳ මනුස්සයෙක් වුණත් ඔහු ඇයට සුභ පැතුවේ නැහැ, ඒ වගේම මරියා වැරදියි කියලා ඇයට ඒත්තු ගන්වන්නත් ඔහු උත්සාහ ගත්තේ නැහැ.

ඇය ඔහුට ස්තුති කරලා බීමක් ඉල්ලා හිටියා - ෂැම්පේන් වීදුරුවක්, ඇයට තවත් පලතුරු කොක්ටේල් නම් ඉවසන්න බැරි වුණා. ඇය වැඩ කරන්නේ නැති හින්දා ඇයට දැන් බොන්න පුළුවන්කම තිබුණා. මිලාන් ඇයට කුමක් හෝ අවශ්‍ය ඕනෑම වෙලාවක ඔහුට කථා කරන ලෙසත්, ඇයව ඕනෑම අවස්ථාවක ආදරයෙන් පිළිගන්නා බවත් කිව්වා.

ඇය බීමට මුදල් ගෙවන්න හැදුවත් ඔහු කිව්වා, ඒක ඇයට මෙතනින් දෙන එකක් කියලා. ඇය ඒක පිළිගත්තා : කොහොම වුණත්, ඇය මේ තැනට එක බීමකට වඩා හුඟක් දේවල් කරලා තියෙනවා.

මරියාගේ දිනපොතෙන්, ඇය ගෙදර ආපසු :

*මට මතක නැහැ හරියටම කවදද කියලා, ඒත් මෑත ඉරිදාවක මම තීරණය කළා පූජාවකට සහභාගි වෙන්න පල්ලියට යන්න.*

ටික වෙලාවකට පස්සේ මට තේරුණා මම ඉන්නේ වැරදි පල්ලියක කියලා. ඒක ප්‍රොතෙස්තන්ත්‍ර පල්ලියක්.

මම එතැනින් පිටත්වෙන්න හැදුවා විතරයි, නේවාසික පූජකවරයා දේශනාව පටන් ගත්තා. මට හිතුණා ඒ වෙලාවේ එතනින් නැගිටින එක තපුරු වැඩක් කියලා. ඒ වගේම ඒක ඇත්ත ආශිර්වාදයක් වුණා, මොකද ඒ දවසෙ මම ඇහුවෙ දේවල් මට අහන්නම ඕන දේවල්.

ඔහු මේ වගේ දෙයක් කිව්වා :

'ලෝකෙ තියෙන හැම භාෂාවකින්ම එකම කියමනක් තියෙනවා. ''ඇහැට නොදකින දෙයක් ගැන හදවත දුක්වෙන්නේ නැහැ.'' ඇත්තටම මම කියන්නේ ඒකෙ ඇත්ත අවුන්සයක්වත් නැහැයි කියලයි. ඈත්වෙන තරමට හදවත ළංවෙන්නේ අපි යටපත් කරලා දාන්නත්, අමතක කරලා දාන්නත් උත්සාහ කරන හැඟීමුයි. අපි පිටුවහල් කරපු අය නම් අපේ අග මුල ගැන තියෙන හැම පුංචි මතකයක්ම අපිට තැන්පත් කරගන්න ඕන වෙනවා. අපි, අපි ආදරය කරන මිනිස්සුන්ගෙන් ඈත්වෙලා ඉන්නවා නං පාරේ අපි පහුකරගෙන යන හැමෝම අපිට ඒ අයව සිහිපත් කරවනවා.

''විශ්වාසය පිළිබඳ දෙවියන්ගේ අවබෝධය හොයමින් ලෝකය මතුපිට වන්දනාවේ යන මිනිස්සුන්ගේ ආත්මයන් තුළ මේ ශුභාරංචි වගේම හැම ආගමකම ශුද්ධ වූ පාඨ ලියා තිබෙන්නේ පිටුවහල තුළයි. මොකක්ද දේවත්වය අපේ ජීවිතවලින් බලාපොරොත්තුවෙන්නේ කියලා අපේ මුතුන් මිත්තෝ දැනගෙන හිටියේ නැහැ, හරියට අපිත් ඒ ගැන දන්නේ නැහැ වගේම - ඒ වගේම අපි කවුද කියලා අමතක කරන්න වුවමනා නැති නිසයි පොත් ලියලා තියෙන්නේ, පින්තූර ඇඳලා තියෙන්නේ - අනික් අතට අපිට එහෙම නොකර ඉන්නත් බැහැ.''

පූජාව අවසානයේදී මම ඔහු ළඟට ගිහිං ස්තුති කළා : මම කිව්වා මම පිට දේශයකින් ආපු පිටස්තරයෙක් කියලා. ඒ වගේම මම ඔහුට ස්තුති කළා ඇස් නොදකින දේ ගැන හදවත දැඩිව ශෝක වෙනවා කියන එක මට මතක් කරදීම ගැන. ඉතිං මගේ හදවත හුඟක් දුකට පත්වෙලා, මොකද මම අද සමුගන්න හින්දා.

# 29

ඇය ඇගේ සූට්කේස් දෙක ඔසවලා ඇඳ උඩින් තිබ්බා. ඒවා හැමදාම සියල්ල අවසන් වන දවස වෙනකං එතැන තිබුණා. ඇය සූට්කේස් තැගිවලින්, අලුත් ඇඳුම්වලින්, හිම සහිත පින්තූරවලින්, යුරෝපයේ සුවිසල් අගනුවරවල්වල පින්තූරවලින් වගේම ඇය ජීවත් වුණු ලෝකයේ ආරක්ෂිතම, ත්‍යාගශීලීම රටේ ගත කරපු ප්‍රීතිමත් කාලය සම්බන්ධ සියලු සිහිවටනවලින් පුරවා ගන්න හැටි සිතින් මවා ගත්තා. ඇය ගාව අලුත් ඇඳුම් කීපයක් ඇරුණහම කිසිවක් ඇය විය යුතු යැයි කියලා සිතින් මවා ගත්ත විදියට තිබුණේ නැහැ.

ඇය පැමිණියේ හුඟක් සල්ලි උපයන්න හීන මවමින්, ජීවිතය ගැන වගේම ඇය කවුද කියන එක ගැන ඉගෙන ගනිමින්, ඒ වගේම දෙමාපියන් වෙනුවෙන් ගොවිපොළක් මිලදී ගැනීමටත්, සැමියකු හොයා ගන්නටත්, ඇය ජීවත් වුණේ කොහෙද කියලා පෙන්නන්න පවුලෙ අය ගෙන්න ගන්නත් හිතාගෙනයි. ඇය ආපහු යන්නේ ඒ හීනවලින් එකක්වත් ඉටු කරගන්න අවශ්‍ය තරම් මුදල් සමඟිනුයි. ඒත් ඒ කවදාවත්ම කඳුකර ප්‍රදේශවලට නොගිහින් වගේම නරකම දේ තමයි ඇය ඇයටම අමුත්තකු ලෙසින් වීම. ඒත් ඇය සතුටු වුණා : ඇය දැනගෙන හිටියා නැවතීමට කාලය පැමිණ ඇති බව.

හැබැයි ගොඩක් මිනිස්සු ඒක කරන්නේ නැහැ.

ඇයට තිබුණේ අවදානම් කටයුතු හතරක් විතරයි - කැබරේ නැටුම් ශිල්පිනියක් වීම, ප්‍රංශ භාෂාව ඉගෙනීම, ගණිකාවක් විදියට වැඩ කිරීම වගේම කිසිවක් නොසිතාම ආදරෙන් බැඳීම. අවුරුද්දකින්

මේ තරම් අපූරු අත්දැකීම් ගැන පුරාජේරු කතා කියන්න පුළුවන් කීයෙන් කීදෙනාටද? දුක කියන එක තිබුණත් ඇය හිටියේ සතුටින්. ඒ වගේම ඒ දුකට නමක් තිබුණා - ඒ ගණිකා වෘත්තියවත්, ස්විට්සර්ලන්තයවත්, සල්ලිවත් නෙමෙයි. ඒ තමයි රැල්ෆ් හාට්. ඇය ඇයටම ගැඹුරෙන් එත්තු ගැන්නුවේ නැති වුණත් ඇය ඔහුව විවාහ කරගන්න කැමති වුණා. ඒ මනුස්සයා දූත් ඇයව ඔහුගේ මිතුරන්ව, ඔහුගේ චිත්‍ර, ඔහුගේ ලෝකය බලන්න එක්කගෙන යන්න ඇයව බලාපොරොත්තුවෙන් පල්ලියේ හිටියා.

ඇය, ඔහු එතැන සිටුවා තබමින්ම ගුවන් ගමන පසුදා පාන්දරට යෙදී තිබුණු නිසා ගුවන් තොටුපොළ ආසන්නයේ හෝටල් කාමරයක් ගන්නට කටයුතු කළා.

මෙතැන් සිට ඔහුත් සමඟ ගත කරන හැම මොහොතක්ම ඔහුට කියන්නට පුළුවන් වුණ, කියන්නට බැරිවුණ හැම දෙයක්ම ඔහුගේ දෑත්වල ස්පර්ශයේ ස්මරණය, ඔහුගේ කටහඬ, ඔහුගේ ආදරණීය සහයෝගය, වගේම ඔහුගේ කතා වෙනුවෙන් අනාගතයේදී වේදනා විඳින්නට සිදුවෙන කාලයක් ඇති කරාවි.

ඇය එක් සූට්කේසයක් විවෘත කරලා ඔහු ඔහුගේ නිවසේ පළමු රාත්‍රියේදී දීපු විදුලි කෝච්චියට සවිකර තිබුණු කුඩා පෙට්ටිය එළියට ගත්තා. ඇය ඒක දිහා මිනිත්තු කීපයක් බලන් ඉඳලා, ඊට පස්සේ ඒක කසළ බාල්දියට වීසි කළා. ඒක බ්‍රසීලයට ගෙනියන්න තරම් සුදුසු වුණේ නැහැ. ඒ වගේම හැම තිස්සෙම ඒක ඕන වුණු ඒත් ඒ කුඩා ළමයට නොලැබුණු ඒ දේ වැඩකට නැති, අසාධාරණ එකක් කියලා ඔප්පු කරලා තිබුණා.

නැහැ, ඇය පල්ලියට යන්නේ නැහැ. ඔහු සමහරවිට හෙට ගැන ඇගෙන් යමක් අහවි. ඉතිං ඇය අවංක වෙලා ඔහුට කිව්වොත් ඇය යනවා කියලා, ඔහු ඇයට හැම දෙයක් ගැනම පොරොන්දු වේවි, ඔවුන් එකට ගත කරපු කාලය තුළ ඔහු ඇයට පෙන්වපු සියලුම ආදරය ගැන ඔහු විවෘතව ප්‍රකාශ කරාවි. ඒත් ඒ ගොල්ලන්ගේ ආදරය රඳා පැවතුණේ නිදහස මතයි. ඉතිං වෙන විධියක සම්බන්ධතාවක් ඒකට හරියන්නේ නැහැ. සමහරවිට ඒක තමයි ඒ ගොල්ලො එකිනෙකාට ආදරය කරන්නත් එකම හේතුව. මොකද ඒ ගොල්ලෝ දැනගෙන හිටියා ඒ ගොල්ලන්ට එකිනෙකාව අවශ්‍ය

නැති බව. පිරිමි හැම තිස්සෙම බය වෙනවා ගෑනියෙක් "මට ඔයාව ඕන" කියලා කියන කොට. ඉතිං මරියාට ඕන වුණා අතිශයින්ම ආදරණීය, අතිශයින්ම ඇගේ වෙච්ච, ඒ වගේම ඇය වෙනුවෙන් ඕනෑම දෙයක් කරන්න සූදානම් වෙච්ච රැල්ෆ් හාට්ගේ රූපය ඇයත් සමඟ රැගෙන යන්න.

ඇයට තවමත් කාලය තිබුණා ඔහුව මුණ ගැහෙන්න යනවද නැද්ද කියලා තීරණය කරන්න. මේ මොහොතේ ඇයට ඕනවුණේ වඩා ප්‍රායෝගික කරුණු කාරණා සම්බන්ධයෙන් අවධානය යොමු කරන්නයි. ඇය ඇයට අසුරන්න බැරිවුණු හැම දේවල් දිහාම බැලුවා, ඒත් ඇයට අදහසක් තිබුණේ නැහැ ඒවාට කුමක් කළ යුතුද කියලා. ඇය තීරණය කළා අයිතිකරු මහල් නිවාසය සෝදිසි කරන්න ආවට පස්සේ කුස්සියේ බඩු මුට්ටු, පාවිච්චි කරන ලද බඩු තියෙන මාර්කැට්ටුවකින් ගෙනාපු පින්තූර, තුවා, ඇඳ ඇතිරිලිවලට මොනවද කරන්නෙ කියලා ඔහුටම තීරණය කරන්න ඉඩ හරින්න කියලා. ස්විස් ජාතික හිඟන්නකුටත් වැඩිය ඇගේ දෙමාපියන්ට ඒවායේ වැඩි අවශ්‍යතාවක් තිබුණත් ඇයට ඒ එකක්වත් රැගෙන යන්න පුළුවන්කමක් තිබුණේ නැහැ. ඒවා හැම තිස්සෙම ඇය අවදානමක් ගත්තු හැම දෙයක් ගැනම සිහිපත් කරාවි.

ඇය මහල් නිවාසයෙන් පිටත් වෙලා බැංකුවට ගිහින් ඇගේ සියලු මුදල් ආපසු දෙන ලෙස ඉල්ලුවා. කළමනාකරු - අතීතයේ ඇයත් එක්ක යහන් ගතවුණු - කිව්වා, මේක ඇත්තටම හොඳ අදහසක් නෙමෙයි කියලාත්, ඇගේ මේ ෆ්‍රෑන්ක් තව තවත් සල්ලි උපද්දාවි කියලත් ඇයට ඒකෙ පොලිය බ්‍රසීලයෙන් ගන්න පුළුවන් කියලත්.

ඒ ඇරුණහම ඇයව මංකොල්ල කෑවොත්, ඒ කියන්නේ මාස ගණනක මහන්සිය අපතේ යෑමක් නේ කියලත් කිව්වා. මරියා මොහොතක් පැකිළෙමින් කල්පනා කළා. - ඇය හැම විටම කරපු විදියට - ඔහු ඇත්තටම ඇයට උදව් කරන්න හදනවද කියලා. කොහොම වුණත්, ඇය මොහොතක් කල්පනාකාරී වෙලා නිගමනයකට ආවා මුදල්වල තේරුම ඒක තවත් කඩදාසියක සටහන් වෙන එක නොවෙයි. නමුත් ඒක ගොවිපළකට, ඇගේ දෙමාපියන්ට නිවසකට, ගවයන් කිහිප දෙනකුට වගේම තවත් ගොඩක් වැඩවලට පරිවර්තනය විය යුතුයි කියලා.

ඇය අන්තිම ශතය දක්වා මුදල් ආපහු ලබා ගත්තා. ඒවා ඇය මේ අවස්ථාව සඳහාම විශේෂයෙන්ම මිලදී ගත්තු කුඩා බෑගයකට දමා ඇගේ ඇඳුමේ යටින් තිබුණු බඳ පටියේ සවිකර ගත්තා.

ඇය ගුවන් ටිකට් පත් නියෝජිත කාර්යාලයට ගියේ, ඇයට මේ තීරණය ගන්නට අවශ්‍ය ධෛර්යය ලැබෙන්නටයි කියලා යාඥා කරමිනුයි. ඇයට වෙනත් ගුවන් යානයක් වුවමනායි කියලා කිව්වහම ඇයට ලැබුණු උත්තරය වුණේ, ඇය හෙට ගුවන් යානයේ යනවා නම් පැරීසියේදී ඇයට ගුවන්යානා මාරු කරන්න සිද්ධවෙන බවයි. ඒක ප්‍රශ්නයක් වුණේ නැහැ. - ඇයට අවශ්‍ය වුණු එකම දේ වුණේ ඇය දෙපාරක් හිතන්න කලින් මෙහෙන් පුළුවන් තරම් ඈතට යන්නයි.

ඇය එක් පාලමක් උඩිං ඇවිදගෙන ගිහිං, කාලගුණය නැවතත් සීතල වෙන්න පටන් අරන් තිබුණත් අයිස්ක්‍රීමයක් මිලදී ගත්තා. ඒ වගේම ඇය අවසන් වරට ජිනීවා දෙස බලා හිටියා. හැම දෙයක්ම ඇයට පෙනුණේ වෙනස් විදියටයි. හරියට ඇය මේ දැන් මෙහාට ඇවිල්ලා, කෞතුකාගාර, ඓතිහාසික ප්‍රතිමා, වෛර්ණ මත්පැන්හල් වගේම අවන්හල් වලට යන්න වුවමනාවෙන් හිටියා වගෙයි. ඒක කොච්චර අමුතුද කියන්නේ නගරයක ජීවත් වෙද්දි හැම වෙලාවකම ඒක හඳුනා ගන්න එක කල් දානවා ඒ වගේම, සාමාන්‍යයෙන් ඒ ගැන කිසිවක් නොදැනගෙනම ඒක අතෑරලා දාල යන්න යනවා.

ඇය හිතුවා, ගෙදර යන නිසා ඇය සංතෝස වෙයි කියලා. ඒත් එහෙම වුණේ නැහැ. ඇය හිතුවා ඇයට ඉතා හොඳින් සලකපු නගරය අත් ඇරලා යන්න සිදුවෙන නිසා ඇයට දුකක් දැනෙයි කියලා. නමුත් ඇය දුක් වුණෙත් නැහැ. ඇයට දැන් කරන්න පුළුවන් වුණු එකම දේ වුණේ ඇය ගැනම බියට පත්වෙමින් කඳුළු බිංදු කිහිපයක් හැලීම විතරයි. මේ බුද්ධිමත් තරුණ ගැහැනිය, හැම දෙයක්ම ඇයට හොඳින් සිද්ධ වෙද්දීත් වැරදි තීරණවලට යොමු වුණා.

ඇය විශ්වාස කළා, මේ වතාවෙදිවත් ඇය නිවැරදියි කියලා.

# 30

පල්ලියට ඇය යන මොහොතේදී එය සම්පූර්ණයෙන්ම හිස්ව තිබුණා. ඉතිං ඇයට පුළුවන් වුණා තිහඬවම පෙරදින රාත්‍රියේ කුණාටුවෙන් සෝදා පිරිසිදු කරන ලද දහවල් එළියෙන් ආලෝකමත් වුණු සිත්කලු, කැටයම් කපන ලද වීදුරු ජනේල දිහා පරීක්ෂාවෙන් බලා සිටින්න. ඇය ඉදිරිපිටින් හිස් කුරුසියක් නැඟී හිටියා. ඇයට අභිමුඛ වුණේ ලේ වැගිරුණු මරණාසන්න මිනිසකුට වදදීමට භාවිත උපකරණයකට නොවේ. වද දීමට භාවිත උපකරණයේ අදහස, එහි භයංකරත්වය, එහි වැදගත්කම අභිමිව උත්ථානය සංකේතවත් කරවන්නකටයි.

ඇයට ඒ ගෙරවුම් අකුණු සහිත රාත්‍රියේ වූ කසය සිහිපත් වුණා. ඒකත් මේ වගේම දෙයක්. ''අහෝ දෙවියනේ , මම මේ මොනවද කියන්නේ?''

ඇය ඒ සමඟ වද වේදනා විඳින, ලේ පැල්ලම් සහිත ඇරුණ තුවාලවලින් සමන්විත සාන්තුවරුන්ගේ පින්තූර දකින්නට නොලැබීමෙන් සතුටු වුණා. - මේක මිනිස්සු තමන්ට නොතේරෙන දෙයකට වන්දනාමාන කරන්නට එකතුවෙන තැනක්.

ඇයට කාලෙකින් ඔහු ගැන හිතන්න බැරි වුණත්, ඇය තවමත් විශ්වාස කරන යේසුස් වහන්සේගේ සිරුර තැන්පත් කරන ලද අල්තාරය උඩ තබා තිබුණු ශුද්ධවූ බඳුන ඉදිරිපිට සිටගත්තා. එදින කුමක් සිදුවුණත් ඇය ඇගේ අදහස වෙනස් කර නොගන්නා බවත්, කොහොමටත් ඇය පිටත්ව යන බවත් බිම දණ ඔබා දෙවියන් වහන්සේ, කන්‍යාතුමිය, යේසුස් වහන්සේ හා සියලු සාන්තුවරුන් ඉදිරිපිට පොරොන්දු වුණා. ඇය මෙහෙම පොරොන්දු වුණේ

ආදරයේ උගුල් ඇය ඉතා හොඳින් දැන හිටි නිසාත්, ඒවා ගැහැනියක්ව කොතරම් පහසුවෙන් වෙනස් කරන්නේදැයි ඇය අවබෝධ කරගෙනත් හිටි නිසායි.

ටික වෙලාවකට පස්සේ ඇයට ඇගේ උරහිස මත ස්පර්ශයක් දැනුණා. ඇය ඇගේ හිස ඇළ කළා. එවිට ඇගේ මුහුණ ඒ අත මත රැඳුණා.

''ඔයාට කොහොමද?''

''මම හොඳින්'', ඇය කිව්වේ කිසිම උනන්දුවක ශේෂ මාත්‍රයක් හෝ කටහඬේ නොමැතිවයි. ''මම හොඳින්. යමු, අපි ගිහිං කෝපි එකක් බොමු.''

ඔවුන් පල්ලියෙන් පිටවුණේ දෑත් පටලවා ගෙනයි. හරියට ආදරවන්තයන් දෙදෙනෙක් හුඟ කාලෙකට පස්සේ මුණ ගැහුණා වගෙයි. ඔවුන් ප්‍රසිද්ධියේ සිප ගත්තා. ඒ අතර ටික දෙනෙක් හෙළා දකිනසුලු බැලුම් හෙළුවා. ඒත් ඔවුන් දෙදෙනාම ඔවුන් ඇති කරපු ඒ අපහසුතාවටත්, ඒ වගේම ඔවුන් දෙදෙනාගේ සමාජයේ හෙළා දැකීමට පාත්‍රවන හැසිරීම තුළින් අවුස්සන ලද දැඩි ආශාවන්ටත් සිනාසුණා. මොකද, ඔවුන් දැන හිටියා ඒ මිනිස්සුත් ඒ දේ කරන්න කැමැත්තෙන් හිටියා කියලා. ඒක තමයි හැබෑම අපචාරය වුණේ.

ඔවුන් හැම එකක්ම එක වගේ වුණු අවන්හලක් ඇතුළට ගියත්, ඒ හැන්දෑවේ ඒක වෙනස් හැඟීමක් ගෙන දුන්නා. ඒ මොකද ඔවුන් එකට එතැන හිටිය නිසාත්, ඔවුන් එකිනෙකාට ආදරය කරපුත් නිසායි. ඔවුන් ජිනීවා ගැන, ප්‍රංශ භාෂාවේ අපහසු තැන් ගැන, පල්ලියේ වර්ණවත් කැටයම් යෙදූ දොර ජනෙල් ගැන, දුම්බීමේ විපාක ගැන කතා කළා - ඔවුන් දෙදෙනාම දුම්පානය කළත් ඒක අත්හරින්න යන්තම්වත් අදහසක් තිබුණේ නැහැ.

ඇය කෝපිවලට බලෙන් ගෙවන්නට උත්සාහ කළා. ඉතිං ඔහු ඒක පිළිගත්තා. ඔවුන් ප්‍රදර්ශනයට ගිය අතර ඇයට ඔහුගේ ලෝකය හඳුනාගන්න ඉඩ ලැබුණා : ඔවුන්ගේ පෙනුමට වඩා පොහොසත් චිත්‍ර ශිල්පියෝ, පෙනුමෙන් දුප්පත් කෝටිපතියෝ, ඇය කවදාවත් නොඅහපු දේවල් ගැන සාකච්ඡා කරමින් හිටියා. ඔවුන් සියල්ලන්ම ඇයට කැමතිවුණු අතර ප්‍රංශ භාෂාව හැසිරවීම

ගැන උණුසුම් ලෙස ප්‍රශංසා කළා. ඔවුන් කානිවල්, පාපන්දු, බ්‍රසීලියානු සංගීතය ගැන ඇහුවා. ඒ ගොල්ලො බොහොම යහපත්, විනීත, කාරුණික, ප්‍රියජනක අය වුණා.

ඔවුන් පිටත් වෙනකොට ඔහු කිව්වා, ඔහු ඇයව බලන්න අද රාත්‍රියේ සමාජ ශාලාවට එන බව. ඇය ඔහුට එන්න එපා කිව්වා. මොකද ඇය අද නිවාඩු නිසා, ඇය ඔහුට රාත්‍රී ආහාර වේලකට එළියට යාමට ආරාධනා කරන්න කැමතිය කියලා කිව්වා.

ඔහු එය පිළිගත්තා. ඒ වගේම ඔවුන් සමුගත්තේ කොළනියේ කුඩා චතුරස්‍රයේ පිහිටි, ඔවුන් ටැක්සියෙන් යද්දී හැම විටම පහුකරගෙන ගිය, ඇයට හැම විටකදීම එතැන නවතින්න වුවමනා වුණත් කවදාවත් ඒ ගැන නොකියාපු, ඒ මනහර අවන්හලේදී රාත්‍රී ආහාරය ගැනීමට යාමට පෙර ඔහුගේ නිවසේදී මුණ ගැහෙන්නට යොදා ගනිමිනුයි.

ඊළඟට මරියාට ඇගේ එකම මිතුරිය මතක් වුණා. ඉතිං ඇය පුස්තකාලයට ගිහිං තමා නැවත නොඑන බව ඇයට කියන්න තීරණය කළා.

සදාකාලිකවම පවතින දෙයක් විදියට පෙනිච්ච මාර්ග තදබදයකට ඇය හසුවුණා. කුර්දින් (නැවතත්!) ඔවුන්ගේ උද්ඝෝෂණය ඉවර කළාට පස්සේ නැවතත් මෝටර් රථවලට නිදහසේ එහා මෙහා යන්න පුළුවන් වුණා. කොහොම වුණත් දැන් ඇය ඇගේ කාලයේ ස්වාමි දුව වුණු නිසා ඒක එතරම් ගැටලුවක් වුණේ නැහැ.

ඇය පුස්තකාලයට ළං වෙද්දි ඒක වහන්න ආසන්නවයි තිබුණේ.

''මට සමාවෙන්න, මම හුඟාක් පුද්ගලික වුණා නම්. ඒත් මට කිසිම කෙනෙක්, කිසිම ගැහැනු යාළුවෙක්, මේ වගේ දේවල් ගැන කථා කරන්න නැහැ.'' මරියා ඇතුළට ආපු ගමන් පුස්තකාල පාලිකාව කිව්වා.

ඇයට කිසිම ගැහැනු ළමයෙක් හිටියේ නැද්ද? ඇගේ මුළු ජීවිත කාලෙම එකම තැනක ගත කරලා, වැඩ කරන තැනදී හැම විදියකම මිනිස්සු මුණ ගැහුණාට පස්සෙත් ඇයට ඇත්තටම කතා කරන්න කිසිම කෙනෙක් හිටියේ නැද්ද? මරියාට ඇය වගේ

කෙනෙක්, එහෙමත් නැත්නම් ඊටත් වඩා අනෙක් හැමෝම වගේ කෙනෙක් හමුවෙලා තිබුණා.

''මං හිතමින් හිටියේ, මම කියවපු යෝනි තොල් ගැනයි...''

ඇය කවදාවත් වෙනත් දෙයක් ගැන කල්පනා කළේ නැද්ද!

''ඒක මෙහෙමයි, මම මගේ මහත්තයත් එක්ක ලිංගික සම්බන්ධතාවලින් සතුටුවෙන්න පුරුදුවෙලා හිටියත්, මට හැම තිස්සෙම ලිංගික එකතුවීම්වලින් සුරතාන්තයට ළංවෙන එක බොහොම අමාරු දෙයක් වුණා. ඔයා හිතනවද ඒක සාමාන්‍ය දෙයක් කියලා? ''

''හැමදාම කුර්දි ජාතිකයෝ උද්ඝෝෂණ කරන එක ඔයා හිතන්නේ සාමාන්‍ය දෙයක් කියලද? ආදරෙන් ඉන්න ගෑනු ඒ ගොල්ලන්ගේ හීන කුමාරයන්ගෙන් පැනල යන එක? අර මිනිස්සු ආදරයට වඩා ගොවිපළවල් ගැන හීන මවන එක? අර ගෑනු මිනිස්සු තමන්ගේ කාලය විකුණලා ඒක කවදාවත් නැවත ගන්න බැරිවෙන එක? ඒත් තාමත් මේ දේවල් සිද්ධ වෙනවා. ඉතිං ඒක මම විශ්වාස කරන එක හරි විශ්වාස නොකරන එක ගැන හරි ප්‍රශ්නයක් නෙමෙයි. මේ හැම දෙයක්ම හරිම සාමාන්‍යයයි. ස්වභාව ධර්මයට විරුද්ධව යන, අපේම ආශාවන්ට එරෙහිව යන හැම දෙයක්ම අපේ ඇස්වලට සාමාන්‍ය දෙයක් වුණත්, ඒක දෙවියන්ගේ ඇස් ඉදිරිපිට මුලාවක්. අපි අපේම ඇතුළාන්තයේ තියෙන ගින්න සොයනවා, අපි ශතවර්ෂ ගණන් ඒක ගොඩනගන්න ගත කරනවා. ඒ හැම උත්සාහයකටම පස්සෙත් අපිට දූන් ජීවත් වෙන්න පුළුවන් වෙලා තියෙන්නේ පුළුවන්ම තරම් නරක විදියටයි. ''

ඇය, ඇය ඉදිරිපිට හිටගෙන හිටිය ගැහැනිය දිහා බැලුවා. ඒ වගේම පළමු වතාවට ඇය ඇයගේ නම අහුවා. (ඇය දැනගෙන හිටියේ ඇගේ වාසගම විතරයි.) ඇගේ නම හයඩි. ඇය කසාද බැඳලා අවුරුදු තිහක් වෙනවා. ඉතිං කවදාවත් කවදාවත්ම! ඒ කාලය ඇතුළත ඇය ඇගෙන් ඇහුවද, ඇගේ ස්වාමිපුරුෂයත් එක්ක ලිංගිකව එකතුවෙද්දි සුරතාන්තයට පත් නොවෙන එක සාමාන්‍ය දෙයක්ද කියලා.

''මම දන්නේ නැහැ, මම මේ දේවල් කියවිය යුතුව තිබුණද කියලා! සමහරවිට නොදැනුවත්කමින් ජීවත් වෙන එක හොඳ

වෙන්න තිබුණා. ඒ කියන්නේ විශ්වාසවන්ත ස්වාමි පුරුෂයෙක් ඉන්නවා කියලා විශ්වාස කරගෙන, වැව දර්ශනය වෙන මහල් නිවාසයක් තියාගෙන, ළමයි තුන්දෙනෙක් එක්ක, රාජ්‍ය සේවා අංශයේ රැකියාවක් කියන දේවල් තමයි ගැනියකුට බලාපොරොත්තු වෙන්න පුළුවන් කියලා හිතාගෙන. දැං, ඔයා ආපු දවසේ ඉඳලා, මම පළවෙනි පොත කියවපු වෙලාවෙ ඉඳං මම මගේ ජීවිතේ හැම සිදුවීමක් ගැනම දේවල් හිතේ රඳව ගත්තා. හැමෝම ඒවගේද?''

''මට ඔයාට වගකීමෙන් කියන්න පුළුවන් හැමෝම ඒ වගෙයි කියලා'' ඇගෙන් උපදෙස් අහන ඒ ගැහැනිය ඉදිරිපිට හිඳිමින්, මරියාට දැනුණා ඇය බොහෝම බුද්ධිමත් කෙනකු බවට පත් වෙමින් හිටිය බව.

''ඔයා කැමතිද මම ඔයාට විස්තර කියනවට?''

මරියා හිස සැළුවා.

''ඔයා පැහැදිලිවම මේවා තේරුම් ගන්න තරම් හුඟක් තරුණ වැඩියි. ඒත් ඒ නිසාම තමයි හරියටම මම කැමති මගේ ජීවිතෙන් පොඩි කොටසක් හරි ඔයත් එක්ක බෙදා ගන්න. මොකද එතකොට ඔයා මම කරපු වැරදි ආපහු කරන්නේ නැහැනේ.''

''ඒත් ඇයි මගේ මහත්තයා කවදාවත් මගේ ක්ලිටෝරිසය දැක්කේ නැත්තේ? එයා හිතුවේ සුරතාන්තය ඇතිවෙන්නේ යෝනි මාර්ගය ඇතුළෙ කියලා. ඉතිං එයා හිතන විදියට මම සංතෝෂ වෙනවා කියලා බොරුවට මවාපාන එක මට ඇත්තටම හරිම අමාරු දෙයක් වුණා. ඇත්තටම මම සතුටක් අත්වින්දා තමයි, ඒත් ඒක වෙනස් විදියේ සතුටක්. ඒක ලැබුණේ උඩ කොටසේ ඒක ඇතිල්ලෙන කොට විතරයි... ඔයාට තේරෙනවනේ මම කියන දේ?''

''මං දන්නවා.''

''ඉතිං මම දැං දන්නවා ඒ ඇයි කියලා. ඒක මේකේ තියෙනවා'', මරියාට නම දැකගන්න බැරිවුණු ඇගේ මේසය උඩ තිබුණු පොතක් ඇය පෙන්නුවා. ''සුරතාන්තයට පත්වෙන්න හුඟක් වැදගත් ගොඩක් ස්නායු කෙළවරවල් ක්ලිටෝරිසයටත්, ජී ස්පොටයටත් සම්බන්ධවෙලා තියෙනවා. ඒත් මිනිස්සු හිතනවා

ඇතුළට දාන එක තමයි ඔක්කොම කියලා. ඔයා දන්නවනේ ජී ස්පොට් එක කියන්නේ මොකටද කියලා?''

''ඔව් අපි ඒ ගැන කලින් දවසේ කතා කළානේ.'' අහිංසක ගෑනු ළමයෙකුගේ චරිතයකට හෙමින් සීරුවේ ලිස්සලා යමින් මරියා කිව්වා. ''ඇතුළට ගියාම, පළවෙනි තට්ටුවේ පිටි පස්සේ ජනේලෙනේ.''

''හරියට හරි!'' පුස්තකාල පාලිකාවගේ ඇස් දීප්තිමත් වුණා.'' ඔයා නිකං අහන්න ඔයාගේ පිරිමි යාලුවන්ගෙන් කී දෙනෙක් ඒ ගැන අහල තියෙනවද කියලා. කවුරුවත්ම නැහැ. ඒක හරිම විහිළුවක්. ඒත් ඉතාලි ජාතිකයෙක් ක්ලිටෝරිසය හොයා ගත්තා වගේ ජී ස්පොටය කියන්නේ විසිවෙනි සියවසේ සොයා ගැනීමක්. ඉක්මනින්ම ඒක හැම සිරස්තලයකම තියේවි. ඊට පස්සේ කිසිම කෙනෙක්ට තව දුරටත් ඒක ගැන නොසලකා ඉන්න බැරිවේවි. ඔයාට තේරෙනවද අපි මොන තරම් විප්ලවීය මොහොතකද ජීවත්වෙන්නේ කියලා?''

මරියා ඇගේ ඔරලෝසුව දිහා බැලුවා. හැම ගැහැනියකුටම සතුටට පත් වෙන්නත්, පූර්ණත්වයට පත් වෙන්නත්, මේ අසාමාන්‍ය විද්‍යාත්මක සොයාගැනීම්වලින් ඊළඟ පරම්පරාව ප්‍රයෝජන ගන්නටත් ඕන නිසා, මේ ලස්සන තරුණ ගෑනු ළමයට මේ ගැන උගන්වන්නට ඇය ඉක්මනින් කතා කළ යුතු බව හයිඩි අවබෝධ කරගත්තා.

''එයා ගැනියෙක් නොවුණ නිසාත් එයා, එයාගේ සුරතාන්තය ශිෂ්ණයෙන් ලබාගත්ත නිසාත් දොස්තර ෆ්‍රොයිඩ් මේකට එකඟ වුණේ නැහැ. එයාට හිතුණේ ගෑනු, ඒ ගොල්ලන්ගේ යෝනි මාර්ගයෙන් සතුට අත්වින්දා වෙන්න ඇතියි කියලයි. අපි ආපහු මුලට යන්න ඕන. අපිට හැම වෙලාවෙම සතුට ලබලා දෙන තැනට : ක්ලිටෝරිසයට, සහ ජී ස්පොටයට. ගෑනු හරිම පොඩි දෙනෙක් තමයි පූර්ණ ලිංගික සම්බන්ධයකින් සතුටු වෙන්නේ. ඉතිං, ඔයාට ලැබෙන්න අවශ්‍ය සතුට ලබා ගැනීමේදී අපහසුතා තියෙනවා නම් මම යමක් යෝජනා කරන්නම් : ඉන්න ඉරියව්ව වෙනස් කරන්න. ඔයාගේ ආදරවන්තයව හාන්සි කරවලා ඔයා උඩින් ඉන්න : ඔයාගේ ක්ලිටෝරිසය එයාගේ ඇඟේ එතකොට

හයියෙන් ගැටෙනවා. එතකොට ඔයාට - එයාට නෙමෙයි - වුවමනා උත්තේජනය ලැබේවි. එහෙමත් නැත්නම් ඔයාට ලැබිය යුතු උත්තේජනය ලැබේවි.''

මේ අතර මරියා මේ සංවාදයට සවන් නොදෙන බවක් හඟවමින් හිටියා. ඇය විතරක් නෙමෙයි එහෙම කරපු එකම කෙනා. ඇයට ලිංගික ගැටලුවක් තිබුණේ නැහැ, ඒක කායික විද්‍යාවේ ප්‍රශ්නයක් විතරයි. ඇගේ හදවතේ තිබුණු මහා බරක් සැහැල්ලු වුණා වගේ දැනුණා, ඇයට පුස්තකාල පාලිකාව සිපගන්න හිතුණා. ඇය තරුණ කාලෙදිම මේ දේ හොයාගත්ත එක කොච්චර හොඳද! කොයි තරම් විස්මිත දවසක්ද ඇය මේ ගත කළේ! හයිඩි කුමන්ත්‍රණකාරී සිනාවක් සැළුවා.

''ඒ ගොල්ලො සමහරවිට දන්නේ නැතුව ඇති. ඒත් අපිටත් ලිංගික ඍජුවීමක් තියෙනවා. ක්ලිටෝරිසයත් කෙළින් වෙනවා!''

''ඒ ගොල්ලො'' කියලා අනුමාන විදියට අදහස් කරන්න ඇත්තේ පිරිමි වෙන්න ඕන. මේක ඉතාම රහස්‍ය සංවාදයක් හින්දා මරියා තීරණය කළා ප්‍රශ්නයක් අහන්න අවදානමක් ගන්න :

''ඔයාට කවද හරි සම්බන්ධයක් තිබිලා තියෙනවද? ''

පුස්තකාල පාලිකාවගේ තිගැස්සුණු බවක් තිබුණා. ඇගේ ඇස්වලින් පූජනීය ගින්නක් පිටවුණා, ඇය ලැජ්ජාවෙන් රතු වුණා, දැඩි රාගයෙන් හෝ ලජ්ජාවෙන් තොර වුණත් ඒක කියන එකනං අපහසු කාරණාවක් වුණා. කොහොම වුණත් ටික වෙලාවකට පස්සේ ඇත්ත කියනවාද, මවා පානවාද කියන එක අතර සටන අවසන් වුණා. ඇය සරලවම මාතෘකාව වෙනස් කළා.

''අපි අපේ කෙළින්වීමට අපේ ක්ලිටෝරිසයට ආපහු ගියොත්, ඔයා දන්නවද ඒක දැඩි වෙනවා කියලා?''

''ඔව්, මම ඒක පුංචි ළමයෙක් කාලෙ ඉඳලා දන්නවා.''

හයිඩිගේ බලාපොරොත්තු කඩවුණු බවක් පෙනුණා. සමහරවිට ඇය ඒක කවදාවත් තිකමටවත් නිරීක්ෂණය කරලා නැතිව ඇති. කොහොම වුණත් ඇය අධිෂ්ඨාන කරගත්තා සංවාදය ඉදිරියට අරගෙන යන්නට.

''කොහොම හරි, ඔයා ඔයාගේ ඇඟිල්ලෙන් අගිස්ස අල්ලන්නේ නැතුව ඒක වටේ පිරිමැද්දොත් ඔයාට තවත් ලොකු

සතුටක් ලබන්න පුළුවන්. ඉතිං බලන්න! ඇත්තටම ගෑනියෙකුගේ සිරුරට ගරු කරනා පිරිමි ඉක්මනින්ම ඒ කෙළවර සමහරවිට ඒක ටිකක් වේදනාකාරීයි කියලා දන්නෙ නැතුවම පිරිමදිනවා. ඔයා එකඟද? ඉතිං ඔයාගෙ පළවෙනි, දෙවෙනි එකතුවීම්වලින් පස්සේ ඒ අවස්ථාවේ පාලනය ගන්න : ඔයා උඩින් ඉන්න, පීඩනය දෙන්න වුවමනා කොහොමද, කොයි වෙලාවටද කියලා තීරණය කරන්න, ඊළඟට ඔයාට ගැළපෙන විදියට රිද්මය අඩු වැඩි කරගන්න. මම කියවන පොතට අනුව ඒ ගැන ඍජු, අවංක සංවාදයක් කරන එකත් හොඳ අදහසක්. ''

''ඔයා කවදා හරි ඔයාගේ මහත්තයත් එක්ක ඍජුව කතා කරලා තියෙනවාද ?''

ආයෙමත් හයිඩි මේ කෙළින්ම ප්‍රශ්නය මඟ හැරියේ, එතකොට තත්වය වෙනස් යැයි කියමිනුයි. දූන් ඇය ඇගේ ඥානාන්විත අත්දැකීම් බෙදා ගන්න හුඟක් උනන්දු වුණා.

''ඔයාගේ ක්ලිටෝරිසය ගැන ඔරලෝසුවක කටු විදියට හිතන්න උත්සාහ කරන්න. ඊළඟට ඔයාගේ සහකාරයට කියන්න එකොළහයි එකයි අතර ඒක ඉස්සරහටයි පස්සටයි එහාට මෙහාට කරන්න කියලා. ඔයාට තේරුණාද ?''

ඔව්, ඇය දන්නවා මොකක්ද මේ ගෑහැනිය කථා කරමින් ඉන්නේ කියලා. ඒ වගේම පොත ඇත්තෙන්ම වැඩිය එහාට ගිය එකක් නොවුණත් ඇය සම්පූර්ණයෙන්ම ඒ ගැන එකඟ වුණේත් නැහැ. ඇය ඔරලෝසුව කියන වචනය සඳහන් කරපු හැටියේම මරියා ඇගේ ඔරලෝසුව දිහා බලලා, පැහැදිලි කළා ඇය ඇත්තටම ආවේ ඇගේ රැකියාව අවසන් නිසා සමුගන්නයි කියලා. කාන්තාව ඇයට ඇහුම්කන් දෙන පාටක් පෙනුණේ නැහැ.

''ඔයා කැමතිද ක්ලිටෝරිසය ගැන ලියවුණු පොත අරගෙන ගිහින් කියවන්න?''

''එපා, බොහොම ස්තුතියි. මේ වෙලාවේ මට හිතන්න තව දේවල් තියෙනවා''

''එතකොට ඔයාට වෙන මුකුත් අරගෙන යන්න උවමනා නැද්ද?''

''නැහැ, මම ආපහු මගේ රටට යනවා, ඒත් මට ඕන වුණේ මට හැම තිස්සෙම ගෞරවයෙන්, අවබෝධයෙන් සැලකුවට ඔයාට ස්තුති කරන්නයි. සමහරවිට අපි වෙන වෙලාවක මුණ ගැහේවි.''

ඔවුන් අතට අත දීලා, එකිනෙකාට සතුට ප්‍රාර්ථනා කළා.

# 31

හයිඩි ගැනු ළමයා පිටත් වෙනකං බලන් ඉඳලා මේසයට වැරෙන් පහරක් ගැහුවා. ඇයි ඇය බොහෝවිට ඇයත් එක්කම මිනීවළට යන්න නියමිත දෙයක් බෙදා ගන්නට තිබුණු අවස්ථාවෙන් ප්‍රයෝජනයක් නොගත්තේ ? ඇය කවදා හරි ඇගේ සැමියාව පාවලා දීල තියෙනවද කියලා අහන්න ඒ ගැනු ළමයට ධෛර්යයක් තිබුණා නම්, ඇයි ඇය ඒකට පිළිතුරක් නුදුන්නේ? යෝනි මාර්ගික සුරතාන්තය අත්පත් කරගන්න එක කොයිතරම් අමාරු දෙයක්ද කියලා අවබෝධ කරගන්න අලුත් ලෝකයක් දූන් ඇය සොයා ගනිමින් හිටියාද?

''ආහ් හොඳයි, ඒකට කමක් නැහැ. ලෝකය කියන්නේ ලිංගිකත්වයටම විතරක් නෙමෙයිනේ.''

නැහැ, ඒක නෙමෙයි ලෝකෙ තියෙන වඩාත්ම වැදගත් දේ, ඒත් ඒකත් හුඟක් වැදගත්. ඇය අවට බැලුවා. ඇය වටේ තිබුණු පොත් දහස් ගාණක් අතරින් බොහෝ ඒවා ආදර කතා වුණා. ඒවා හැමවිටම එකම වගේ දේවල් වුණා : කෙනෙක් තව කෙනෙක්ව මුණ ගැහෙනවා, ආදරෙන් බැඳෙනවා, ඔවුනොවුන් අහිමිවෙලා නැවතත් එකතුවෙනවා. ආත්මයන් තවත් ආත්මයන්ට කතා කරනවා, දුර ඈත පළාත්, අවදානම් ක්‍රියා, වේදනා විඳීම්, සංකාවන් තියෙනවා. ඒත් හුගාක් කලාතුරකින් තමයි කෙනෙක් කියන්නේ : ''සමාවෙන්න මහත්මයා, ඒත් ඇයි ඔයා මීට වඩා හොඳ අවබෝධයක් ගැහැනු සිරුර ගැන ලබාගන්න උත්සාහ කරන්නේ නැත්තේ? කියලා. ඇයි පොත්වල ඒ ගැන විවෘතව කතා නොකරන්නේ?

සමහරවිට මිනිසුන් ඇත්තටම උනන්දු නැති වෙච්ච හින්දා වෙන්න ඇති. පිරිමි හැම තිස්සෙම නූතනත්වය හොයමින් ගියාට,

ඒ ගොල්ලො තාමත් මනුෂ්‍ය වර්ගයා බෝ කිරීමේ සහජාශයට කීකරුවෙමින් යන ප්‍රාග් ඓතිහාසික යුගයේ උදවියයි. එතකොට ගෑනු? ඇගේ පෞද්ගලික අත්දැකීම අනුව නම්, කෙනෙක් එයාගේ සහකාරයත් එක්ක වඩා හොඳ සුරතාන්තයක් ලබාගන්න තියෙන ආශාව රැඳිලා තියෙන්නේ මුල් අවුරුදු කීපයෙදි විතරයි, ඊළඟට සුරතාන්තයට පත්වෙන වාර ගාණ අඩුවෙමින් යනවා, ඒත් කවුරුවත් ඒ ගැන කතා කරන්නේ නැහැ, මොකද හැම ගෑනියෙක්ම හිතුවේ ඒක ඇගේ ප්‍රශ්නයක් විතරයි කියලයි. ඉතිං ඒ හින්දා ඒ ගොල්ලො බොරු කිව්වා, ඔවුන්ගේ ස්වාමි පුරුෂයන්ගේ රමණයට තියෙන ආශාව ඉවසාගන්න බැරි විදියට ඔවුන්ට ලැබෙනවා කියලා බොරුවට හැඟෙව්වා. ඉතිං ඒ ගොල්ලො බොරු කීමෙන් අනෙක් ගෑනුන්ව දුකට ඇදලා දැම්මා.

ඔවුන් ඔවුන්ගේ සිතුවිලි වෙනත් දේවල්වලට යොමු කරගත්තා. ළමයි, ඉවුම් පිහුම්, කාල සටහන්, ගෙදර දොර වැඩ, බිල්පත් ගෙවීම්, සැමියගේ රාජකාරි - අමාරුවෙන් ඉවසා ගත්තු - නිවාඩු ගත කරන්න පිටරට යන අතරතුරේදි සැලකිලිමත් වුණේ ඔවුන්ට වැඩිය ඔවුන්ගේ දරුවන් ගැනයි, ඔවුන්ගේ සංකීර්ණතා ගැනයි. සමහරවිට ආදරය ගැන පවා සැලකිලිමත් වුණා, හැබැයි ඒත් ඒ ලිංගිකත්වය ගැන නම් නෙමෙයි.

අහිංසක, ඇගේ දියණියකට තරම් වයසක් තිබුණු, තවමත් ඒ වගේම ලෝකය කොයි වගේද කියලා හඳුනා ගන්න බැරිවුණු විදියට ඇයට පෙනුණු ඒ තරුණ බ්‍රසීලියානු ගැහැනියත් එක්ක ඇය මීට වඩා විවෘත විය යුතුව තිබුණා. නිවසින් බොහෝම ඈත, නීරස රැකියාවක මහන්සියෙන් වැඩ කරන, සංක්‍රමණිකයෙක්, ව්‍යාජ සුරතාන්ත කීපයක් ලබාගන්න පුළුවන් පිරිමියකු සමඟ විවාහ වෙන්න බලාපොරොත්තුවෙන්, සුරක්ෂිතභාවය ලබාගනිමින්, මේ මහා අභිරහස් මනුෂ්‍ය ජාතිය බෝකරමින්, ඊළඟට සුරතාන්තය, ක්ලිටෝරිසය, ජී ස්පොටය (ඒක ඇත්තටම හොයාගත්තේ විසිවන ශතවර්ෂයේදීයි!!!) අමතක කරලා දානවා. ඊළඟට හොඳ ගෘහිණියක්, හොඳ මවක් වෙමින් ගෙදර දොරේ කිසිම අඩුපාඩුවක් නොවෙන්නට වගබලා ගන්නවා, පාරේදි ඇය දිහා හුඟාක් ආසාවෙන් බලමින් ඇයව පහුකරගෙන ගිය පිරිමියකු ගැන හිතමින් අවස්ථානුකූලව

රහසින් ස්වයං වින්දනයේ යෙදෙනවා. පෙනුම පවත්වා ගන්නවා - ඇයි ලෝකෙ පෙනුම ගැන මේ තරම් උනන්දු වෙන්නේ?

ඒ හින්දා තමයි ඇය ප්‍රශ්නයට උත්තරයක් නොදුන්නේ : "ඔයාට කවදාහරි සම්බන්ධයක් තිබිල තියෙනවද?" කියන එකට.

මේ දේවල් ඔයත් එක්කම මිනීවළට යයි. ඇය කල්පනා කළා. ලිංගිකත්වය දුන් දුරස් අතීතයක් වුණත් ඇගේ සැමියා තමයි ඇගේ ජීවිතේ එකම පිරිමියා වුණේ. ඔහු විශිෂ්ට සගයෙක් වගේම අවංක, ත්‍යාගශීලී හොඳ හාස්‍ය දැනීමේ රසයක් ඇති කෙනෙක් වුණා. ඒ වගේම ඔහු පවුලේ දියුණුවටත්, ඔහුත් එක්ක වැඩකරපු අයවත් සතුටින් තියන්න මහන්සි වෙච්ච කෙනෙක්. ඔහු හැම ගැහැනියක්ම සිහින දකින විදියේ ආදර්ශවත් පිරිමියෙක් වුණා. ඉතිං ඒකම තමයි ඇය දවසක් වෙනත් පිරිමියකුට ආශාවෙන් ඔහුත් එක්ක හිටපු එක ගැන හිතපුවාම නිශ්චිතවම වැරදිකාර හැඟීමක් ඇතිවුණේ.

ඇයට මතක් වුණා ඔවුන් මුණ ගැහුණු විදිය. හිම කුණාටුවකින් පැය ගණනාවකට සියලු දුම්රිය සේවා ධාවනයට බාධා තිබුණු වෙලාවක ඇය කුඩා කඳුකර ''ඩවෝස්'' නගරයේ ඉඳං ආපහු පැමිණෙමින් හිටියා. කිසිවකුට කලබල නොවෙන්නට ඇය ගෙදරට දුරකථන ඇමතුමක් දුන්නා. සඟරා කීපයක් මිලදී අරගෙන දීර්ඝ වෙලාවක් දුම්රිය ස්ථානයේ රැඳී ඉන්නට ලැහැස්ති වුණා.

එතකොට තමයි ඇය, ඇයට එහා පැත්තේ කරේ එල්ලාගෙන යන බෑගයකුත්, එළිමහන් කඳවුරුවලදී නිදා ගන්නට පාවිච්චි කරන බෑගයකුත් එක්ක වාඩිවෙලා හිටපු මනුස්සයා දැක්කේ. ඔහුට අළුපාට කොණ්ඩයකුත්, අව්වට පිච්චුණු හමකුත් තිබුණා. ඒ වගේම ඔහු තමයි දුම්රිය ප්‍රමාදය ගැන අවධානයක් යොමු කරන බවක් නොපෙනුණු ඒ දුම්රිය ස්ථානයේ හිටපු එකම මනුස්සයා වුණේ : ඒ වෙනුවට ඔහු සිනාසෙමින්, අවට බලමින් කතා කරන්නට කවුරු හරි හොයමින් හිටියා. හයිඩි සඟරාවක් පෙරළා ගත්තා. ඒත් - ආහ් - ජීවිතේ මිහිරි රහස - ඇගේ ඇස් ඔහුගේ ඇස් අල්ලා ගත්තා. ඒ වගේම ඔහු ඇය වෙතට එන එක වළක්වන්න තරම් ඉක්මනින් ඉවත බලන්නට ඇයට බැරිවුණා.

ඇයට - ඉතා විනීතව - මේ වැදගත් ලිපිය කියවා හමාර කරන්නට අවශ්‍ය යැයි කියන්නට කලින් ඔහු කතා කරන්නට පටන් ගත්තා. ඔහු ලේඛකයකු බවත්, සම්මන්ත්‍රණයකට ඩාවෝස් ගිහිං ආපසු පැමිණෙමින් සිටින බවත්, මේ ප්‍රමාදය නිසා ඔහුට ගෙදර යාමට ගුවන් යානය මඟ හැරී යා හැකි බවත් කිව්වා. ඔවුන් ජිනීවාවලට ගියාට පස්සේ ඔහුට හෝටලයක් හොයලා දෙන්න ඇය උදව් කරාවිද?

හයිඩි ඔහු දිහා බලමින් හිටියා: කෙනෙක් කොහොමද ගුවන් යානයත් මඟ හැරිලා, සැප පහසුවක් නැති දුම්රිය ස්ථානයක මේ දේවල් විසඳෙනකං මෙච්චර සතුටින් ඉන්නේ?

ඒ මනුස්සයා ඇයත් එක්ක කතා කරන්න පටන් ගත්තේ හරියට ඒ ගොල්ලො පරණ යාළුවෝ වගෙයි. ඔහු ඇයට ඔහුගේ සංචාර ගැනත්, සාහිත්‍ය නිර්මාණවල පුදුමාකාර බව ගැනත්, ඇගේ තැතිගැන්මට, ඔහු ඔහුගේ ජීවිත කාලයේදී හැඳින හිටිය වගේම ඔහු ආදරය කරපු ගැහැනු ගැනත් විස්තර කළා. හයිඩි යන්තමින් ඔළුව වනමින් ඔහුට කතා කිරීමට ඉඩ හැරියා. ඇතැම් වෙලාවට හුඟක් කතා කිරීම ගැන ඔහු සමාව ඉල්ලුව අතර ඇය ගැනත් මොනවා හරි කියන්න කියලා ඇගෙන් ඉල්ලා හිටියා. ඒත් ඇයට කියන්න පුළුවන් වුණේ : ''මිහ්, මම ඉතාම සාමාන්‍ය මනුස්සයෙක්, කිසිම වෙන විශේෂත්වයක් නැහැ.''

හදිස්සියේම ඇයට අවබෝධ වුණා කෝච්චිය කවදාවත් එන්නේ නැත්නම් යැයි ඇය බලාපොරොත්තු වෙන බව : සංවාදය කිරීම සිත් බැඳගන්නාසුලු එකක් වුණා : කලින් කතාන්දර පොත්වලින් විතරක් හම්බවුණු දේවල් ඇය අනාවරණය කරගනිමින් හිටියා. ඉතිං ඇයට ඔහුව කවදාවත් නැවත නොදකින හින්දා ලැජ්ජාව නැති කරගෙන ඇය විශේෂ උනන්දුවක් දක්වපු මාතෘකා සම්බන්ධයෙන් ඔහුගෙන් විමසන්නට පටන් ගත්තා. ඇගේ විවාහය ගමන් කරමින් තිබුණේ කටුක මාර්ගයක් තුළිනුයි, ඒ වගේම ඇගේ සැමියාට ඇයව හුඟක් අවශ්‍ය වෙලා තිබුණා, ඉතිං හයිඩිට ඕන වුණා ඇගේ සැමියාව සතුටු කරන්න ඇයට කරන්න පුළුවන් මොනවද කියලා දැනගන්න. ඒ මනුස්සයා ඇයට රසවත් පැහැදිලි කිරීම් කීපයක් ඉදිරිපත් කළා, ඇයට කතාවක් කිව්වා, ඒත් ඇගේ

සැමියා ගැන කතාකරන්නට නම් ඔහු ඒතරම් කැමැත්තක් දක්වූයේ නැහැ.

''ඔයා හරිම සිත්ගන්නාසුලු ගැහැනියක්.'' ඔහු කිව්වා. ඒක කිසිවෙක් ඇයට වසර ගණනාවකින්ම නොකියපු දෙයක්.

කොහොම ප්‍රතිචාර දක්විය යුතුයිද කියලා හයිඩිට තේරුණේ නැහැ : ඇගේ අපහසුතාව ගැන දැකපු ඔහු ඉක්මනින්ම කාන්තාර, කඳුවැටි, අත්හැරපු නගර, මුහුණු ආවරණ පැළඳ ගත්තු ගැහැනු ගැන, නැත්නම් පපු ප්‍රදේශය නිරාවරණය කරගත්තු ගැහැනු, මුහුදු කොල්ලකාරයෝ ගැන, නුවණක්කාර පිරිමි ගැන කතාකරන්න පටන් ගත්තා.

කෝච්චිය පැමිණියා. ඒ ගොල්ලො එකිනෙකා ළඟින් වාඩිවුණා. ඉතිං, ඇය තව දුරටත් වැව පෙනෙන මානයේ පිහිටි කුඩා ගෙයක ජීවත් වෙමින්, ලොකු මහත් කරන්න දරුවන් තුන්දෙනෙක් හිටපු විවාහක ගැහැනියක් වුණේ නැහැ, ඇය මුල් වතාවට ජිනීවාවලට එමින් හිටි අවදානම් ක්‍රියාවල නිරත වන්නියක් වුණා. ඇය කඳු දෙසත්, ගඟ දෙසත් බැලුවා. ඒ වගේම ඇයත් එක්ක යහන් ගතවෙන්න කැමති, (මොකද පිරිමි කල්පනා කරන්නේ එච්චර හින්දා) ඇගේ හැඟීම් අවදි කරන්න කළ හැකි උපරිමයක් කරන්නට කැමති පිරිමියකු සිටීම ගැනත් ඇය සතුටු වුණා. මේ විදියට දනුණු අනිත් පිරිමි කොපමණ හිටියත් යන්තමින්වත් අනුබලයක් නොදීපු එක ගැන ඇය පුදුම වුණා. කොහොම වුණත්, ඒ උදෑසන ලෝකය වෙනස් වුණා, ඒත් එක්කම ඇය, ඇයව වශී කරගන්නට ඒ මනුස්සයා දරපු උත්සාහයෙන් ඇස් නිලංකාර වුණු අවුරුදු තිස්අටක නව යෞවනියක් වෙලා හිටියා : ඒක ලෝකෙ තියෙන හොඳම හැඟීම වුණා.

ඇගේ ජීවිතේ නොමේරූ සරත් සෘතුවේදී ඇයට වුවමනා හැම දෙයක්ම ඇය සතුව තිබේ යැයි කල්පනා කරපු වෙලාවක, මේ මනුස්සයා දුම්රිය ස්ථානයෙන් මතුවෙලා ඇගෙන් කලින් අවසර නොගෙනම කෙළින්ම ඇගේ ජීවිතයට ඇතුළු වුණා. ඒ ගොල්ලො ජිනීවාවලින් බැස්සට පස්සේ ඇය ඔහුට හෝටලයක් පෙන්නුවා. (ලාබ එකක්, මොකද ඔහු එදා උදේ යන්නට නියමිත නිසා තවත් රාත්‍රියක් ඉතා මිල අධික ස්විට්සර්ලන්තයේ ගත

කරන්නට තරම් විශාල මුදලක් ඔහු සතුව නැති බව ඔහු කියූ නිසා) ඔහු ඇගෙන් ඔහුත් එක්ක උඩ කාමරයට ගිහිං සියල්ල නියමිත විදියට තියෙනවද කියලා බලන්න එන්නැයි ඉල්ලා හිටියා. හයිඩි ඔහු මොනවද බලාපොරොත්තුවෙන්නේ කියලා දැනගෙන හිටියා. කොහොම වුණත් ඇය ඔහුගේ යෝජනාව පිළිගත්තා. ඔවුන් දොර වසා දැම්මා, වියරුවෙන් එකිනෙකා සිපගත්තා, ඔහු ඇගේ ඇඳුම් ඉරා දැම්මා. - අහෝ දෙවියනේ - ඔහු ගැහැනු සිරුර ගැන හැම දෙයක්ම දැනගෙන හිටියා. ඒ මොකද ඔහු බොහෝ ගැහැනුන්ගේ වේදනාවන්, අසහනයන් දැනගෙන හිටි නිසා.

ඔවුන් මුළු හවස් වරුවේම රමණයේ යෙදුණා. හැන්දෑව වැටීගෙන එද්දී තමයි ප්‍රබෝධමත්භාවය මැකී යමින් තිබුණේ. ඇය නොකියාම ඉන්න කැමති වෙච්ච වචන කිව්වා :

''මම ගෙදර යන්න ඕන. මගේ මහත්තයා මං එනකං බලාගෙන ඇති.''

ඔහු සිගරට්ටුවක් දල්වා ගත්තු අතර ඔවුන් නිහඬව මිනිත්තු කීපයක් වැතිර හිටියා. ඒ වගේම ඒ දෙන්නාගෙන් කවුරුවත් ''ආයුබෝවන්'' කියලා කිව්වෙත් නැහැ. හයිඩි නැගිටලා එතැනින් පිටවුණේ ආපසු නොබලමිනුයි. ඔවුන් දෙදෙනාගෙන් කෙනෙක් කුමක් කීවත්, ඒ එක වචනයක්වත්. එක වාක්‍යක්වත් කිසිම තේරුමක් දනවන්නේ නැහැයි කියලා ඇය දැන හිටියා.

ඇයට ඔහුව කවදාවත් නැවත මුණ ගැහෙන එකක් නැතිවේවි. ඒත් ඇගේ බලාපොරොත්තු නැතිව තිබූ සරත් කාලයෙන් පැය කිහිපයකට, ඇය විශ්වාසවන්ත බිරිඳට, ගෘහිණියට, ආදරණීය මවට, ආදර්ශමත් මහජන සේවිකාවට, වෙනස් නොවන මිතුරියට විරාමයක් තියලා ආපහු සාමාන්‍ය ගැහැනියකගේ තත්වයට පත්වුණා.

දවස් කිහිපයක්ම ඇගේ සැමියා කියමින් හිටියා ඇගේ වෙනසක් තියෙන බව. ඒක දුකකක් වුණත්, සතුටක් වුණත් ඔහුට ඒ ගැන වැඩිදුරටත් ඇඟිලි ගසන්නට පුළුවන්කමක් තිබුණේ නැහැ. සතියකට පස්සේ හැම දෙයක්ම සාමාන්‍ය තත්වයට පත්වුණා.

''කොච්චර ලැජ්ජාවක්ද මම අර තරුණ ගෑනු ළමයට ඒක නොකියපු එක. '' ඇය කල්පනා කළා. ''ඒක කිව යුතුව තිබුණේ එයා ඒක තේරුම් ගනීවි කියලා හිතන හින්දම තමයි, ඒත් එයා

ජීවත් වෙන්නේ අවංක වගේම ආදරයේ පොරොන්දු හැමදාම තියාගෙන ඉන්න මිනිස්සු ඉන්න ලෝකෙක හින්දයි.

මරියාගේ දිනපොතෙන් :

මම දන්නේ නැහැ එදා රෑ දොර ඇරිනකොට සූට්කේස් දෙකකුත් අරගෙන ඉන්නව දැකලා ඔහු මොනවද හිතුවේ කියලා.

''බය වෙන්න එපා'' මම කිව්වා. ''මම නවතින්න නෙමෙයි ආවේ. අපි රෑ කෑමකට යමුද?''

ඔහු මුකුත්ම නොකියා මගේ ගමන් මලු ඇතුළට ගන්න උදව් කළා. ඊට පස්සේ ''මොකද වෙන්නේ ?'' හරි ''ඔයාව දකින්න ලැබිච්ච එක කොච්චර සතුටක් ද?'' කියලා කියන්නේ නැතුව ඔහු නිකම්ම ඔහුගේ දෑත් මා වටා යවලා මගේ ශරීරය, මගේ පියයුරු, මගේ කිහිලි ස්පර්ශ කරමින් සිපගත්තේ හරියට මේ දේ වෙනුවෙන් හුඟාක් කල් බලාගෙන හිටියා වගෙයි, මේ මොහොත නැවත උදා නොවෙයි කියලා බය වුණා වගෙයි.

ඔහු මගේ ජැකට්ටුවත් මගේ ඇඳුමත් ගලවලා, මා නිරුවත් වෙන්නට ඉඩ හැරලා, සාලය තුළ, කිසිම චාරිත්‍රයක් හෝ කිසිදු සූදානමක් නැතිවම හොඳ මොකක්ද නරක මොකක්ද කියලා කියන්න වෙලාවක් නැතිවම, ඉදිරිපස දොර යටින් සීතල සුළං හමද්දී, අපි පළමු වතාවට රමණයේ යෙදුණා. අපිට මීට වඩා සුව පහසු තැනක් හොයාගන්න පුළුවන්කමක් ලැබෙන නිසාත්, අපගේ සංවේදීතාවේ ගිණිය නොහැකි තරම් සුවිශාලත්වය සොයා යාමට අපට කාලය ලබාගන්න පුළුවන්කම ලැබෙන නිසාත් සමහර වෙලාවකට මට හිතුණා මේක නවත්තන්න කියලා ඔහුට කියන්න. ඒත් ඒ එක්කම මට ඔහුව මගේ ඇතුළාන්තයෙන්ම අවශ්‍ය වුණා. මොකද ඔහු තමා මම කිසි දවසක අයිතිකර නොගත්, නැවත කිසි දවසක අයිතිකර නොගන්නා පිරිමියා වුණේ. ඒ නිසා තමයි මට මගේ මුළු ශක්ති ප්‍රමාණයෙන්ම ඔහුට ආදරය කරන්නත්, මට මීට පෙර කිසිදාක නොලැබුණු, බොහෝවිට නැවත කිසිදාක නොලැබෙන එක රැයක් හෝ ලබාගන්න පුළුවන් වුණේ.

ඔහු මාව බිම හාන්සි කරවලා මට ඇතුළු වුණේ මගේ හැඟීම් පිබිදෙන්නටත්, මම සූදානම් වෙන්නටත් කලින්නුයි. ඒත් ඒ වේදනාව මට හිරිහැරයක් වුණේ නැහැ. ඒ වෙනුවට මම ඒකට කැමති වුණා. මොකද ඔහු නියත වශයෙන්ම තේරුම් අරන් හිටියා මම ඔහුගේ බවත් ඒ නිසා ඔහුට අවසර ගැනීමේ අවශ්‍යතාවක් නැති බවත්. මම එතැන හිටියේ ඔහුට කිසිවක් ඉගැන්වීමටවත්, අනෙක් ගැහැනුන්ට වඩා මම සංවේදී හෝ සරාගික බවවත් ඔහුට ඔප්පු කරන්නට නොවේ. මම එතැන හිටියේ, ඔව්, ඔයාව ආදරයෙන් පිළිගන්නවා, මමත් මේ මොහොත එනකං බලාගෙන හිටියා, අපි අතර නිර්මාණය කරගෙන තිබුණු නියමයන් ඔහු සම්පූර්ණයෙන්ම නොසලකා හැරීම ගැන මම සතුටු වෙනවා කියලා කියන්නයි. ඒ වගේම දූන් ඔහු ඉල්ලමින් හිටියා ගැහැනියත්, පිරිමියාත් වන අප අපගේ සහජාශය තුළින් එකිනෙකාට මඟ පෙන්විය යුතුයි කියලා.

අපි හිටියේ ඉතාම සාම්ප්‍රදායික ඉරියව්වෙනුයි. මම ඔහු යටින් කකුල් දෙපසට විහිදවමින්, ඔහු මට උඩින් එළියට ඇතුළට චලනය වෙමින්. ඒ අතර මම බොරුවට කෙඳිරිගාන බවක්, හෝ වෙනත් කිසිවක් කිරීමට ඇති ආශාවකින් තොරව ඔහු දිහා බැලුවා. මට වුවමනා වුණේ මගේ ඇස් දිගටම ඇරගෙන ඉන්නයි. එතකොට මට ගෙවෙන හැම තත්පරයක්ම මතකයේ තබා ගන්නත්, ඔහුගේ මුහුණේ ඉරියව් වෙනස්වෙන හැටිත්, ඔහු අත්වලින් මගේ කොණ්ඩය අල්ලගෙන ඉන්න හැටිත්, ඔහුගේ කටින් මාව හපන හැටිත්, ඉඹින හැටිත් බලාගන්න පුළුවන්කම තිබුණු නිසයි ඒ. මූලික ආරම්භයන්, ආදරණීය පිරිමැදීම්, පෙර සූදානම් වීම් හෝ කිසිදු සංකීර්ණතාවකින් තොරවම, නිරායාසයෙන්ම ඔහු මා තුළත්, මම ඔහුගේ ආත්මය තුළත් හිටියා.

ඔහු ඇවිත් ගියා, රිද්මය අනුව අඩු වැඩි කළා, සමහර වෙලාවට මං දිහා බලන්නත් ඔහු ඒක නැවැත්තුවා. ඒත් ඔහු මගෙන් ඇහුවේ නැහැ මම ඒක විඳිනවද කියලා. මොකද ඔහු දැනගෙන හිටියා මේක තමයි ඒ මොහොතේ අපේ ආත්මයන්ට සන්නිවේදනය කරගන්නට පුළුවන් එකම මාර්ගය කියලා. රිද්මය වැඩිවුණා. ඒත් එක්කම මම දැනගත්තා මිනිත්තු එකොළහ අවසන් වේගෙන යනවා කියලා. ඒත් මට වුවමනා වුණේ ඒ දේවල් හැමදාම රැඳිලා තියෙන්නයි. මොකද ඒක කදිම හැඟීමක් - ආහ්! දෙවියනේ, ඒක

පුදුම හැඟීමක්. අයිති කර නොගෙන අයිති වෙන්නට ඉඩ හැරීමක්! අපිට තව දුරටත් පැහැදිලිව කිසිවක් නොපෙනෙන බව දැනෙන තෙක්ම, මාව උතුම් මවක, විශ්වය, ආදරවන්තියක, වයින් මතින් විවෘත ගිනිමැලය ඉදිරිපිටදී ඔහු මට කියූ පූජනීය ගණිකාව ලෙස පෙනුණු වෙනත් මානයක් වෙත ගමන් කරන තෙක් හැම වෙලාවේම අපි අපේ ඇස් සම්පූර්ණයෙන්ම ඇරගෙන හිටියා. මම දැක්කා ඔහු තෘප්තිමත් වීමට ආසන්න වෙමින් ඉන්නවා කියලා. ඒත් එක්කම ඔහුගේ අත්වලින් මාව තදින් ග්‍රහණය කළා, ඔහුගේ චලනය වඩා වේගවත් වුණා. ඊට පස්සේ තමයි ඔහු කෑගැහුවේ. - ඔහු කෙඳිරි ගෑවේ නැහැ, දත්මිටි කෑවේත් නැහැ, ඔහු කෑගැහුවා, ඔහු යටිගිරියෙන් කෑ ගැහුවා. ඔහු සතකු වගේ ගෙරෙව්වා. අසල්වැසියන් පොලිසියට කතා කරාවි යැයි මගේ මනස හරහා හදිසි සිතුවිල්ලක් පැන නැගුණා. ඒත් ඒක ප්‍රශ්නයක් වුණේ නැහැ. ඒ වගේම මට අප්‍රමාණ සතුටක් දැනුණා. ආරම්භයේ පටන්ම සිදුවෙමින් තිබුණේ මෙයයි. පළවෙනි පිරිමියා පළවෙනි ගැහැනිය මුණ ගැහිලා ඔවුන් පළමු වතාවට ලිංගිකව එකතු වෙද්දී ඒ ගොල්ලෝ කෑගැහුවා.

ඊට පස්සේ ඔහුගේ සිරුර මගේ සිරුර මතට වැටුණා. ඒ වගේම අපි කොච්චර වෙලාවක් එහෙම හිටියද කියලා මම දැනගෙන හිටියේ නැහැ. අපේ දෑත් එකිනෙකා වෙළාගෙන තිබුණා. මම ඔහුගේ හිසකෙස් පිරිමැද්දේ හරියට මීට කලින් එකම එක වතාවක් අපි අපිවම හෝටල් කාමරයක කළුවරේ හිර කරගෙන හිටපු අවස්ථාවෙදි වගෙයි. මට දැනුණා ඔහුගේ වේගවත් හදවත ටිකෙන් ටික සාමාන්‍ය අගයට පත්වෙනවා. ඔහුගේ අත් මෘදුව මගේ අත් මතින් උඩට පහළට ගියේ මගේ සිරුරේ රෝම කූප කෙළින් කරවමිනුයි.

ඔහුට ප්‍රායෝගික සිතුවිල්ලක් හැගෙන්නට ඇති - ඔහුගේ සිරුරේ බර මගේ සිරුර මත තිබීම - මොකද, ඔහු පැත්තකට පෙරළිලා මගේ අත අරගත්තා. අපි එතැන දිගාවෙලා සිවිලිම දිහාත්, පොකුරු පහනේ දැල්වෙමින් තිබුණු බල්බ තුන දිහාත් ඇස් දල්වාගෙන හිටියා.

''සුභ සැන්දෑවක්'', මම කිව්වා.

ඔහු මාව ඉහළට ඇදලා ගත්තා, එතකොට මගේ හිස ඔහුගේ පපුව මත රැඳුණා. හුඟාක් වෙලා යනතෙක් ඔහු මාව පිරිමැද්දා. ඊළඟට ඔහු ''සුභ සැන්දෑවක් '' කියලා කිව්වා.

''එහා ගෙදර අයට හැමදේම ඇහෙන්න ඇති'' මම කිව්වේ ඊළඟට මොකක් කියන්නද කියලා හිතාගන්න බැරුවයි. මොකද ''මම ඔයාට ආදරෙයි'' කියන එක ඒ වගේ තීරණාත්මක මොහොතක එච්චර තේරුමක් නැති දෙයක් වුණා. ඔහු ඒක දැනටමත් දැනගෙන හිටියා, මාත් එහෙමමයි.

''දොර යටින් ලොකු හුළඟක් එනවා'' ඔහු කීවේ ''ඉතිං හොඳයිනේ'' කියලා කියන්න පුළුවන්කම තිබ්බදීයි.

''අපි කුස්සියට යමු.''

අපි නැගිට්ටට පස්සෙයි මම දැක්කේ අඩුම තරමේ ඔහුගේ කලිසමවත් ගලවලා නැති බව. ඔහු ඇඳගෙන හිටියේ ඔහුව මේ දැන් මට හමුවුණා වගෙයි. ඔහුගේ ශිෂ්ණය විතරක් ඉලිප්පිලා තිබුණා. මම මගේ ජැකට්ටුව මගේ නිරුවත් උරහිසට දමා ගත්තා. අපි කුස්සිය වෙත ගියා, ඔහු කෝපි ටිකක් හැදුවා, ඔහු සිගරට් දෙකක් බීපු අතර මම එකක් බිව්වා. මේසය ළඟ වාඩිවෙලා ඉන්න ගමන් ඔහු ඔහුගේ ඇස්වලින් ''ස්තූතියි'' කියා කිව්වා. මම ''ඔයාටත් ස්තූතියි'' කියලා කිව්වා. ඒත් අපේ කටවල් වැහිලයි තිබුණේ.

අවසානයේදී, ඔහු සූට්කේස් ගැන අහන්න ධෛර්යය උපදවා ගත්තා.

''මම හෙට දවල් බ්‍රසීල්වලට යනවා.''

ගැහැනියක් දන්නවා ඇයට පිරිමියෙක් අවශ්‍ය වන මොහොත. පිරිමින්ට ඒ වගේ දෙයක් අවබෝධ කරගැනීමේ හැකියාවක් තියෙනවද? නැත්නම් මම කිවයුතුව තිබුණද ''මම ඔයාට ආදරෙයි, මම කැමතියි ඔයත් එක්ක මෙහෙ නවතින්න, මට නවතින්න කියලා කියන්න'' කියලා.

''යන්න එපා'' ඔව්, ඔහු අවබෝධ කරගෙන තිබුණා ඔහුට ඒක මට කියන්න පුළුවන් කියලා.

''මම ඒක කරන්න ඕන. මම පොරොන්දු වෙලා තියෙනවා.''

මොකද මම එහෙම නොකිව්වා නම්, ඔහු හිතන්න පුළුවන් මේ හැම දෙයක්ම හැමදාම පවතිනවා කියලා. ඒත් ඒක එහෙම

නෙමෙයි. ඒක ඈත රටක ගමක ඉඳන් ආපු, විශාල නගරයකට යන (හැබැයි, එච්චරම ලොකුත් නැහැ) හැම විදියකම කරදරවලට මුහුණ දීලා වුණත් ඇයට ආදරය කරන පිරිමියා ලැබෙන තරුණ ගැහැනියකගේ සිහිනයක එක කොටසක් විතරයි. ඉතිං මේක මම පහුකරගෙන ආපු හැම කරදර කාලයකම සතුටුදායක අවසානයක් වේවි. ඒ වගේම මගේ යුරෝපා ජීවිතය මතක් වෙන හැම වෙලාවක්ම මාත් එක්ක දැඩිව ආදරෙන් බැඳුණ, හැමදාම මගේම වුණු පිරිමියකුගේ කතාවකින් අවසන් වේවි. මොකද මම ඔහුගේ ආත්මය අත්වින්ද නිසා.

ආහ්! රැල්ෆ්, ඔයා දන්නෙ නැහැ මම ඔයාට කොච්චර ආදරෙයිද කියලා. ඒ මොහොතේදි විචාර බුද්ධිය අපිට වෙනත් දෙයක් කිව්වවත් මම හිතන්නේ අපි අපේ සිහින තුළ ඉන්න පුද්ගලයාව මුණ ගැහෙන පළමු මොහොතේදීම ආදරෙන් බැඳෙනවා කියලයි. අපි අපේ හැඟීම්වලින් පරාජය වෙන්න ඉඩ හරින තාක් අපි දිනන එකක් නැහැ කියන සිතුවිල්ලට විරුද්ධව හිතමින් සහජාසයට විරුද්ධව සටන් කරනවා. ඒක පාවහන් නැතුව හීතලෙන්, වේදනාවෙන්, ඔයා මට කොච්චර ආදරෙයිද කියලා හිතමින් උද්‍යානයේ ඇවිදගෙන ගියපු රාත්‍රියේදී සිද්ධ වුණා.

ඔව්, මම ඔයාට වෙන කිසිම පිරිමියකුට ආදරේ නොකළ තරමට ආදරේ කරනවා. ඉතිං ඒ නිසාම තමයි මම යන්නේ. මොකද මම නැවතුණොත් සිහිනය යථාර්ථයක් වෙනවා, අයිති කරගන්න කැමැත්ත ඇතිවෙනවා, ඔයාගේ ජීවිතේ මගේ කරගන්න ඕන වෙනවා.... ටික කාලෙකින් හැම දෙයක්ම - ආදරය වහල්භාවයට පෙරළනවා. ඒක මේ විදියට ඉතුරු වෙන එක තමයි හොඳ - ඒ කියන්නේ සිහිනයක් විදියට. අපි සැලකිලිමත් වෙන්න ඕන මොනවද අපි රටකින් නැත්තම් ජීවිතෙන් ගන්නේ කියන එක ගැන.

''ඔයා සුරතාන්තයට පත් වුණේ නැහැනේ.'' මාතෘකාව වෙනස් කරමින්, පරිස්සම්වෙමින්, ඒ වගේම ඒ අවස්ථාවට බලපෑම් එල්ල නොකරන්නත් වගබලා ගනිමින් ඔහු කිව්වා. ඔහු මාව අහිමි වෙනවට බයවුණා. ඒ වගේම ඔහුට මගේ අදහස වෙනස් කරවන්න තවමත් රාත්‍රියක්ම ඉතුරුයි කියලා හිතමින් හිටියා.

''නැහැ, ඒත් මම අප්‍රමාණ සතුටක් ලැබුවා.''

''ඒත් ඔයත් සුරතාන්තයට පත් වුණා නම් හුඟක් හොඳයි.''

''ඔයාව සතුටු කරවන්න මට එහෙම බොරුවට අඟවන්න තිබුණා. ඒත් ඒකට ඔයා සුදුසු නැහැ. රැල්ෆ් හාට්, ඔයා වචනයේ පරිසමාප්තාර්ථයෙන්ම බොහොම ලස්සන මිනිහෙක්. එක පැත්තකින්වත් අපහාසයක් වෙන්න ඉඩ තියන්නේ නැතුව ඔයා මට උපකාර වුණා, උදව් කළා, ඔයාට උපකාර කරන්න, උදව් කරන්න මට ඉඩ හැරියා. ඔව්, සුරතාන්තයට පත්වෙන්න ලැබුණා නම් හුඟක් හොඳයි, ඒත් මට එහෙම වුණේ නැහැ. ඒත් මම ඒ සීතල පොළවට, ඔයාගේ උණුසුම් සිරුරට, ඔයා මගේ ඇඟට ඇතුළුවෙන්න අරගෙන ආපු ඒ බලකිරීමට ආදරය කළා.

'අද මම ගියා මගේ පුස්තකාල පොත් ආපහු දෙන්න. ඉතිං පුස්තකාල පාලිකාව මගෙන් ඇහුවා මම මගේ සහකාරයට ලිංගිකත්වය ගැන කතා කළාද කියලා. මට හිතුණා කියන්න : මොන සහකාරයද? මොන වගේ ලිංගිකත්වයක් ගැනද ඔයා කතා කරන්නේ කියලා අහන්න. ඒත් එයාගෙන් ඒ වගේ දෙයක් අහන එක එච්චර සුදුසු වුණේ නැහැ. එයා මට හැම වෙලාවෙම ආදරෙන් සැලකුවා.

'මට ඇත්තටම ජිනීවාවලට ආපු දවසේ ඉඳන් හිටියේ සහකාරයෝ දෙන්නයි : එක් කෙනෙක් මගේ නරකම දෙය අවදි කළා. ඒ මම ඒකට එයාට ඉඩ දුන්නා වගේම බැගෑපත් වුණු නිසා. අනෙක් එක්කෙනා ඔයා, මාව ආපහු ලෝකෙ කොටසක් බවට පත් කළා. මම කැමතියි මගේ සිරුරේ කොතැනද ස්පර්ශ කරන්න ඕන, කොච්චර පීඩනයක්, කොච්චර වෙලාවකටද කියලා උගන්වන්න පුළුවන් වුණා නං... ඒ වගේම මම දන්නවා ඔයා ඒක විවේචනයක් විදිහට බාරගන්න එකක් නැති බව, නමුත් ඒක අපේ ආත්මයන් අතර සන්නිවේදනය ගොඩ නඟන්න තවත් ක්‍රමයක් විදියට සලකන බව. ආදරය කිරීමේ කලාව හරියට ඔයාගේ චිත්‍ර වගේ ශිල්පීය ක්‍රම, ඉවසීම, වගේම හැම දේටම වඩා දෙන්නෙක් ප්‍රගුණ කරන්න ඕන දෙයක්. මිනිස්සු සාම්ප්‍රදායිකව කියන ''රමණය කරනවා'' කියන දෙයින් එහාට යන්න නිර්භීතකම, වගේම ධෛර්යයත් ඕන''

මා තුළ හිටිය ගුරුවරයා නැවතත් ඇවිත් හිටියා. ඒත් මට ඒක අවශ්‍ය වුණේ නැහැ. ඒත්. රැල්ෆ් හාට් දැනගෙන හිටියා කොහොමද ඒ අවස්ථාව පාලනය කරන්නේ කියලා. මාත් එක්ක එකඟ වෙනවා වෙනුවට ඔහු පැය භාගයකට අඩු කාලයක් තුළ ඔහුගේ තුන්වෙනි සිගැරට්ටුවත් දල්වාගෙන මෙහෙම කිව්වා.

"මුලින්ම, ඔයා අද මෙහේ නවතිනවා"

ඒක ඉල්ලීමක් නෙමෙයි. නියෝගයක් වුණා.

"ඊළඟට, අපි ආපහු එකතු වෙනවා. හැබැයි මේ වතාවෙදි නම් වැඩි කලබලයක් නැතුව ගොඩක් ආසාවකින්. අන්තිමට, මම කැමතියි ඔයත් මීට වඩා හොඳට පිරිමි අඳුන ගන්නව නම්. "

වඩා හොඳින් පිරිමි අඳුන ගන්න? මම හැම රැයක්ම ගතකළේ සුදු, කළු, ආසියානු, යුදෙව්, මුස්ලිම්, කතෝලික, බෞද්ධ අයත් එක්කයි. රැල්ෆ් ඒ ගැන දැනගෙන හිටියේ නැද්ද?

මට සැහැල්ලුවක් දැනුණා. මම සතුටු වුණා නිකම් කතාබහ සාකච්ඡාවකට හැරුණු එක ගැන. එක මොහොතක මම මගේ පොරොන්දුව කඩකිරීම ගැන දෙවියන්ගෙන් සමාව ඉල්ලන එක ගැන පවා අවධානය යොමු කළා. එත් යථාර්ථය ආපහු ඇවිත් මගේ සිහිනය සම්පූර්ණයෙන්ම මතක තබා ගන්නා ලෙසත්, දෛවයේ උගුලට හසු නොවන ලෙසත් කිව්වා.

"ඔව්, පිරිමින්ව වඩා හොඳින් අඳුන ගන්න", මගේ මුහුණේ තිබුණු අවිනිශ්චිත බැල්ම දකිමින් රැල්ෆ් නැවතත් කිව්වා. "ඔයා කතා කරන්නේ ගැහැනු ලිංගිකත්වය ගැනනේ. ඔයාගේ සිරුර හරහා මගේ මාර්ගය තෝරාගන්න උදව් කරන එක ගැන, ඉවසීම, කාලය ගන්න එක ගැනනේ. මම එකඟ වෙනවා. ඒත් ඒකෙන් ඔයාට කල්පනා වෙන්නේ අපි වෙනස් අය වෙන එක අඩුම තරමේ කාලය පිළිබඳ ප්‍රශ්නයක් කියලද? ඔයා ඒ ගැන දෙවියන්ට පැමිණිලි කළා නම් හොඳයි.

"අපි මුණ ගැහෙන කොට මම ඔයාගෙන් ඉල්లුවා මට ලිංගිකත්වය ගැන කියලා දෙන්න කියලා. මොකද මගේ ලිංගික ආශාවන් හැමදෙයක්ම නැතිවෙලා ගිහිල්ලයි තිබුණේ. ඔයා දන්නවද ඒ ඇයි කියලා? එක්තරා කාලෙකට පස්සේ මගේ හැම ලිංගික සම්බන්ධතාවක්ම ඉවර වුණේ වෙහෙසකාරීත්වයකින් වගේම

අසහනකාරී විදියට. මොකද මට තේරුණා මට දීපු තරම්ම සතුටක් මම ආදරය කරපු ගැහැනුන්ට දෙන එක කොච්චර අමාරු දෙයක්ද කියලා.''

''මම ආදරය කරපු ගැහැනුන්ට'' කියන එකට මම කැමති වුණේ නැහැ. ඒත් මම කිසිම වෙනසක් නොපෙන්වන විදියට සිගරට්ටුවක් පත්තු කළා.

''ඔයාගේ ඇඟ පෙන්නන්න කියලා කියන්න මට ධෛර්යයක් තිබුණේ නැහැ. ඒත් මට ඔයාව මුණ ගැහුණාම මම ඔයාගේ ආලෝකය දැක්කා. මම එකපාරින්ම ඔයාට ආදරේ කළා. ඉතිං මට හිතුණා මගේ ජීවිතේ මේ කාලෙදි මටත්, මගේ ළඟින් රැඳෙන්න ඕන කියලා මම හිතන ගැහැනියටත්, අවංක වෙන එකෙන් මට කිසි දෙයක් නැතිවෙන්නේ නැහැයි කියලා.''

මගේ සිගරට්ටුව රසවත් වුණා. ඒත් එක්කම මට හිතුණා ඔහු මට වයින් ටිකකුත් වත්කරා නම් කියලා. ඒත් මට ඒ සංවාදයේ සම්බන්ධතාවය කඩන්න ඕන වුණේ නැහැ.

''ඔයා මාත් එක්ක කරපු විදියට කරලා මට කොහොමද ඒක දැනෙන්නේ කියලා හොයාගන්නවා වෙනුවට ඇයි පිරිමි ලිංගිකව එකතුවෙන එක ගැන විතරක් හිතන්නේ?''

''කවුද කිව්වේ අපි ලිංගික සම්බන්ධතා ගැන විතරක් හිතනවා කියලා? අපි අපේ ජීවිතෙන් අවුරුදු ගාණක් ගෙවන්නේ ලිංගික සම්බන්ධතා ඇත්තටම අපේ ජීවිතේට වැදගත් කියලා අපිටම ඒත්තු ගන්වන්නයි. අපි ආදරය ගැන ඉගෙන ගන්නෙ ගණිකාවන්ගෙන් එහෙමත් නැත්නම් කන්‍යාවන්ගෙන්; අපි අපේ කතා, ඇහුම්කන් දෙන ඕනම කෙනකුට කියනවා. වයසට ගියාම අපි ගැහැනුන්ට ඕන විදියේ අය කියලා අනෙක් අයට ඔප්පු කරලා පෙන්නන්න ළාබාල ආදරවන්තයන් ඉදිරියේ ආඩම්බරකම් පානවා.''

''ඔයා දන්නවද එකක්? ඒක ඇත්තටම ඇත්ත නෙමෙයි. අපිට කිසි දෙයක් තේරෙන්නේ නැහැ. අපි හිතනවා ලිංගික හැසිරීමයි ශුක්‍රාණු පිටකරන එකයි දෙකම එකක් කියලා. ඒත් ඔයා දැන් කිව්වා වගේ ඒක එහෙම නෙමෙයි. අපි ඉගෙන ගන්නේ නැහැ, මොකද අපිට ශක්තියක් නැහැ ගැහැනියකගෙන් අහන්න ඔයාගේ ඇඟ පෙන්නන්න කියලා. අපි ඉගෙන ගන්නේ නැහැ, මොකද

ගැහැනුන්ට ශක්තියක් නැහැ මේ මාව පේන විදිය කියලා කියන්න. පැවැත්මේ ප්‍රාථමික ඉවත් එක්ක අපි හිරවෙලයි ඉන්නේ. ඒක එහෙම තමයි. පේන විදියට විකාරයක් වුණත් දන්නවද මිනිහකුට ලිංගික සම්බන්ධතාවකට වඩා වැදගත් දේ මොකක්ද කියලා?''

මම හිතුවේ ඒ සල්ලි හරි බලය හරි කියලයි. ඒත් මම මුකුත් කිව්වේ නැහැ.

''ක්‍රීඩාව, මොකද මිනිහකුට තවත් මිනිහෙක්ගේ සිරුරක් හඳුනා ගන්න පුළුවන් නිසා. එකිනෙකා හඳුන ගන්න සිරුර දෙකක් අතර දෙබසක් විදියට අපිට ක්‍රීඩාව දකින්න පුළුවන්.

''ඔයාට පිස්සු.''

''සමහරවිට. ඒත් ඒකෙ තේරුමක් තියෙනවා. ඔයා කවදාවත් ඔයත් එක්ක නිදා ගනිපු පිරිමින්ගේ හැඟීම් ගැන හිතන්න නැවතිලා තියෙනවද?''

''ඔව් මම එහෙම කරල තියෙනවා. ඒ අය හැමෝම අනාරක්ෂිතයි. ඒ අය හැමෝම බයයි. ''

''බයටත් වඩා නරකයි, ඒ ගොල්ලො දන්නෙ සමාජය, යාළුවො, ගෑනු ඒ ගොල්ලන්ට හොඳයි කියපු දේවල් විතරයි. කාමය, කාමය, කාමය. ඒක තමයි ජීවිතේ පදනම, වෙළෙඳ දැන්වීම්වලට, අනික් මිනිස්සුන්ට, චිත්‍රපටිවලට, පොත්වලට. ඒකෙන් මොකක්ද කියවෙන්නේ කියලා කවුරුත් දන්නේ නැහැ. ඒ ගොල්ලො දන්නේ ඒක කරන්න ඕනෙ කියන එක විතරයි. එච්චරයි.''

ඇති! මම ඔහුට ලිංගිකත්වය ගැන පාඩම් කියා දෙන්න උත්සාහ ගත්තේ මාවම ආරක්ෂා කරගන්නයි.

ඉතිං අපේ වචන කොයිතරම් ඥානවන්ත වුණත්, ඔහුත් කරමින් හිටියේ ඒකමයි. - මොකද අපි දෙදෙනාගෙන් එක් අයකු හැම තිස්සෙම උත්සාහ ගනිමින් හිටියේ අනෙකා තුළ බලවත් හැඟීමක් ඇති කරවන්නයි - මේක හරිම මෝඩ වගේම අපේ සම්බන්ධතාවට තරම් නොවන ක්‍රියාවක් වුණා! මම ඔහුව මා වෙත ආකර්ෂණය කරගත්තා. මොකද - ඔහුට කියන්නට තිබෙන දේත්, මම මා ගැන සිතන දේත් නොසලකා - ජීවිතය මට බොහෝ

දේවල් කියාදී තිබුණු නිසා. ආරම්භයේදී හැම දෙයක්ම ආදරය සහ යටත්වීම වුණා. ඒත් ඊළඟට සර්පයා පෙනී සිට ඒවාට කිව්වා : ඔබ යටත් වූ දෙයම ඔබට අහිමි වෙනවා කියලා. ඒක මටත් එහෙම තමයි - මාව පාරාදීසයෙන් පළවා හැරියේ මම පාසලේ ඉන්නැද්දිමයි, ඉතිං එදා ඉඳන් මම සර්පයාට ඔහු වැරදි බවත්, ජීවත්වීම දේවල් සතුකර ගැනීමට වඩා වැදගත් බවත් කියන්නට මාර්ගයක් හොයමින් හිටියා. ඒත් සර්පයා නිවැරදියි. මම වැරදියි.

මම දණ ගසාගෙන ක්‍රමයෙන් ඔහුගේ ඇඳුම් ගලවා දමද්දී ඔහුගේ ශිෂ්ණය එතැන නිද්‍රාශීලීව ප්‍රතිචාරයක් නොමැතිව ඉන්නවා දැක්කා. මේ දේ ඔහුට කරදරයක් ඇති කළා කියලා පෙනුණේ නැහැ. ඉතිං මම ඔහුගේ දෙපතුලෙන් පටන් අරගෙන කලවා ඇතුළු පැත්තට වෙනකං සිපගත්තා. ඔහුගේ ශිෂ්ණය හිමින් හිමින් ප්‍රතිචාර දක්වන්න පටන් ගත්තා. ඊළඟට මම ඒක අල්ලාගෙන මගේ කට ඇතුළට දමා ගත්තා - කිසිම කලබලයකින් තොරවම, එතකොට ඔහු ''හොඳයි, දැන් වැඩේ පටන් ගන්න'' කියලා කියන එකක් නැති හින්දා - පෙරළා කිසිවක් බලාපොරොත්තු නොවන කෙනෙක් වගේ මම ඒක හැකි උපරිම මෘදු බවකින් සිපගත්තා. ඒ වගේම නිශ්චිතවම කිසිවක් බලාපොරොත්තු නොවීම තුළම මට අවශ්‍ය සියලු දේම ඒ තුළ ගැබ්වී තිබුණා. මම දැක්කා ඔහු ප්‍රබෝධමත් වෙන හැටි. ඊළඟට ඔහු මගේ පියයුරු තුඩු ස්පර්ශ කරන්නට පටන් ගත්තා. ඔහුගේ ඇඟිලි තුඩු ඒවා වටා රවුමට යැව්වේ හරියට ඔහු එදා රෑ සම්පූර්ණ අඳුරේ ඉඳගෙන කළා වගෙයි. නැවතත් ඔහුව මගේ දෙපා අතර නැත්නම් මගේ මුව තුළ හෝ මාව ඔහුට අයිති කරගන්නට අවශ්‍ය වුණු ඕනෑම විදියක ක්‍රමයකට, මට ඔහුව අවශ්‍ය වන ලෙසකට පත් කළා.

ඔහු මගේ ජැකට්ටුව ගැලෙව්වේ නැහැ. ඔහු මාව හාන්සි කෙරුවේ මගේ මුහුණ ඉස්සරහට තියෙන විදියටයි. මගේ සිරුරේ උඩ කොටස මේසය මත වැතිරී තිබූ අතර මගේ දෙකකුල් තවමත් පොළව මත තිබුණා. ඔහු මගේ සිරුර විනිවිද ගියේ හිමින්. කලබලයකින් තොරවයි, තව දුරටත් මාව අහිමිවීමේ බියකින් තොරවයි. මොකද, ඇතුළාන්තයෙන්ම මේක හීනයක් බවත්, එය හීනයක් ලෙසින්ම රැඳෙන අතර කිසිදා සැබෑ නොවන්නක් බව ඔහුත් අවබෝධ කරගෙන හිටියා.

ඒ අතරතුර මට ඔහු මා තුළින් දැනෙද්දී මට ඔහුගේ අත් මගේ පියයුරු, මගේ තට්ටම් මත හරියට ගැහැනියක් පමණක් දන්නා විදියට ස්පර්ශ කරන හැටි දැනුණා. ඊළඟට මට තේරුණා අපි එකිනෙකා වෙනුවෙන් නිර්මාණය වී තිබුණු බව. මොකද, ඔහුට ගැහැනියක් වෙන්නට පුළුවන් වුණා. හරියට ඔහු දැන් හිටියා වගේ. ඒ වගේම මටත් පිරිමියෙක් වෙන්නට පුළුවන්කම තිබුණා, හරියට අපි කතා කරන කොට එහෙමත් නැත්නම් ඒ අහිමිවුණු ආත්මයන් දෙකේ සම්බන්ධය හොයන්න මුල පිරීමේදී වගේ. ඒ නැතිවුණු අසම්පූර්ණ, ශේෂයන් දෙක විශ්වීය පරිපූර්ණත්වයට අවශ්‍ය වුණා.

ඔහු එකවර මගේ සිරුර විනිවිද යමින් මාව ස්පර්ශ කරද්දී මට දැනුණේ, ඔහු මේ දේ කරන්නේ මට විතරක් නෙමෙයි, මුළු ලෝකෙටම කරන දෙයක් විදියටයි. අපට කාලය, මෘදුබව හා අන්‍යොන්‍ය අවබෝධය තිබුණා. පිටවී යන්න සූදානමින් සූට්කේස් දෙකක් අරගෙන ආපු එකත්, ඒත් එක්කම හදිසියේම බිමට ඇද දමා බිහිසුණු හදිසියකින් වගේ සිරුර විනිවිද ගිය එකත් හොඳයි. ඒත් එක්කම මේ රාත්‍රිය කිසිදා අවසන් නොවන එකක් බවත්, එතැන කුස්සියේ මේසය මත තව දුරටත් සුරතාන්තය පමණක් ඒ තුළ වූ අරමුණ නොවන බවත් එය මේ හමුවීමේ ආරම්භය බව දැන සිටීම වඩාත් හොඳ වුණා.

ඔහු මා තුළ චලනය වීම නැවැත්තූ අතර ඔහුගේ ඇඟිලි ඉතා ඉක්මනින් එහා මෙහා ගිය අතර මම පළවෙනි, දෙවෙනි, තුන්වෙනි වරටත් පෙළට සුරතාන්තයට පැමිණියා. මට හිතුණා ඔහුව තල්ලු කරලා දමන්නට. මොකද සතුටේ වේදනාව හරිම ප්‍රබල එකක් වුණා. ඒ නිසා ඒක හරිම වේදනාකාරී වුණා. ඒත් මම ඉවසුවා. මම ඒක ඒ ආකාරයෙන්ම බාරගත්තු අතර තවත් වරක්, දෙවරක් නැත්නම් ඊටත් වඩා වාර ගණනක් උනත් සුරතාන්තයට පත්වෙන්නට ඔරොත්තුදී ඉන්නට මට පුළුවන් වුණා.....

... ඊළඟට හදිසියේම යම් එළියක් වැනි දෙයක් මා තුළ පුපුරා ගියා. තව දුරටත් මම මා නොවුණු අතර මම දැනගෙන සිටි සියල්ලේම අප්‍රමාණ උත්කර්ෂය බවට පත්වුණා. ඔහුගේ අත්වලින් හතරවෙනි වතාවටත් මාව සුරතාන්තයට රැගෙන යද්දී මම සියල්ල නිසංසල වූ තැනකට ඇතුළු වුණා. ඒත් එක්කම මගේ පස්වෙනි සුරතාන්තයේදී මම දෙවියන් හඳුනා ගත්තා. ඊළඟට නැවත වතාවක්

ඔහු මා තුළ චලනය වෙන්නට පටන් ගන්නවා මට දැනුණා. ඒ වුණත් ඔහුගේ අත් තවමත් නතර වුණේ නැහැ. ඉතිං මම ''අහෝ දෙවියනේ '' කියලා කිව්වා. ඊළඟට එන්නේ අපාය වුණත් ස්වර්ගය වුණත් ඒ ඕනෑම දෙයකට මම යටත් වුණා.

ඒක ස්වර්ගයක්. මම පොළව, කඳු, ව්‍යාඝ්‍රයෝ, වැව්වලට ගලායන ගංගාවන්, මුහුද බවට හැරෙන වැව් බවට පත්වුණා. ඔහු දැන් වේගයෙන්, වේගයෙන් තෙරපන්නට වුණා. වේදනාව සතුටත් එක්ක මිශ්‍ර වුණා. ඉතිං මට කියන්න තිබුණා : ''මට දරාගෙන ඉන්න බැහැ ''යි කියලා. ඒත් ඒක අසාධාරණ එකක් වෙන්න ඉඩ තිබුණා. මොකද, එතැන් ඉඳන් අපි දෙන්නාම එක්කෙනෙක් වුණු නිසා.

මම ඔහුට අවශ්‍ය තරම් කාලයක් මාව විනිවිද යන්නට ඉඩ හැරියා. ඔහුගේ නියපොතු දැන් මගේ තට්ටම් හාරමින් ඇතුළට ගමන් කළා. ඒත් එක්කම මම කුස්සියේ මේසය මත මුහුණ පහතට හෙළාගෙන, ලිංගික එකතුවීමකට මේ තරම් හොඳ තැනක් ලෝකයේ තවත් නැතුව ඇතියි කියලා හිතුවා. නැවතත් මේසයේ ''කිරිස් කිරිස් '' හඬ, ඔහුගේ හුස්ම ගන්නා හඬ, තවත් වේගයෙන් වැඩිවුණා. ඔහුගේ නියපොතු මාව පහුරු ගෑවා, මගේ ලිංගය ඔහුගේ ලිංගය මතත්, මසට මසත්, අස්ථියට අස්ථියත් තදින් ගැටුණා. ඒත් එක්කම මම ආපහු සැරයක් සුරතාන්තයක් ලබන්නට ආසන්න වුණා. ඔහුටත් එයම සිදුවන්නට ආසන්න වුණා. ඉතිං මේ කිසිවක්, ඇත්තටම මේ කිසිවක් බොරුවක් වුණේ නැහැ.

''ආ....හ් ''!

ඔහු දැනගෙන හිටිය ඔහු කියන දේ ගැන. ඒ වගේම මම දැනගෙන හිටියා මේ තමයි මොහොත කියලා. මට දැනුණා මගේ මුළු සිරුරම මෘදුවීගෙන යනවා. මම මම වීමෙන් වැළකුණා - මම කිසිවක් තව දුරටත් ඇසීමෙන්, දැකීමෙන් හෝ රසවිඳීමෙන් තොරවුණා. මට දේවල් දැනුණේ යන්තම්නුයි.

ඉතිං මම ඔහු තෘප්තියට පැමිණි මොහොතේදීම තෘප්තියට පැමිණියා. ඒක මිනිත්තු එකොළහක් නෙමෙයි. ඒක අනන්තයක්. ඒක හරියට අපි දෙන්නම අපේ ශරීරවලින් මිදිලා අති මහත් ප්‍රීතියෙන්, අවබෝධයෙන් වගේම මිත්‍රත්වයෙන් පාරාදීසයේ උයන්වල ඇවිදගෙන ගියා වගෙයි. මම ගැහැනියත් - පිරිමියත් ඔහු

පිරිමියත් - ගැහැනියත් වුණා. මම දන්නේ නැහැ ඒක කොච්චර වෙලා පැවතුණාද කියලා. ඒත් හැම දෙයක්ම යාඥාවකදී වගේ නිහඬ වුණා. ඒක හරියට විශ්වයත්, ජීවිතයත් නිසි පැවැත්ම නවතා කිසියම් පූජනීය, නිර්නාමික, සදාකාලික යමකට පරිවර්තනය වුණා වගේයි.

ඒත් කාලය නැවත පැමිණියා මට ඔහුගේ කෑ ගැසීම ඇසුණා. ඒ වගේම මමත් ඔහුත් එක්කම කෑගැහුවා. මේසයේ කකුල් පොළව මත ගැටෙන්නට පටන් ගත්තා. ඒත් ඒ ලෝකයේ අනෙක් උදවිය මොනවා හිතාවිද්දයි කියලා අපිට කරදරයක් වුණේ නැහැ.

හදිස්සියේම ඔහු මගෙන් අයින් වෙලා හයියෙන් හිනාවුණා. මට මගේ යෝනිය හැකිළෙනවා දැනුණා. ඒත් එක්කම මමත් ඔහුගේ දෙසට හැරිලා හයියෙන් හිනාවුණා. අපි ආදරයෙන් වැළඳ ගත්තේ හරියට අපි මුළු ජීවිත කාලය පුරාවටම පළමු වතාවට ලිංගිකව එකතුවුණා වගේ හැඟීමකිනුයි.

''මට ආශිර්වාද කරන්න'' ඔහු කිව්වා.

මම මොනවද කරන්නේ කියලා හරියට නොදැනගෙනම ඔහුට ආශිර්වාද කළා. මමත් ඔහුට ඒ දේම කරන්න කියලා කිව්වා. ''ආදරය පිරුණු මේ ගැහැනියට ආශිර්වාද වේවා''යි කියමින් ඔහුත් එහෙම කළා. ඒවා බොහෝම ලස්සන වචන වුණා. මිනිත්තු එකොළහක කාලයක් ගැහැනියකුත් පිරිමියකුත් කොතරම් දුරක් රැගෙන යනවද කියන එක ගැන තේරුම් ගත නොහැකිව අපි නැවතත් සිප වැළඳගෙන එතැනම රැඳුණා.

අපි දෙන්නාගෙන් කාටවත්ම මහන්සියක් දැනුණේ නැහැ. අපි සාලයට ගියාට පස්සේ ඔහු තැටියක් වාදනය කර හරියටම මම හිතාපු ආකාරයකටම දෙයක් කළා : ඔහු උඳුන දල්වා මට වයින් ටිකක් වත්කළා. ඊළඟට ඔහු පොතක් විවෘත කරලා කියවන්නට පටන් ගත්තා.

ඉපදෙන්නට කාලයක් වගේම මියැදෙන්නට කාලයක්

පැළ කිරීමට කාලයක් වගේම

පැළ කෙරූ දෙය නෙළන්නට කාලයක්.

වේදනා විඳින්නට වගේම සුවපත් වෙන්නට කාලයක්

බිඳ දැමීමට කාලයක් වගේම ගොඩනැඟීමට කාලයක්

වැලපීමට සේම සිනාසීමට කාලයක්
දැඩි බව අත්හැර දමන්නත්, දැඩි බවට පත්වෙන්නත් කාලයක්
ආදරෙන් වැළඳගන්නට කාලයක් වගේම
ඒ වැළඳ ගැනීමෙන් වැළකී සිටින්නට කාලයක්
ලබාගන්නට කාලයක් වගේම අහිමි වන්නට කාලයක්
තබා ගැනීමට කාලයක් වගේම ඉවත ලන්නට කාලයක්
ඉරෙන්නට වගේම මහන්නට කාලයක්
නිහැඬියාවට කාලයක් සේ ම භාෂණයට කාලයක්
ආදරයට කාලයක් වගේම වෛරයට කාලයක්
යුද කාලයක් වගේම සාමයේ කාලයක්

මේක හරියට සමුගැනීමක් වගේ වුණා. ඒත් ඒක මම මගේ ජීවිත කාලය පුරාවටම අත්විඳපු ආදරණීයම සමුගැනීම වුණා.

මම ඔහුව සිපගත් අතර ඔහු මාව සිපගත්තා. අපි ගිනි උදුන ළඟ බුමුතුරුණ මත වැතිරුණා. මම තවමත් පූර්ණත්වයට පත්වීමේ හැඟීමෙන් පිරී හිටියා. හරියට ඒ මම හැමදාම බුද්ධිමත්, ප්‍රීතිමත්, පරිපූර්ණ ගැහැනියක් වී හිටියා වගෙයි.

''ඔයා කොහොමද ගණිකාවක් එක්ක ආදරෙන් බැඳුණේ?''

''මට ඒක ඒ මොහොතේ තේරුණේ නැහැ. ඒත් මම ඒ ගැන එදා ඉඳන් හිතුවා. මම හිතන්නේ ඔයාගේ ශරීරය ගැන දැන ගැනීමෙන් විතරක් ඒක කවදාවත් මගේ විතරක් වෙන්නේ නැහැ. මට ඔයාගේ ආත්මය දිනා ගන්න එක ගැනත් අවධානය යොමු කරන්න සිද්ධ වුණා. ''

''ඔයාට ඉරිසියා හිතුණේ නැද්ද ?''

''ඔයාට කියන්න බැහැ වසන්තයට : දැං ඇවිත් පුළුවන් තරං කාලයක් නවතින්න'' කියලා. ඔයාට කියන්න පුළුවන් : ''එන්න, ඇවිත් ඔයාගේ බලාපොරොත්තුවත් එක්ක මට ආශිර්වාද කරලා ඔයාට පුළුවන් තරං කාලයක් රැඳෙන්න කියලා විතරයි.''

වචන සුළඟේ නැතිවී ගියා. ඒත් මට ඒවා අහන්න ඕන වුණා, ඒ වගේම ඔහුටත් ඒවා කියන්න උවමනා වුණා. ඒ කොයි වෙලාවෙද කියලා නොදැන හිටියත් මට නින්ද ගියා. මම සිහිනයක් දැක්කා, ඒ අවස්ථාවක් ගැන හෝ පුද්ගලයෙක් ගැන හෝ නොවෙයි. නමුත් ඒ වාතයට මුසුවෙලා පිරී ඉතිරී ගිය විලවුන් සුවඳ ගැනයි.

# 32

මරියා ඇස් ඇරිනකොට හිරු එළිය විවර වුණු හිඩැස් අතරින් කිරණ සේ වැටෙමින් තිබුණා.

"මම ඔහුත් එක්ක දෙසැරයක්ම රමණය කළා" ඇගේ අනෙක් පසින් නින්දේ සිටි මිනිසා දෙස බලමින් ඇය කල්පනා කළා. "තවමත් ඒක හරියට අපි හැමදාම එකට හිටියා වගෙයි. ඔහු හැමදාම මගේ ජීවිතය, ආත්මය, ශරීරය, මගේ ආලෝකය මගේ වේදනාව දැනගෙන හිටියා වගෙයි."

ඇය නැගිට මුළුතැන්ගෙට ගියා කෝපි ටිකක් හදන්න. එතකොට තමයි ඇයට සාලයේ තිබුණු සූට්කේස් දෙක දැකලා සියල්ල නැවත මතක් වුණේ. ඇගේ පොරොන්දුව, ඇය පල්ලියේදී කියූ යාතිකා, ඇගේ ජීවිතය, ඒත් එක්කම සැබෑ වීමටත් එහි සුන්දරත්වය අහිමි වීමටත් බල කෙරුණු සිහිනය, පරිපූර්ණ මිනිසා, ශරීරයත් ආත්මයත් එකක් එකිනෙකට සමාන දෙයක් වගේම සතුටත් සුරතාන්තයත් එකිනෙකට වෙනස් වුණු දේවල් වෙච්ච ආදරය.

ඇයට නවතින්න පුළුවන්කම තිබුණා. ඇයට තවත් අහිමි වෙන්නට දෙයක් තිබුණේ නැහැ. තිබුණේ මායාවක් විතරයි. ඇයට කවිය මතක් වුණා. වැලපෙන්නට කාලයක් වගේම හිනැහෙන්නට කාලයක්.

ඒත් ඒකේ තවත් පේළියක් තිබුණා. "වැළඳ ගන්නට කාලයක් වගේම වැළඳ ගැනීමෙන් වැළකෙන්නට කාලයක්" ඇය කෝපි හැදුවා, මුළුතැන්ගෙයි දොර වහලා ටැක්සියකට කතා කළා. ඇය ඇයව මෙතෙක් දුර අරගෙන ආපු, ඇගේ ආලෝකයේ ජීවයට ප්‍රභවයක් වුණු, ඇයට සමුගැනීමට සුදුසුම වෙලාව කියූ, ඇයව ආරක්ෂා කරමින් ඒ රාත්‍රියේ මතකය හැමදාටම අගනා වස්තුවක්

ලෙස තබාගන්නට උදව් වුණු, ඈ සතු සියලු ආත්ම ශක්තීන්ම රැස්කර ගත්තා. ඇය ඇඳ පැළඳ ගෙන සූට්කේස් දෙකද ඔසවාගෙන පිටවුණේ ඔහු අවදිවී ඇයට නවතින ලෙස කියනු ඇතැයි යන බලාපොරොත්තුවට විරුද්ධව බලාපොරොත්තු වෙමිනුයි.

ඒත් ඔහු අවදිවුණේ නැහැ. ඇය ටැක්සිය එනකං පිටත රැඳී හිටපු අතරේ මල් කළඹවල් ටිකක් රැගෙන අහිගුණ්ඨිකයෙක් ඇයව පසුකරගෙන ගියා.

''මල් පොකුරක් ගන්නවද ? ''

මරියා මල් පොකුරක් මිලදී ගත්තා. එය සරත් සෘතුව පැමිණීමේත් ග්‍රීස්ම සෘතුව අවසන් වීමේත් සලකුණක් වුණා. ඒක ජිනීවාවල පදික වේදිකාවල එළිමහන් ආපනශාලා මේස ඇරීත් , උද්‍යානවල නැවත වරක් ඇවිදිමින් , අව්ව තපිමින් සිටින මිනිසුන්ගෙන් පිරී ගොසින් ද සෑහෙන්න කාලයක් ගතවී තිබුණා. ඒත් ඒක ප්‍රශ්නයක් වුණේ නැහැ. මොකද ඇය සියල්ල හැරදමා යෑම තෝරාගෙන තිබුණු නිසා දුක්වීමට කිසිම හේතුවක් තිබුණේ නැහැ.

ඇය ගුවන් තොටුපොළට පැමිණියා. තවත් කෝපි කෝප්පයක් බීලා පැරීසිය බලා යන ඇගේ ගුවන් යානය එනතෙක් පැය හතරක වෙලාවක් බලාගෙන හිටියේ කුමන හෝ මොහොතක ඔහු පැමිණෙතැයි කල්පනා කරමිනුයි. මොකද ඔවුන් නින්දට වැටෙන්නට කලින් කොයි මොහොතකදී හරි ඇය ඇගේ ගුවන් ගමන් වෙලාව ඔහුට කියා තිබුණා. එහෙම තමයි හැම වෙලාවෙම චිත්‍රපටවල සිද්ධවෙන්නේ... ගැහැනිය ගුවන් යානයට ගොඩ වෙන්නට ඔන්න මෙන්න කියා තිබෙන අවසාන මොහොතේදී පිරිමියා ඇය වෙත දුවගෙන එනවා, ඇය වටා දෑත් යවා ඇයව සිපගන්නවා. සතුටු සිනා මැද ගුවන් යානා කාර්යය මණ්ඩලය දෙස සතුට මිශ්‍රිත බැල්මක් හෙළා ඇයව නැවතත් ඔහුගේ ලෝකයට රැගෙන යනවා. ''නිමි'' කියන වචන තිරයේ දිස්වෙනවා. ප්‍රේක්ෂාගාරය දන්නවා එතැන් පටන් ඔවුන් හැමදාම සතුටින් ජීවත් වෙනවා කියලා.

''චිත්‍රපටි කවදාවත් ඊළඟට මොකක්ද වෙන්නේ කියලා කියන්නේ නැහැ.'' ඇයව සනසා ගන්නට උත්සාහ කරමින් ඇය

හිතුවා. විවාහය, ඉවුම් පිහුම්, ළමයි, තව දුරටත් නිතර නිතර සිදු නොවන ලිංගික එකතුවීම්, ඔහුගේ අනියම් බිරිඳ ගැන පළමු සලකුණ සොයා ගැනීම, ඔහුට අභිමුඛ වෙන්නට තීරණය කිරීම, නැවත එවැනි දෙයක් සිද්ධ නොවෙන බවට ඔහුගේ පොරොන්දුව, වෙනත් පෙම්වතියක් ගැන ලැබෙන දෙවන සලකුණ, නැවතත් අභිමුඛ වීම, මේ වතාවේදී ඔහු දක්වන්නේ අඩු උද්යෝගයක්. ඒ වගේම කලාතුරකින් තමයි ඔහු ඇයට ආදරෙයි කියලා කියන්නෙත්. තුන්වෙනි පෙම්වතිය ගැන ලැබෙන තුන්වැනි සලකුණ. කිසිවක් නොකියන්නට තීරණය කිරීම. ඇය කිසිවක් නොදන්න බවට හැඟවීම, මොකද ඒ ඔහු තව දුරටත් ඇයට ආදරය නොකරන බවත් ඇයට ඕනෑම මොහොතක පිටවී යන්නට පුළුවන් බවත් ඔහු ඇයට කියන්න පුළුවන් හින්දා.

නැහැ, චිත්‍රපටි කවදාවත් ඒක පෙන්නන්නේ නැහැ. ඒ ගොල්ලො ඒවා සැබෑ ජීවිතය පටන් ගන්න කලින් ඉවර කරනවා. හොඳම දේ තමයි. ඒවා ගැන වැඩිය නොහිතා ඉන්න එක.

ඇය පළමුවෙනි, දෙවෙනි, තුන්වෙනි සඟරාව කියෙව්වා. අනන්තයක් තරම් වූ කාලයක් ගුවන් තොටුපොළ විවේකාගාරයේ ගත කිරීමෙන් පසු ඔවුන් ඇගේ ගුවන් යානය පිළිබඳව නිවේදනය කළා. ඉතිං ඇය ගුවන් යානයට නැග්ගා. ඇය ආරක්ෂක බඳ පටිය තද කරගන්න අතරේ, ඇගේ උරහිසේ රැඳෙන අතක්, හැරී බලන විට ඔහු ඇය දෙස සිනාසෙමින් බලා සිටින ඒ ජනප්‍රිය ජවනිකාව තවමත් සිතින් මවා ගත්තා.

කිසිවක් සිදුවුණේ නැහැ.

ඇය ජිනීවා සහ පැරීසිය අතර කෙටි ගුවන් ගමනේදී නින්දට වැටුණා. ගෙදර ගියාට පස්සේ මොනවද ඔවුන්ට කියන්නේ, මොන වගේ කතාද ගොතන්නේ කියලා හිතන්න ඇයට කාල වේලාව තිබුණේ නැහැ. ඒත් තමන්ගේ දුව නැවත පැමිණීමත්, ගොවිපොළක් ලැබීමත්, ඔවුන් ඉදිරියේ ඇති සුවපහසු සැඳෑ සමයත් පිළිබඳව ඇගේ දෙමාපියන් නම් බොහෝ විට සතුටු වේවි.

ගුවන් යානය ගොඩ බස්වන විට ඇතිවුණු ගැස්සීමෙන් ඇය ඇහැරුණා. එය බිම දිගේ බොහෝ වේලාවක් ගමන් කළා. ඒත් එක්කම ඇය වෙතට ආ ගුවන් සේවිකාවක් ඇය ගුවන්

පර්යන්තය වෙනස් කළ යුතු බව කිව්වා. මොකද ඒ බ්‍රසීලය බලා යන ගුවන් යානය පිටත් වෙන්නේ පර්යන්ත F වලින් නිසාත් ඇය සිටියේ පර්යන්ත C වලත් නිසායි. ඒත් කලබල වෙන්න දෙයක් තිබුණේ නැහැ, කිසිම ප්‍රමාදවීමක් තිබුණේ නැහැ. ඇයට කාලය ඉතිරිවෙලා තිබුණා. ඒ වගේම ඇයට යාමට අවශ්‍ය තැන ගැන සැකයක් තිබුණා නම් ගුවන් තොටුපොළ කාර්යය මණ්ඩලය ඇයට උදව් කරන්නට හිටියා.

මඟීන් ගොඩ කරනා පාලම රඳවන අතරේ මිනිසුන්ට තමා පැරීසියට ගිය බව කියන්නට පින්තූර ටිකක් විතරක් ගන්නටත්, පැරීසියේ දවසක් ගත කිරීමේ වටිනාකමක් තියෙනවද කියලාත් බැලුවා. ඇයට හිතන්නටත්, ඇය සමඟ තනි වෙන්නටත්, ඇගේ හදවතේ ගැඹුරුම තැන තැන්පත් වුණු පෙරදින රාත්‍රියේ මතකයන් වළ දමන්නටත් ඇයට කාලය අවශ්‍ය වුණා. ඉතිං එතකොට ඇයට තමා ජීවත්වෙන බව දැනෙන්නට වුවමනා ඕනෑම මොහොතක ඒවා පාවිච්චි කරන්න පුළුවන්කම තිබුණා. ඔව්, පැරීසියේ දවසක් කියන එක කදිම අදහසක්. ඇය එදින නොයා ඉන්න තීරණය කළොත් ඊළඟට බ්‍රසීලයට යන්න ගුවන් යානය තියෙන්නේ කීයටද කියලා ඇය ගුවන් සේවිකාවකගෙන් ඇහුවා.

ගුවන් සේවිකාව ඇගෙන් ටිකට් පත ඉල්ලාගෙන බලා කනගාටුදායක ලෙස ඇයට අතරමග නතරවීමකට අවසර නැතැයි කිව්වා. තනිවම එවැනි සුන්දර නගරයක් නැරඹීමට යාම ඇයව නිකම් තවත් අපේක්ෂා භංගත්වයට පත් කරාවිය කියන සිතුවිල්ලෙන් මරියා ඇයවම සනසා ගත්තා. ඇගේ නොසැලෙන ගතියත්, අධිෂ්ඨානශීලී ගතියත් තවමත් ඇය දරාගෙන සිටි නිසා ඇයට අවශ්‍ය වුණේ නැහැ එවැනි සුන්දර දර්ශනයක් නැරඹීමෙන් කෙනෙකු ළඟ නැතිවීම දැඩිව දැනීමෙන් ඒ සියල්ල විනාශ කරගන්න.

ඇය ගුවන් යානයෙන් බැහැල ආරක්ෂක කපොලු අතරින් ගියා. ඇගේ ගමන්මලු කෙළින්ම ඊළඟ ගුවන් යානයට යන නිසා ඇයට ඒ ගැන වද වෙන්නට අවශ්‍යතාවක් තිබුණේ නැහැ. දොරවල් ඇරුණා. මඟීන් මතුවෙලා ඔවුන්ව පිළිගන්නට ඇවිත් හිටපු බිරිඳ, මව, දරුවෝ, කවුරුන් හෝ සිප වැළඳ ගත්තා. මරියා ඒවා නොදැක්ක බව හැඟෙව්වා. ඒ අතරම ඇගේ තනිකම ගැන කල්පනා කළා. ඒ

ඇරුණාම මේ වතාවේ ඇයට ඇගේ හුදෙකලාවේ නීරස බව ටිකක් අඩු කරන, ජීවිතය ටිකක් ලෙහෙසි කරන රහසක් සිහිනයක් තිබුණා.

"අපිට ඕනෑ වෙලාවක පැරීසිය තියෙනවා "

ඒ කටහඬ සංචාරකයන්ට මඟ පෙන්වන්නකුගේ හරි ටැක්සි රියදුරකුගේ හරි එකක් වුණේ නැහැ. එය ඇහෙද්දි ඇගේ කකුල් වෙව්ලන්න වුණා.

"අපිට ඕන වෙලාවක පැරීසිය තියෙනවා?"

"ඒක මම කැමති චිත්‍රපටියකින් උපුටා ගත්තු පේළියක්. ඔයා කැමතිද අයිෆල් කුලුන බලන්න?"

ආහ් ඔව්. ඒක ඇය බොහෝම ආසාවෙන් හිටපු එකක්. රැල්ෆ් රෝසමල් පොකුරක් අරගෙන හිටියා. ඒ වගේම එළියේ ඉඳන් පැමිණි සීතල සුළඟ ඇයට එතැන වාඩිවෙලා ඉන්න එක දුෂ්කර කරද්දි ඔහු ඇයව චිත්‍රයට නඟපු පළමු දිනයේදීම ඇය දුටු ඒ එළියෙන් ඔහුගේ ඇස් පිරී තිබුණා.

"ඔයා කොහොමද මට කලින් මෙහාට ආවේ?"

අමාරුවෙන් විස්මය හංගන්න උත්සාහ කරමින් ඇය ඇහුවා. ඇයට යන්තමින්වත් උත්තරයකට උනන්දුවක් තිබුණේ නැහැ. ඒත් ඇයට හුස්ම ගන්නට අවකාශයක් වුවමනා වුණා.

"මම ඔයා ජිනීවාවල ගුවන් තොටුපොළේ සඟරාවක් කියවමින් ඉන්නවා දැක්කා. ඒත් මම හරිම අසාධ්‍ය රොමෑන්තික මනුස්සයෙක්. ඉතිං මම හිතුවා හොඳම දේ පැරීසියට තියෙන ඊළඟ ගුවන් යානය අල්ලගන්න එකත්, ගුවන් තොටුපොළේ පැය තුනක් තිස්සේ ඔහේ ඇවිද ඇවිද, පැමිණීමේ තීරය දිහා සැරින් සැරේ බලන් ඉඳලා, මල් ටිකක් අරගෙන රික් එයාගේ පෙම්වතියට කැසබ්ලැන්කාවලදී කියන වචන ටික කියනකොට ඔයාගේ මූණ පුදුම වෙන හැටි බලන එකත් කියලා. ඒ වගේම මට හොඳටම සහතිකයි මේක තමයි ඔයාට ඕන වුණේ කියලා. ලෝකයේ තියෙන සියලුම අධිෂ්ඨානයත්, ආත්ම ශක්තියත් එකතු වුණත් ආදර ක්‍රීඩාවේ රීති එක මොහොතකින් ඊළඟ මොහොතට වෙනස්වෙන එක නවත්තන්න ඒක ප්‍රමාණවත් මදි. චිත්‍රපටිවල චරිත වගේ

රොමෑන්තික් වෙන එක හරිම ලේසියි. ඔයා එහෙම හිතන්නෙ නැද්ද?

ඒක ලේසිද, අපහසුද කියන එක ගැන ඇයට කිසිම අදහසක් තිබුණේ නැහැ. ඇයට මේ පුද්ගලයා මේ මොහොතේ පමණක් මුණ ගැසුණත්, පැය කීපයකට කලින් ඒ ගොල්ලෝ පළමු වතාවට රමණයේ යෙදුණත්, ඔහු ඇයව ඔහුගේ මිතුරන්ට පෙරදින සැන්දෑවේ හඳුන්වා දුන්නත්, ඔහු ඇය වැඩ කරපු රාත්‍රී සමාජ ශාලාවට දිනපතා ආ අයෙක් වුණත්, ඔහු දෙවරක් විවාහ වූ අයෙක් වුණත්, ඇය ඒ කිසිවක් තැකුවේ නැහැ. මේවා කිසිවක් හරියටම නිර්දෝෂී බවේ සහතිකයන් වුණේ නැහැ. අනෙක් අතට ඇයට දූන් ගොවිපොළක් මිලදී ගන්නට අවශ්‍ය තරම් මුදලකුත්, ඇගේ තරුණ කාලය ඇය ඉදිරියේ එහෙමමත්, ජීවිතය ගැන විශාල අත්දැකීම් ප්‍රමාණයකුත්, විශාල අධ්‍යාත්මික නිදහසකුත් තිබුණා. කොහොම වුණත්, හැම වෙලාවෙම දෛවය ඇය වෙනුවෙන් තේරීම් කරනවා වගේ ආපහු සැරයක් ඇය අවදානමක් ගන්න හිතුවා.

සිනමා තිරයේ '' නිමි '' කියලා දර්ශනය වුණාට පස්සේ, ඊළඟට මොකද වෙන්නේ කියන දෙයට අතිශයින්ම උනන්දු නොවෙමින් ඇය ඔහුව සිපගත්තා.

ඒත් කවදා හරි, කවුරු හරි ඇගේ කථාව කියන්න තීරණය කළොත් ඇය ඔවුන්ට කියාවි, ඒක හරියට හැම සුරංගනා කථාවක්ම පටන් ගන්නවා වගේ පටන් ගන්න කියලා : එකෝමත් එක කාලෙක....

• • •

# පසුවදන

අනෙක් හැම කෙනකුටම වගේම - මේ කාරණාවෙදි මට එය සාමාන්‍යකරණය කිරීම ගැන කිසිම ගැටලුවක් නැහැ. ලිංගිකත්වයේ පූජනීය ස්වභාවය හොයා ගන්නට මට බොහෝම කාලයක් ගතවුණා. මගේ තරුණ කාලය ගතානුගතික හා මර්දනකාරී යුගයක් සමඟම වුණත් සුවිශාල නිදහස් කාලවකවානුවකින්, මහත් සොයා ගැනීම්වලින් හා අසීමාන්තික දෙයින් පිරී තිබුණා - ඒ අසීමාන්තිකත්වය වෙනුවෙන් ගෙවන්නට සිදුවූ වන්දිය සමඟ පැමිණි ප්‍රතිඵල බොහෝම කටුක දේවල් වුණා.

ඒ අසීමාන්තිකත්වයේ දශකයේදී (1970 ගණන්වල) අර්වින් වොලස් නම් ලේඛකයා ලිංගිකත්වය ගැන පොතක් (මිනිත්තු හතක්) ප්‍රකාශ කිරීමට ඇති අයිතිය වළකමින් ඇමරිකානු වාරණය විසින් ගත් අගෞරවනීය නීතිමය ක්‍රියා පිළිබඳ විග්‍රහ කරමින් පොතක් ලියුවා.

වොලස්ගේ නවකතාවේ අන්තර්ගතය තුළ වාරණය පිළිබඳ සංවාදය ඉස්මතුකොට තිබුණේ යන්තමින්, ඒ වගේම ලිංගිකත්වය පිළිබඳ විෂය සඳහන් කර තිබුණේත් කලාතුරකින්. මට ඒ තහනම් කරපු පොත මොනවගේ එකක්ද කියන එක ගැන කුතුහලයක් ඇතිවුණා. සමහරවිට මටම ඒ වගේ පොතක් ලියන්න පුළුවන් වෙයි කියලත් හිතුණා.

කොහොම වුණත් මේ නවකතාවේදී වොලස් මේ නොපවතින පොතට තවත් බොහෝ පොත් ආශ්‍රය කරගෙන තිබුණා. ඉතිං අවශ්‍යයෙන්ම මේ දේ මගේ කර්තව්‍යය සීමා කළා. ඇත්තටම ඒක අපහසු කටයුත්තක් කළා. මම මාතෘකාවත් (කොහොම වුණත් මට තේරුම් ගියා වොලස් කාලයට අනුරූපව ගතානුගතික තක්සේරුවකුත් ඒක තවත් වර්ධනය කරන්නත් උත්සාහ ගෙන තිබුණා කියලා) ලිංගිකත්වය කියන දෙයට

කොයිතරම් බැරෑරුම් විදියට සැලකිය යුතුද කියන දේත් එක්ක මට කලින් හිටපු බොහෝ ලේඛකයන් වගේම නතර වුණා.

1997දී ඉතාලියේ මැන්ටුආවල මගේ දේශනයක් අවසානයේ දී මගේ හෝටලයට ආපසු ගියාට පස්සේ කවුදෝ කෙනෙක් මට අත් පිටපතක් පිළිගැනීමේ කවුන්ටරයේ තබා ගොස් තිබුණා. දැන් මම කිසිම වෙලාවක කවුරුවත් අතට නොදීපු අත් පිටපතක් කියවන්නේ නැති වුණත් මම ඒ පිටපත කියෙව්වා. බ්‍රසීලියානු ගණිකාවකගේ ඇත්තම කතාව, ඇගේ විවාහයන්, නීතිය සමඟ ඇයට ඇතිවුණු ගැටලු, ඇගේ බොහෝ අත්දැකීම් එහි සඳහන් වුණා. 2000 වර්ෂයේදී මම සූරිච් පසුකරමින් යන අතරතුරේදී, මට ඒ ගණිකාව මුණ ගැසුණා - (ඇගේ වෘත්තීය ජීවිතේ නම සෝනියා) මම ඇයට කිව්වා මම ඒ කියවපු දේට කොයි තරම් ආස වුණාද කියලා. මම ඇයට යෝජනා කළා ඒක මගේ බ්‍රසීලියානු ප්‍රකාශකයාට යවන්න කියලා, කෙසේ වෙතත් අවසානයේදී ඔහු තීරණය කළා ඒක ප්‍රකාශයට පත් නොකර ඉන්න. ඒ කාලය වෙනකොට සෝනියා ජීවත් වුණේ ඉතාලියේ වුණත් මාව මුණ ගැහෙන්නට ඇය දුම්රියෙන් සූරිච් වෙත ඇවිත් තිබුණා. ඇය අපිට (මටත්, මගේ යහළුවකුටත්, බ්ලික් සඟරාව වෙනුවෙන් මා සමඟ සම්මුඛ සාකච්ඡාවක යෙදුණු ජනමාධ්‍යවේදිනියකටත්) ආරාධනා කළා, මේ ප්‍රදේශයේ තිබෙන ගණිකාවන් සිටින ප්‍රදේශයක් වන ලොන්ග්ස්ට්‍රාස්වලට යන්න. මම දැනගෙන හිටියේ නැහැ සෝනියා අපේ පැමිණීම ගැන ඇගේ යෙහෙළියන්ව කලින් දැනුවත් කරලා තිබුණා කියලා. පුදුමයකට වගේ මට සිදුවුණා භාෂා ගණනාවකට පරිවර්තනය කරලා තිබුණු මගේ පොත් කිහිපයකටම අත්සන් කරන්නට.

ඒ මොහොත වෙනකොට කොහොමටත් මම ලිංගිකත්වය ගැන ලියන්නට තීරණය කරලා තිබුණා. ඒත් ඒ වෙද්දිත් මට කථාවකට විෂයක්වත් ප්‍රධාන චරිතයක්වත් තිබුණේ නැහැ. මම හැම විටකම පූජනීයත්වය සොයා යන ගමනේදී සම්මතයට වඩා වැඩි යමක් ගැන හිතමින් හිටියා. ඒත් ලොන්ග්ස්ට්‍රාස්වලට ගිය ගමන මට වෙනත් දෙයක් කියා දුන්නා. ඒ ලිංගිකත්වයේ පූජනීය ස්වභාවය ලියන්නට නම් ඇයි ඒ දේ මේ තරම් අසහ්‍ය දෙයක් වුණේ කියලා තේරුම් ගන්න එක.

''ලි ලස්ත්‍රේ '' කියන ස්විස් සඟරාවේ මාධ්‍යවේදියකු එක්ක පවත්වපු සාකච්ඡාවකදී මම ලොන්ග්ස්ට්‍රාස්වල හදිසියේ සිද්ධ වුණු පොත් අත්සන් කිරීම ගැන පැහැදිලි කිරීමක් කළාට පස්සේ ඔහු ඒ ගැන දිගු ලිපියක් ලියුවා. එකේ ප්‍රතිඵලය වුණේ, ජිනීවාවල පැවැත්වුණු පොත් අත්සන් කිරීමකදී මා හමුවීමට පැමිණි ගණිකාවන් කිහිප දෙනෙක් මගේ පොත්වල ඔවුන්ගේ පිටපත්වල නියමිත ආකාරයෙන් අත්සන් කර ගැනීම. ඔවුන්ගෙන් එක් අයකුට මගේ විශේෂ අවධානය යොමුවුණා. පසුව අපි (මගේ මිතුරිය සහ නියෝජිතවරිය වන මොනිකා ඇතියුන්ස් ඇතුළු) කෝපි බීමකට ගිය ගමන රාත්‍රී කෑම වේලක් සඳහාත් ඊළඟ දිනවලදී තවත් බොහෝ හමුවීම්වලටත් මුල පිරුවා. ඒ අනුව මිනිත්තු එකොළහක කතාවට ඇඳෙන හූය බිහිවුණා.

මම කැමති ස්විස්ටර්ලන්තයේ මගේ ප්‍රකාශිකාව වන ඇනා ෆොන් ප්ලැන්තාට, ඇගේ රටේ ගණිකා වෘත්තියට අදාළ නීතිමය තත්ත්වයන් සම්බන්ධයෙන් වැදගත් කරුණු සැපයීම ගැන ස්තුතිවන්ත වෙන්න. සූරිච්වල ජීවත් වෙන පහත සඳහන් නම් සහිත කාන්තාවන්ටත් මගේ ස්තුතිය පිරිනමන්න කැමතියි. (ඔවුන්ගේ ව්‍යාජ නම්) මට පළමු වතාවට මැන්චුආවලදී මුණ ගැහුණ සෝනියාට (කවුද දන්නේ! සමහරවිට කවදා හරි දවසක, කවුරු හරි ඔබේ පොතත් මුද්‍රණය කරාවි!) මාර්තාට, ඇන්තෙනෝරාට සහ ඉසබෙලාට. ඒ වගේම ජිනීවාවල (නැවතත් ඔවුන්ගේ ව්‍යාජ නම්) ඒමි, ලුසියා, අන්ද්‍රෙයි, වැනේසා, පැට්‍රික්, තෙරේස් සහ ඇනා ක්‍රිස්ටිනාට.

''ආශාවේ විද්‍යාව'' නම් පොතේ ඡේදයන් මරියාගේ දිනපොතේ යම් යම් කොටස්වලට උපුටා ගැනීමට අවසර දීම සම්බන්ධයෙන් ඇන්තොනෙලා සාරාට මගේ විශේෂ ස්තුතිය දිය යුතුයි.

අවසාන වශයෙන් මටත් මොනිකාටත් නොයෙක් හමුවීම් වලදී මේ පොතට පාදක වුණු ඇගේ කථාව කීම සම්බන්ධයෙන් ලුසැන්වල සිය ස්වාමි පුරුෂයාත් ආදරණීය දියණියන් දෙදෙනාත් සමඟ ජීවත්වන (ව්‍යාජ නමක් වන) මරියාට මම ස්තුතිවන්ත වෙනවා.

පාවුලෝ කොයියෝ